තෝරාගත් කෘති 3 වැනි වෙළුමෙහි ලෙනින්ගේ පහත දැක්වෙන කෘති හා වෙනත් කෘතිද පළ වේ: ''රුසියාවෙහි විප්ලවයේ ආරම්භය'', ''ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ උපක්‍රම දෙක'', මොස්කව් නැගී සිටීමෙන් උගත යුතු පාඩම් ගමන ඇරැඹීම'', ''හෙර්ට්සන් සමරුව''.

ලෙනින්



තෝරාගත් කෘති

2

# ලෙනින්

## තෝරාගත් කෘති
## වෙළුම් දොළහ



වෙළුම
**2**

පියවරක් ඉදිරියට පියවර දෙකක් පස්සට

ප්‍රගති ප්‍රකාශක මන්දිරය

# LIBERATIONBASE
## ඩිජිටල් පුස්තකාලය

ඩිජිටල් පුස්තකාලය සහ ලේඛණ සංරක්ෂණ ව්‍යාපෘතිය
ආරම්භය (***NMSG Library*** ලෙස): 2010
***LIBERATIONBASE*** ලෙස නැවත නාමකරණය: 2013



සූචිකරණ දත්ත
කෘතිය: ලෙනින් තෝරාගත් කෘති වෙළුම් දොළහ, වෙළුම 2
කතෘ/පරිවර්තක: වී.අයි. ලෙනින්/ඇදිගම. වී. රුද්රිගු
ප්‍රකාශක: ප්‍රගති ප්‍රකාශක මන්දිරය, මොස්කව්
පළමු ඩිජිටල් පළ කිරීම: 2014-09-22
ඩිජිටල් සංස්කරණයන්: V1:2014-09-22, V2:2019-05-29
පිටු ගණන: 280
භාෂා මාධ්‍ය: සිංහල
ගොනු ආකෘතිය: PDF

Web: https://liberationbase.wordpress.com
Email: slradical@ymail.com

# LIBERATIONBASE
## ඩිජිටල් පුස්තකාලය



# ලෙනින්
## තෝරාගත් කෘති
### වෙළුම් දොළහ



## වෙළුම
## 2



මොස්කව්
ප්‍රගති ප්‍රකාශක මන්දිරය
1979

අනුවාදය — දෑදිගම වී. රුද්රිගු

В. И. ЛЕНИН

ИЗБРАННЫЕ ПРОИЗВЕДЕНИЯ В 12 ТОМАХ
Том 2

*на языке сингала*





සෝවියට් සංගමයේ මුද්‍රණය කරන ලදී

Л $\frac{10102-573}{014(01)-79}$ 918—79 0101020000

පටුන

# පියවරක් ඉදිරියට පියවර දෙකක් පස්සට

## (අප පක්ෂය තුළ අර්බුදය)[1]

### ප්‍රස්තාවනා

දීර්ඝ, දැඩි සහ වේගවත් අරගලයක් ඇවිලෙමින් පවතින විට, මූලික සහ ප්‍රධාන කරුණු ටික කලකට පසු ස්වභාවයෙන්ම මතුවීමට පටන් ගනී. ව්‍යාපාරයේ අවසාන ප්‍රතිඵලය රඳා පවතින්නේ එම කරුණු තීරණය වීම අනුවය. මේවා සමග සසඳා බලන විට, අරගලයේ සුළු හා නොවැදගත් සිද්ධීන් වඩ වඩාත් පසුතලයට ඇද වැටේ.

පක්ෂයේ සියලු සාමාජිකයින්ගේ අවධානය හය මසක් තිස්සේ යොමුවී ඇති අප පක්ෂයේ අභ්‍යන්තර අරගලයේ තත්ත්වය එසේය. පාඨකයාට මේ දළ විස්තරය ඉදිරිපත් කරන විට, අරගලයේ ඉතා අල්ප ස්වල්ප කරුණු ගැන විස්තරයන් කිරීමටත්, කිසිදු වැදගැම්මකට නැති නොවැදගත් කරුණු පදනම් කරගත් ආරාවුල් රැසක් ගැන කරුණු ඉදිරිපත් කිරීමටත් මට සිදුවී ඇත. කෙසේවුවද, මුල සිටම සැබැවින්ම ප්‍රධාන හා මූලික කරුණු දෙකක් කෙරෙහි පාඨකයාගේ අවධානය යොමු කරවීමට මම ක මැත්තෙමි. මේ කරුණු ඉතා වැදගත්ය, ඒවායේ ඓතිහාසික වැදගත්කමද අවිවාදිතය, එමෙන්ම ඒවා අපේ පක්ෂය අද මූණ පාන හදිසි දේශපාලන ප්‍රශ්න වන්නේය.

පළමුවැනි ප්‍රශ්නය — දෙවැනි සම්මේලනයේදී අපේ පක්ෂය 'බහුතරය' සහ 'අල්පතරය' වශයෙන් බෙදී යාමෙහි[2] ඇති දේශපාලන ය. මේ බෙදීම රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ සියලු අතීත ප්‍රභේදයන් ඈත පසුතලයකට වීසි කළේය.

දෙවැනි ප්‍රශ්නය — සංවිධානාත්මක ප්‍රශ්න පිළිබඳව නව "ඉස්ක්‍රාව"[3] ගත් තත්වයෙහි ඇති ප්‍රතිපත්ති පිළිබඳ අර්ථය ය. මෙහිදී එම තත්වය වැදගත් වන්නේ එය සැබවින්ම මූලධර්ම මත පදනම් වී ඇති තැක් දුරටය.

පළමුවැනි ප්‍රශ්නය අපේ පක්ෂයේ අරගලයේ ආරම්භක කරුණු, එහි උල්පත, එහි හේතූන්, සහ එහි මූලික දේශපාලන ස්වරූපය ගැනය.

දෙවැනි ප්‍රශ්නය අරගලයේ අවසාන ප්‍රතිඵලය, එහි උච්ච අවස්ථාව මූලධර්ම ක්ෂේත්‍රයට බලපාන සියලු කරුණුවල සමස්තය පිළිබඳ මූලික ප්‍රතිඵල සහ සුළු දබරවලට බලපාන ක්ෂේත්‍රයට අයත් සියලු කරුණු අඩු කිරීම ගැනය. පළමුවැනි ප්‍රශ්නයට පිළිතුරු ලැබිය හැක්කේ පක්ෂ සමුළුවේ අරගලය විශ්ලේෂණය කිරීමෙනි. දෙවැනි ප්‍රශ්නයට පිළිතුරු ලැබිය හැක්කේ නව ''ඉස්ක්‍රාවේ'' මූලධර්මවල අලුත් දේ මොනවාද යන්න විශ්ලේෂණය කිරීමෙනි. මගේ මේ කුඩා පොතින් දහයෙන් කොටස් නවයක් අඩංගු කරඇති මේ විශ්ලේෂණ දෙක පක්ෂයේ 'බහුතරය' විප්ලවවාදී අංශය බවත්, 'අල්පතරය' අවස්ථාවාදී අංශය බවත් නිගමනය කරයි. දැනට මේ අංශ දෙක වෙන්කරන මතභේදයන් වැඩි වශයෙන් වැඩපිළිවෙළ හෝ උපක්‍රම පිළිබඳව නොවන අතර හුදෙක් සංවිධානාත්මක ප්‍රශ්නයන් පිළිබඳ මතභේදයන් වන්නේය. නව ''ඉස්ක්‍රාව'' විසින් තම ප්‍රතිපත්තිය වඩ වඩාත් ගැඹුරු කිරීමට උත්සාහ දරත්ම, එකතු කිරීම ගැන සුළු දබරවලින් එම තත්ත්වය — වඩ වඩාත් නිරවුල් කර පෙන්වත්ම, එම පුවත්පතෙන් වඩාත් පැහැදිලිව පෙන්වා දෙන නව දෘෂ්ටි පද්ධතිය සංවිධානාත්මක කරුණු පිළිබඳව අවස්ථාවාදයය.

සත්‍ය කරුණු අධ්‍යයන කිරීම සහ පහදා දීම අනුව, අප පක්ෂයේ අර්බුදය පිළිබඳ දැනට ඇති සාහිත්‍යයේ ප්‍රධාන අඩුපාඩුව නම්, පක්ෂ සමුළුවේ වාර්තා පිළිබඳ කරන ලද විශ්ලේෂණයක් කොහෙත්ම පාහේ නොතිබීම ය; සංවිධානය පිළිබඳ ප්‍රධාන මූලධර්ම පහදා දීම සම්බන්ධයෙන් වූ කල සහෝදර මාර්තව් සහ සහෝදර අක්සල්රොඩ් විසින් ව්‍යවස්ථාවේ පළමුවැනි ඡේදයේ යෙදුම් සකස් කළ ආකාරයත්, එම යෙදුම් ඔවුන් විසින් ආරක්ෂා කිරීමත් යන මේ මූලික වරද එක් පැත්තකින්ද, දැන් ''ඉස්ක්‍රාව'' සංවිධානය ගැන ඉදිරිපත් කරන මූලධර්ම 'පද්ධතිය' (මෙතැනදී කෙනෙකුට පද්ධතියක් ගැන කතාකළ හැකි බැවින් අනෙක් පැත්තෙන්ද යන මේ දෙපැත්ත අතර ඇත්තාවූ නිසැක සම්බන්ධතාවය විශ්ලේෂණය කිරීමට අපොහොසත් වීම ය. ව්‍යවස්ථාවේ පළමුවැනි ඡේදය පිළිබඳව පැන නැගී ඇති මතභේදයේ වැදගත්කම 'බහුතරයේ' සාහිත්‍යය මගින් යළි යළිත් පෙන්වා දී ඇති නමුදු ''ඉස්ක්‍රාවේ'' වත්මන් කතෘවරු ඒ ගැන මඳකුදු පවා නොතකති. ඇත්ත වශයෙන් සහෝදර අක්සල්රොද් සහ සහෝදර මාර්තව් පළමුවැනි ඡේදය සම්බන්ධයෙන් කළ මූලික වරද ගැඹුරු කිරීම, වර්ධනය කිරීම සහ පුළුල් කිරීම පමණක් කරති. සැබවින්ම, පළමුවැනි ඡේදය පිළිබඳව පැන නැගී ඇති මතභේදය තුළින්, සංවිධානාත්මක ප්‍රශ්න පිළිබඳව ඔවුන්ගේ ඒකාන්ත අවස්ථාවාදී තත්ත්වය හෙළිවීමට පටන්ගෙන ඇත. ඒ මෙසේය: ශක්තිමත් ලෙස එකට බැඳුනු පක්ෂ සංවිධානයක් වෙනුවට, ඔවුන් ලිහිල් සංවිධානයක් ඉදිරිපත් කිරීම; පක්ෂ සමුළුවේ සිට එය විසින් පත් කරන සංවිධාන අනුව, ඉහළ සිට පහළට පක්ෂය ගොඩ නැගීමේ මතයට (''නිලධාරිවාදී මතයට'') ඔවුන් විරුද්ධවීම; සෑම මහාචාර්ය වරයෙකුමත්; සෑම උසස් විද්‍යාල ශිෂ්‍යයෙකුමත්, ''සෑම වැඩ වර්ජකයෙකු'' මත් පක්ෂයේ සාමාජිකයෙකු හැටියට ප්‍රකාශ කිරීමට ඔවුන්ට ඉඩ දෙන, පහළ සිට ඉහළට පක්ෂය සංවිධානය කිරීමේ ප්‍රවණතාවයට ඔවුන් පක්ෂවීම; පක්ෂය විසින් පිළිගන්නා ලද එක් සංවිධානයකට පක්ෂ සාමාජිකයෙකු අයත් විය යුතුයැයි අපේක්ෂා කරන ''විධිමාත්‍රවාදයට'' ඔවුන් සතුරු වීම; ''සංවිධානාත්මක සම්බන්ධකම් හැඟීමෙන් තොරව පමණක් පිළිගැනීමට සූදනම්, ධනපති බුද්ධිමතුන්ගේ මානසිකත්වයට ඔවුන් නැඹුරුවීම; ඔවුන් ලොකුකම් පාන අවස්ථාවාදයට සහ අරාජිකවාදී වාග්පාඨවලට අභිරුචියක් දැක්වීම; මධ්‍යස්ථානගතවාදය වෙනුවට, ඔවුන් ස්වතන්ත්‍රතාවයට නැඹුරුවීම, වෙනත් වචනවලින් කියතොත්, නව ''ඉස්ක්‍රාවේ'' අත්‍යාලංකාර ලෙස පුදින්නට පටන්ගෙන ඇති හැම දෙයක්ම, මූලික වරද වඩාත් සම්පූර්ණ ලෙස හා විචිත්‍ර ලෙස හෙළිකිරීමට ආධාර වන්නේය.

පක්ෂ සමුළුවේ වාර්තා ගැන කිව හැක්කේ අයෝග්‍ය ලෙස ඒ ගැන නොසලකා හැරිය බවකි. අපේ මතභේදයන් සුළු දබර නැමැති කුණු කන්දලයට හිරවීම මෙයට හේතු වශයෙන් දැක්විය හැකි අතර එම වාර්තාවල අඩංගු අධිකතර අමිහිරි සත්‍යය මෙයට තවත් හේතුවක් විය හැකිය. අද්වීතිය නිරවද්‍ය ගුණයකින් සහ අසමාන පැහැදිලිතාවයකින්ද, සම්පූර්ණත්වයකින්ද, සමාවබෝධයකින්ද, පොහොසත් බවකින් සහ තථ්‍යතාවයකින්ද යුත් චිත්‍රයක් අප පක්ෂ සමුළුවේ වාර්තා විදහා පායි; එය ව්‍යාපාරයට සහභාගි වූවන් විසින් ඉදිරිපත් කරන ලද මත, හැඟීම් සහ සැලැස්ම සහිත චිත්‍රයකි; එය පක්ෂය තුළ පවතින දේශපාලන මති-මාත්‍රවලත්, ඔවුන්ගේ සාපේක්ෂ ශක්තියේත් ඔවුන්ගේ අන්‍යොන්‍ය සම්බන්ධකම්වල සහ ඔවුන්ගේ අරගලවලත් චිත්‍රයකි. පැරණි හුදු කවයන්ගේ නටබුන් පිසදමා ඒ වෙනුවට එක් විශාල පක්ෂයක සම්බන්ධකම් ඇතිකර ගැනීමේදී අප කොතෙක් දුරට ජය ලබා තිබේද යන්න පෙන්විය හැක්කේ පක්ෂ සමුළුවේ වාර්තාවලට පමණකි. සිය පක්ෂයේ කටයුතුවලදී බුද්ධිමත් කාර්ය්‍ය කොටසක් ඉටුකිරීමට කැමති සෑම පාක්ෂිකයකුම පක්ෂ සමුළුව පිළිබඳව සැලකිලිමත් අධ්‍යයනයක් කිරීම සිය යුතුකම වන්නේය. අධ්‍යයනය කළ යුතුයැයි මා කියා සිටින්නේ, වාර්තාවල අඩංගු වී ඇති ලියවිලි නිකම් කියවීමෙන් පමණක් සමුළුව පිළිබඳව වැටහීමක් ලබාගත නොහැකි බැවිනි. සෑම සාමාජිකයෙකුගේම කතාවල කෙටි වාර්තා, විවාදවල වියලි සම්පිණ්ඩන, සුළු (බැලූ බැල්මට පමණක් සුළු) ප්‍රශ්න ගැන සුළු දබර කිරීම් යන මේවා එකම සමස්තයක් හැටියට ගොනු කරගැනීම, ප්‍රසිද්ධ

සෑම කතිකයකුගේම ජීවමය සේයාව තමා ඉදිරියේ මවා ගැනීම, පක්ෂ සමුළුවේ සාමාජික කණ්ඩායම් හැම එකකම දේශපාලන මූණුවර ගැන පූර්ණ හැඟීමක් ලබාගැනීම යන මේවා කළ හැක්කේත් (එසේම කළ යුත්තේත්) සැලකිලිමත් සහ ස්වාධීන අධ්‍යයනයක් මගින් පමණකි. පක්ෂ සමුළුවේ වාර්තා පිළිබඳ ස්වාධීන අධ්‍යයනයක් කිරීමේ උනන්දුවක් පාඨකයා තුළ ඇති කිරීමට ලේඛකයා සමත් වෙති නම්, සිය කාර්යය අපතේ නොගිය බව ඔහුට (ලේඛකයාට) හැඟෙනු ඇත.

සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සතුරන් වෙත වචනයක් කියනු කැමැත්තෙමු. අපේ මතභේද දකින ඔවුහු දුෂ්ට ලෙස ප්‍රීතිවී, මුහුණු පුලුටු කරනු ඇත්තාහ. අප පක්ෂයේ අසාර්ථකවීම් සහ අඩුපාඩු ගැන කියන වෙන්වූ කොටස් මගේ පොත් පිංචෙන් ගෙන ඉදිරිපත් කරමින්, ඔවුන්ගේ අරමුණු සඳහා ඒවා පාවිච්චි කිරීමට ඔවුහු උත්සාහ කරනු ඇත්තාහ. මේ සුළු හිරිහැර වලින් කලබල නොවීමටත්, එවැනි සුළු කරදර මධ්‍යයේ සිය වැඩ කටයුතු කරගෙන යාමටත්, ස්වයං විවේචනයෙහි යෙදීමටත් සහ කම්කරු පංතික ව්‍යාපාරය වැඩෙත්ම, විවාද රහිතව සහ අනිවාර්යයෙන්ම මැඩ ගත හැකිවන අඩුපාඩුකම් අනුකම්පා විරහිත ලෙස හෙළිදරව් කිරීමටත් තරම් රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු සටන්වලදී පන්නරය ලබා සිටිති. දෙවැනි සමුළුව විසින් දෙන ලද වාර්තාවලට යම්තමින් හෝ සමාන විය හැකි ලෙසට ස්වකීය "පක්ෂවල" නියම තත්ත්වය පිළිබඳ චිත්‍රයක් ඉදිරිපත් කරන ලෙස අපේ ප්‍රතිපාක්ෂිකයන්ට කියමු!

එන්. ලෙනින්

1904 මැයි.

## 1. සමුළුවට සූදනම් වීම

සිය විනිශ්චය කරුවන්ට පැය විසි හතරක් යන තෙක් දෙස් පැවරීමට හැම මිනිහකුටම අයිතියක් ඇතැයි යන කියමනක් තිබේ. අප පක්ෂයේ සමුළුවද, වෙනත් ඕනෑම පක්ෂ සමුළුවක් මෙන්ම, නායක පදවිවලට අයිතිවාසිකම් කියා සිටි නමුදු පරාජයට මූණ පෑ සමහර පුද්ගලයින්ගේ විනිශ්චය කරුවා වූයේය. දැන් මේ "අල්පතරයේ" නියෝජිතවරු "විනිශ්චය කරුවන්ට දොස් පැවරීම" පිළිබඳ සීමාවට ශෝකජනක තරම් ළංවූ බොළඳ ගතියකින් යුතුව, සිය සමුළුවට අවමන් කිරීම සඳහාත්, එහි වැදගත්කම සහ අධිකාරය පහත් කොට පෙන්වීම සඳහාත් හැම දෙයක්ම කරති. මේ අභිලාෂය "ඉස්ක්‍රාවේ" අංක 57 කලාපයේ "ප්‍රායෝගිකාරකවරයා" විසින් පළ කරන ලද ලිපියකින් ඉතා හොඳින් ප්‍රකාශ වී යයි කිව හැකි. එයින් පක්ෂ සමුළුව ස්වෛරී "දේවත්වයක්" වීම ගැන ලියුම් කරු අධික ලෙස කෝප විය. මෙය නව "ඉස්ක්‍රාව"ට ආවේණික හැඩ ගැස්මක් නිසා, ඒ ගැන නිහඬව සිටිය නොහැක. එක් අතකින්, පක්ෂ සමුළුව විසින් ප්‍රතික්ෂේප කරන ලද කතු වරයින්ගෙන් වැඩි දෙනෙක් තමන් "පක්ෂයේ" කතෘ මණ්ඩලය වශයෙන් හඳුන්වා ගනිති. අනිත් අතින් ඔවුහු පක්ෂ සමුළුව දේවත්වයක් නොවේ යැයි කියන්නන් බද වැළඳ ගනිති. මෙය රමණීය සිද්ධියක් නොවේද? එසේය මහත්වරුනි, සත්තකින්ම පක්ෂ සමුළුව දේවත්වයක් නොවේ. එහෙත් පක්ෂ සමුළුවේදී පරාජය ලැබූ පසුව එයට "බැන වැදීමට" පටන් ගන්නා මිනිසුන් ගැන අප සිතිය යුත්තේ මොනවාද?

පක්ෂ සමුළුවට සූදනම් වීමේ ඉතිහාසයේ ප්‍රධාන කරුණු ගැන අපි සිහියට නගා ගනිමු.

1900 මුල සිටම ප්‍රකාශයක් කළ "ඉස්ක්‍රාව" අප සමගිවීමට පෙර අප අතර මායිම් නියම කළ යුතු බව පැවසීය. 1902 පවත්වන ලද පක්ෂ

සාකච්ඡාව[4] සමුළුවකට නොව පෞද්ගලික රැස්වීමකට පරිවර්තනය කිරීමට ''ඉස්ක්‍රාව'' තැත් කළේය. එම සාකච්ඡාවේදී තෝරා පත් කර ගන්නා ලද සංවිධාන කමිටුව යළි ස්ථාපිත කිරීමේදී, ''ඉස්ක්‍රාව'' 1902 ගිම්හානයේදී හා ශරත් සමයේදී අධිකතර ප්‍රවේසමකින් කටයුතු කළේය. අවසානයේදී මායිම් නියම කිරීමේ කාර්යය නිමාවට පත්විය, අපි සියලු දෙනාම දූන් එය පිළිගනිමු. සංවිධානාත්මක කමිටුව පිහිටුවන ලද්දේ 1902 අවසානයේදීය. එය ශක්තිමත් කිරීම ''ඉස්ක්‍රාව'' සාදරයෙන් පිළිගත්තේය. තිස් දෙවැනි කලාපයේ කතුවැකිය මගින් එම පුවත්පත පක්ෂ සමුළුවක් කැඳවීම ඉතා හදිසි සහ ඉතා අවශ්‍ය දෙයක් බව පැවසීය. එබැවින් පක්ෂයේ දෙවැනි සමුළුව කැඳවීම සඳහා අප ඉක්මන් වූහයි අඩුවෙන්ම දෙස් ඇසිය යුත්තේ අපය. ඇඳුමක් මැසීම සඳහා රෙදි කැල්ල කැපීමට පෙර හත් වරක් මැන බලනු යන ආප්ත පදය අනුව අපි ක්‍රියා කළෙමු. රෙදි කැල්ල කැපූ පසු සහෝදරවරුන් එය පිළිගනිතැයිද ඒ ගැන මැසිවිලි කීමට හෝ යළිත් එය මැනීමට අපේ සහෝදර වරුන් ඉදිරිපත් නොවෙතැයිද අපේක්ෂා කිරීමේ සම්පූර්ණ සදාචාරමය අයිතියක් අපට තිබිණි.

දෙවැනි සමුළුව සඳහා ''රෙගුලාසි'' ඉතා නිශ්චිත ලෙස (තම දේශපාලන දියාරුබව වසාදැමීම සඳහා එම වචන පාවිච්චි කරන අය, විධික්‍රමවාදී, නිලධාරීවාදී යැයි කියනු ඇත්තාහ) ඉදිරිපත් කළ සංවිධාන කමිටුව ඒවා සියලු කමිටු ලවා සම්මත කරවා ගෙන, අවසානයේදී අනුමත කළේය. අංක 18 දරන කරුණද ඒවා අතර විය. එය මෙසේය: ''සමුළුවේ සියලු තීරණ සහ තෝරා පත්කිරීම්, පක්ෂයේ තීරණ වන අතර සියලු පක්ෂ සංවිධාන එයින් බැඳී සිටී. කිසිම හේතුවක් නිසා හෝ කිසිම කෙනෙකුට ඒවා ගැන අභියෝග කළ නොහැකි අතර, ඒවා අවලංගු හෝ සංශෝධනය කළ හැක්කේ ඊළඟ පක්ෂ සමුළුවට පමණකි.'' එවකට වචනයකුදු නොදොඩා නිහඬව සම්මත කර ගන්නා ලද ප්‍රත්‍යක්ෂ න්‍යායයක් වැනි මේ වචන තනිව ගත් කල කෙතරම් අහිංසකද නමුත් අද; ''අල්පතර'' කොටසට විරුද්ධව කරන ලද තීන්දුවක් වැනි මේ වචන කෙතරම් නුහුරු හඬක් නගතිද! මේ කරුණ ඇතුළු කළේ මන්ද? එය හුදු චාරිත්‍රයක් වීද? සත්තකින්ම නැත. මේ කරුණ අවශ්‍ය විය, සැබවින්ම අවශ්‍යය. මන්දයත්, පක්ෂ සමුළුව පිළිගැනීම ප්‍රතික්ෂේප කළ හැකි, වෙන්වූ සහ ස්වාධීන කණ්ඩායම්වලින් පක්ෂය සමන්විත වූ බැවිනි. සත්තකින්ම මේ කරුණ විප්ලවවාදීන්ගේ ස්වාධීන මතය ප්‍රකාශ කරන්නක් විය. (දූන් මේ ගැන අධික ලෙසත්, කාරණයට අදාළ නොවන ලෙසත් කතා කරති, ''ස්වාධීන'' නැමැති පදය සුශබ්ද ලෙස යොදවා ඇති නමුත් එම ගුණවාචකය ''චපලත්වය'' ගැනය). සියලු රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් විසින් ආත්ම ගරුත්වයෙන් දුන් අන්‍යොන්‍ය පොරොන්දුවකට එය සමාන විය. සමුළුව සමග සම්බන්ධ වූ ඉමහත් වෑයම, අවදානම සහ වියදම අපතේ නොගිය බවටද, සමුළුව හාස්‍යයක් නොකළ යුතු බවටද, සහතිකයක් ලෙස එය අදහස් කෙරිණි. සම්මේලනයේ තීරණ හා තෝරා පත් කරගැනීම් ප්‍රතික්ෂේප කිරීම විශ්වාසය කඩ කිරීමක් ලෙස කල් ඇතිවම එය ප්‍රකාශ කර තිබිණි.

සමුළුව දේවමය නොවන බවත්, එහි තීරණ ශුද්ධමය නොවන බවත් නව ''ඉස්ක්‍රාව'' අළුතින් සොයාගත් විට, එම පුවත්පත ගරහන්නේ කාටද? මේ සොයාගැනීම ''සංවිධානය පිළිබඳව අළුත් මත'' ඉදිරිපත් කරන්නේද නැතිනම්, පැරණි පා සටහන් මකා දැමීමට කරන අළුත් ප්‍රයත්නයක් පමණක්ද?

## 2. පක්ෂ සමුළුවේදී විවිධ කාණ්ඩ වශයෙන් බෙදීමේ අර්ථය

ඒ අනුව, බොහෝ සැලකිලිමත් සූදනමකින් ඉක්බිතිව සහ පූර්ණ නියෝජිතත්වයක පදනම මත පක්ෂ සමුළුව කැඳවන ලදී. එහි සංයුතිය නිවැරදිබවත්, එහි තීරණ නිරපේක්ෂ ලෙස බලපාන බවත් පොදුවේ පිළිගෙන බව සමුළුව පිහිටවූ පසුව සභාපතිවරයාගේ ප්‍රකාශනයෙන් (වාතීාව, 54 පිටුව) වුවද පෙනී යයි.

සමුළුවේ ප්‍රධාන කර්තව්‍යය වූයේ කුමක්ද? ''ඉස්ක්‍රාව'' විසින් ඉදිරිපත් කොට විස්තර කරන ලද මූලධර්ම සහ සංවිධානාත්මක අදහස් පදනම් කර ගනිමින් සැබෑ පක්ෂයක් ගොඩ නැගීමය. සමුළුව කටයුතු කළ යුතු වූයේ එම ඉලක්කය අනුව විය, මෙය ''ඉස්ක්‍රාවේ'' අවුරුදු තුනක ක්‍රියාකාරීත්වය විසින් කලින් නියම කරන ලද්දක් සහ කමිටුවල බහුතර සංඛ්‍යාවක් විසින් එම පුවත්පත පිළිගැනීමක් විය. ''ඉස්ක්‍රාවේ'' වැඩ පිළිවෙළ සහ ප්‍රවණතාවය පක්ෂයේ වැඩ පිළිවෙළ සහ ප්‍රවණතාවය විය යුතුය. ''ඉස්ක්‍රාවේ'' සංවිධානාත්මක සැලැස්ම පක්ෂ සංවිධානයේ ව්‍යවස්ථාවල මූර්තිමත් විය යුතු වූයේය. එහෙත් මෙය අරගලයකින් තොරව ලබාගත හැකිය යන්න ගැන මත භේදයක් නොවීය. මන්දයත්, උසස් නියෝජිතත්වයක් ඇති සමුළුවට සහභාගිවන්නන් අතර ''ඉස්ක්‍රාව''ට විරුද්ධව (බුන්ඩ්[5] සහ ''රබෝචිය දියල''[6]) දැඩි ලෙස සටන් කළ සංවිධානද වූ බැවිනි; වචනයෙන් ''ඉස්ක්‍රාව'' ප්‍රධාන පුවත්පත හැටියට පිළිගනිමින් සැබවින්ම තමන්ගේ සැලැස්ම අනුව ක්‍රියා කරන සංවිධාන තිබුණු බැවිනි; මේවා ප්‍රතිපත්ති පිළිබඳ මූලධර්මවලදී (''යූෂ්නි රබෝචි''[7] කණ්ඩායම සහ එය සමග සමීප ලෙස සම්බන්ධ වී සිටි සමහර කමිටුවල නියෝජිතවරුන්) වැනෙන සුලු ප්‍රතිපත්තියක් අනුගමනය කළ බැවිනි. මෙවැනි

තත්වයන් යටතේ, සමුළුව ''ඉස්ක්‍රාවේ'' ප්‍රවණතාවය ජයග්‍රහණය කරවීම සඳහා සටන් භූමියක් බවට පත්වීම හැර අන් දෙයක් සිදු විය හැකිව නොතිබිණි. සමුළුව සැබවින්ම එවැනි සටන් භූමියක් බවට පත්විය — එහි වාර්තා යම්කිසි සුළු අවධානයකින් යුතුව හෝ කියවන්නකුට එය පැහැදිලි වනු ඇත. සමුළුවේදී විවිධ ප්‍රශ්න අනුව බෙදී ගිය ප්‍රධාන කණ්ඩායම් ගැන සවිස්තර ලෙස සොයා බැලීම සහ වාර්තාවල ස්ථිර දත්තයන් අනුව, සෑම ප්‍රධාන කණ්ඩායමකම දේශපාලන මුහුණුවර ප්‍රතිනිර්මාණය කිරීම අපේ කාර්යය වන්නේය. සමුළුවේදී ''ඉස්ක්‍රාවේ'' මග පෙන්වීම යටතේ එකම පක්ෂයක් වටා එකමුතු විය යුතු වූ නියත වශයෙන්ම මේ කණ්ඩායම් මොනවාද, ඒවායේ ප්‍රවණතාවයන් සහ විශේෂ වෙනස්කම් මොනවාද? — විවාද සහ ඡන්දය දීම විග්‍රහ කිරීමෙන් අප විසින් පෙන්වා දිය යුත්තේ මේවාය. මෙය පැහැදිලි කිරීම, අපේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සැබවින්ම කවුරුන්ද යන්න අධ්‍යයනය කිරීම සඳහාත් ඔවුන'තර ඇති ප්‍රතිවිරුද්ධ බෙදීම්වලට හේතු අවබෝධ කැරැ ගැනීම සඳහාත් අතිශයින්ම වැදගත් වන්නේය. ලීග් සමුළුවේ[8] මා කළ කතාවේදීත්, නව ''ඉස්ක්‍රාවේ'' කතුවරුන්ට මා යැවූ ලිපියෙනුත් විවිධ කණ්ඩායම් පිළිබඳ විශ්ලේෂණයක් කිරීමට මා ප්‍රධාන තැනක් දුන්නේ මේ හේතූන් නිසාය. ''අල්පතරයේ'' (මාර්තව්ගේ නායකත්වයෙන් යුත්) මගේ විරුද්ධවාදීහු ප්‍රශ්නයේ හරය අවබෝධ කර ගැනීමට සම්පූර්ණයෙන්ම අසමත් වූහ. අවස්ථාවාදයට නැඹුරු වූහයි යන චෝදනාවට විරුද්ධව සිය ''නිදොස්බව ඔප්පු කිරීම'' සඳහා ඔවුහු ලීග් සමුළුවේදී කොටස් වශයෙන් නිවැරදි කිරීම්වලට පමණක් සීමා වූහ. එහෙත් එසේ කිරීමේදී ඔවුහු කාණ්ඩවලට බෙදීම පිළිබඳව මා ඉදිරිපත් කළ චිත්‍රය වෙනුවට, වෙනත් චිත්‍රයක් ඇඳ පෙන්වීමට පවා ඉදිරිපත් නොවූහ. දැන් ''ඉස්ක්‍රාව''ට (අංක 56) ලිපියක් ලියන මාර්තව් සමුළුවේදී විවිධ දේශපාලන කණ්ඩායම්වල බෙදීම් පැහැදිලි කිරීමට දරන සෑම ප්‍රයත්නයක්ම ''කවවලට සීමාවූ දේශපාලනයක්'' ලෙස පෙන්වීමට හැම ප්‍රයත්නයක්ම දරයි. මාර්තව් සහෝදරය, ඔබ ප්‍රබල වදන් ප්‍රකාශ කොට ඇත. එහෙත් ''ඉස්ක්‍රාවේ'' ප්‍රබල බසට විශේෂ ගුණයක් තිබේ. සමුළුවෙන් පටන් ගෙන අපේ ප්‍රතිවිරුද්ධත්වය පිළිබඳව සියලු අවධි විස්තර කළ යුතුය, එවිට, මේ ප්‍රබල බස සම්පූර්ණ වශයෙන් හා ප්‍රධාන වශයෙන් වත්මන් කතු මඬුල්ලට විරුද්ධව එල්ල වනු ඇත. කවවලට සීමාවූ දේශපාලනය ගැන කතා කරන පක්ෂයේ පුවත් පතේ ඊනියා කතුවරුනි, නුඹලා දෙසම බලාපල්ලා!

සමුළුවේදී අපේ අරගලය පිළිබඳ සත්‍ය කරුණු කොතරම් අප්‍රිය ලෙස මාර්තව්ට දැනෙන්නේදයත් ඒවා සම්පූර්ණයෙන්ම අකා මකා දැමීමට ඔහු තැත් කරයි. ''ඉස්ක්‍රාවාදියකු යනු පක්ෂ සමුළුවේදී සහ එයට පෙර සිටම, ''ඉස්ක්‍රාව'' සමග සම්පූර්ණ සහයෝගතාවය ප්‍රකාශ කළාවූත්, එහි සංවිධානාත්මක වැඩ පිළිවෙළ සහ අදහස් පිළිගන්නාවූත්, එහි සංවිධානාත්මක ප්‍රතිපත්තියට පක්ෂපාතවූත් පුද්ගලයෙකි. එවැනි ඉස්ක්‍රාවාදීහු හතළිහකට වැඩි සංඛ්‍යාවක් සමුළුවට සහභාගි වූහ. ''ඉස්ක්‍රාවේ'' වැඩ පිළිවෙළට සහ පක්ෂයේ ප්‍රධාන පුවත්පත හැටියට ''ඉස්ක්‍රාව'' පිළිගැනීමට එතරම් ඡන්ද සංඛ්‍යාවක් ලැබිණියි'' මාර්තව් පවසයි. සමුළුවේ වාර්තා පොත හැර බලන්න. මධ්‍යස්ථව සිටි අකීමව් හැර අන් සියලු දෙනා විසින් වැඩපිළිවෙළ පිළිගෙන ඇත (233 පිටුව). ඒ අනුව, බුන්ඩ් සංවිධානයේ සාමාජිකයින්, බ්‍රැකෙර් සහ මර්තිනව් ''ඉස්ක්‍රාව'' සමග ''සම්පූර්ණ සහයෝගතාවය'' ප්‍රකාශ කළ බවත්, සංවිධානය පිළිබඳව එම පුවත්පතේ මතවලට පක්ෂපාත වූ බවත්, මාර්තව් සහෝදරයා අපට කියයි. මෙය සිනාවට කරුණකි. සමුළුවෙන් පසු එයට සහභාගි වූ සියලු දෙනම, පක්ෂයේ සමාන අයිතිය ඇති සාමාජිකයින් බවට පත්වීම (හැම දෙනෙකුම නොවේ — බුන්ඩ් සාමාජිකයෝ ඉවත් වූහ) සමුළුවේදී අරගල පටන්ගත් කණ්ඩායම් සමග මෙතැනදී එකට පටලවා ඇත. සමුළුවෙන් ඉක්බිතිව ''බහුතරය'' සහ ''අල්පතරය'' සෑදුණු මූලිකාංග අධ්‍යයන කරනු වෙනුවට, ''වැඩ පිළිවෙළ පිළිගනු ලැබීය'' යන නිල වාක්‍ය ඛණ්ඩය අප වෙත ඉදිරිපත් කෙරේ!

''ඉස්ක්‍රාව'' ප්‍රධාන පුවත්පත හැටියට පිළිගැනීමේ යෝජනාවට ඡන්දය දුන් සැටි බලන්න. වඩාත් හොඳ කටයුත්තකට සුදුසු ධෛර්යයක් පාන මාර්තව් සහෝදරයාගේ කියමන පරිදි සංවිධානාත්මක මත සහ සංවිධානාත්මක ප්‍රතිපත්ති ප්‍රචාරය කරන මර්තිනව් ''ඉස්ක්‍රාව'' ප්‍රධාන පුවත්පත ලෙස පිළිගැනීම සහ එහි සේවය අගැයීම නැමැති කොටස් දෙක වෙන් කළ යුතුයැයි ඉල්ලා සිටි පුද්ගලයා වන බව ඔබට පෙනෙනු ඇත. යෝජනාවේ පළමුවැනි කොටස (''ඉස්ක්‍රාවේ'' සේවය පිළිගැනීම සහ එයට සහයෝගය දැක්වීම) ඡන්දයට දැමූ විට, එයට පක්ෂව ලැබුණේ ඡන්ද තිස්පහක් පමණකි; දෙදෙනෙක් (අකීමව් සහ බ්‍රැකෙර්) විරුද්ධ වූහ, එකොළොස් දෙනෙක් (මර්තිනව්, බුන්ඩ් සංවිධානයේ පස් දෙනෙක්, කර්තෘ මණ්ඩලයේ පස් දෙනෙක්, එනම් මාර්තව්ගේ ඡන්ද දෙකක්, මගේ ඡන්ද දෙකක් සහ ප්ලෙහානව්ගේ ඡන්දයක්) මධ්‍යස්ථ වූහ. ඒ හේතුවෙන් ''ඉස්ක්‍රා'' විරෝධී කණ්ඩායම (බුන්ඩ් සංවිධානයේ පස් දෙනා, ''රබෝචිය දියල'' හි තුන් දෙනා) මේ අවස්ථාවේදීත් පෙනී යන පරිදි, මාර්තව්ගේ වත්මන් අදහස්වලට ඉතාමත්ම වාසි සහගත වන අතර ඔහු විසින්ම තෝරා ගෙන ඇත. අදහස් හෝ සහයෝගිතාවය ප්‍රකාශ නොකර ''ඉස්ක්‍රාව''පක්ෂයේ ප්‍රධාන පුවත්පත ලෙස පිළිගන්නා යෝජනාවේ දෙවැනි කොටස ගෙන බලමු (වාර්තාවේ 147 පිටුව). එයට පක්ෂව ඡන්ද හතළිස්

හතරක් ලැබිණි.එය ඉස්ක්‍රාවාදී පිරිසක් ලෙසට මාර්තව් අද වර්ග කරයි.මුළු චන්ද සංඛ්‍යාව 51 ක් විය. මධ්‍යස්ථව සිටි කතුවරුන් පස් දෙනාගේ චන්ද පහ අඩු කළ විට එම සංඛ්‍යාව 46 කි. දෙදෙනෙක් (අකීමව් සහ බ්‍රැකෙර්) විරුද්ධව චන්දය දුන්හ; එවිට ඉතිරි 44 දෙනාට බුන්ඩ් සංවිධානයේ පස් දෙනාද අයත් වෙති. ඒ අනුව පක්ෂ සමුළුවට සහභාගිවූ බුන්ඩ්වරු " "ඉස්ක්‍රාව"ට සම්පූර්ණ සහයෝගිතාවය ප්‍රකාශ කර ඇත්තාහ". නිල "ඉස්ක්‍රාව" විසින්, නිල ඉතිහාසය ලියා ඇත්තේ මේ ආකාරයටය. තරමක් ඉදිරියට යමින්, මේ නිල සත්‍යය පිළිබඳ සැබෑ හේතූන් අපි පාඨකයාට විස්තර කරමු. බුන්ඩ් සංවිධානයේ සහ "රබෝචිය දියල" පුවත්පතේ නියෝජිතයින් පක්ෂ සමුළුවෙන් පිටව නොගියේ නම්, "ඉස්ක්‍රාවේ" වර්තමාන කර්තෘ මණ්ඩලය පක්ෂ පුවත්පතේ නියම කර්තෘ මණ්ඩලයක් වනු ඇත, එසේ වීමට හැකියාවද තිබිණි (අද මෙන් quasi- පක්ෂයේ* කර්තෘ මණ්ඩලයක් නොවනු ඇත). වර්තමාන ඊනියා පක්ෂ කර්තෘ මණ්ඩලයේ විශ්වාසවත් මුර භටයින්ට තමන් "ඉස්ක්‍රාවාදීන්" ලෙස ප්‍රකාශ කිරීමට සිදුවූයේ මේ හේතුව නිසාය. මේ ගැන පසුව වඩාත් පැහැදිලිව විස්තර කරමු.

ඊළඟ ප්‍රශ්නය මෙසේය: පක්ෂ සමුළුව ඉස්ක්‍රාවාදීන් සහ ඉස්ක්‍රාවිරෝධීන් අතර අරගලයක් වී නම්, මේ දෙක අතර වැනෙන සුලු අස්ථිර කොටස් නොවීද? අපේ පක්ෂය සහ එහි සමුළුවල පොදු මූණුවර ගැන තරමක් හෝ දන්නා හැම දෙනෙක්ම එම ප්‍රශ්නයට a priori** ස්ථිර පිළිතුරක් දෙනු ඇත්තාහ. මාර්තව් සහෝදරයා දැන් මේ අස්ථිර පුද්ගලයින් මතක් කිරීමට කැමති නැත, එබැවින් ඔහු "යූෂ්නි රබෝචි" කණ්ඩායම සහ එය වෙතට ඇදී ගිය නියෝජිතයින් නියම ඉස්ක්‍රාවාදීන් ලෙස හඳුන්වයි, ඔවුන් සහ අප අතර ඇති මතභේද කුඩා සහ නොවැදගත් ලෙස පෙන්වා දෙයි. වාසනාවකට මෙන් දැන් අප ඉදිරියේ සමුළුවේ පූර්ණ වාර්තාව ඇත; එබැවින් අපට පිළිතුරු සැපයිය හැකිය — ලේඛනගත සාක්ෂි අනුව සත්තකින්ම සත්‍ය කරුණකට පිළිතුරු සැපයිය හැකිය. සමුළුවේදී පොදු කාණ්ඩවලට බෙදීම පිළිබඳව අප විසින් යට කියන ලද දේ එම ප්‍රශ්නය විසඳා ලීමට ඉදිරිපත් නොවන අතර, එය නිවැරදි ලෙස ඉදිරිපත් කිරීමට පමණක් සමත් වෙයි.

දේශපාලන කාණ්ඩ ගැසීම්වල විග්‍රහයකින් තොරව, ස්ථිර අනු කණ්ඩායම් අතර අරගලයක් හැටියට සමුළුවේ චිත්‍රයකින් තොරව, අප අතර ඇති ප්‍රතිවිරුද්ධත්වය කොහෙත්ම අවබෝධ කැර ගැනීමට බැරි වනු ඇත. බුන්ඩ්වාදීන් පවා ඉස්ක්‍රාවාදීන් ලෙස ගණන් ගනිමින් විවිධ අනු

* — පක්ෂයේ මෙන් පෙනෙන. — සංස්කාරක

** — කල් ඇතිව. — සංස්කාරක



කණ්ඩායම් අතර ඇති වෙනස නොසලකා හැරීමට වෑයම් කිරීමෙන් මාර්තව් ප්‍රශ්නයෙන් පිට පැනීමට තැත් කරයි. සමුළුවට පෙර රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ ඉතිහාසය පදනම් කර ගෙන බැලූ කල a priori පවා ප්‍රධාන කණ්ඩායම් තුනක් වූ බව පෙනේ (තවදුරටත් සනෙක්ෂණ කිරීම සහ සවිස්තර අධ්‍යයනය සඳහාය): එනම් ඉස්ක්‍රාවාදීන්, ඉස්ක්‍රාවිරෝධීන් සහ අස්ථිර, පාවෙන සුලු සහ වැනෙන සුලු කොටස්ය.

## 3. සමුළුවේ ආරම්භය. — සංවිධාන කමිටුවේ සිද්ධිය

වඩ වඩාත් කැපී පෙනුණු දේශපාලන වෙනස්කම් ක්‍රමානුකූලව සටහන් කිරීම සඳහා ඉතාම පහසු ක්‍රමය වන්නේ සමුළුව පැවැත්වුණු ආකාරය අනුව එහි විවාදයන් හා චන්දය දීම විග්‍රහ කිරීමය. කාලානුක්‍රම පිළිවෙළින් ඇත් වන්නේ නිරපේක්ෂ අවශ්‍යතාවයක් ඇතිවූ විට පමණකි. එසේ කරනුයේ සමීප ප්‍රශ්න හෝ සමාන කණ්ඩායම් ගැන සලකා බලන විටදීය. අපක්ෂපාතිත්වය රැක ගැනීම සඳහා ප්‍රධාන චන්ද විමසීම් සියල්ල ගැන සටහන් කිරීමට වෑයම් කරන අතර අප සමුළුවේ අති විශාල කාලයක් ගත් (අර්ධ වශයෙන් අපේ අල්ප පළපුරුද්ද නිසාත්, සලකා බැලිය යුතු කරුණු කොමිසන් සභාවලට සහ පූර්ණ රැස්වීම් අතර බෙදීම කාර්‍යක්ෂම නොවූ නිසාත්, බාධා කිරීමට සමාන වූ අනවශ්‍ය තර්කත් නිසාත්ය) අතිවිශාල සංඛ්‍යාවක්වූ කුඩා ප්‍රශ්න ගැන සත්තකින්ම අමතක කිරීමට සිදුවනු ඇත.

මතභේදය හෙළිවීමට පටන්ගත් විවාදය ඇතිවූ පළමුවැනි ප්‍රශ්නය වූයේ, "පක්ෂය තුළ බුන්ඩ් සංවිධානයේ තත්වය" පිළිබඳ අංකයට පළමුවැනි ස්ථානය (සමුළුවේ න්‍යාය පත්‍රයේ) දිය යුතුද යන ප්‍රශ්නය වටාය (වාර්තාවේ 29—33 පිටු). ප්ලෙහානව්, මාර්තව්, ට්‍රොට්ස්කි සහ මා විසින් ප්‍රකාශ කරන ලද ඉස්ක්‍රාවාදීන්ගේ මතය අනුව මේ ප්‍රශ්නය පිළිබඳව කිසිදු සැකයක් නොතිබිණි. බුන්ඩ් සංවිධානය පක්ෂය ඉවත්වීම විසින් අපේ මතයේ නිවැරදි භාවය මැනැවින් ඔප්පු විණි. බුන්ඩ් අප සමග ගමන් කිරීම ප්‍රතික්ෂේප කොට, පක්ෂයේ බහුතරයෙන් හා "ඉස්ක්‍රාව" පිළිගන්නා සංවිධානය පිළිබඳ මූලධර්ම පිළිගත්තේ නම්, අපි එකම මගක ගමන් කරමුයි "හුවා දැක්වීමට" ක්‍රියා කිරීම ඵල රහිත එමෙන්ම තේරුම් රහිත ක්‍රියාවක් වනු ඇත, එය සමුළුව (බුන්ඩ්වරුන් දිග්ගැස්සූ පරිදි) දිග්ගැස්සවීමක් පමණකි. මේ ප්‍රශ්නය අපේ සාහිත්‍යය මගින් සම්පූර්ණයෙන්ම පැහැදිලි කර ඇත. ප්‍රශ්නය ස්ථිර ලෙසත්, ඍජු ලෙසත් ඉදිරිපත් කිරීම සහ අවංක ලෙස තෝරා ගැනීම පමණක් ඉතිරිවී ඇති බව කල්පනාකාරී

ඕනෑම පක්ෂ සාමාජිකයකුට පෙනී යයි, එය මෙසේය: ස්වතන්ත්‍රයද (එසේනම් අපි එකට ගමන් කරමු) නැතිනම් ඒකාබද්ධ කරණයද (එවිට විසිර යන්නෙමු) යන්නය.

මග හැරීමේ ප්‍රතිපත්තියක් අනුගමනය කරන බුන්ඩ්වරු මෙහිදීත් මග හැරීමට තැත් කරමින් ප්‍රශ්නය කල් දැමීමට කැමැති වූහ. ‘‘රබෝචිය දියල’’ අනුගාමිකයින් වෙනුවෙන් ක්‍රියා කළ අකීමව් සහෝදරයා ඔවුන්ට එක්වෙමින්, සංවිධානය පිළිබඳ ප්‍රශ්නයේදී ‘‘ඉස්ක්‍රාව’’ සමග ඇති මතභේද එකවර ඉදිරිපත් කළේය (වාර්තාවේ 31 පිටුව). බුන්ඩ් සහ ‘‘රබෝචිය දියල’’ සංවිධානවලට මාහව් සහෝදරයා (ටික වේලාවකට පෙර ‘‘ඉස්ක්‍රාව’’ට සහයෝගතාවය දැක්වූ නිකොලායෙව් කමිටුවේ චන්ද දෙක නියෝජනය කරමින්) පක්ෂපාත වූයේය. මාහව් සහෝදරයාට නම් ප්‍රශ්නය කොහෙත්ම පැහැදිලි නොවීය. මෙයද ‘‘වේදනාව ඇති තවත් ස්ථානයකි’’යි ඔහු කල්පනා කළේ, ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රමය පිළිබඳ ප්‍රශ්නයය නැතිනම් විලෝම වශයෙන් (මෙය සටහන් කර ගන්න!) මධ්‍යගතවාදයය’’ — ඔහුද පක්ෂ සමුළුවේදී ‘‘වේදනා සහගත මේ ස්ථානය’’ තවම නොදුටු අපේ වත්මන් පක්ෂ පුවත්පතේ කතු මඩුල්ලේ බහුතරය මෙනි.

ඒ අනුව, බුන්ඩ්, ‘‘රබෝචිය දියල’’ සහ මාහව් සහෝදරයා ඉස්ක්‍රාවාදීන්ට විරුද්ධ වූහ. අපට විරුද්ධව පාවිච්චි කරනු ලැබූ චන්ද දහයක් මේ අයට හවුලේ සතුය (වාර්තාවේ 33 පිටුව). අපට පක්ෂව චන්ද තිහක් ලැබිණි. ඉස්ක්‍රාවාදීන්ගේ චන්ද නිතර අඩුවැඩි වූයේ මේ චන්ද සංඛ්‍යාව වටා බව අපි පසුව දකින්නෙමු. සටන් කරන පක්ෂ කණ්ඩායම්වල පැත්ත නොගනිමින් අපට පෙනෙන හැටියට එකොළොස් දෙනෙක් මධ්‍යස්ථ වූහ. බුන්ඩ් ව්‍යවස්ථාවේ දෙවැනි කොටස (දෙවැනි කොටස ප්‍රතික්ෂේප කිරීම නිසා බුන්ඩ් පක්ෂයෙන් ඉවත්වීමට හේතු විය) චන්දයට දැමූ විට, එයට පක්ෂව සහ මධ්‍යස්ථව සිටි අයගේ සංඛ්‍යාව දහයක් විය (වාර්තාවේ 289 පිටුව), චන්ද නොදී මධ්‍යස්ථව සිටි අය ‘‘රබෝචිය දියල’’හි තුන් දෙනා (බ්රුකෙර්, මර්තිනව් සහ අකීමව්) සහ මාහව් සහෝදරයාය. ව්‍යවස්ථාවේ බුන්ඩ් සංවිධානයේ ස්ථානය පිළිබඳව චන්දය දීමේදී කාණ්ඩ ගැසීම අහම්බෙන් සිදුවූ දෙයක් නොවන බව පැහැදිලිය. සාකච්ඡා කිරීමේ පිළිවෙළ පිළිබඳ සභා කටයුතු ප්‍රශ්නයේදී පමණක් නොව, හරය පිළිබඳවද එමෙන්ම මේ සහෝදරවරුන් විරුද්ධව වූ බව පැහැදිලිය. ‘‘රබෝචිය දියල’’ ගැන කියතොත්, එහි මේ මතභේදය පිළිබඳ හරය හැම කෙනෙකුටම පැහැදිලිය. ඒ අතර මාහව් සහෝදරයා බුන්ඩ් සංවිධානයේ ඉල්ලා අස්වීම පිළිබඳව කළ කථාවේදී සිය ආකල්පය හෙළි කරමින් අද්විතිය විස්තරයක් කළේය (වාර්තාවේ 289—290 පිටු). ඒ ගැන විස්තර කිරීම වටී. මාහව් සහෝදරයා මෙසේ පැවසීය: ‘‘ඒකාබද්ධකරණය ප්‍රතික්ෂේප කළ පසු රුසියානු සමාජ-



ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂය තුළ බුන්ඩ්යේ තත්වය මටනම් දේශපාලන මූලධර්මය පිළිබඳ ප්‍රශ්නයක් නොවූ අතර එය ඓතිහාසික වශයෙන් පරිණාමනය වුණු ජාතික සංවිධානයක් පිළිබඳව ප්‍රායෝගික දේශපාලන ප්‍රශ්නයක් බවට පත්විය’’. කථිකයා යළිත් මෙසේද පැවසීය: ‘‘අපේ චන්දය නිසා පැන නගින, සියලු විපාකයන් සලකා බැලීමට මට සිදුවූ නිසා දෙවැනි කොටසට පක්ෂව සම්පූර්ණයෙන්ම චන්දය දෙන්නෙමි’’. ‘‘ප්‍රායෝගික දේශපාලනයේ’’ ජීව ගුණය මාහව් සහෝදරයා විසින් ඉතා අගනා ලෙස උකහා ගෙන ඇත. ඔහු මූලධර්මයක් වශයෙන් ඒකාබද්ධකරණය දැනටමත් ප්‍රතික්ෂේප කර ඇත. එහෙත් ඒ නිසා සැබෑ ක්‍රියාවේදී ඒකාබද්ධකරණයකට පක්ෂව ඔහු චන්දය දෙනු ඇත! මේ ‘‘ප්‍රායෝගික’’ සහෝදරයා මූලධර්මය පිළිබඳ ඔහුගේ ස්ථිරසාර තත්වය පහත සටහන් වචනවලින් ප්‍රකාශ කළේය: ‘‘එහෙත් (සුප්‍රසිද්ධ ශෙද්රින්ගේ ‘එහෙත්!’) එක් පැත්තකට හෝ තවත් පැත්තකට මගේ චන්දයදීම මූලධර්ම වශයෙන් පමණක් වැදගත්කමක් ඇති බැවින් (!!) සමුළුවේ අනිකුත් නියෝජිතයින් එයට ඒකමතිකව පාහේ චන්දය දී ඇති නිසා, එය කිසියම් ප්‍රායෝගික වැදගත්කමක් ඇති නොවිය හැකි බැවින්, මේ ප්‍රශ්නයේදී එයට පක්ෂව චන්දය දුන් බුන්ඩ් නියෝජිතවරුන් සහ මා අතර ඇති මූලධර්ම...’’ (මෙවැනි මූලධර්මවලින් දෙවියෝ අප ආරක්ෂා කරත්වා!)... ‘‘පිළිබඳ වෙනස පෙන්වීම සඳහා මම මධ්‍යස්ථ වීමට කැමති වෙමි. එහෙත් අනිත් අතින්, මුලදී බුන්ඩ් නියෝජිතවරුන් කියා සිටි පරිදි, ඔවුන් මධ්‍යස්ථව සිටියේ නම්, මම එයට පක්ෂව චන්දය දෙන්නෙමි’’. හැකිනම් තේරුම් ගන්න! හැම කෙනෙකුම ‘නැතැ’යි කියන විට, හඬ නගා ‘ඔවු’ යැයි කීම ප්‍රායෝගික ලෙස ඵල රහිත බැවින් මූලධර්ම රකින මේ මිනිසා එසේ නොකියයි.

සමුළුවේ න්‍යාය පත්‍රයේ බුන්ඩ්යේ ස්ථානය පිළිබඳව ප්‍රශ්නයට චන්දය විමසීමෙන් ඉක්බිතිව, සමුළුවේදී ‘‘බරිබා’’ කණ්ඩායමේ[9] පිළිබඳ ප්‍රශ්නය පැන නැගිණි. මෙයද ඉතා වැදගත් වූ හා කාණ්ඩවලට බෙදීමට තුඩු දුන් අතර සමුළුවේ ඉතා තියුණු ‘‘වේදනා සහගත’’ ප්‍රශ්නය සමග, එනම් මධ්‍යම ආයතනවල පුද්ගලයින්ගේ පත් කිරීම සමග සමීප ලෙස සම්බන්ධ වී ඇත. සමුළුවේ සංයුතිය තීරණය කිරීම සඳහා පත් කරන ලද කමිටුව, සංවිධාන කමිටුව (වාර්තාවේ 383 සහ 375 පිටු බලන්න) විසින් දෙවරක් පිළිගත් තීරණය සහ සංවිධාන කමිටුවේ නියෝජිතයින් විසින් (35 පිටුව) මේ කමිටුවට කරන ලද වාර්තා අනුව ‘‘බරිබා’’ කණ්ඩායමට ආරාධනා කිරීමට විරුද්ධ විය.

සංවිධාන කමිටුවේ සාමාජිකයකු වන යෙගෝරව් සහෝදරයා ‘‘බරිබා’’ (සටහන් කර ගන්න, ‘‘බරිබා’[2] මිස විශේෂ සාමාජිකයකු ගැන නොවේ) පිළිබඳ ප්‍රශ්නය ඔහුට අලුත් දෙයක් බැවින් විවේකයක් ඉල්ලා

සිටියේය. සංවිධාන කමිටුව දෙවරක්ම තීරණය ගත් ප්‍රශ්නයක් ගැන එම කමිටුවේම සාමාජිකයකුට අලුත් දෙයක් වූයේ කෙසේද යන්න අභිරහසකි. මේ විවේක කාලය තුළදී සංවිධාන කමිටුවේ රැස්වීමක් (වාර්තාවේ 40 පිටුව) පැවැත්විණි; එයට, සමුළුවේ සිටි එම කමිටුවේ නියෝජිතයෝ සහභාගි වූහ. (''ඉස්ක්‍රා'' සංවිධානයේ පැරණි සාමාජිකයන් වූ සංවිධාන කමිටුවේ කිහිප දෙනෙක් මෙයට සහභාගි නොවූහ). අනතුරුව ''බරිබා'' පිළිබඳ විවාදය ආරම්භ විය. ''බරිබාව''ට පක්ෂව ''රබෝචිය දියල'' සංවිධානයේ අය (මර්තිනව්, අකීමව් සහ බ්රුකෙර්, 36—38 පිටු) ඡන්දය දුන්හ. ඉස්ක්‍රාවාදීහු (පව්ලොවිච්, සරෝකින්, ලාන්ගේ, ට්‍රොට්ස්කි, මාර්තව් සහ අනිත් අය) විරුද්ධව ඡන්දය දුන්හ. සමුළුව යළිත් වරක් අප හඳුණන කණ්ඩායම්වලට බෙදිණි. ''බරිබාව'' සම්බන්ධයෙන් කෙරුණේ දරුණු සටනකි. මාර්තව් සහෝදරයා ඉතා සවිස්තර (38 පිටුව) සහ ''සටන්-කාමී'' කතාවක් කළේය. එම කතාවේදී ඔහු රුසියාව තුළ සහ විදේශගත කණ්ඩායම්වල අසමාන නියෝජිතත්වය ගැනත්, කිසිදු විදේශගත කණ්-ඩායමකට වරප්‍රසාද දීම ''යහපත්'' නොවන (ස්වර්ණමය කියමනකි, සමුළුවෙන් පසු හටගත් සිද්ධීන් අනුව දුන් එය විශේෂ උපදේශයකි!) බවත්, ''ප්‍රතිපත්ති මූලක හේතූන් අනුව සාධාරණ නොවන අසමගියක ස්වරූපයක් ගන්නා, සංවිධානාත්මක ව්‍යාකූලතාවයකට පක්ෂය තුළ ඉඩ නොතිබිය යුතු බවත් (මෙය අපේ පක්ෂයේ ''අල්පතරයට'' වැදුණු කනේ පහරකි!) පැවසීය. කතිකයින්ගේ නාම ලේඛනය අවසන් වන තුරු, ''රබෝචිය දියල'' කණ්ඩායමට පක්ෂපාත වූවන් හැර, වෙනත් අය ''බරිබාව''ට පක්ෂපාතව විවෘත ලෙස හෝ හේතු සහිත ලෙස හෝ කතා නොකළහ (40 පිටුව). අකීමව් සහෝදරයා සහ ඔහුගේ මිතුරන් ගැන සාධාරණ ලෙස මෙසේ කිව යුතුය: යටත් පිරිසෙයින් ඔවුන් වැනුනේ හෝ සැහවුනේ හෝ නැත. ඔවුහු ප්‍රසිද්ධියේම සිය ප්‍රතිපත්තිය ඉදිරිපත් කළහ, රිසි දෙය ගැන එළිපිටම පැවසූහ.

කතිකයින්ගේ නාම ලේඛනය අවසන් කළ ඉක්බිතිව, එම ප්‍රශ්නය ගැන කතා කිරීම රීතියෙන් පිට පැනීමක් වූ ඉක්බිතිව, යෙගෝරව් සහෝ-දරයා ''සංවිධාන කමිටුව මේ දැන් පිළිගත් තීරණයක් ඇසිය යුතුයැ''යි කියමින් දැඩි ලෙස ඉල්ලා සිටියේය. මෙවැනි හැසිරීමක් නිසා නියෝජි-තවරුන් කෝපවීම පුදුමයට හේතුවක් නොවීය. සමුළුවේ සභාපතිවර ප්ලෙහානව් සහෝදරයා ''යෙගෝරව් සහෝදරයා සිය ඉල්ලීම දැඩි ලෙස ඉදිරිපත් කිරීම ගැන මවිතය'' පළ කළේය. එකක් හෝ තවත් එකක්. යමකුට මෙසේ සිතිය හැකිය: සමුළුව ඉදිරිපිට ඇති ප්‍රශ්නය ගැන එක්කෝ විවෘත ලෙසත්, ස්ථිර ලෙසත් කතා කළ යුතුය, නැතිනම් වචනයකුදු නොදෙඩා නිහඬව සිටිය යුතුය. එහෙත් පළමුවෙන් කතිකයින්ගේ නාම



ලේඛනය වැසීමට ඉඩ හැර අනතුරුව, ''විවාදයට පිළිතුරු දීමේ'' මුවාවෙන්, සාකච්ඡාවට භාජනය කළ එම ප්‍රශ්නය ගැනම සංවිධාන කමිටුවේ අලුත් තීරණයක් සමුළුවට ඉදිරිපත් කිරීම පිටුපසින් පිහියෙන් ඇනීමක් වැනි ක්‍රියාවකි!

දිවා ආහාරයෙන් අනතුරුව රැස්වීම යළිත් ඇරඹිණි, තවමත් විමතියට පත්ව සිටි බියුරෝව, හුදු චාරිත්‍රවලින් පසු බැසීමට පටන් ගෙන ඉතා හදිසි අවස්ථාවලදී පමණක් ක්‍රියාවේ යොදවන විධියක් වන ''සහෝදරාත්-මක පැහැදිලි කිරීමක්'' ඉදිරිපත් කිරීමට විය. සංවිධායක කමිටුවේ කති-කයා වන පපෝව් කමිටුවේ තීරණය ප්‍රකාශ කරමින් රියසානව්ව සමුළුවට ආරාධනය කළ යුතුයැයි කියන යෝජනාවට එක් කෙනෙක් පව්ලොවිච් හැර අන් සියලු දෙන ඡන්දය දුන් (පිටුව 43) බව පැවසීය.

සංවිධායක කමිටුවේ රැස්වීමේ නීති සහගත භාවය ගැන තමා අභියෝ-ගයක් කළ බැව් පැවසූ පව්ලොවිච් දිගටම එසේ අභියෝග කරන බවත්, එම කමිටුවේ නව තීරණය මීට ''ඉහත ගත් තීරණවලට ප්‍රතිවිරෝධී'' බවත් පැවසීය. මේ නිසා විශාල ආන්දෝලනයක් ඇති විය. සංවිධායක කමිටුවේ සහ ''යූෂ්නි රබෝචි'' කණ්ඩායමේ සාමාජිකයකු වන යෙගෝරව් සහෝදරයා පැනනැගී ඇති ප්‍රශ්නයට එක එල්ලේම පිළිතුරු දීම මග හරිමින්, ප්‍රධාන ප්‍රශ්නය විනය පිළිබඳ ප්‍රශ්නයක් බවට හැරවීමට මහත්සි ගත්තේය. පව්ලොවිච් සහෝදරයා පක්ෂ විනය කඩ කළහයි (!) කී ඔහු, පව්ලොවිච්ගේ විරුද්ධත්වය ගැන සාකච්ඡා කළ සංවිධායක කමිටුව, ''ඔහුගේ විරුද්ධ වීම ගැන සමුළුවට නොදැන්වීමට'' තීරණය කළ බවද පැවසීය. විවාදය පක්ෂ විනය පිළිබඳ ප්‍රශ්නය වටා ඇති විය. ප්ලෙහානව් නියෝජිතයින්ගේ අත් පොළසන් මධ්‍යයේ යෙගෝරව් සහෝදරයාගේ දැනීම සඳහා ''අප උපදෙස්වලින් බැඳී නැතැ''යි පැවසීය. (42 පිටුව, 379 පිටුව සමග සසඳා බලන්න. සමුළුවේ 7 කොටසින් මෙසේ කියවේ: ''බැඳ තබන උපදෙස් දීමෙන් නියෝජිතයින්ගේ බලය සීමා නොකළ යුතුය. සිය බලය පාවිච්චි කිරීමේදී නියෝජිතවරුන් සම්පූර්ණයෙන් නිදහස් හා ස්වාධීන විය යුතුය''). ''පක්ෂයේ උත්තරීතර අධිකාරය පක්ෂ සමුළුව වන්නේය'',එම නිසා පක්ෂ ජීවිතය පිළිබඳ ඕනෑම ප්‍රශ්නයක් ගැන කෙළින්ම සමුළුවට ඉදිරිපත් කිරීමට ඕනෑම නියෝජිතයකුට ඇති අයිතිය යම්තමින් හෝ සීමා කරන්නා පක්ෂයේ විනය සහ පක්ෂ සමුළුවේ ව්‍යවස්ථාව උල්ලං-ඝණය කරන්නෙකි. ඒ අනුව මතුවී ඇති ප්‍රශ්නය මෙසේ විය: කවයන්ද නැතිනම් පක්ෂයක්ද? විවිධ සංවිධානවල සහ කවයන්ගේ කල්පිත අයිති-වාසිකම් හා රීතිවල නාමයෙන් සමුළුවේදී නියෝජිතයින්ගේ අයිතිය සීමා කිරීමද නැතිනම්, පක්ෂයේ සැබෑ නිල ආයතන බිහිකරන තුරු, සියලු පහළ සංවිධාන සහ පැරණි කණ්ඩායම් නාමික වශයෙන් නොව

සැබවින්ම සමුළුව ඉදිරියේදී සම්පූර්ණයෙන්ම විසුරුවා හැරීමද? සැබවින්ම පක්ෂය පුනරුත්ථාපනය කිරීම සඳහා පවත්වන ලද මේ සමුළුවේ මූලාරම්භයේ (තෙවැනි රැස්වීමේ) සිටම මේ මතභේදය මූලධර්මය අනුව කෙතරම් ගැඹුරු වැදගත්කමක් දරුවේද යන්න පාඨකයාට මින් දැනටමත් පැහැදිලි වී ඇති. මේ අරගලයේ කේන්ද්‍රස්ථානය වූයේ එක් අතකින් පැරණි කවයන් සහ (''යූෂ්නි රබෝචි'' වැනි) කුඩා කණ්ඩායම්ද අනිත් අතින් පුනරුදය ලැබ නැගී සිටින පක්ෂය අතර ඇති ඝට්ටනයය. එවිට ''ඉස්ක්‍රා'' විරෝධී කණ්ඩායම් සිය සැබෑ මුහුණුවර එකවරම හෙළි කළහ. බුන්ඩ්වාඩ් අකිරම්සොන්ද, වත්මන් ''ඉස්ක්‍රා'' කතු මඩුල්ලේ හිතවත් මිතුරා වන මර්තිනව් සහෝදරයාද, අපේ මිතුරු මාහව් සහෝදරයාද පව්ලොවිච්ට විරුද්ධව යෙගෝරව්ට සහ ''යූෂ්නි රබෝචි'' කණ්ඩායමට පක්ෂ වූහ. සංවිධානාත්මක ''ප්‍රජාතන්ත්‍රවාදය'' ඇති කිරීම සඳහා මාර්තව් සහ අක්සල්රොඩ් සමග තරඟයක යෙදී සිටින මර්තිනව් සහෝදරයා යුද්ධ හමුදව ගැන පවා මතක් කරමින්, ඉහළ අධිකාරයකට අභියාචනයක් කළ හැක්කේ එයට කෙළින්ම සම්බන්ධ වී ඇති පහළ සංවිධානය හාරේ යැයි පෙන්වා දෙයි!! මේ ''සංසන'' ''ඉස්ක්‍රා'' විරොධී විරුද්ධ පක්ෂයේ සැබෑ තේරුම සමුළුවට සහභාගි වූ සෑම කෙනෙකුටමත්, නැතිනම් සමුළුවට පෙර කාලයේ අප පක්ෂයේ අභ්‍යන්තර ඉතිහාසය ගැන සැලකිල්ලක් දැක්වූ සෑම කෙනෙකුටමත් පැහැදිලිය. විරුද්ධ පක්ෂයේ කාර්යය වූයේ (සමහර විටි එහි සියලු නියෝජිතයින් විසින් වටහා නොගත් සහ සමහර විට අනුදොෝගයේ බලය විසින් ලුහු බඳිනු ලැබූ නිසා) කුඩා සුළු කණ්ඩායම්වල ස්වාධීනතාවය, පෞද්ගලිකත්වය සහ සුළු ප්‍රාදේශීය වුවමනාවන් ''ඉස්ක්‍රා'' මූලධර්ම මත ගොඩ නගන පුළුල් පක්ෂය විසින් ගිල ගැනීමට නොදී ආරක්ෂා කිරීමය.

තවමත් මර්තිනව් සමග සමගි වීමට සමත් නොවූ මාර්තව් සහෝදරයාද ප්‍රශ්නය වෙත ළංවූයේ එම දෘෂ්ටි කෝණයෙනි. ''විප්ලවවාදියකුගේ පාක්ෂික විනය තමා අයත් පහළ වර්ගයේ විශේෂ කණ්ඩායමකට සිය යුතුකම් ඉටු කිරීමෙන් ඔබ්බට නොයතියි යන මතය දරන''අයට විරුද්ධව, මාර්තව් සහෝදරයා දැඩි ලෙසත්, සාධාරණ ලෙසත් පහර ගැසීය. ''එක්සත් පක්ෂයක් තුළ අනිවාර්ය ලෙස (අවධාරණය මාර්තව්ගේය) කණ්ඩායම් ගත වීමට ඉඩ නැතැ''යි කවයන් පිළිබඳ පක්ෂවාදීන්ට ඔහු පැහැදිලි කළේ, සමුළුව අවසානයේදී සහ ඉන් පසුව, ඔහුගේ දේශපාලනමය හැසිරීමට විරුද්ධව මේ වචන කස පහරක් වන සැටි ඔහු කල් ඇතිව නොදුටු බැවිනි... සංවිධායක කමිටුව හා සම්බන්ධයෙන් අනිවාර්ය කාණ්ඩ ගැසීම තහනම් නමුදු, කතු මඩුල්ලට නම් එවැනි තහනමක් කොහෙත්ම නැත. මාර්තව් මධ්‍යස්ථානයේ සිට බලන විට, ඔහු අනිවාර්ය කාණ්ඩ ගැසීම් හෙළා දකී.



එහෙත් මාර්තව් මධ්‍යස්ථානයේ සංයුතිය නිසා අසතුටට පත්වූ විට, ඔහු එම කාණ්ඩ ගැසීම් ආරක්ෂා කිරීමට ඉදිරිපත් වෙයි...

මාර්තව් සහෝදරයාගේ කතාවේදී යෙගෝරව් සහෝදරයා විසින් කරන ලද ''බරපතළ වරද'' ගැන පමණක් නොව, සංවිධායක කමිටුව විසින් පෙන්වන ලද දේශපාලනමය අස්ථිරතාවය ගැනද පෙන්වා දුන් බව සටහන් කර ගැනීම. ''සංවිධායක කමිටුව වෙනුවෙන් රෙකමදරුවක් කර තිබේ'' යැයි ඔහු සාධාරණ කෝපයකින් යුතුව පැවසීය.''මෙය කමිටු වාර්තාවට (සංවිධායක කමිටුවේ සාමාජිකයින්ගේ වාර්තාව මත පදනම් වී යැයි අපි කියා සිටිමු — 43 පිටුව, කල්ට්සොව්ගේ සටහන්) සහ සංවිධායක කමිටුවේම මුල් රෙකමදරු වලට පටහැනිය''(අවධාරණය මගේය). අප දකින පරිදි මාර්තව් තම ''පිනුම ගැසීමට'' පෙර ''බරිබා'' වෙනුවට ර්යසානච්ච ඉදිරිපත් කිරීමෙන් සංවිධායක කමිටුවේ කටයුතුවල පූර්ණ ප්‍රතිවිරොධී ස්වභාවය සහ අස්ථිරතාවය කොහෙත්ම ඉවත් නොවන බව පැහැදිලි ලෙසම දැන සිටියේය (සිය පිනුමෙන් පසුව මාර්තව් එම කරුණ දෙස දැක්වූ ආකල්පය පිළිබඳව පක්ෂ සාමාජිකයින්ට ලීග් සමුළු වාර්තාවෙන් දැනගත හැකිය, 57 පිටුව). එද මාර්තව් එම විනයානුකූල ප්‍රශ්නය විශ්ලේෂණය කිරීමට පමණක් සීමා නොවීය; ඔහු එක එල්ලේම ප්‍රශ්න කළේය: ''වෙනසක් අවශ්‍ය වීම සඳහා පැන නැගී ඇති අලුත් තත්වය කුමක්ද?'' (අවධාරණය මගේය). සත්තකින්ම සංවිධායක කමිටුව සිය රෙකමදරුව කරන විට, අකීමව් සහ අනිත් අය කළ පරිදි, ප්‍රසිද්ධියේ එයට පක්ෂව කතා කිරීමට තරම් ධෛර්‍යයක් පවා එම කමිටුවට නොවීය. මාර්තව් මෙය නිෂ්ප්‍රභ කරයි (ලීග් වාර්තාවල 56 පිටුව). එහෙත් වාර්තා කියවන ඕනෑම කෙනෙකුට ඔහු සාවද්‍ය බව පෙනී යයි. සංවිධායක කමිටුවේ රෙකමදරු ඉදිරිපත් කළ පපෝව් ඉන් කුමක් අදහස් කරන්නේද යන්න ගැන වචනයකුදු නොකීවේය (පක්ෂ සමුළුවේ වාර්තා,41 පිටුව). යෙගෝරව් ප්‍රශ්නය විනයානුකූල ප්‍රශ්නයක් බවට වෙනස් කළේය. ඔහු ප්‍රශ්නය ගැන කීවේ මෙපමණකි: ''සංවිධායක කමිටුවට අලුත් හේතූන් තිබෙන්නට පුළුවන''... (අලුත් හේතූන් තිබුනේද ඒවා මොනවාද යන්න අප්‍රසිද්ධය)... ''කිසිවකු පත් කිරීමට එයට අමතක වූවා විය හැකිය ආදි වශයෙනි'' (කතිකයාගේ එකම ගැළවීම වූයේ 'ආදි වශයෙනි' වැනි වචනය; මන්දයත්, සමුළුවට පෙර දෙවරක් සහ කමිටු අවස්ථාවේදී වරක් ''බරිබා'' ගැන සාකච්ඡා කළ නිසා සංවිධායක කමිටුවට එය අමතක කළ නොහැකි බැවිනි). ''සංවිධායක කමිටුව එම තීරණය ගත්තේ, එය ''බරිබා'' කණ්ඩායම කෙරෙහි දක්වන ආකල්පය වෙනස් කළ නිසා නොව, පක්ෂයේ අනාගත මධ්‍යම සංවිධානයේ ක්‍රියාකාරීත්වයේ මුල් පියවරවල සිටම එහි මාර්ගය ඉදිරිපිට ඇති අනවශ්‍ය බාධාවන් ඉවත් කරලීම සඳහාය''. මෙය හේතුවක්

නොවන අතර හේතුවකින් පිට පැනීමකි. සෑම අවංක සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකුම (සමුළුවට සහභාග වූ නියෝජිතයින්ගේ අවංකභාවය ගැන කිසිදු සැකයක් අප තුළ නැත) කිඳා බැස තිබෙන බාධා නැමැති පර්වත ඉවත් කිරීමට සැලකිලිමත් වීමද, තමා සිතන පරිදි උචිත ක්‍රම අනුව ඒවා ඉවත් කිරීමද සඳහා ඉදිරිපත් වෙයි. හේතූන් ඉදිරිපත් කිරීම යනු දේවල් ගැන පැහැදිලි ලෙස ප්‍රකාශ කිරීම සහ විස්තර කිරීම මිස කවුරුත් දන්නා සත්‍යයක් ප්‍රකාශ කර කරුණු මග හැරීම නොවේ. " "බරිබා" කණ්ඩායම කෙරෙහි දක්වන සිය ආකල්පය වෙනස් නොකර" ඔවුනට හේතුවක් ඉදිරිපත් කළ නොහැකිය. මන්දයත් සංවිධායක කමිටුව සිය මුල් ප්‍රතිපක්ෂ තීරණයන් තුළින් පවා කිඳා බැස තිබෙන පර්වත ඉවත් කිරීමට වැර දරූ නමුදු ඉක්බිතිව ඒවාට පටහැනි දේ "පවිත" හැටියට ගණන් ගත් බැවිනි. මාර්තව් සහෝදරයා ඉතා දැඩි ලෙසත්, ඉතා නිවැරදි ලෙසත් මේ තර්කයට පහර දුන්නේය. මෙය "සුළු" දෙයක් බවත්, එය "ප්‍රශ්නය වළක්වාලීමේ" අටියෙන් පටන් ගත් දෙයක් බවත් කී ඔහු "මිනිසුන් කියන දේ නිසා බිය නොවන" ලෙස සංවිධායක කමිටුවට උපදෙස් දුන්නේය. එම වචනවලින් මාර්තව් සහෝදරයා සමුළුවේදී ඉතා විශාල ක්‍රියා කලාපයක් ඉටු කළ දේශපාලන මතයේ මූලික හරය සහ අදහස අගනා ලෙස විදහා පෙන්වීය. මෙම මතය ස්වාධීනත්වය නැති නිසාත්, සිය පටු ස්වභාවය නිසාත්, තමන්ටම විශේෂවූ ප්‍රතිපත්තියක් නැති නිසාත්, මහජනයා කුමක් කියතිද යන බිය නිසාත්, ස්ථිර පැති දෙකකට මැදී වී ස්ථාවර ලෙස වැනෙන්නට වීම නිසාත්, තම credo* ගැන නොසඟවා කීමට ඇති බිය නිසාත්, වෙනත් වචනවලින් කියතොත්, "මඩගොහොරුවක"** සියලු අංග ලක්ෂණ නිසාත් කැපී පෙනිණි.

අස්ථිර කණ්ඩායමේ දේශපාලන වැනෙනසුලු ප්‍රතිපත්තිය නිසා අන් කිසිවකු නොව බුන්ඩ්වාදී යූදින් (53 පිටුව) සමුළුවට යෝජනාවක් ඉදිරිපත් කරමින් "බරිබා" කණ්ඩායමේ එක් සාමාජිකයකුට ආරාධනා කළ යුතුයැයි ඉල්ලා සිටියේය. යූදින්ගේ යෝජනාවට ඡන්ද පහක් — සියලු බුන්ඩ්වාදීන්ගේ ඡන්ද ලැබිණි. වැනෙන සුලු මිනිසුන් යළිත් වරක් පැති මාරු කර ඇත! එම ප්‍රශ්නය පිළිබඳව කල්ට්සොව් සහ යූදින්ගේ යෝජනාවලට ඡන්දය දීමේදී මැද කණ්ඩායම කෙතරම් විශාලද යන්න අඩුවැඩි වශයෙන් පෙන්වා දී ඇත. ඉස්ක්‍රාවාදීන්ට ඡන්ද තිස් දෙකක් ලැබිණි (47 පිටුව), බුන්ඩ්වාදීන්ට ඡන්ද දහසයක් එනම් "ඉස්ක්‍රා" විරෝධිවාදීන්ගේ ඡන්ද අටට අමතරව මාහව් සහෝදරයාගේ ඡන්ද දෙකක්ද (46 පිටුව), "යූෂ්නි රබෝචි" කණ්ඩායමේ ඡන්ද හතරක් සහ තවත් දෙදෙනෙකුගේ ඡන්ද දෙකක්ද ලැබී ඇත. මෙලෙස බෙදීම කොහෙත්ම අහම්බෙන් වූ දෙයක් නොවන බව අපි දැන් පෙන්වා දෙමු. එහෙත් සංවිධායක කමිටුවේ සිද්ධිය පිළිබඳව මාර්තව්ගේ වත්මන් මතය අපි මුලින් සංක්ෂිප්ත ලෙස සටහන් කර ගනිමු. "පව්ලොවිච් සහ අනිත් අය ආවේගික හැඟීම් ඇවිස්සූහ"යි මාර්තව් ලීගයේදී කියා සිටියේය. "බරිබා"කණ්ඩායමට සහ සංවිධායක කමිටුවට විරුද්ධව ඉතාම දිගු, ඉතා උණුසුම් සහ තියුණු කතා කළේ මාර්තව් බව දැනගැනීමට සමුළුවේ වාර්තා කියැවීම පමණක් සෑහේ. පව්ලොවිච් මත "වරද" පැටවීමට ඔහු ඉදිරිපත් වීමෙන් ඔහු සිය අස්ථිර භාවය පෙන්වයි. සමුළුවට පෙර කතෘ මණ්ඩලයේ සත් වැන්නා ලෙස ඔහු නම් කළේ පව්ලොවිච්වය, සමුළුවේදී ඔහු යෙගෝරව්ට විරුද්ධව සම්පූර්ණයෙන්ම පව්ලොවිච් සමග එක් විය (44 පිටුව), එහෙත් පසුව,පව්ලොවිච්ගෙන් පරාජය ලත් ඔහු,"ආවේගික හැඟීම් ඇවිස්සූහ"යි ඔහුට චෝදනා කිරීමට පටන් ගත්තේය. මෙය සිනා උපදවන්නකි.

එක්කෙනෙකුට හෝ තවත් කෙනෙකුට හෝ ආරාධනා කිරීමේ වැදගත්කම පෙන්වීම පිළිබඳව මාර්තව් "ඉස්ක්‍රාව" (අංක 56) මගින් සාවඥ ලෙස සඳහන් කළේය. එහෙත් එම සාවඥතාවයද මාර්තව්ට විරුද්ධව එල්ල විය. මන්දයත් මධ්‍යම කාරක සභාවට හෝ මධ්‍යම පුවත්පතට එක්කෙනෙකු හෝ තවත් කෙනෙකු ආරාධනය කිරීම වැනි "වැදගත්" ප්‍රශ්නයක් පිළිබඳව මතභේදයක් පැන නැංගේ සංවිධායක කමිටුවේ මේ සිද්ධිය නිසා වූ බැවිනි. කරුණු බලපාන්නේ තමන්ගේම "පහළ ශ්‍රේණියේ කණ්ඩායම"ටද (සාපේක්ෂ වශයෙන් පක්ෂය අනුව) නැතිනම් වෙනත් යම්කිසි කණ්ඩායමටද යන්න අනුව දෙයාකාර කෝදුවලින් මැන බැලීම හොඳ නැත. මෙය අවරසිකවාදය සහ කවවාදය මිස පාක්ෂික ආකල්පයක් නොවේ. මාර්තව් ලීගයේදී කළ කතාවත් (57 පිටුව) ඔහු සමුළුවේදී කළ කතාවත් (44 පිටුව) සංසන්දනය කර බැලීමෙන් මෙය මැනවින් පෙනී යයි. මාර්තව් අනිකුත් දේ අතර ලීගයේදී මෙසේ පැවසීය: "ඉස්ක්‍රාවාදීන් කියා ගන්නා අතරම, ඉස්ක්‍රාවාදීන් වීම නිසා ලජ්ජා වන මිනිසුන්

* වැඩ පිළිවෙළ සහ දෘෂ්ටිය.

**මේ වචනය ඇසෙන විට මහත්සේ තැතිගන්නා මිනිස්සු දැන් අපේ පක්ෂයේ සිටිති. ඔවුහු විවාදයේ සහෝදරාත්මක නොවන ක්‍රමය නිසා මහත් කලබලයක් කරති. නිල ආකාරය පිළිබඳ වැරදි අදහසක් නිසා... ඇතිවූ පුදුම සහගත විකෘති සංවේදීතාවයකි මේ! තරඟකාරි දෙපැත්තක් අතර ඒ මේ අත පාවෙන අස්ථිර අය හැඳින්වීම සඳහා යොදන මේ වචනය නොදත්, අභ්‍යන්තර අරගලය ගැන දන්නා එකද පක්ෂයක්වත් නොමැත. තම අභ්‍යන්තර අරගලයන් ඉතා නියමිත සීමාවන් තුළ පවත්වා ගැනීමට දන්නා ජර්මන්නු පවා "versumpft" ("මඩ ගොඩක එරිම" — සංස්කාරක) යන වචනය නිසා අමනාප නොවෙති. තැති නොගනිති, අවඥ සහගත නිලවාදී pruderie (වංචාකාරි කෝලයක් — සංස්කාරක) නොදක්වති.

අවබෝධ කර ගැනීමට "මම අසමත් වෙමි''. වචනයෙන් කීම සහ ක්‍රියාවෙන් වීම අතර ඇති වෙනස වටහා ගැනීමට පුදුමාකාර ලෙය අසමත් වීමකි. මාර්තව් සමුළුවේදී තමා අනිවාර්ය කාණ්ඩ ගැසීම්වලට විරුද්ධ බව කියා සිටියද, සමුළුවෙන් ඉක්බිතිව ඔහු ඒවාවලට ආධාර කරන්නෙක් බවට පත් විය...

## 4. ''යූෂ්නි රබෝචි'' කණ්ඩායම විසුරුවා හැරීම

සංවිධායක කමිටුව පිළිබඳ ප්‍රශ්නයේදී නියෝජිතයින් පෙළගැසීම සමහර විට අහම්බෙන් සිදුවුණැයි සිතීමට ඉඩ ඇත. එහෙත් එවැනි මතයක් සාවද්‍යය. එවැනි මත දුරුකිරීම සඳහා අපි කාල පිළිවෙළින් ඉවත්වී සමුළුව අවසානයේදී හටගත් එක් සිද්ධියක් පිරික්සා බලමු. එය මේ දැන් සාකච්ඡාවට භාජනය කළ කරුණ සමග ඉතා සමීප ලෙස සම්බන්ධ වී ඇත. මේ සිද්ධිය නම් ''යූෂ්නි රබෝචි'' කණ්ඩායම විසුරුවා හැරීමය. ''ඉස්ක්‍රාවේ'' සංවිධායක උපනතිය — පක්ෂයේ බලවේග සම්පූර්ණයෙන්ම ඒකාබද්ධ කිරීම සහ ඒවා බෙද වෙන්කරන ව්‍යාකූලත්වය නැති කිරීම — නියම පක්ෂයක් නැති කාලයකදී ප්‍රයෝජනවත් වැඩ කොටසක් ඉටු කළ එක් කණ්ඩායමක අයිතිවාසිකම් සමග මෙහිදී ගැටිණි. දැන් වැඩ මධ්‍යස්ථානගත කර තිබෙන බැවින් මේ වැඩ දැන් අතිරික්ත බවට පත් වී ඇත. කවචාදී අයිතිය අනුව බලන විට, ''යූෂ්නි රබෝචි'' කණ්ඩායමට ''අවිච්ඡින්නතාවය'' සහ අනුල්ලංඝනීයතාවය සඳහා පැරණි ''ඉස්ක්‍රා'' කර්තෘ මණ්ඩලයට මෙන්ම අයිතියක් ඇත්තේය. එහෙත් පක්ෂයේ යහපත අනුව බලන විට, එහි බලවේග ''නියමිත පක්ෂ සංවිධානවලට'' පවරා දීම (313 පිටුව පක්ෂ සමුළුවේ යෝජනාවේ අවසාන කොටස) එම කණ්ඩායමේ යුතුකම වන්නේය. කවචාදී වූවමනාවන් සහ අවරසිකවාදය අනුව බලන විට, ප්‍රයෝජනවත් කණ්ඩායමක් විසුරුවා හැරීම ''කිතිකවන සුලු'' කාර්යයක් විය හැකිය (රූසව් සහ දෙයිච් සහෝදරවරුන්ගේ කියමනකි). ''ඉස්ක්‍රාවේ'' පැරණි කතෘ මණ්ඩලය මෙන්ම මේ කණ්ඩායමද එවැන්නකට කැමති නොවීය. පක්ෂයේ වූවමනාවන් අනුව, එය විසුරුවා හැරීම, පක්ෂයට එය ''උරා ගැනීම'' (ගුසෙව්ගේ කියමනකි) අත්‍යාවශ්‍ය විය. තමා විසුරුවා හැරීම ''අවශ්‍ය නොවන'' බව තමා කල්පනා කරන්නේ යැයි ප්‍රකාශ කළ ''යූෂ්නි රබෝචි'' කණ්ඩායම ''සමුළුව සිය අදහස් ප්‍රකාශ කළ යුතු'' බවත්, ''වහාම ඒ පිළිබඳව ඔව් හෝ නැත යන්න'' ප්‍රකාශ කළ යුතු බවත් ඉල්ලා සිටියේය. විසුරුවා හැරිය පසු ''ඉස්ක්‍රාවේ'' පැරණි කතෘ මණ්ඩලය මෙන්ම, එම ''අවිච්ඡින්නතාවය'' ''යූෂ්නි රබෝචි'' කණ්ඩායමද හිමිකම්



පළ කළේය! යෙගෝරව් සහෝදරයා මෙසේ පැවසීය: ''පෞද්ගලික වශයෙන් අප සියලු දෙනම එකම පක්ෂයක සාමාජිකයින් වූවද, එය කෙසේ හෝ සංවිධානවලින් යුක්ත වන්නේය. මේවා ඓතිහාසික ආයතන හැටියට අප විසින් පිළිගත යුතුය... මෙවැනි සංවිධානයක් පක්ෂයට හානිකර නොවේ නම්, එය විසුරුවා හැරීමේ අවශ්‍යතාවයක් නැත්තේය.''

ඒ අනුව මූලධර්මය පිළිබඳ වැදගත් ප්‍රශ්නයක් ස්ථිර ලෙස ඉදිරිපත් කර ඇති අතර සියලු ඉස්ක්‍රාවාදීහු — ඔවුන්ගේ කවචාදී වූවමනාවන් තවම පෙරමුණට දමා නැති නිසා — වැනෙන සුලු පුද්ගලයින්ට විරුද්ධව තීරණාත්මක ලෙස නැගී සිටියහ (බුන්ඩ්වරු සහ ''රබෝචිය දියල'' කණ්ඩායමේ දෙදෙනද ඒ වන විට සමුළුවෙන් ඉවත්ව ගියහ. ''ඓතිහාසික ආයතන පිළිගැනීමට''ඔවුන් සිත කය යොද ඉදිරිපත් වන්නට තිබිණි) මේ යෝජනාවට පක්ෂව චන්ද තිස් එකක්ද, විරුද්ධව චන්ද පහක්ද, මධ්‍යස්ථව පහක්ද (''යූෂ්නි රබෝචි'' කණ්ඩායමේ චන්ද හතරද, බෙලොව් කලින් කළ ප්‍රකාශ අනුව සමහරවිට ඔහුගේ චන්දයද 308 පිටුව) ලැබිණි. ''ඉස්ක්‍රාවේ'' ස්ථිර සංවිධානාත්මක සැලැස්මට විරුද්ධවද, පක්ෂ — ජීව ගුණය වෙනුවට කව — ජීව ගුණය ආරක්ෂා කරන්නාවූද දස දෙනෙකු චන්දය දුන් බව ස්ථිර ලෙසම කිව හැකිය. විවාදයේදී, පටු ආධුනිකත්වයට සහ අසමගියට විරුද්ධවද, පෞද්ගලික, තනි සංවිධානවල ''හිතවත්කම්'' පිළිගැනීම ප්‍රතික්ෂේප කරමින්ද ඉස්ක්‍රාවාදීහු මූලධර්මය අනුව ප්‍රශ්නය පැහැදිලි ලෙස ඉදිරිපත් කළහ (ලාන්ගේ ගේ කතාව 315 පිටුව). ''මීට වසරකට හෝ දෙකකට හෝ පෙර ''යූෂ්නි රබෝචි'' කණ්ඩායමේ සහෝදරවරුන් මූලධර්මය වඩාත් දැඩි ලෙස පිළිපැද්දේ නම්, අප විසින් මෙහිදී පිළිගත් පක්ෂ සමගිය සහ මූලධර්ම සහිත වැඩ පිළිවෙළ වඩාත් කලින් ජයගනු ඇතැ''යි ඔවුහු ප්‍රකාශ කළහ. ඔර්ලොව්, ගුසෙව්, ලියාදව්, මුරවියොව්, රූසව්, පව්ලොවිච්, ග්ලේබව් සහ ගෝරින් මෙවැනි පිළිවෙතක් අනුව කථා කළෝය. ''අල්පතරයේ'' ඉස්ක්‍රාවාදීන් පක්ෂ සමුළුවේ කීපවරක්ම ඉදිරිපත් කරන ලද, ''යූෂ්නි රබෝචි'' කණ්ඩායමේ සහ මාහව් සහ අනිත් අයගේ මූලධර්ම රහිත ප්‍රතිපත්තියට සහ මාර්ගයට විරුද්ධත්වය ප්‍රකාශ කරනවා වෙනුවට, මේ ගැන සිය මත වෙනස විශේෂයෙන් සඳහන් කරනවා වෙනුවට, ඔවුහු දෙයිච්ගේ මාර්ගයෙන් මේ මතවලට තීරණාත්මක ලෙස පක්ෂපාතිත්වය පළ කළහ. ඒ රූසව් විසින්ම ඉදිරිපත් කරන ලද ''එක එල්ලේම ප්‍රශ්නය ඉදිරිපත් කිරීම'' (315 පිටුව) පිළිගනිමින් ව්‍යාකූලත්වය හෙළා දුටහ. එම රැස්වීමේදී රූසව් ''ඉස්ක්‍රාවේ'' කතෘ මණ්ඩලය හුදු පක්ෂ පදනමක් මත පිහිටුවීම පිළිබඳ ප්‍රශ්නයද එක එල්ලේම ඉදිරිපත් කිරීමට තරම් සහාසික විය. අහෝ කෙතරම් සංත්‍රාසයක්ද! (325 පිටුව).

''යූෂ්නි රබෝචි'' කණ්ඩායම විසුරුවා හැරීමේ යෝජනාව නිසා එම කණ්ඩායම ඉමහත් කෝපයට පත්විය, මේ පිළිබඳව සටහන් වාර්තාවේ දැකීමට පිළිවන (වාර්තාව, සපයන්නේ විවාද පිළිබඳව වර්ණවත් භාවයෙන් අඩු චිත්‍රයක් බව මතක් කළ යුතුය. මන්දයත් එය සම්පූර්ණ කතා වාර්තා නොකරන අතර එය සාරාංශ සහ සංක්ෂේප පමණක් ඉදිරිපත් කරන බැවිනි). ''රබෝචයා මීස්ල්''[10] කණ්ඩායම, ''යූෂ්නි රබෝචි'' කණ්ඩායම ළඟින්ම මතක් කිරීම පවා යෙගෝරව් සහෝදරයා හැඳින් වූයේ ''බොරුවක්'' වශයෙනි. ස්ථිර ආර්ථිකවාදය කෙරෙහි සමුළුවේදී බලපෑ ආකල්පය පිළිබඳ මෙය ආවේණික සැම්පලයකි. වඩාත් මෑතකදී, 37 වැනි රැස්වීමේදී පවා, ''යූෂ්නි රබෝචි'' කණ්ඩායම විසුරුවා හැරීම පිළිබඳව යෙගෝරව් කතා කළේ දැඩි නොසන්සුන්තාවයකිනි (356 පිටුව), ''යූෂ්නි රබෝචි'' පිළිබඳ සාකච්ඡාවේදී, ප්‍රකාශක අරමුදල් ගැන හෝ ප්‍රධාන පුවත්පත සහ මධ්‍යම කාරක සභාව විසින් පාලනය කිරීම ගැන හෝ එම කාණ්ඩයමේ නියෝජිතයින්ගෙන් නොඇසූ බව වාර්තාවේ සටහන් කරන ලෙස ඉල්ලා සිටිමිනි. ''යූෂ්නි රබෝචි'' පිළිබඳ විවාදයේදී කණ්ඩායමේ ඉරණම සංඝන බහුතරය විසින් කල් තබා තීරණයකට භාජනය කරන ලද බැව් පපෝව් සහෝදරයා ඉඟි කළේය. ඔහු මෙසේ පැවසීය: ''දැන් ඉතින් (316 පිටුව), ගුසෙව් සහ ඔර්ලොව් සහෝදරවරුන්ගේ කතා වලින් පසුව හැම දෙයක්ම පැහැදිලිය.'' මේ වචනවල තේරුම නිසැකය. ඉස්ක්‍රාවාදීන් තම මතය පවසා යෝජනාවක් ඉදිරිපත් කළ පසු හැම දෙයක්ම පැහැදිලි විය, එනම් ''යූෂ්නි රබෝචි'' කණ්ඩායමේ මතයට විරුද්ධව එය විසුරුවා හැරීම පැහැදිලි විය. මෙතැනදී ''යූෂ්නි රබෝචි'' කතිකයා ඉස්ක්‍රාවාදීන් (විශේෂයෙන්ම ගුසෙව් සහ ඔර්ලොව් වැනි ඉස්ක්‍රාවාදීන්) සහ වෙනත් සංවිධානාත්මක ප්‍රතිපත්ති ''මාර්ගයක්'' ඉදිරිපත් කරන තමන්ගේ ආධාර කරුවන් අතර ඇති වෙනස වෙන්කොට පෙන්වීය. ඉදින් වත්මන් ඉස්ක්‍රාවාදීන්, ''නියම ඉස්ක්‍රාවාදීන්'' ලෙස ''යූෂ්නි රබෝචි'' කණ්ඩායම (එමෙන්ම සමහරවිට, මාහව් වත්?) ඉදිරිපත් කිරීමට යන විට, සමුළුවේ ඉතා වැදගත් (මේ කණ්ඩායමේ මතය අනුව) සිද්ධීන් නව කතෘ මණ්ඩලයට අමතක වී ඇති බවත්, ''අල්පතරය'' නමින් හැඳින්වෙන දෙය සෑදී තිබෙන්නේ කිනම් කොටස්වලින්ද යන්න පෙන්වන සාක්ෂි යටපත් කර දැමීමට යුහුසුලු වී ඇති බවත් පමණක් එය පෙන්වයි.

අවාසනාවකට මෙන්, ජනප්‍රිය සඟරාවක් පිළිබඳ ප්‍රශ්නය සමුළුවේදී සාකච්ඡාවට භාජනය කර නැත. සියලු ඉස්ක්‍රාවාදීහු සමුළුවට පෙරත්, සමුළුව පැවැත්වෙන කාලයේදී එම රැස්වීම්වලට බාහිරවත් මේ ගැන සාකච්ඡා කළහ. පක්ෂ ජීවිතයේ මෙවැනි මොහොතකදී එවැන්නක් පටන් ගැනීම හෝ දැනට පවතින සඟරාවක් එලෙස පරිවර්තනය කිරීම ඉතාමත් අඥාන බව ඔවුහු පිළිගත්හ. ඉස්ක්‍රාවිරෝධීහු මෙයට හාත්පසින්ම විරුද්ධ මතය ප්‍රකාශ කළහ: සිය වාර්තාව මගින් ''යූෂ්නි රබෝචි'' කණ්ඩායමද එලෙස නිගමනය කර ඇත. අත්සන් දහයක් සහිත මෙවැනි යෝජනාවක් ඉදිරිපත් නොකිරීම අහම්බෙන් සිදුවූ දෙයක් හැටියට හෝ ''සාර්ථක නොවන'' ප්‍රශ්නයක් ඉදිරිපත් කිරීමට අකමැති වීමක් හැටියට හෝ ගිණිය හැකිය.

## 5. භාෂා සමානත්වය පිළිබඳ සිද්ධිය

සමුළුවේ රැස්වීම් පැවැත්වූ කාල අනුක්‍රම පිළිවෙළට අපි යළිත් හැරෙමු.

සැබෑ වැඩ කටයුතු ගැන සමුළුව සාකච්ඡා කිරීමට පටන් ගැනීමටත් පෙර සිටම ඉස්ක්‍රාවිරෝධීන්ගේ (ඡන්ද අටක්) ස්ථිර නියත කණ්ඩායමක් තිබෙන බව පැහැදිලිව හෙළි වූවා පමණක් නොව, ඉස්ක්‍රාවිරෝධී අට දෙනාට ආධාර කිරීමට සහ ඔවුන්ගේ ඡන්ද සංඛ්‍යාව දළ වශයෙන් දහසයක් දහ අටක් දක්වා වැඩි කිරීමට සූදානම් අස්ථිර සහ අතරමැදි කණ්ඩායමක් සිටින බවද හෙළි විය.

පක්ෂ සමුළුවේදී ඉතා විශේෂයෙන්ද දීර්ඝ ලෙසද සාකච්ඡා කළ, පක්ෂය තුළ බුන්ඩ් සංවිධානය පිළිබඳ ප්‍රශ්නය මූලධර්මය තීරණය කිරීමක් දක්වා සරල වූ අතර ප්‍රායෝගික තීරණය සංවිධානය පිළිබඳ සාකච්ඡාව දක්වා කල් දමන ලදී. සමුළුවට පෙර සිටම මේ ප්‍රශ්න පැහැදිලි කිරීමට පුවත්පත්වල සෑහෙන ඉඩක් දී තිබුණු බැවින්, සමුළුවේ සාකච්ඡාවලදී අළුත් කරුණු සාපේක්ෂ වශයෙන් හෙළි වූයේ ටිකකි. ''රබෝචිය දියල'' කණ්ඩායමේ ආධාර කරුවෝ (මර්තිනව්, අකීමව් සහ බ්රූකර්) මාර්තව්ගේ යෝජනාවට පක්ෂපාත වන අතරම එය නොසෑහෙන බැවින්, ඉන් කරනු ලබන නිගමනයන් සමග ඔවුන් එකඟ නොවන බව පවසමින් සිය අදහස් වෙන් කර ගත්හ (පිටු 66, 73, 83, 86).

සමුළුව බුන්ඩයේ තත්වය ගැන සාකච්ඡා කිරීමෙන් ඉක්බිතිව වැඩ පිළිවෙළ සම්මත කළේය. සාකච්ඡාව ප්‍රධාන වශයෙන් විස්තර පිළිබඳ අතුර යෝජනා වටා ඇති විය. මෙය මඳ වශයෙන් සැලකිලි ඇතිකරන්නකි. සාංසිද්ධිකතාවය සහ විඥනය පිළිබඳ ප්‍රශ්නය ඉදිරිපත් කිරීමේදී මර්ටිනව් සහෝදරයාගේ පහර දීමෙන් පමණක්, ඉස්ක්‍රාවිරෝධීන්ගේ මූලධර්ම පිළිබඳ විරුද්ධත්වය ප්‍රකාශිත විය. මර්ටිනව්ට සත්තකින්ම බුන්ඩ්වරුන් සහ ''රබෝචිය දියල'' වරුන් හැම එකෙකුගේම සහාය ලැබිණි. ඔහුගේ විරුද්ධත්වය ප්‍රකාශ කිරීමේ අසතුටුදයක ත්තත්වය පිළිබඳව මාර්තව් සහ ප්ලෙහානව් විසින් පෙන්වා දෙන ලදහ. ''ඉස්ක්‍රා'' කතෘ මණ්ඩලය (කල්-

පනා කළ ඉක්බිතිව විය යුතුය) මර්ටිනව්ගේ පැත්ත ගෙන තිබෙන අතර සමුළුවේදී ප්‍රකාශ කළ දේට වඩා හාත්පසින්ම විරුද්ධ දේ ප්‍රකාශ කිරීම[11] කුතුහලය අවුස්සන දෙයක් ලෙස සටහන් කළ යුතුය. මෙය සමහරවිට "අවිච්ඡින්නතාවයේ" සුප්‍රසිද්ධ මූලධර්මය අනුව විය හැකිය... කතෘ මණ්ඩලය ප්‍රශ්නය සම්පූර්ණයෙන්ම පැහැදිලි කරන තුරු සහ ඔවුන් මර්ටිනව් සමග කොතරම් දුරට එකඟ වන්නේද, කිනම් කරුණු අනුවද, කවද සිටද යන්න විස්තර කරන තුරු පමණක් අපට බලා සිටීමට සිදුවී ඇත. ඒ අතර අපි මෙසේ ප්‍රශ්න කරමු: පක්ෂ සමුළුවේදී ප්‍රකාශ කළ දේට වඩා හාත්පසින්ම විරුද්ධ දේ ප්‍රකාශ කරන කතෘ මණ්ඩලයක් සහිත පක්ෂයේ පුවත්පතක් මීට පෙර කිසිවකු දැක තිබේද?

පක්ෂයේ ප්‍රධාන පුවත්පත හැටියට "ඉස්ක්‍රාව" පිළිගැනීමේ තර්ක (අපි මෙය ඉහත විස්තර කළෙමු) සහ ව්‍යවස්ථාව පිළිබඳ විවාදවල පටන් ගැනීමද (ව්‍යවස්ථාවේ පූර්ණ සාකච්ඡාව සම්බන්ධව මෙය පිරික්සා බැලීම වඩාත් පහසුය), අතහැර දමමින් වැඩ පිළිවෙළ පිළිබඳ සාකච්ඡාවේදී හෙළි වූ මූලධර්ම පිළිබඳ මත වෙනස්කම් කල්පනා කර බලමු. පළමුවෙන්ම ඉතාමත් ස්වභාව නිරූපී ස්වභාවයක් දරන විස්තරයක්, එනම් සමානුපාතික නියෝජිතත්වය පිළිබඳ විවාදය ගැන සටහන් කරමු. "යූෂ්නි රබෝචියේ" යෙගෝරව් සහෝදරයා වැඩ පිළිවෙළට මෙය ඇතුළත් කළ යුතුයැයි යෝජනා කළේය. ඔහු එය ඉදිරිපත් කළ ආකාරය නිසා පසදෝව්ස්කි (අල්පතරයේ ඉස්ක්‍රාවාදියෙකි) "බරපතළ මත භේදයක්" ඇතැයි සාධාරණ ලෙස ප්‍රකාශ කළේය. "පහත සටහන් මූලික ප්‍රශ්නය පිළිබඳව අප අතර එකඟතාවයක් නැති බවට සැකයක් නැත: අපේ අනාගත ප්‍රතිපත්තිය එක්තරා මූලික ප්‍රජාතන්ත්‍රික මූලධර්මයකට යටකොට, එයට නිරපේක්ෂ වටිනාකමක් ආරූඪ කළ යුතුද නැත්නම් සියලු ප්‍රජාතන්ත්‍රික මූලධර්මයන් අප පක්ෂයේ වුවමනාවලට සම්පූර්ණයෙන්ම යට කළ යුතුද? මම ස්ථිර ලෙසම දෙවැන්නට පක්ෂපාත වෙමි." යි පසදෝව්ස්කි පැවසීය. ප්ලෙහානව්, පසදෝව්ස්කි සමග "සම්පූර්ණයෙන්ම එකඟ වී ප්‍රජාතන්ත්‍රික මූලධර්මයන්ගේ නිරපේක්ෂ වටිනාකම" නැමැති වගන්තියට වඩාත් ස්ථිර ලෙස සහ තීරණාත්මක ලෙස විරුද්ධ වී එය "වියුක්තයක්" ලෙස හැඳින්විය. "කල්පිතයක් වශයෙන්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන අප සර්වජන ඡන්දයකට විරුද්ධ වීම සිතාගත හැකිය. ඉතාලි සමූහාණ්ඩුවල ධනපති පංතිය කුලීන පවුල්වල සාමාජිකයින්ගේ දේශපාලන අයිතිවාසිකම් අහිමි කළ කාලයක්ද විය; විප්ලවවාදී නිර්ධන පංතිය උසස් පංතිවල දේශපාලන අයිතීන් එම පංතීන් විසින් නිර්ධන පංතියට එම අයිතිවාසිකම් සීමා කළ ආකාරයටම සීමා කරනු ඇතැ"යි ප්ලෙහානව් පැවසීය.ඔහුගේ කතාවට



අත්පොළසන් සහ සූ සූ යන ශබ්දයක්ද ඇති විය. කිසිවකුගේ Zwischenruf* නිසා ප්ලෙහානව් " 'ෂූ' හඬ නැගීම නොකළ යුතු" යැයි පැවසීය. එමෙන්ම සිය හැඟීම මැඩ ගන්නා ලෙස ඔහු සහෝදරවරුන්ගෙන් ඉල්ලා සිටියේය. එවිට යෙගෝරව් සහෝදරයා නැගිට, "එවැනි කතාවලට අත්පොළසන් ලැබෙන නිසාම මට 'ෂූ' ගෑමට සිදුවී ඇතැ"ය කියුවේය. ගෝල්ඩ්බ්ලාට් (බුන්ඩ් නියෝජිතයෙකි) සහෝදරයා සමග එකතු වී යෙගෝරව් සහෝදරයා පසදෝව්ස්කිගේ සහ ප්ලෙහානව්ගේ අදහස්වලට අභියෝග කළේය. අවාසනාවකට මෙන් විවාදය අවසන් විය, එය තුළ පැන නැගුණු එම ප්‍රශ්නය ක්ෂණිකවම අතුරුදහන් විය. මාර්තව් සහෝදරයා ලීග් සමුළුවේදී එහි වැදගත්කම අඩුකොට තැකීමට හෝ එය සම්පූර්ණයෙන්ම ප්‍රතික්ෂේප කිරීමට පවා වැයම් කිරීම නිෂ්ඵල ක්‍රියාවකි. ඔහු මෙසේ පැවසීය: "මේ වචන (ප්ලෙහානව්ගේ) සමහර නියෝජිතයින් තුළ කෝපයක් ඇවිස්සීය. නිර්ධන පංතිය සිය ජයග්‍රහණය ස්ථිර කර ගැනීම සඳහා පුවත්පත්වල නිදහස වැනි දේශපාලන අයිතිවාසිකම් පාගා දැමීම වැනි ශෝචනීය තත්ත්වයක් සිතා ගැනීමට පවා බැරි යැයි ප්ලෙහානව් සහෝදරයා පැවසුයේ නම් මෙවැනි තත්ත්වයක් ලෙහෙසියෙන් මඟ හරවා ගත හැකිව තිබිණි... (ප්ලෙහානව් "merci" ස්තූතියැයි පැවසීය)" ලීග් වාර්තා 58 පිටුව). මේ අර්ථකථනය පසදෝව්ස්කි සහෝදරයා විසින් සමුළුවේදී කරන ලද "බරපතළ මතභේදයක්" සහ "මූලික ප්‍රශ්නයක් ගැන එකඟ නොවීමක්" පිළිබඳ ස්ථිර ප්‍රකාශනයට එක එල්ලේම ප්‍රතිවිරුද්ධ දෙයකි. මේ මූලික ප්‍රශ්නය පිළිබඳව සමුළුවේ සියලු ඉස්ක්‍රාවාදීහු, ඉස්ක්‍රාවිරෝධී "දක්ෂිණාංශයේ" කතිකයාට (ගෝල්ඩ්බ්ලාට්ට) සහ සමුළුවේ "මධ්‍යස්ථ" කථිකයාට (යෙගෝරව්ට) විරුද්ධ වූහ. මෙය සත්‍යයකි. "මධ්‍යස්ථ අයට" (මෘදු භාවයේ "නිල" ආධාර කරුවන්ට මේ වචනය හදිසි කම්පනයක් නොවේවායි මම සිතමි) "සීමා කිරීමක් නැතිව" (යෙගෝරව් හෝ මාහව් හෝ සහෝදරවරුන්ගේ මාර්ගයෙන්) මෙයට හෝ මෙයට සාදෘශ්‍ය ප්‍රශ්න ගැන කතා කිරීමට අවස්ථාවක් ලැබිණි නම්, බරපතළ මතභේද එකවර හෙළි වනු ඇතැයි කෙනෙකුට ලෙහෙසියෙන් නිගමනය කළ හැකිය.

භාෂා සමානත්වය පිළිබඳ ප්‍රශ්නයේදී (වාර්තාවේ 171 පිටු) මෙය වඩාත් හොඳට කැපී පෙනිණි. මේ ප්‍රශ්නය පිළිබඳ චතුර ස්වභාවයක් පෙනුණේ විවාදයේදී නොව ඡන්දය දීමේදීය. ඡන්දය ගත් වාර ගණන් කළ විට එහි සංඛ්‍යාව විශ්වාස නොකළැකි — දහසයකි! කුමක් සඳහාද?

* කතිකයාගේ කතාවට බාධා සාදමින් හරස් වචන පැවසීම. — සංස්කාරක

ස්ත්‍රී, පුරුෂ සහ භාෂා භේද නොතකා සියලු රට වැසියන්ගේ සමානතාවය වැඩ පිළිවෙළින් ප්‍රකාශ කිරීම ප්‍රමාණවත්ද නැත්නම් ''භාෂාවල නිදහස'' ප්‍රකාශ කිරීම අවශ්‍යද එසේත් නැත්නම් ''භාෂාවල සමානත්වය'' ප්‍රකාශ කිරීම අවශ්‍යද යන්න තෝරා බේරා ගැනීම සඳහාය. ලීග් සමුළුවේදී මාර්තව් සහෝදරයා මේ සිද්ධිය සෑහෙන තරම් නිවැරදි ලෙස පෙන්වා දෙමින් මෙසේ පැවසීය: ''වැඩ පිළිවෙළේ එක් කරුණක් පිළිබඳ යෙදුමක් ගැන සුළු විවාදයක් මූලධර්මය පිළිබඳ ප්‍රශ්නයක් බවට පත් වූයේ, වැඩ පිළිවෙළ පිළිබඳ කමිටුව පෙරළා දැමීමට සමුළුවෙන් අඩක්ම සූදානමින් සිටි බැවිනි.'' සත්තකින්ම එසේ විය*. මතභේදයට ක්ෂණික හේතුව සත්තකින්ම සුළු දෙයකි, එහෙත් එය මූලධර්මය පිළිබඳ කරුණක් විය, ඒ අනුව බියජනක රූපාකාරයන් ගත්තේය, වැඩ පිළිවෙළ පිළිබඳ කමිටුව ''පරාජය කිරීම'' දක්වාද ''සමුළුව මුළා කිරීමේ'' (යෙගෝරව් මාර්තව්ව සැක කළාක් මෙන්) අභිප්‍රායයෙන් එය වැඩ කළේ යැයි සැක කිරීම දක්වාද එය වැඩිණි. ඒ හැර ඉතා... නින්දකාරී පෞද්ගලික ප්‍රකාශ කිරීම්ද ඇති විය (178 පිටුව). පපෝව් සහෝදරයා පවා ''නොවැදගත් කරුණු මෙවැනි වාතාවරණයක් ඇති කිරීම ගැන කනගාටුව ප්‍රකාශ කළේය.'' (අවධාරණය මගේය, 182 පිටුව).

''සැක කිරීමේ'' වාතාවරණය පිළිබඳ ඉතා වැදගත් කරුණට සහ (''පෙරළා දැමීම'') අරගලයේ ඉතා තියුණු ආකාරවලට මේ සියලු ප්‍රකාශ ස්ථිර ලෙසත්, නියත ලෙසත් තුඩු දෙයි. මෙය බිහි කිරීම ගැන පසු කලෙක

---

*මාර්තව් මෙසේද පැවසීය: ''මෙම අවස්ථාවේදී ප්ලෙහානව් බුරුවන් පිළිබඳ කී නර්මාලාපය නිසා හානි සිදු විය.'' (භාෂාවල ස්වාධීනත්වය පිළිබඳ ප්‍රශ්නය සාකච්ඡා කරද්දී — මා හිතන හැටියට බුන්ඩ්වාදියකු විය යුතුය — පට්ටි ගාල් ගැන මතක් කරන ලදී. එවිට ප්ලෙහානව් හඬ නගා තමාටම මෙසේ කියා ගත්තේය: ''අශ්වයින් කතා නොකළද සමහර විට බුරුවෝ කතා කරති.'' මේ නර්මාලපයේ විශේෂ මුදු බවක්, අවස්ථානුරූපී ගතියක්, උපක්‍රමශීලී භාවයක් හෝ නම්‍යතාවයක් මම නොදකිමි. ආරාවුල මූලධර්ම පිළිබඳ කරුණක් බවට පත්වී යැයි පිළිගත් මාර්තව් එම මූලධර්මය කුමක්දැයි විශ්ලේෂණය නොකිරීම පුදුමයට කරුණකි. මතභේදයේ කිනම් මතයක් ප්‍රකාශ කළේදැයි නොකියන ඔහු නර්මාලාපවල ''අහිතකර ගති'' ගැන කීමට පමණක් සීමා විය. මෙය සැබවින්ම නිලධාරිවාදී සහ විධිමාත්‍රවාදී ආකල්පයකි! තියුණු නර්මාලාප නිසා ''සමුළුවේදී විශාල හානි ඇති විය''. මේවා බුන්ඩ්වාදීන් කෙරෙහි පමණක් නොව බුන්ඩ්වාදීන්ගේ ආධාරය ලැබූ සහ ඔවුන් විසින් පරාජයෙන් පවා ආරක්ෂා කරනු ලැබූ අයට එල්ලවිය. කෙසේවුවද, කෙනෙක් එම සිද්ධිය ප්‍රතිපත්ති මූලක බව ප්‍රකාශ කළාට පසු සමහර නර්මාලාප ''පාවිච්චි කළ නොහැකිය'' (ලීගයේ වාර්තා 58 පිටුව) යන ප්‍රකාශනයට පමණක් කෙනෙකුට සීමා විය නොහැකිය.



ලීග් සමුළුවේදී ඉස්ක්‍රාවාදීන්ගේ බහුතරය වග කිව යුතුයැයි චෝදනා කරන ලදී. එහෙත් මෙය ඇත්ත වශයෙන්ම බිහි වූයේ අප බහුතරය සහ අල්පතරය වශයෙන් බෙදීමටත් කලිනි. මම, මෙය වැදගත් සාධකයක් බවත්, මූලික සාධයක් බවත් යළිත් කියමි. මෙය අවබෝධ කර ගැනීමට අසමත් වීම නිසා සමුළුව අවසානයේදී බහුතරය කෘත්‍රිම ලෙස සැදිණැයි යන පුහු කල්පනාවක් බොහෝ දෙනෙකු තුළ ඇති වීමට ඉඩ ඇත. අද පවතින මතය අනුව මාර්තව් සහෝදරයා කියන පරිදි සමුළුවේ නියෝජිතවරුන්ගෙන් දහයෙන් නව කොටසක් ඉස්ක්‍රාවාදීන්ය. ''ඉතා සුළු'', ''නොවැදගත්'' දේ නිසා ''මූලධර්ම පිළිබඳ කරුණකට'' තුඩු දෙන අරගලයක් පැන නැගීමට හැකියාවක් ඇති වීමත්, එමෙන්ම එය සමුළුවේ කොමිසමක් පෙරළා දැමීමට තරම් සමීප වීමත් කිසිසේත්ම විස්තර නොකළැකි, හාස්‍යජනක දෙයකි. ''අහිතකර'' නර්මාලාප පිළිබඳ කනගාටුවීම් සහ සුසුම්ලෑම් මගින් මේ සත්‍යයෙන් මග හැරීම මෝඩකමකි. තියුණු නර්මාලාපවලට මේ අරගලය මූලධර්ම පිළිබඳ කරුණක් බවට පත්කළ නොහැක. එසේ විය හැක්කේ, සමුළුවේ දේශපාලන කාණ්ඩ ගැසීම්වල ස්වරූපය නිසා පමණකි. කැපෙන සුලු ප්‍රකාශන සහ නර්මාලාප නිසා අරගලය පැන නැංගේ නැත. සමුළුවේ දේශපාලන කාණ්ඩ ගැසීම්වල ''ප්‍රතිවිරෝධතාවයක්'' තිබෙන බවට, ඒවා සලකුණක් පමණකි, අරගලයක් ඇතිවීමේ සියලු කොන්දේසි එහි තිබිණි, හැම හේතුවක් නිසාම, ඉතාම නොවැදගත් සුලු වුවද හේතුවක් නිසාම, අන්තස්ත බලවේගයකින් පුපුරා යන අභ්‍යන්තර විෂම ජාතිත්වයක් එහි තිබිණි.

අනිත් අතින් පක්ෂ සමුළුව පිළිබඳව මා දරන මතය අනුව, සිද්ධීන් ගැන ස්ථිර දේශපාලන අදහස් දැක්වීමත් හැටියට එය පිළිගැනීම මගේ යුතුකමක් බව මම හඟිමි. මෙලෙස අදහස් දැක්වීම විරුද්ධකමක් ලෙස සමහර අයට පෙනී යා හැකිය. මේ දෘෂ්ටි කෝණය අනුව බලන විට, නොවැදගත් සුළු හේතුවක් නිසා පැන නැගි ප්‍රතිපත්ති මූලක ඉතා දුෂ්කර තියුණු සටටනය විස්තර කළ හැකිවාක් මෙන්ම, එය නොවැළැක්විය හැකිය. ඉස්ක්‍රාවාදීන් සහ ඉස්ක්‍රාවිරෝධීන් අතර නිත්‍ය අරගලයක් අප සමුළුවේදී ඇතිවූ නිසාත්, මේ දෙකොටස අතර අස්ථිර වැනෙන සුලු පුද්ගලයින් සිටි නිසාත්, පසු කී පුද්ගලයින් සහ ඉස්ක්‍රාවිරෝධීන් චන්ද සංඛ්‍යාවෙන් තුනෙන් පංගුවක් (චන්ද 51 කින් 8+10=18 මගේ ගණන්හිලව් අනුව මෙය ඉතා ආසන්න සංඛ්‍යාවකි), ''ඉස්ක්‍රාවාදීන්ගෙන්'' ඉතා කුඩා අල්පතරයක් වුවද, කැඩී වෙන්වීම නිසා ඉස්ක්‍රාවිරෝධී උපනතියට ජයග්‍රහණයක හැකියාවක් බිහි කරන බව පැහැදිලිය. මේ හේතුව නිසා ''වියරු'' අරගලයක් ඇති විය. මෙය නොනිසි තියුණු නර්මාලාප සහ ප්‍රහාරයන් නිසා නොව දේශපාලන සංයෝජනයන් නිසා ඇතිවූවකි.

දේශපාලනමය ගැටීමක් පැන නැංගේ තියුණු ප්‍රකාශන නිසා නොවේ සමුළුවේ කාණ්ඩ ගැසීම නිසා ඇතිවූ දේශපාලනමය ගැටීමක් විසින් තියුණු ප්‍රකාශන සහ ප්‍රහාර ඇති විණි. සමුළුවේ දේශපාලනමය වැදගත්කම සහ එහි ප්‍රතිඵල තක්සේරු කිරීමේදී මාර්තව් සහ මා අතර ඇති ප්‍රතිපත්ති මූලක ප්‍රධාන මතභේදය මේ වෙනස විසින් ප්‍රකාශ කරනු ලැබේ.

සමස්තයක් වශයෙන් සමුළුවේදී ඉස්ක්‍රාවාදීහු සුළු සංඛ්‍යාවක් ප්‍රධාන ප්‍රශ්න තුනකදී බහුතරයෙන් ඉවත්වගියහ — එය භාෂාවලට සම තැනදීම පිළිබඳ ප්‍රශ්නයේදීත්, ව්‍යවස්ථා පිළිබඳ පළමුවැනි කොටසේදී සහ ඡන්දය දීමේදීත්ය. මේ ප්‍රශ්න තුනේදී දරුණු සටනක් ඇති වූයෙන් අද අපේ පක්ෂය තුළ තිබෙන බරපතළ අර්බුදයකට එය තුඩු දුන්නේය. මේ අර්බුදය සහ මේ අරගලය පිළිබඳව දේශපාලන අවබෝධයක් ලබා ගැනීමට නම් අප නර්මාලාප තහනම් කිරීම පිළිබඳ පාඨවලට සීමා නොවී, සමුළුවේදී සටන් වැදුණු දේශපාලන මත දරු කණ්ඩායම් ගැන පිරික්සා බැලිය යුතුය. ප්‍රතිවිරුද්ධතාවයට හේතූන් සොයා ගැනීමේදී භාෂා සමානත්වය පිළිබඳ සිද්ධිය එම නිසා දෙගුණයකින් වැදගත්ය. මන්දයත් මාර්තව් කලින් ඉස්ක්‍රා-වාදියකු වූ අතර (තවම එසේ විය!) ඉස්ක්‍රාවිරෝධීන්ට හා ''මධ්‍යස්ථ අයට'' විරුද්ධව සමහර විට අන් අයට වඩා දැඩි ලෙස සටන් කළ බැවිනි.

යුද්ධය ආරම්භ වූයේ මාර්තව් සහෝදරයා සහ බුන්ඩ්වාදීන්ගේ නායකයා වූ ලීබෙර් සහෝදරයා අතර ඇතිවූ තර්කයකිනි (171—172 පිටු). ''රටවැසියන්ගේ සමානතාවය'' නැමැති ඉල්ලීම සෑහේ යැයි මාර්තව් තර්ක කළේය. ''භාෂා නිදහස'' ප්‍රතික්ෂේප විණි. එහෙත් භාෂාවල සමානත්වය පිළිබඳ යෝජනාවක් සැනෙකින් ඉදිරිපත් විය. එහිදී යෙගෝරව් සහෝදරයා ලීබෙර් සමග එක්වී සටන් කරන්නට විය. ''ජාතීන් සමාන බව කියන කතිකයින් අසමානතාවය භාෂා ක්ෂේත්‍රයට මාරු කරන විට, එය අන්ධ භක්තියකි''යි මාර්තව් පැවසීය. ''ඒ වෙනුවට ප්‍රශ්නය පිරික්සා බැලිය යුත්තේ හාත්පසින්ම වෙනත් පැත්තකිනි; ජාතීන් අතර අසමානතාවය පවතී. එහි එක් ප්‍රකාශනයක් නම්, සමහර ජාතීන්ට අයත් මිනිසුන්ට සිය මවුබස පාවිච්චි කිරීමට ඇති අයිතිය නැති කර දමා තිබීමය'' (172 පිටුව). මෙහිදී මාර්තව් සම්පූර්ණයෙන්ම නිවැරදිය. තම සූත්‍රයේ නිවැරදි භාවය පිළිබඳව තරයේ කියා සිටීමට ලීබෙර් සහ යෙගෝරව් දැරූ පදනම් විරහිත ප්‍රයත්නය සහ ජාතීන් අතර සමානතාවය පිළිබඳ මූලධර්මය පිළිගැනීම අප අකැමැතිය නැතිනම් අසමත් යයි පෙන්වීමට තැත් කිරීම සත්තකින්ම එක්තරා විධියක අන්ධ භක්තියකි. ඇත්තෙන්ම ඔවුහු අන්ධ භක්තිකයන් මෙන් වචන මිස මූලධර්ම ආරක්ෂා නොකරති. ඔවුන් හැසිරෙන්නේ මූලධර්ම පිළිබඳව වරදක් වෙතියි යන බියකින් නොව, මිනිසුන් කුමක් කියතිද යන බියෙනි. මේ සෙළවෙන සුලු බුද්ධිය



(මෙවැන්නක් නිසා ''වෙනත් අය'' අපට දෙස් පවරති නම් අපි කුමක් කරමුද?) — සංවිධායක කමිටුව පිළිබඳ සිද්ධියේදී අපි මෙය සටහන් කර ඇත්තෙමු — අපේ මුළු ''මධ්‍යස්ථ පිරිස'' විසින් පැහැදිලි ලෙස පෙන්වා දී ඇත. ''යුෂ්නි රබෝචි'' කණ්ඩායමට ළඟින් සිටි, එහි තවත් කතිකයෙකු සහ ආකර පෙදෙසේ නියෝජිතයකු වන ල්වොව් සහෝදරයා, ''දේශසීමා දිස්ත්‍රික්ක විසින් ඉදිරිපත් කර ඇති භාෂා පැගීම පිළිබඳ ප්‍රශ්නය ඉතා බරපතළ එකකි. භාෂා පිළිබඳ ශීර්ෂයක් අප වැඩ පිළිවෙළට ඇතුළු කිරීම ඉතා වැදගත්ය. ඒ අනුව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වෙනත් ජාතීන් රුසියානුන් බවට පත් කරවතියි යන සැකය අපට මුලිනුපුටා දැමිය හැකියැ''යි පැවසීය. ප්‍රශ්නයේ ''බරපතළ බව'' පෙන්වන සෑහෙන විස්තරයකි. එය ඉතා බරපතළය, මන්දයත්, දේශසීමා දිස්ත්‍රික්කවල ඇති විය හැකි සැක කිරීම් වලින් ඒවා ගළවා ගත යුතු බැවිනි! කතිකයා ප්‍රශ්නයේ හරය පිළිබඳව කිසිවක් කොහෙත්ම නොකියයි. අන්ධ භක්තිය පිළිබඳ චෝදනාව බිඳ හෙළීමට ඔහු කිසිවක් ඉදිරිපත් නොකරයි, එහෙත් එය සම්පූර්ණයෙන්ම සනාථ කරයි. තමා සතු නිගමනයන් නැති බව ඔහු අපට පෙන්වා දෙයි, දේශසීමා දිස්ත්‍රික්ක කියනු ඇතැයි කියන යම් දේ ගැන පමණක් ඔහු අපට කියයි. ඔවුන් කියන හැම දෙයක්ම අසත්‍ය යැයි ඔහුට කියා ඇත. ඒවා ඇත්තද නැත්තද යන්න පිරික්සා බලනු වෙනුවට, ඔහු මෙසේ පිළිතුරු දෙයි: ''ඔවුන් සැක කරනු ඇත.''

ප්‍රශ්නය බරපතළ සහ වැදගත් බව කියමින් එලෙස ඉදිරිපත් කිරීම, ඇත්ත වශයෙන්ම මූලධර්මය පිළිබඳ ප්‍රතිපත්තියක් ඉදිරිපත් කළද, එය කිසිසේත්ම ලීබෙර්ලා, යෙගෝරව්ලා සහ ල්වොව්ලා එහි දකින ප්‍රතිපත්තිය පිළිබඳ ප්‍රශ්නයක් නොවේ. මේ ප්‍රශ්නයේ මූලධර්මය මෙසේය: වැඩ පිළිවෙළේ පොදු සහ මූලික තිසිසය ඒ, ඒ විශේෂ තත්ත්වයන් අනුව, ක්‍රියාවට යෙදවීම පක්ෂ සංවිධානවලට සහ සාමාජිකයින්ට භාර දිය යුතුද, එය ක්‍රියාවේ යෙදවීම සඳහා ඔවුන් වර්ධනය කළ යුතුද නැතිනම්, සැක කරතියි යන හුදු බිය නිසා වැඩ පිළිවෙළ සුළු විස්තරවලින්, විශේෂ නොවැදගත් කරුණුවලින්, පුනරුක්තියෙන් සහ විතණ්ඩවාදයෙන් පිරවිය යුතුද? මේ ප්‍රශ්නයේ මූලධර්මය මෙසේය: විතණ්ඩවාදයට විරුද්ධව කරන සටනේදී මූලික ප්‍රජාතන්ත්‍රවාදී අයිතිය සහ නිදහස සීමා කරතියි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වටහා ගන්නේ (''සැක කරන්නේ'') කෙසේද? විතණ්ඩවාදයට අන්ධ භක්තියෙන් පිදීමෙන්, මිදීමට අප ඉගෙන ගත්තේ කවදද? භාෂා පිළිබඳ මේ අරගලය අප නිරීක්ෂණය කිරීමේදී අපට ඇතිවූ සිතිවිලි එසේ විය.

මේ අරගලයේදී නියෝජිතවරුන්ගේ කාණ්ඩ ගැසීම ඉතා පැහැදිලිව පෙනුණේ නම් අඩ ගසා ඡන්දය දුන් අවස්ථා ගණන අධික නිසාය. මෙලෙස

තෙවරක්ම ඡන්දය දුන්හ. මේ හැම වාරයකදීම ඉස්ක්‍රාවාදීන්ට විරුද්ධව ඉස්ක්‍රාවිරෝධීන්ගේ අරටුවක්ද (ඡන්ද අටකි), ඉතා සුළු උච්චාවචනයක් සහිත මුළු මහත් මධ්‍යස්ථ පිරිසද විය (මාහව්, ල්වොව්, යෙගෝරව්, පපෝව්, මිද්වේදෙව්, ඉවනොව්, ට්සරියොව් සහ බෙලොව් — පසුකී දෙදෙන පමණක් මුලදී යම්තමින් අස්ථිර ගතියක් පාමින් වරෙක මධ්‍යස්ථ වී තවත් වරෙක අප සමග එක් වී ඡන්දය දුන්නද, තෙවැනි වර ඡන්දයේදී ඔවුන්ගේ තත්වය පැහැදිලිවම ස්ථිර විය). ඉස්ක්‍රාවාදීන් අතරින් සමහර අය ඉවත්ව ගියහ. ප්‍රධාන වශයෙන් කොකෝසියානුන්ය (ඡන්ද හයක් සතු තිදෙනෙකි), මෙයට පින්සිදු වන්නට අවසානයේදී අන්ධ භක්තියේ ප්‍රවනතාවයට ජය ලැබිණ. තෙවැනි ඡන්ද විමසීමේදී ප්‍රවනතා දෙකේම ආධාරකරුවන් සිය තත්වය ඉතා පැහැදිලි ලෙස දැන ගත් ඉක්බිතිව ඡන්ද හයක් සතු කොකෝසියානුවෝ තිදෙනෙක් බහුතර ඉස්ක්‍රාවාදීන්ගෙන් වෙන්වී අනිත් පැත්තට ගියහ; ඡන්ද දෙකක් සතු නියෝජිතවරු දෙදෙනෙක් — පසදෝව්ස්කි සහ කෝස්ටිච් — අල්පතර ඉස්ක්‍රාවාදීන්ගෙන් ඉවත් වූහ. මුල් ඡන්ද විමසීම් දෙකේදී පහත නම් සටහන් අය එක්කෝ අනිත් පැත්තට ගියහ, නැතිනම් මධ්‍යස්ථ වූහ: ඉස්ක්‍රාවාදීන්ගේ බහුතරයේ ලේන්ස්කි, ස්තෙපානව් සහ ගොර්ස්කි; සහ අල්පතරයේ දෙයිච්ය. ඉස්ක්‍රාවාදීන්ගෙන් ඡන්ද අටක් අඩුවීම විසින් (ඡන්ද තිස් තුනකින්) ඉස්ක්‍රාවිරෝධීන්ගේ සහ වැනෙන සුලු පුද්ගලයින්ගේ සහභාගයට වැඩි බලයක් ලබා දිණි. සමුළුවේදී කාණ්ඩ ගැසීම නැමැති මේ මූලික සත්‍යය, ව්‍යවස්ථා පළමුවැනි කොටස ඡන්දයට දැමීමේදීද, තෝරාපත් කිරීම්වලදීද (වෙනත් ඉස්ක්‍රාවාදීන් ඉවත් වීමෙන් පමණක්) යළිත් සිදු විය. ඡන්ද විමසීමේදී පරාජයට පත්වූ අය සිය පරාජයේ දේශපාලන හේතූන් ඉදිරියේද, අස්ථිර සහ දේශපාලන වශයෙන් කොඳු ඇටය රහිත පුද්ගලයින් වඩා හොඳින් හෙළි කළ සහ පක්ෂය හමුවේ ඔවුන් වඩාත් නිර්දය ලෙස හෙළිදරවු වීමට හේතු වන මත අතර ඝට්ටනය පිළිබඳ මූලික කරුණු ගැන පරීක්ෂාකාරී ලෙස සිය දෙනෙත් වසා ගැනීම පුදුමයක් නොවේ. භාෂාවල සමානතාවය පිළිබඳ සිද්ධිය මේ ඝට්ටනය වඩාත් පැහැදිලිව අපට පෙන්වා දෙයි, මන්දයත් එවකට මාර්තව්, අකීමව්ගේ සහ මාහව්ගේ ප්‍රශංසාව සහ අනුමැතිය නොලබා සිටි බැවිනි.

## 6. කෘෂක වැඩ පිළිවෙළ

ඉස්ක්‍රාවිරෝධීන්ගේ සහ ''මධ්‍යස්ථ පිරිසේ'' ප්‍රතිපත්ති මූලක අස්ථිරතාවය කෘෂක වැඩ පිළිවෙළ පිළිබඳ විවාදයේදීද සුපැහැදිලි ලෙස පෙනිණි.



මෙයට සමුළුවේ බොහෝ වේලාවක් ගතවිය (වාර්තා 190-226 පිටු). එමෙන්ම එය ඉතා වැදගත් කරුණු කීපයක් ඉදිරිපත් කළේය. බලාපොරොත්තු විය හැකි පරිදි වැඩ පිළිවෙළට විරුද්ධ ව්‍යාපාරය පටන් ගන්නා ලද්දේ (ලීබෙර් සහ යෙගෝරව් සහෝදරවරුන්ගේ සුළු ප්‍රකාශනවලින් ඉක්බිතිව), මර්ටිනව් සහෝදරයා විසින්. ''මේ විශේෂ ඓතිහාසික අසාධාරණයෙන්'' සහනයක් ලබා දීමේ පැරණි තර්කය ඉදිරිපත් කළ ඔහු, ඒ වෙනුවට අප වක්‍ර ලෙස ''වෙනත් ඓතිහාසික අසාධාරණයන් ශුද්ධත්වයට පත් කිරීම සහ වෙනත් දේ කරන බවද කියා සිටියේය.''මේ වැඩ පිළිවෙළේ වැදගත්කම පවා පැහැදිලි නැතැ''යි කී යෙගෝරව් සහෝදරයා ඔහුට එකතු විය. ''මේ වැඩ පිළිවෙළ අප සඳහා වූවක්ද, එනම්, අප ඉදිරිපත් කරන ඉල්ලීම් එය විග්‍රහ කරන්නේද, නැතිනම් අපි එය ජනප්‍රිය කිරීමට කැමති වමුද?'' (!?!?) ලීබෙර් සහෝදරයා තමාත් ''යෙගෝරව් සහෝදරයා ඉදිරිපත් කළ කරුණු ඉදිරිපත් කිරීමට කැමති'' යැයි පැවසීය. තමාට සුපුරුදු සක්‍රිය ලෙසකින් කතා කළ මාහව් සහෝදරයා, ''ඉදිරිපත් කර තිබෙන වැඩ පිළිවෙළේ තේරුම කුමක්ද එහි පරමාර්ථ මොනවද යන්න කතිකයින්ගේ බහුතරයට (?) තීරණාත්මක ලෙස අවබෝධ කර ගැනීමට බැරි වී ඇති'' බැව් පැවසීය. යෝජිත වැඩ පිළිවෙළ ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කෘෂක වැඩ පිළිවෙළක් හැටියට සැලකීම අසීරුය.'' එය... ''ඓතිහාසික අසාධාරණවලින් සහනය දීමේ ක්‍රීඩාවේ සංඥ මාත්‍රයක් පමණක් හඟවයි''; එය කෛරාටික ස්වභාවයේ සහ අතිධාවනකාරීත්වයේ සටහන් වලින් යුක්තය.'' මේ ගැඹුරු චින්තනය න්‍යායික සනාථ කිරීමක් හැටියට ග්‍රාම්‍ය මාක්ස්වාදයේ නිතර දක්නට ලැබෙන නොගැඹුරු නිරූපණයක් සහ අධි සරලතාවයක් ඉදිරිපත් කොට ඇත; ''ගොවීන්ව, සංයුතියෙන් එකීය කොටසක් ලෙසට ගුලි කිරීමට'' ඉස්ක්‍රාවාදීන් සූදනම් වන බව අපට කියති. ''එහෙත් ගොවීන් පංතිවලට බෙදුනේ බොහෝ කලකට පෙරදීය(?) එකම වැඩ පිළිවෙළක් ඉදිරිපත් කිරීම නිසා, නොවැළැක්විය හැකි සේ මුළු මහත් වැඩ පිළිවෙළම කෛරාටික ස්වභාවයක් ගන්නා අතර ක්‍රියාවේ යොදවන විට එය අතිධාවනකාරී වන්නේය'' (202 පිටුව). ''ඉස්ක්‍රාව'' පිළිගැනීමට සූදනම් (මාහව් පිළිගන්නාක් මෙන්ම) නමුදු, එහි ප්‍රවනතාවය සහ එහි න්‍යායික හා උපක්‍රමීය ස්ථාවරය අවබෝධ කැර ගැනීමට අසමත් වූ බොහෝ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අපේ කෘෂක වැඩ පිළිවෙළ පිළිනොගන්නේ මන්ද යන්නට නියම හේතූන් මෙතැනදී මාහව් සහෝදරයා ''නොපැහැදිලි ලෙස පෙන්වා'' දෙයි. මෙය වත්මන් රුසියානු ආර්ථික ක්‍රමය වැනි සංකීර්ණ සහ බහු පාර්ශ්වීය ප්‍රපංචයකට යෙදවීමේදී මාක්ස්වාදය පිරිහෙළීම. නිසා එම වැඩ පිළිවෙළ අවබෝධ කැර ගැනීමට අසමත් විය, දනුදු අසමත් වෙයි. ඒ හැර විස්තර කරුණු පිළිබඳව ඇති මතභේදයන්

නිසා නොවේ. මෙවැනි පහත්-මාක්ස්වාදී දෘෂ්ටි කෝණයකට ඉස්ක්‍රාවිරෝධී කල්ලියේ නායකයෝද (ලීබෙර් සහ මර්ටිනව්ද), ‘‘මධ්‍යස්ථ පිරිසද’’ යෙගොරව් සහ මාහව්ද) අප්‍රමාදව එකඟ වූහ. ‘‘යූෂ්නි රබෝචි’’ කණ්ඩායමේ සහ එය වටා ඇති කණ්ඩායම්වල එක් ආවේණික ලක්ෂණයක් යෙගෝරව් සහෝදරයා විවට ලෙස ප්‍රකාශ කළේය. එනම් ගොවි ව්‍යාපාරයේ වැදගත්කම වටහා ගැනීමට ඔවුන් අසමත් වීමය, සුප්‍රසිද්ධ ගොවි කැරලි කාලයේදී අපේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ දූර්වල අංශය වූයේ එහි වැදගත්කම අධිතක්සේරු කිරීම නොව, එයට විලෝම වශයෙන් එහි වැදගත්කම අව තක්සේරු කිරීම (එය ප්‍රයෝජනවත් ලෙස යෙදවීමට තරම් බලවේග නොසිටීම) බව වටහා ගැනීමට ඔවුන් අසමත් වීමය. ‘‘ගොවි ව්‍යාපාරය කෙරෙහි කතෘ මණ්ඩලය දක්වන මුග්ධ ප්‍රේමයට හවුල්කරුවකු වීමට මට බැරියැ’’ යි යෙගෝරව් සහෝදරයා පැවසීය. ගොවි කලබලවලින් පසුව බොහෝ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු මෙවැනි මෝහනයකට හසුවී සිටිති.’’ එහෙත් අවාසනාවකට මෙන් කතෘ මණ්ඩලය හසුවී සිටින මෙම මෝහනය පිළිබඳව ස්ථිර යමක් කීමට යෙගෝරව් සහෝදරයා වෙහෙසුණේ නැත. ‘‘ඉස්ක්‍රා’’ පුවත්පත පළ කළ ලිපි ආදිය ඉදිරිපත් කිරීමට ඔහු වෙහෙසුණේ නැත. එපමණක් නොව, ‘‘ඉස්ක්‍රා’’ පුවත්පත, සිය තෙවැනි කලාපය මගින් අපේ මුළු කෘෂක වැඩ පිළිවෙළේ සියලු මූලික කරුණු පැහැදිලි කළ බවත්, එය ගොවි කලබලවලට බොහෝ කලින් බවත් ඔහුට අමතක විය. ‘‘ඉස්ක්‍රාව’’ පිළිගැනීම හුදු වචනවලට පමණක් සීමා නොකළ අය එහි න්‍යායික උපක්‍රමීය මූලධර්මවලටද යම්තමින් හෝ වැඩි සැලකිල්ලක් දැක්විය යුත්තාහ!

‘‘නැත. අපට ගොවීන් අතර වැඩි යමක් කළ නොහැකියැ’’යි යෙගෝරව් සහෝදරයා හඬ නගා පවසයි. ඔහු වැඩි දුරටත් එම ප්‍රකාශනය ගැන විස්තර කරමින්, එය කිසියම් ‘‘මෝහනයකට’’ විරුද්ධත්වය ප්‍රකාශ කිරීමක් නොවන බවත්, එහෙත් අපේ තත්ත්වය සම්පූර්ණයෙන්ම නිෂේධ කිරීමක් බවත් පවසයි. ‘‘එහි තේරුම අපේ උද්යෝග පාඨවලට, දේශපාලන අතිධාවනකාරීන්ගේ උද්යෝග පාඨ සමග තරඟ නොකළ හැකි බවය’’ විවිධ පක්ෂවල උද්යෝග පාඨ අතර තරඟයක් දක්වා හැම දෙයක්ම සරල කරන ප්‍රතිපත්ති විරහිත ආකල්පයකට ආවේණික වූ සූත්‍රයකි, මෙය. තාවකාලික පරාජයන් නිසා අධෛර්යමත් නොවී, අපේ උද්ඝෝෂණයට ස්ථාවර ජයක් ලබා දීම සඳහා අප ක්‍රියා කළ යුතු යැයිද, ස්ථාවර ජයක් (අපේ ‘‘තරඟකරුවන්ගේ’’ ඝෝෂාකාරී කෑගැසීම්වලට විරුද්ධව... කෙටි කාලයකට) ලබා ගැනීම වැඩ පිළිවෙළට ස්ථිර පදනමක් නැතිනම් කළ නොහැකි දෙයක් වන්නේ යැයිද (196 පිටුව) කියා සිටින න්‍යායික විස්තරය පිළිබඳව තමා ‘‘සතුටු’’ වී සිටිතියි කතිකයා ප්‍රකාශ කළ ඉක්බිතිව මෙසේ



පවසා ඇත. පැරණි ආර්ථිකවාදයේ පහත් ශික්ෂා පද යළිත් කීමෙන් ඉක්බිතිව, තෘප්තියේ මේ සහතිකය නිසා කෙතරම් ව්‍යාකූලත්වයක් ඇති වී තිබේද, මන්දයත් ‘‘උද්යෝග පාඨවල තරඟය’’ කෘෂක ප්‍රශ්නය පමණක් නොව, මුළු මහත් වැඩ පිළිවෙළ සහ ආර්ථික හා දේශපාලන අරගලයේ වැඩ පිළිවෙළද, උපායයන්ද තීරණය කරන බැවිනි! ‘‘දැනටමත් සෑහෙන තරමක් පොහොසත් ගොවියා සතු අත් හළ ඉඩම්[12] සඳහා පොහොසත් ගොවියා සමග උරෙනුර ගැටී සටන් කිරීමට කෘෂිකාර්මික කම්කරුවා පොළඹවන්නට නුඹලාට බැරියැ’’යි යෙගෝරව් සහෝදරයා පැවසීය.

සෑහෙන තරම් ධනපති පංතිය අත පවතින, අනාගතයේදී තවත් විශාල වශයෙන් එම පංතිය සතුවන දේ සඳහා සටන් කිරීමට නිර්ධන පංතිය ‘‘පොළඹවාලීම’’ කළ නොහැක්කකියි දැඩි ලෙස කියා සිටින අවස්ථාවාදී ආර්ථිකවාදයට නිසැක ලෙසම නෑකම් කියන එම අයි සරළතාවයම අපි යළිත් දකිමු. කෘෂිකාර්මික කම්කරුවා සහ පොහොසත් ගොවියා අතර ඇති පොදු ධනවාදී සම්බන්ධකම්වල රුසියානු විශේෂතාවය අමතක කරන පිරිහෙළීම අපි යළිත් දකිමු. සැබවින්ම, අත් හළ ඉඩම් අද කෘෂිකාර්මික කම්කරුවාත් පාගා දමයි. සිය දාසභාවයෙන් මිදීමට සටන් කිරීම සඳහා ඔහු ‘‘පොළඹවාලීමට’’ වුවමනාවක් නැත. සමහර බුද්ධිමතුන්ව ‘‘පොළඹවාලීමට’’ සිදුවන බව සත්‍යයකි — සිය කාර්යයන් ගැන පුළුල් ලෙස බැලීමට පොළඹවාලීම, විශේෂ ප්‍රශ්න ගැන සාකච්ඡා කිරීමේදී ආකෘතික සූත්‍රයන් ප්‍රතික්ෂේප කිරීමට පොළඹවාලීම, අපේ අරමුණු සංකීර්ණ කරන සහ සංශෝධනය කරන ඓතිහාසික තත්වයන් ගණන් ගැනීමට, පොළඹවාලීමය. මූෂිකයා (ගමයා) මෝඩයෙකියි යනු අවිචාර ලබ්ධියකි, මාර්තව් සහෝදරයා නිවැරදි ලෙස සඳහන් කළ පරිදි (202 පිටුව) මාහව් සහෝදරයාගේ කතාවල සහ කෘෂක වැඩ පිළිවෙළට විරුද්ධවූ අනිකුත් සහෝදරවරුන්ගේ කතාවල දක්නට තිබෙන අවිචාර ලබ්ධියකි, අපේ කෘෂිකාර්මික කම්කරුවන්ගේ ජීවිතයේ සැබෑ තත්වයන් මේ විරුද්ධකරුවන් අමතක කරන්නේ මන්ද යන්න මේ අවිචාර ලබ්ධිය විසින් පමණක් විස්තර කරනු ලැබේ.

කම්කරුවා සහ ධනපතියා අතර ඇති නග්න ප්‍රතිවිරුද්ධතාවයක් දක්වා ප්‍රශ්නය සරළ කිරීමෙන්, අපේ ‘‘මධ්‍යස්ථ පිරිසේ’’ කතිකයෝ, නිතර සිදුවන පරිදි ඔවුන්ගේ මේ පටු බුද්ධිය මූෂිකයා මත පැටවීමට යත්න දරති. සිය පටු පංති දර්ශනයේ සීමා අනුව, මූෂිකයා දක්ෂ මිනිහකු ලෙස මා සුපැහැදිලි ලෙසම සලකන නිසා ඔහු අල්ලා ගැනීමේ සහ බෙද ගැනීමේ සුළු ධනවාදී පරමාදර්ශයට ඔහු පක්ෂ වනු ඇතැයි මම විශ්වාස කරමි’’යි මාහව් සහෝදරයා පැවසීය. මෙතැනදී කරුණු දෙකක් පටලවා ගෙන තිබෙන බව පැහැදිලිය: මූෂිකයාගේ පංති දර්ශනය සුළු ධනවාදී

යැයි විග්‍රහ කිරීම සහ ඔහුගේ දර්ශනය "පටු සීමාවලට" සීමා කිරීම සහ ලඝු කිරීමය. යෙගෝරව්ලාගේ සහ මාහව්ලාගේ වරද රැඳී තිබෙන්නේ මේ ලඝු කිරීම තුළය (නිර්ධන පංතියේ දර්ශනය "පටු සීමාවලට" ලඝු කිරීම මත මර්ටිනව්ලාගේ සහ අකිමව්ලාගේ වරද රඳා පවතින්නාක් මෙනි). සුළු ධනපති පංතියේ දෙආකාර තත්වය නිසාම, සළු ධනපති පංතියේ පංති දර්ශනය අඩු වැඩි වශයෙන් පටු සහ අඩු වැඩි වශයෙන් ප්‍රගතිශීලි බව අපට තර්ක ශාස්ත්‍රය හා ඉතිහාසය උගන්වයි. මූෂිකයාගේ පටුබව ("මෝඩකම") නිසා හෝ ඔහු "දුර්මතයකට" යටවී සිටින නිසා හෝ අප කනසල්ලට පත් නොවී, ඔහුගේ දර්ශනය පුළුල් කිරීම සඳහාත්, ඔහුගේ දුර්මතය මැඩ ඔහුගේ විචාර බුද්ධියට ජය ලබාදීම සඳහාත් අනවරතයෙන් වැඩ කළ යුතුය.

රුසියානු කෘෂක ප්‍රශ්නය පිළිබඳව පිරිහෙළන ලද මාක්ස්වාදී මතය උච්චස්ථානයට පැමිණියේ "ඉස්ක්‍රාවේ" පැරණි කතෘ මණ්ඩලයේ විශ්වාසවත් ආරක්ෂකයා වන මාහව් සහෝදරයාගේ ප්‍රතිපත්ති මූලක කතාවේදී කළ ප්‍රකාශනය අනුවය. එම වචනවලට අත් පොළසන් ලැබුණේ හේතු රහිතව නොවේ... ඒවා සාවඥ අත් පොළසන් බව සැබවි. පොදු යළිබෙදීමේ[13] ව්‍යාපාරය නිසා අප කොහෙත්ම කලබල වී නැතැයිද, මේ ප්‍රගතිශීලි (ධනපති ප්‍රගතිශීලි) ව්‍යාපාරය මැඩීමට අපි ඉදිරිපත් නොවන්නෙමුයි ද කී ප්ලෙහානව්ගේ ප්‍රකාශනය නිසා කෝපයට පත් මාහව් සහෝදරයා "අවසනාවක් හැටියට නම් කළ යුත්තේ කුමක්දැයි මම නොදනිමි"යි පැවසීය. "මෙයට විප්ලවය යැයි නම් කළ හැකි නම් එය විප්ලවවාදී නොවන විප්ලවයකි. මෙය විප්ලවයක් හැටියට නොව ප්‍රතිගාමීත්වය හැටියට නම් කිරීම නිවැරදිය (සිනා), මෙය කලහයකට සමාන විප්ලවයකි... මෙවැනි විප්ලවයක් නිසා අප පස්සට විසිවී යනු ඇත. එවිට අප අද සිටින තත්ත්වයට යළිත් පැමිණීමට අපට සෑහෙන කාලයක් ගත වනු ඇත. ප්‍රංශ විප්ලවය පැවති කාලයට වඩා වැඩි යමක්දැන් අපට ඇත (සාවඥ සිනා), අපට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයක් ඇත්තේය..." ඔව්, මාහව් මෙන් කල්පනා කරන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයක් නැතිනම් මාහව්ලා මත පදනම් වූ මධ්‍යම ආයතන සිනහවට ලක් කිරීමට තරම් වටනේය...

කෘෂක වැඩ පිළිවෙළ විසින් ඉදිරිපත් කරන ලද හුදු න්‍යායික ප්‍රශ්නවලදී පවා දැනටමත් දක්‍ක පුරුදු කාණ්ඩ ගැසීම යළිත් මතුවූ සැටි අපි දකිමු. ඉස්ක්‍රාවිරෝධීහු (චන්ද අටක්) පිරිහෙළන ලද මාක්ස්වාදය ආරක්ෂා කිරීමේ නාමයෙන් පොරයට වන්හ. "මධ්‍යස්ථ පිරිසේ" නායකයෝද යෙගෝරව්ලා සහ මාහව්ලාද නිතරම වරදවා ගනිමින් සහ මංමුලා වෙමින් එම පටු දර්ශනය නැමැති මාවත ඔස්සේ ඔවුන් පසුපස යති. එබැවින් කෘෂක වැඩ පිළිවෙළේ සමහර කොටස්වලට චන්ද විමසීමේදී තිහක් සහ තිස් පහක් පක්ෂව ලැබිණි (පිටු 225 සහ 226); න්‍යාය පත්‍රයේ බුන්ඩ් සංවිධානය පිළිබඳ ප්‍රශ්නයේදීද සංවිධායක කමිටුව පිළිබඳ ප්‍රශ්නයේදීද, "යූෂ්නි රබෝචි" කණ්ඩායම වසා දැමීම පිළිබඳ ප්‍රශ්නයේදීද චන්දය දුන් සංඛ්‍යාව අඩුවැඩි වශයෙන් මෙයට සමාන බව අපි දකිමු. දැනට පැළපදියම් වූ සුපුරුදු හැඩයේ රාමුවට නොසරිලන යම්කිසි ප්‍රශ්නයක් පැන නැගුණු විගසම, විශේෂ සහ අළුත් (ජර්මනුන්ට අළුත්) සමාජ සහ ආර්ථික සම්බන්ධතාවයන්ට මාක්ස්වාදී න්‍යායය ස්වාධීන ලෙස යෙදීමේ ප්‍රශ්නයක් පැන නැගුණු විගසම, එම කාර්ය භාරයන් විසඳාලීමෙහි සමත් ඉස්ක්‍රාවාදීන්ගේ සංඛ්‍යාව, චන්ද සංඛ්‍යාවෙන් පහෙන් තුනක් පමණක් වන අතර මුළු මහත් මධ්‍යස්ථ පිරිසද ලීබෙර්ලා සහ මර්ටිනව්ලා පසු පස යන සැටි පෙනේ. විවිධ මති මාත්‍ර පැහැදිලි ලෙස හෙළි කළ චන්ද විමසීම් බියසුලු ලෙස මගහරිමින් මේ සුපැහැදිලි කරුණ ව්‍යාකූල කිරීමට මාර්තව් සහෝදරයා ඉදිරිපත් වේ.

කෘෂක වැඩ පිළිවෙළ වටා ඇතිවූ විවාදය අනුව සමුළුවේ පහෙන් දෙකොටසකට විරුද්ධව ඉස්ක්‍රාවාදීන්ට සටන් කිරීමට සිදුවූ බව පැහැදිලිය. මෙම ප්‍රශ්නයේදී කොකේසියාවේ නියෝජිතවරු සම්පූර්ණයෙන්ම නිවැරදි ප්‍රතිපත්තියක් අනුගමනය කළහ. ඔවුන් වාසය කළ ප්‍රදේශයේ ප්‍රවේණිදාස ක්‍රමයේ නටබුන් විශාල වශයෙන් තිබීම සහ ඒවායේ ආකාර ඔවුන් හොඳින් දන්නා නිසා, පාසල් කොල්ලන්ගේ වියුක්ත ස්වභාවයෙන් සහ මාහව්ලා තෘප්තියට පත් කළ පුහු විසංසන්දනයන්ගෙන් ඔවුන් සෑහෙන තරමින් ඈත් වූවා විය හැකිය. මර්ටිනව්ට, ලීබෙර්ට, මාහව්ට සහ යෙගෝරව්ට විරුද්ධව ප්ලෙහානව්, ගුසෙව් (යෙගෝරව් සහෝදරයා දරන මතයට සමාන "ගම්බද අපේ වැඩ පිළිබඳව සර්ව අශුභවාදී මත, රුසියාවේ ක්‍රියාකාරී සහෝදරවරුන් අතර නිතර දක්නට තිබේයැ"යි ඔහු පැවසීය) කස්ත්‍රෝව්, කාර්ස්කි, සහ ට්‍රොට්ස්කි සටන් කළහ. කෘෂක වැඩ පිළිවෙළේ විවේචකයින්, "යහපත් චේතනාවෙන් දෙන උපදෙස්" අවරසිකවාදයට ඕනෑවට වඩා යොමුවී සිටින බව ට්‍රොට්ස්කි විසින් නිවැරදි ලෙස පෙන්වා දුන්නේය. සමුළුවේදී දේශපාලන කාණ්ඩ ගැසීම ගැන අප හදරන බැවින්, ඔහුගේ කතාවේදී මෙම කොටසේදී (208 පිටුව) ඔහු ලාන්ගේ සහෝදරයාව යෙගෝරව් සහ මාහව් සමග එක ගොඩකට ඇද දමන විට, ඔහු නිවැරදි නොවී යැයි කිව යුතුය. වාර්තා ඉතා සැලකිල්ලෙන් කියවන ඕනෑම කෙනෙකුට යෙගෝරව්ට සහ මාහව්ට වඩා වෙනස් තත්ත්වයක් ලාන්ගෙ සහ ගෝරින් දැරූ බව පෙනේ. අත් හළ ඉඩම් පිළිබඳව ඉදිරිපත් කිරීමට ලාන්ගෙ සහ ගෝරින් කැමති නොවූහ. අපේ කෘෂක වැඩ පිළිවෙළ පිළිබඳ අදහස ඔවුහු හොඳින් වටහාගත් අතර එය වෙනත් විධියකට ක්‍රියාවේ යෙදවීමට වැර දැරූහ. ඔවුන් කල්පනා කළ ලෙසට වඩාත් නිරවද්‍ය සූත්‍රයක් සඳහා ඔවුහු නිර්මාණශීලී ලෙස ක්‍රියා කළ අතර, සිය යෝජනා ඉදිරිපත්

කිරීමේදී කෘෂක වැඩ පිළිවෙළේ කතිෘවරුන්ට ඒත්තු ගැන්වීමට හෝ ඉස්ක්‍රාවාදීන් නොවන අයට විරුද්ධව, කතිෘවරුන් සමග එක් වීමට හෝ ක්‍රියා කළහ. මේ අය අතර ඇති සමූල වෙනස වටහා ගැනීම සඳහා නිදසුනක් වශයෙන්, මාහව් විසින් ඉදිරිපත් කරන ලද මුළු වැඩ පිළිවෙළ ප්‍රතික්ෂේප කිරීමේ යෝජනාව (212 පිටුව, මෙයට පක්ෂව නව දෙනෙකි, විරුද්ධව තිස් අට දෙනෙකි) නැතිනම් එහි එක්, එක් කරුණු ප්‍රතික්ෂේප කිරීමේ යෝජනාව (216 පිටුව සහ තවත් ඒවා) සමග අත් හළ ඉඩම් පිළිබඳ තමාගේම සූත්‍රයක් ඉදිරිපත් කළ (225 පිටුව) ලාන්ගෙ ගේ යෝජනාව සමග සංසන්දනය කළ යුතුය*.

අවරසිකවාදය මුසුවී ඇතැයි කී තර්ක ගැන මතක් කළ ට්‍රොට්ස්කි සහෝදරයා ''ළංවෙමින් පවතින විප්ලවයේදී අප ගොවීන් සමග සම්බන්ධ විය යුතු යැ''යිද... ''මේ කාර්ය භාරය ඉදිරියේ මාහව්ගේ සහ යෙගෝරව්ගේ සංදේහවාදය සහ දේශපාලන ''දූරදර්ශීභාවය'' ඕනෑම අදූරදර්ශීභාවයකට වඩා හානිකර යැ''යිද පැවසීය. අල්පතරයේ තවත් ඉස්ක්‍රාවාදියකු වන කෝස්ට්ච් සහෝදරයා, මාහව් ''තමා කෙරෙහි සහ තම දේශපාලන ප්‍රතිපත්තිවල ස්ථිරතාවය කෙරෙහි අවිශ්වාසයකින් සිටින බව ඉතා උචිත ලෙස පෙන්වා දුන්නේය. මෙය අපේ මධ්‍යස්ථ පිරිසේ හදවතට වදින කියමනකි. ''සිය සර්ව අශුභවාදය අනුව මාහව් සහෝදරයා යෙගෝරව් සහෝදරයාට සමාන වුවද, මත අනුව ඔවුහු වෙනස් වෙති''යි කෝස්ට්ච් සහෝදරයා වැඩි දුරටත් පැවසීය: ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් දැනටමත් ගොවීන් අතර වැඩ කරන බවත්, හැකි තරම් දුරට ඔවුන්ගේ ව්‍යාපාරය මෙහෙයවන බවත් ඔහු අමතක කරයි. මේ සර්ව අශුභවාදය අපේ වැඩවල පරිමාණය පටු කරයි'' (210 පිටුව).

වැඩ පිළිවෙළ ගැන සමුළුවේ සාකච්ඡාව පිළිබඳ අපේ පිරික්සුම අවසාන කිරීම සඳහා විරුද්ධවාදී ප්‍රවණතාවයන්ට ආධාර කිරීමේ විෂය පිළිබඳව විවාදය ගැන යමක් කීම වටනේය. ''රුසියාවේ දැනට පවතින සමාජ සහ දේශපාලන ක්‍රමයට විරුද්ධව මෙහෙයවන සියලු විරුද්ධවාදී සහ විප්ලවවාදී ව්‍යාපාරවලට'' සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය ''ආධාර කරන බව'' අපේ වැඩ පිළිවෙළ පැහැදිලි ලෙසම කියා සිටී. අප ආධාර කරන්නේ කිනම් විරුද්ධවාදී ප්‍රවණතාවයන්ටද යන්න මේ විශේෂතාවය සෑහෙන තරම් නිවැරදිව පෙන්වන බව කෙනෙකුට සිතිය හැකිය. එහෙත් මෙතැනදීද, අප පක්ෂය තුළ බොහෝ කලක සිට පවතින විවිධ මත එකවරම පෙනෙන්නට විය. මෙතරම් පූර්ණ ලෙස තෝරා බේරා පැහැදිලි කරගත් ප්‍රශ්නයක් පිළිබඳව ''විමතියක් හෝ වැරදි වැටහීමක්'' ඇති වීම

* ගොරින්ගේ කතාව 213 පිටුව



පවා විස්තර කිරීම අමාරු දෙයකි! මෙය වැරදි වැටහීම පිළිබඳව නොව, මතිමාත්‍ර පිළිබඳ ප්‍රශ්නයක් බව පැහැදිලිය. මාහව්, ලීබෙර් සහ මාර්තව් වහාම අනතුරු හඟවා කෙතරම් ''සුංසහිත'' අල්පතරයකට වැටුණේදයත්, මෙය කූටෝපායයක්, ප්‍රයෝගයක්, රාජ්‍යතන්ත්‍රයක් හා වෙනත් යහපත් දේ ලෙසට හැඳින්වීමට මාර්තව් සහෝදරයාට සිදුවීමට බොහෝ දුරට ඉඩ ඇත (ලීග් සමුළුවේ ඔහුගේ කතාව බලන්න). ඔහු එසේ කරනු ඇත්තේ බහුතරයේ සහ අල්පතරයේ ''සුසංහිත'' කණ්ඩායම් ඇති වීමේ දේශපාලන හේතූන් අවබෝධ කර ගැනීමට අපොහොසත් මිනිසුන් ක්‍රියා කරන ආකාරයෙනි.

මාක්ස්වාදය කෙළෙසෙන සේ සරළ කරමින් මාහව් යළිත් පටන් ගෙන ඇත. ''අපේ එකම විප්ලවවාදී පංතිය නිර්ධන පංතියැ''යි ඔහු පවසයි. ඒ අතරම එම නිවැරදි තර්ක මූලයෙන් සැනෙකින්ම ඔහු වැරදි නිගමනයක් කරයි. ''අනිත් අයගෙන් කිසිදු වැඩක් නැත. ඔවුන් පාළු කපන්නන් පමණකි (සිනා). ඔව් මේ පාළු කපන්නෝ අයුතු ප්‍රයෝජන ගැනීමට ඉදිරිපත් වී සිටිති. ඔවුනට ආධාර කරනවාට මා විරුද්ධය''... (226 පිටුව). මාහව් සහෝදරයා සිය අද්විතිය යෙදුමෙන් (සිය ආධාර කරුවන්) බොහෝ දෙනෙකු ලජ්ජාවට පත් කළේය. එහෙත් ලීබෙර් සහ මර්ටීනව් ''විරුද්ධවාදී'' නැමැති වචනය ඉවත දැමිය යුතු යැයි යෝජනා කළ විට සහ ''ප්‍රජාතන්ත්‍රික-විරුද්ධවාදී'' යන වචනය එකතු කරමින් එය සීමා කළ විටත්, ඇත්ත වශයෙන්ම ඔවුහු ඔහු සමග එකඟ වූහ. මර්ටීනව්ගේ සංශෝධනයට විරුද්ධව ප්ලෙහානව් නිවැරදි ලෙස සටන් වැදුණේය. ''අපි ලිබරල්වාදීන්ව විවේචනය කළ යුතු වෙමු''යි ඔහු පැවසීය. ''ඔවුන්ගේ උදාසීනභාවය හෙළිදරව් කළ යුතුය. එය සත්‍යයකි... සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරය හැර අන් සියලු ව්‍යාපාරවල පටුබව සහ සීමාසහිත බව හෙළිදරව් කරන අතර සර්වජන චන්ද බලය නොදෙන ව්‍යවස්ථාවක් වුවද ඒකාධිපති සමග සංසන්දනය කරන විට, පියවරක් ඉදිරියට තැබීමක් හැටියට අප විසින් නිර්ධන පංතියට පැහැදිලි කළ යුතුය. එබැවින් නිර්ධන පංතිය එවැනි ව්‍යවස්ථාවක් වෙනුවට දැන් පවතින ක්‍රමයට කැමති නොවිය යුතුය.'' මර්ටීනව්, ලීබෙර් සහ මාහව් සහෝදරවරු මේ මතයට එකඟ නොවී, සිය මතය තහවුරු කිරීමට ඉදිරිපත් වූහ. අක්සල්රොඩ්, ස්තරවේර්, ට්‍රොට්ස්කි සහ යළිත් වරක් ප්ලෙහානව් මොවුනට වාග් ප්‍රහාරයන් එල්ල කළහ. මෙහිදී මාහව් තමාගේම වාර්තා බිඳ හෙළීමෙහි සමත් විය. පළමුව, (නිර්ධන පංතිය හැරුණු විට) අනිත් පංතීන් ''වැදගැම්මකට නැති බවත්,'' ඒවාට ආධාර දීමට තමා විරුද්ධ බවත් ඔහු පැවසීය. අනතුරුව, ''හරය වශයෙන් ධනපති පංතිය ප්‍රතිගාමී වුවද, නිදසුනක් වශයෙන් ප්‍රවේණිදාස ක්‍රමයට විරුද්ධ අරගලයේදී මෙන් එය නිතර විප්ලවවාදී'' බව පිළිගැනීමට

තරම් ඔහු නිහතමාන විය. ඔහු මෙසේද පැවසීය:“එහෙත් නරක තත්ත්වයෙන් වඩාත් නරක තත්වයට වැටෙන කණ්ඩායම් ඇත. ඒවා හැමදම (?) ප්‍රතිගාමීය. හස්ත කර්මාන්ත කරුවෝ මෙවැනි අය වෙති.” අපේ “මධ්‍යස්ථ පිරිසේ” නායකයින් විසින් ඉදිරිපත් කරන ලද න්‍යායික මිණි මුතුවල තත්ත්වය එසේ විය. පසුව මේ අය කටින් පෙණ උතුරන තෙක්, පැරණි කතෘ මණ්ඩලය ආරක්ෂා කළෝය! ශ්‍රේණි (ගිල්ඩ්) ක්‍රමය ශක්තිමත්ව පැවති බටහිර යුරෝපයේ පවා, නගරවල අනිකුත් මධ්‍යම පංතිය මෙන් ඒකාධිපතිවාදය ඇද හැලෙන අවධියේදී විශේෂ විප්ලවවාදී ආශ්වාදයක් පෙන්වූයේ හස්ත කර්මාන්ත කරුවන්ය! ඒකාධිපතිවාදය ඇද වැටී සිය වසරක් හෝ අඩ සිය වසරක් ගෙවී ගිය පසු අවධියක හස්ත කර්මාන්ත කරුවන් ගැන බටහිර සහෝදරවරුන් කියන දේ ගැන කල්පනා නොකර රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකු යළිත් මෙවැනි ප්‍රකාශ කිරීම අමන කමකි. ධනපති පංතිය සමග සංසන්දනය කරන විට, රුසියාවේ හස්ත කර්මාන්ත කරුවන් දේශපාලන වශයෙන් ප්‍රතිගාමී යැයි ප්‍රකාශ කිරීම, අවිචාරවත් ලෙස කට පාඩම් කිරීමකි.

මේ ප්‍රශ්නය ගැන මර්ටිනව්, මාහව් සහ ලීබෙර් ඉදිරිපත් කළ සංශෝධන ප්‍රතික්ෂේප කිරීම පිළිබඳ වූ චන්ද විමසීම් අවාසනාවකට මෙන් වාර්තා ගත වී නැත. ඉස්ක්‍රාවාදීන්ට විරුද්ධව ඉස්ක්‍රාවිරෝධී කොටස්වල නායකයින්ද “මධ්‍යස්ථ පිරිසේ”* නායකයින්ද මෙහිදි සුපුරුදු ලෙස එක්වී කට්ටි ගැසී ඇති බැව් අපට පැවසිය හැකිය. වැඩ පිළිවෙළ පිළිබඳ සියලු විවාදයන් සම්පිණ්ඩණය කරමින්, මාර්තව් සහෝදරයා සහ නව “ඉස්ක්‍රා” කතෘ මණ්ඩලය දූන් ඉතා ප්‍රවේසම්කාරී ලෙස සඳහන් නොකර මග හරින අදහස්වල මති මාත්‍ර පිළිබඳ මතභේද ගැන පොදු කුතුහලය ඇවිස්සූ විවාදයන් සැම එකකින්ම හෙළිදරව් වූ බව සඳහන් කළ යුතුය.

* එම කණ්ඩායමේම “මධ්‍යස්ථ පිරිසේ” නායකයකු වන යෙගෝරව්, විරුද්ධවාදී ප්‍රවණතාවලට ආධාර කිරීමේ ප්‍රශ්නය ගැන වෙනත් අවස්ථාවකදී, සමාජවාදී විප්ලවවාදීන්[14] පිළිබඳ අක්සල්රොඩ්ගේ යෝජනාව සම්බන්ධයෙන් කතා කළේය (359 පිටුව). වැඩ පිළිවෙළේ සටහන් වී ඇති හැම විරුද්ධවාදී සහ විප්ලවවාදි ව්‍යාපාරයකටම ආධාර දීම සහ සමාජවාදී විප්ලවවාදීන් සහ ලිබරල්වාදීන් කෙරෙහි දක්වන සතුරු ආකල්පය අතර ඇති “ප්‍රතිවිරෝධතාවයක්” යෙගෝරව් සහෝදරයා සොයා ගත්තේය. වෙනත් ආකාරයකින් සහ එම ප්‍රශ්නය ගැන වෙනත් විධියකින් බලමින්,යෙගෝරව් සහෝදරයා මාක්ස්වාදය පිළිබඳ එම පටු සංකල්පයම දක්වා ඇත. (ඔහු “පිළිගෙන ඇති”) “ඉස්ක්‍රාවේ” ප්‍රතිපත්තිය කෙරෙහිද එම අස්ථිර, අර්ධ-සතුරු ආකල්පයම දක්වා ඇත. මාහව්, ලීබෙර් සහ මර්ටිනව් මෙනි.



## 7. පක්ෂ ව්‍යවස්ථා.
## මාර්තව් සහෝදරයාගේ කෙටුම්පත

සමුළුව, වැඩ පිළිවෙළේ සිට පක්ෂ ව්‍යවස්ථා වෙත එළඹුණාය (ඉහත සටහන් කළ ප්‍රශ්නය වන ප්‍රධාන පුවත්පත පිළිබඳව සහ නියෝජිතයින්ගේ බහුතර සංඛ්‍යාවකට අවාසනාවකට මෙන් සතුටුදයක ආකාරයකට ඉදිරිපත් කිරීමට නොහැකිවූ නියෝජිත වාර්තාද අපි අතහැර දමමු). ව්‍යවස්ථා පිළිබඳ ප්‍රශ්නය අප හැමටම ඉතා වැදගත් බව කීම අනවශ්‍යය. “ඉස්ක්‍රාව” මුල සිටම පුවත්පතක් හැටියට පමණක් නොව, සංවිධානාත්මක න්‍යෂ්ටියක් හැටියටද සේවය කර ඇත. හතරවැනි කලාපයේ කතු වැකිය (“පටන්ගත යුත්තේ කොතැනින්ද?”) මගින් “ඉස්ක්‍රා” පුවත්පත සංවිධානය පිළිබඳ සම්පූර්ණ සැලැස්මක් ඉදිරිපත් කළේය*.පුවත්පත විසින් ක්‍රමානුකූල ලෙස සහ ස්ථිර ලෙස මේ සැලැස්ම අවුරුදු තුනක් තිස්සේ ක්‍රියාවට යොද ඇත. පක්ෂයේ දෙවැනි සමුළුව “ඉස්ක්‍රාව”ප්‍රධාන පුවත්පත හැටියට පිළිගත් විට, විෂය පිළිබඳ යෝජනාවේ පූර්විකාවේ කරුණු තුනෙන් දෙකක්ම (147 පිටුව) පැහැදිලිවම මේ සංවිධානාත්මක සැලැස්මට සහ “ඉස්ක්‍රාවේ” සංවිධානාත්මක මතවලට වෙන් කර තිබිණි: පක්ෂයේ ප්‍රායෝගික වැඩ මෙහෙයැවීමේදී එහි ක්‍රියා කලාපය සහ සමගිය ඇති කිරීමේදී එය ඉටු කළ මූලික කොටස. එ නිසා පක්ෂයේ වැඩ සහ පක්ෂය සංවිධානය කිරීමේ සම්පූර්ණ වැඩ කොටසද, පක්ෂය සම්පූර්ණයෙන්ම පුනරුත්ථානය කිරීමේ වැඩ කොටසද, මුළු පක්ෂය විසින් සංවිධානය පිළිබඳව ස්ථිර මත පිළිගන්නා තුරු සහ විධිමත් ලෙස ව්‍යවස්ථාගත කරන තුරු අවසන් වී යැයි ඒ නිසා පිළිගත නොහැකිය. පක්ෂයේ සංවිධානය පිළිබඳ ව්‍යවස්ථා විසින් මේ කාර්ය භාරය සපුරාලන ලදී.

“ඉස්ක්‍රාව” පක්ෂ සංවිධානය පිළිබඳ ප්‍රශ්නයේ පදනම හැටියට ගැනීමට ප්‍රයත්නදැරූ මූලික අදහස් හරය වශයෙන් ගත් කළ දෙකකි. ඒවා මෙසේය: සංවිධානයේ සියලු විශේෂ සහ සවිස්තර ප්‍රශ්න තීරණය

* “ඉස්ක්‍රාව” ප්‍රධාන පුවත්පත ලෙස පිළිගැනීම පිළිබඳව පපෝව් සහෝදරයා කළ කතාවේදී අනිකුත් දේ අතර, ඔහු මෙසේද පැවසීය: “අංක 3 නොහොත් 4 කලාපවල “පටන්ගත යුත්තේ කොතැනින්ද?” යන ලිපිය සිහියට නගා ගනිමි. රුසියාවේ ක්‍රියාකාරී බොහෝ සහෝදරවරු එය සිත් නොගන්නා ලිපියක් ලෙස සිතූහ. අන් සමහරු එය පුදුම එකක් ලෙස සිතූහ. බහුතරය (සමහරවිට පපෝව් සහෝදරයා වටා ඇති බහුතරය) එය බල අභිලාෂී එකක් ලෙස පිළිගත්හ” (140 පිටුව). මගේ දේශපාලන මත බල අභිලාෂී ලෙස හැඳින්වීම මට අළුත් දෙයක් නොවේ. අක්සල්රොඩ් සහ මාර්තව් සහෝදරවරු මෙය යළිත් ඉදිරිපත් කරති.

කිරීමේ විධිය මූලික වශයෙන් විග්‍රහ කරන මධ්‍ය ගතවාදය පිළිබඳ අදහස පළමුවැන්නය; දෘෂ්ටිමය නායකත්වයක් දීම සඳහා පක්ෂයේ පුවත්පතක විශේෂ කාර්යය දෙවැන්නය — විප්ලවීය ප්‍රහාරයන් සඳහා <u>මූලික</u> කඳවුරු විදේශවල පිහිටුවීම සහිතව රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පංති ව්‍යාපාරයේ දැනට පවතින දේශපාලනමය වහල්භාවයේ තත්ත්වයන්ගේ තාවකාලික හා විශේෂ අවශ්‍යතාවයන් සැලකිල්ලට ගන්නාවූ අදහසකි මෙය. පළමුවැනි අදහස — එකම ප්‍රතිපත්ති මූලක දෙය හැටියට සියලු ව්‍යවස්ථා තුළට කාවැද්ද විය යුතුය. දෙවැන්න ස්ථානයේ තාවකාලික තත්වයන් සහ ක්‍රියාකාරීත්වයේ විධිය නිසා අවශ්‍යවූ විශේෂ අදහසකි; මධ්‍යස්ථාන දෙකක් ප්‍රධාන පුවත්පතක් සහ මධ්‍යම කාරක සභාවක් පිහිටුවීම යෝජනා කිරීම නිසා මෙය මධ්‍යගතවාදයෙන් ඈත්වීමක් ලෙස පෙනෙන ආකාරයක් ගැනීමය. පක්ෂ සංවිධානය පිළිබඳ ප්‍රධාන ඉස්ක්‍රාවාදී අදහස් දෙකම ''පටන්ගත යුත්තේ කොතැනින්ද?'' නැමැති ''ඉස්ක්‍රා'' කතුවැකියෙන් (අංක 4) සහ ''කළ යුත්තේ කුමක්ද?'' නැමැති පොත් පිංචෙන් මවිසින් වර්ධනය කරන ලදී. ''සහෝදරයකුට ලිපියක්'' නැමැති කෘතිය තුළින්, ව්‍යවස්ථා මාලාවක ආකාරයෙන් අවසානයේදී එය සවිස්තර ලෙස පැහැදිලි කරනු ලැබීය. ''ඉස්ක්‍රාව'' පිළිගැනීම හුදෙක් නාම මාත්‍ර නොවී නම්, සම්ප්‍රදායික වදනක් නොවීනම්, කිරීමට ඉතිරිව තිබුණේ, ව්‍යවස්ථා ඡේදවල යෙදුම් සකස් කිරීම පමණකි. ''සහෝදරයකුට ලිපියක්'' නැමැති කෘතියේ සහ පක්ෂයේ ව්‍යවස්ථාවල ඇති සංවිධානය පිළිබඳ අදහස්වල පූර්ණ සර්වසම භාවය ඔප්පු කිරීමට ඒ දෙක සංසන්දනය කිරීම පමණක් ප්‍රමාණවත් යැයි එම පොත් පිංචේ මම නව මුද්‍රණයේ සංඥාපනය මගින්, දැනටමත් පෙන්වාදී ඇත්තෙමි.

සංවිධාන පිළිබඳ ව්‍යවස්ථා ගැන ''ඉස්ක්‍රාවේ'' අදහස් ඉදිරිපත් කිරීමේදී මාර්තව් සහෝදරයා විසින් මතක් කරන ලද එක්තරා සිද්ධියක් ගැන විස්තර කිරීමට සිදු වී ඇත. ...ලීග් සමුළුවේදී මාර්තව් සහෝදරයා මෙසේ පැවසීය: ''...මේ කොටස (එනම් 1 කොටස) පිළිබඳව මගේ අවස්ථාවාදය ලෙනින් කෙතරම් බලාපොරොත්තු නොවූ දෙයක්ද යන්න සත්‍යමය ප්‍රකාශනයක් විසින් ඔබට පෙන්වා දෙනු ඇත (58 පිටුව). සමුළුවට මාස එකහමාරකට හෝ දෙකකට කලින් මම මගේ කෙටුම්පත ලෙනින්ට පෙන්වීමි. එහි පළමුවැනි කොටස යෙදුම් ගත කර තිබුණේ සමුළුවේදී ඉදිරිපත් කළ ආකාරයටමය. මගේ කෙටුම්පත වැඩි විස්තර සහිත යැයි කියමින් ලෙනින් එයට විරුද්ධ විය. පක්ෂ සාමාජිකත්වය විග්‍රහ කරන පළමුවැනි කොටස පමණක් තමාගේ සිත ගත් බවත්, එය සමහර වෙනස්කම්වලට භාජනය කොට තමාගේ ව්‍යවස්ථාමාලාවට ඇතුලත් කර ගන්නා බව ලෙනින් මට පැවසීය. මන්දයත් මගේ යෙදුම් යහපත් නොවන බව ඔහු අදහස් කළ බැවිනි. ඒ අනුව ලෙනින් මගේ යෙදුම් ගැන බොහෝ කලෙක සිට දැන සිටියේය. මේ විෂය ගැන මගේ අදහස්ද ඔහු එලෙසම දැන සිටියේය. ඒ අනුව මා සමුළුවට ආවේ මුකවාඩමක් ඇතිව නොවේ, මගේ අදහස් මම නොසැහවීමි. අන්‍යොන්‍ය තෝරා පත් කර ගැනීමටත්, මධ්‍යම කාරක සභාවට සහ ප්‍රධාන පුවත්පතට ආදියට තෝරාපත් කර ගැනීමේදී ඒකමතිකත්වය පිළිබඳ ප්‍රතිපත්තියටත් මා විරුද්ධ වන බව මම ඔහුට කල් ඇතිව දන්වා සිටියෙමි''.

අන්‍යොන්‍ය තෝරා පත් කිරීමට විරුද්ධ වන බව දැන්වීම ගැන, එම ප්‍රශ්නයට අයත් නියමිත ස්ථානයේදී සැබෑ තත්ත්වය මම පහද දෙන්නෙමි. මාර්තව්ගේ ව්‍යවස්ථා පිළිබඳව ''විවෘත මුකවාඩම''ගැන අපි සොයා බලමු. ලීග් සමුළුවේදී ඔහුගේ අවාසනාවන්ත කෙටුම්පත (සමුළුවේදී ඔහු සිය කෙටුම්පත ඉල්ලා අස්කර ගත්තේ ඔහු විසින්ම එය අවාසනාවන් එකක් හැටියට හඳුන්වමිනි, එහෙත් සමුළුවෙන් ඉක්බිතිව ඔහු එය යළිත් එළියට ගෙනාවේ ඔහුට ආවේණික ස්ථිර ගතියෙන් යුක්තවය) පිළිබඳ සිද්ධිය මම සිහියට නගා ගනිමි. නිතර මාර්තව්ට සිදුවන පරිදි, ඔහුට බොහෝ දේ අමතක වූ අතර, ඔහු නොයෙකුත් දේ පටලවා ගත්තේය. පෞද්ගලික කතාබහ ගැන සඳහන් කිරීම සහ තම ස්මෘති ශක්තිය කෙරෙහි විශ්වාසය තැබීම වැනි දෙයින් ප්‍රවේසම් වන සේ මාර්තව්ට අනතුරු හැඟවීමට ඕනෑ තරම් අවස්ථා තිබිණැයි කෙනෙකුට සිතිය හැකිය (තමන්ට වාසිදායක දේ ගැන පමණක් සමහරු ඉබේටම මතක් කරති!) ඒ කොයිහැටි වුවද, මාර්තව් සහෝදරයා වෙනත් දෙයක් නැති නිසා අසතුටුදායක කරුණු ප්‍රයෝජනයට ගෙන ඇත. අද ප්ලෙහානව් සහෝදරයා පවා ඔහු අනුකරණය කිරීමට පටන් ගෙන ඇත. අයහපත් නිදසුනක් බෝවන රෝගයකට සමාන විය හැකිය.

මාර්තව්ගේ කෙටුම්පතේ පළමුවැනි කොටසේ ''අදහසට'' මා ''කැමති'' නොවීය, මන්දයක් සමුළුවට ඉදිරිපත් කළ ඔහුගේ කෙටුම්පත <u>අදහස් වලින්</u> තොර වූ බැවිනි. ඔහුගේ ස්මෘති ශක්තිය ඔහු පාවා දී ඇත. මාර්තව්ගේ කෙටුම්පත මගේ ලියවිලි ගොඩක තිබී සොයා ගැනීමට තරම් මම වාසනාවන්ත වීමි, එම කෙටුම්පතේ ''පළමුවැනි කොටස යෙදුම් ගත කොට ඇත්තේ සමුළුවේදී ඔහු <u>යෝජනා කළ ආකාරයට නොවේ!''</u> ඔහුගේ ''විවෘත මුකවාඩම'' ගැන කිව හැක්කේ එපමණකි!

මාර්තව්ගේ කෙටුම්පතේ පළමුවැනි කොටසින් මෙසේ කියැවෙයි: ''රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ සාමාජිකයෙක් යනු පක්ෂයේ වැඩ පිළිවෙළ පිළිගන්නාවූත්, පක්ෂ අවයව වල පාලනයේ

සහ මෙහෙයැවීම යටතේ (sic!*) පක්ෂයේ පරමාර්ථ මුදුන් පමුණුවා ගැනීම සඳහා ක්‍රියාශීලි ලෙස වැඩ කරන්නාවූත් පුද්ගලයෙකි.''

මගේ කෙටුම්පතේ පළමුවැනි කොටස මෙසේය: ''පක්ෂයේ සාමාජිකයෙක් යනු, පක්ෂයේ වැඩ පිළිවෙළ පිළිගන්නාවූත්, පක්ෂයට මුදල්වලින් සහ එක් පක්ෂ සංවිධානයකට පෞද්ගලිකව සහභාගීවීමෙන් ආධාර කරන්නාවූ පුද්ගලයෙකි''.

මාර්තව් විසින් සමුළුවට ඉදිරිපත් කරනු ලැබ, සමුළුව විසින් සම්මත කර ගනු ලැබූ පළමුවැනි කොටස මෙසේය: ''රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ සාමාජිකයකු යනු පක්ෂයේ වැඩ පිළිවෙළ පිළිගන්නාවූත්, පක්ෂයට මුදලින් ආධාර කරන්නාවූත්, එහි එක් සංවිධානයක මග පෙන්වීම යටතේ එයට නිතිපතාම පෞද්ගලිකව ආධාර දෙන්නාවූත් පුද්ගලයෙකි''.

මෙසේ එකට එකක් සසඳා බැලීමේදී මාර්තව්ගේ කෙටුම්පත අදහස්වලින් තොරවූවක් බවත්, එය හුදු හිස් වාග් පාඨයක් පමණක් බවත් පැහැදිලිව පෙනේ. පක්ෂ සාමාජිකයින් පක්ෂ සංවිධානවල පාලනය සහ මගපෙන්වීම යටතේ වැඩ කළ යුතු බව කිව යුතු දෙයක් නොවේ; එය එසේ විය යුතුමය. කිසිවක් නොකියා කතා කිරීමට කැමති අයත්, පල්හෑලිවලින් සහ නිලධාරීවාදී සූත්‍රවලින් (එනම්, වැඩවලට කිසිදු ප්‍රයෝජනයක් නැති, නමුදු ප්‍රදර්ශනයට ප්‍රයෝජනවත් යැයි කියනු ලබන) ''ව්‍යවස්ථා'' ගිල්වා දැමීමට ආශා කරන අයත් පමණක් ඒ ගැන කතා කරති. පළමුවැනි කොටසේ අදහස පෙනෙන්නේ ප්‍රශ්නය ඉදිරිපත් කළ විට පමණකි: කිසිම පක්ෂ සංවිධානයකට අයත් නොවන පක්ෂ සාමාජිකයින්ව සැබැවින්ම මෙහෙයැවීමට පක්ෂයේ සංවිධානවලට පුළුවන්ද? මේ අදහස පිළිබඳව සේයා මාත්‍රයක්වත් මාර්තව් සහෝදරයාගේ කෙටුම්පතේ නැත්තේය. ඒ හේතුවෙන් මේ විෂය පිළිබඳ මාර්තව් සහෝදරයාගේ ''මත'' දැන ගැනීමට මට නොපුළුවන් විය. මන්දයත්, මාර්තව් සහෝදරයාගේ කෙටුම්පතේ මේ විෂය පිළිබඳව කිසිදු මතයක් නැති බැවිනි. සත්‍ය කරුණු පිළිබඳ මාර්තව් සහෝදරයාගේ ප්‍රකාශනය අවුලක් බව ඔප්පු විය.

මාර්තව් සහෝදරයා ගැන අනිත් අතින් මෙසේ කිව හැකිය, මගේ කෙටුම්පතින් ඔහු ''මේ විෂය පිළිබඳ මගේ මත දැන ගත්'' බවත්, සමුළුවට සති දෙකකට හෝ තුනකට පෙර මගේ කෙටුම්පත හැම කෙනෙකුටම පෙන්වූවද කතෘ මණ්ඩලයේදී හෝ මගේ කෙටුම්පත පමණක් දත් නියෝජිතයින්ට කතා කිරීමේදී හෝ ඔහු එයට විරුද්ධත්වය ප්‍රකාශ නොකළ බවත්, ඒවා ප්‍රතික්ෂේප නොකළ බවත් කිව හැකිය. එපමණක් නොව,

* — එසේම! — සංස්කාරක



සමුළුවේදී මගේ කෙටුම්පත් ව්‍යවස්ථා ඉදිරිපත් කළ විට* සහ ව්‍යවස්ථා කමිටුව තෝරා පත් කිරීමට පෙර ඒවාට පක්ෂව මා කතා කළ විටදීත්, මාර්තව් සහෝදරය ඉතා පැහැදිලි ලෙස මෙසේ පැවසීය: ''ලෙනින් සහෝදරයාගේ නිගමනයන් සමග මම එකඟ වෙමි. කරුණු දෙකක් ගැන පමණක් මම ඔහු සමග එකඟ නොවෙමි (අවධාරණය මවිසිනි) — මණ්ඩලය තෝරා ගැනීමේ ආකාරයට සහ එකමතිකව තෝරා එකතු කිරීම ගැනය (157 පිටුව). පළමුවැනි කොටස පිළිබඳ මතභේද ගැන මෙතෙක් එක් වචනයකුදු පවසා නැත.

මාර්තව් සහෝදරයා වැටලූ තත්ත්වය පිළිබඳ සිය පොත් පිංච තුළින් යළිත් වරක් සවිස්තර ලෙස ඔහුගේ ව්‍යවස්ථා මාලාව ගැන මතක් කරයි. නොවැදගත් විස්තර කීපයක් හැරුණු විට, ඔහුගේ ව්‍යවස්ථා මාලාව පිළිගැනීමට ඔහු දැන් වුවද (පෙබරවාරි 1904 — නව මාස තුනකින් මොනවා වේදැයි අපි නොදනිමු) සූදනම් බව අපට කියයි. ''මධ්‍යගතවාදයේ අධික පෝෂණය ඔහු පැහැදිලි ලෙසම අනුමත නොකරයි'' (IV පිටුව). තමා මේ කෙටුම්පත සමුළුවට ඉදිරිපත් නොකළ හේතුව ගැන මාර්තව් සහෝදරයා දැන් විස්තර කරයි. පළමුවෙන්ම එය ඔහුගේ '' ''ඉස්ක්‍රා'' පුහුණුව නිසා ඔහු ව්‍යවස්ථාවලට පිළිකුල් කිරීමට පෙළඹීමය'' (තමාට රුචි වන විට මාර්තව් සහෝදරයා ''ඉස්ක්‍රා'' නැමති වචනයේ තේරුම හුදු පටු කවයක ආස්වාදයක් හැටියට නොව, ඉතාම ස්ථිර නොසැලෙන ප්‍රවණතාවයක් ලෙස පිළිගනී! මාර්තව් සහෝදරයා අවුරුදු තුනක් තිස්සේ ලැබූ ''ඉස්ක්‍රා'' පුහුණුව විසින්, පොදුවේ සම්මත කරගත් ව්‍යවස්ථා උල්ලංඝ-

* වාර්තා කමිටුව සිය උප ග්‍රන්ථය XI මගින් ''ලෙනින් විසින් සමුළුවේදී ඉදිරිපත් කළ'' කෙටුම්පත් ව්‍යවස්ථා ප්‍රකාශයට පත්කොට ඇත (393 පිටුව). මෙහිදී වාර්තා කමිටුවට තරමක් පැටලී ඇති බැව් පෙනේ. එය මගේ මූලික කෙටුම්පත ව්‍යාකූල කර ඇත (කෘතීන් එකතුව 6 වෙළුම, 476—78 පිටු. — සංස්කාරක). මෙය සමුළුවේදී ඉදිරිපත් කළ කෙටුම්පත සමග සමුළුවේ සියලු නියෝජිතයින්ට පෙන්වන ලදී (සමුළුවට පෙර බොහෝ දෙනෙකුටද පෙන්වන ලදී). වාර්තා කමිටුව දෙවැනි කෙටුම්පත වෙනුවට පළමුවැන්න ප්‍රකාශ කොට ඇත. මගේ කෙටුම්පත් පිළියෙළ කරමින් සිටින සියලු අවධිවලදී වුවද, ඒවා පළ කිරීම ගැන මම විරුද්ධ නොවෙමි. එහෙත් ව්‍යාකූල කිරීමට කිසිදු අවශ්‍යතාවයක් නැත. ව්‍යාකූලත්වයක් ඇති කරන ලදී, මන්දයත් පපෝව් සහ මාර්තව් (154 සහ 157 පිටු) සමුළුවේදී ඉදිරිපත් කරන ලද පළමුවැනි කෙටුම්පතේ යෙදුම් විවේචනයට ලක් කළ බැවිනි. මෙය වාර්තා කමිටුව විසින් පළ කරන ලද කෙටුම්පතට ඇතුලත් වී නැතිය. (394 පිටුව, 7 සහ 11 කොටස්) වැඩි ප්‍රවේසමකින් යුතුව මා සටහන් කරන පිටු සංසන්දනය කිරීමෙන් වරද ලෙහෙසියෙන් සොයා ගත හැකිව තිබිණි.

ණය කිරීම සාධාරණ යැයි පිළිගැනීමේ හැකියාවක් ඇති බුද්ධිමතුන්ගේ අස්ථිර මානසිකත්වය ප්‍රකාශ කිරීමේ සමත් අරාජිකවාදී වාක්‍ය ඛණ්ඩය පිළිකුල් කිරීමට ඔහු නොපෙළඹවීම කනගාටුවට කරුණකි). දෙවනුව, " "ඉස්ක්‍රාව" විසින් සාදන ලද මූලික සංවිධානාත්මක න්‍යෂ්ටියේ උපක්‍රමයට කිසිදු විස්වනයක් ඉදිරිපත් කිරීමෙන් වැළකී සිටීමට" මාර්තව් සහෝදරයාට අවශ්‍ය වූ බැව් ඔබට පෙනෙනු ඇත. එකිනෙකට ඇති සම්බන්ධතාවය අනුව නම් මෙය අපූරුය! පළමුවැනි කොටස අවස්ථාවාදී ලෙස යෙදුම්ගත කිරීම ගැන හෝ මධ්‍යගතවාදයේ අධික පෝෂණය ගැන හෝ ප්‍රතිපත්ති මූලක ප්‍රශ්නයකදී මාර්තව් සහෝදරයා විස්වනය ගැන කෙතරම් බියවිදයත්, (ඉතාම පටු කවවාදී දෘෂ්ටි කෝණය අනුව නම් මෙය ඉතා භයානකය) කතිෘ මණ්ඩලය වැනි න්‍යෂ්ටියකට පවා ඔහු සිය මතභේද ඉදිරිපත් නොකළේය! මධ්‍යම මණ්ඩලවල සංයෝජනය පිළිබඳ ප්‍රායෝගික ප්‍රශ්නයේදී මාර්තව් සහෝදරයා "ඉස්ක්‍රා" සංවිධානයේ (සැබෑ මූලික සංවිධානාත්මක න්‍යෂ්ටිය) බහුතරයේ චන්දයට විරුද්ධව බුන්ඩ් හා "රබෝචිය දියල" සංවිධානවල ආධාරය පැතීය. ඔහුගේ වාක්‍ය ඛණ්ඩවල විස්වනය, විනිශ්චය කිරීම සඳහා ඉතා හොඳ දක්ෂතාවයක් ඇති අය විසින් ප්‍රශ්නය තක්සේරු කිරීමේදී "කව ආශ්වාදය" ප්‍රතික්ෂේප කිරීම සඳහා පමණක්, quasi- කතිෘ මණ්ඩලයේ* ආරක්ෂාව සඳහා කව ආස්වාදයක් ඇද ගැනීමය. මෙහි ඇති විස්වනය මාර්තව් සහෝදරයා ගණන් නොගනී. ඔහුට දඬුවම් කිරීමක් වශයෙන් ඔහුගේ කෙටුම්පත් ව්‍යවස්ථා සම්පූර්ණයෙන් ඉදිරිපත් කරමු. ඒවා කිනම් අදහසක් සහ කිනම් අධික-පෝෂණයක් හෙළිකරන්නේද යන්න අපේ පැත්තෙන් අපි සටහන් කරමු**:

"පක්ෂ ව්‍යවස්ථාව පිළිබඳ කෙටුම්පත. — I. පක්ෂයේ සාමාජිකත්වය. — 1) රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ සාමාජිකයකු යනු පක්ෂයේ වැඩපිළිවෙළ පිළිගන්නාවූද, පක්ෂයේ පාලනය හා මෙහෙයැවීම යටතේ එහි පරමාර්ථ මුදුන් පමුණුවා ගැනීම සඳහා ක්‍රියාශීලි ලෙස වැඩකරන්නාවූද පුද්ගලයෙකි. — 2) පක්ෂයේ අයිතිවාසිකම් වලට පටහැණි ලෙස ක්‍රියාකරන සාමාජිකයෙකු පක්ෂයෙන් නෙරපා දැමීම පක්ෂයේ මධ්‍යම කාරක සභාව විසින් තීරණය කළ යුතුය. [නෙරපා දැමීම පිළිබඳ තීරණය, එයට අදාළ හේතු සහිතව ආරක්ෂා සහිත ලෙස පක්ෂයේ ලිපි ගොනුවල අමුනා තැබිය යුතු අතර ඉල්ලීම අනුව සෑම පක්ෂ කමිටුවකටම එය සැපයිය යුතුය. සාමාජිකයෙකු පක්ෂයෙන් නෙරපා දැමීමට

* — කතිෘ මණ්ඩලයක් සේ පෙනෙන. — සංස්කාරක

** අවාසනාවකට මෙන් මාර්තව් සහෝදරයාගේ කෙටුම්පතේ මුල් පිටපත මට සොයා ගත නොහැකි විය. එය කොටස් හතළිස් අටකින් යුක්තවූ අතර නොවැදගත් බාහිර චාරිත්‍රවලින් එය වඩාත් "අධික-පෝෂණයට" භාජනය වී තිබිණි.



මධ්‍යම කාරක සභාව කළ තීරණය, පක්ෂ කමිටු දෙකක හෝ ඊට වැඩි ගණනක ඉල්ලීම පරිදි පක්ෂ සමුළුවට අභියාචනය කළ හැකිය]"...පැහැදිලි ලෙසම තේරුම්, "අදහස්" අතින් පමණක් නොව, පක්ෂයෙන් නෙරපා දැමීමේ තීරණයක් ස්ථිර ලෙස ආරක්ෂා කළ යුත්තේ කිනම් අවස්ථාවලදීද, නැතිනම් පක්ෂයේ සාමාජිකයෙකු අස්කිරීම පිළිබඳ මධ්‍යම කාරක සභාවේ (පොදුවේ එහි සියලු තීරණ පිළිබඳව නොවේ) තීරණයට විරුද්ධව පක්ෂ සමුළුවට අභියාචනය කළ හැක්කේ කිනම් තත්වයන් යටතේද යන්න ගැන රීතිවල අද්විතිය විශේෂිතයක් වැනි ස්ථිර කොන්දේසි හෝ අවශ්‍යතාවයන් පවා නැති කොටස් මම හතරැස් ඉරි සහිත වරහන් වලින් හඳුන්වමි. මෙය සැබවින්ම වචන හරඹයේ අධික පෝෂණයකි, නැතිනම් සැබෑ නිලධාරිවාදී බාහිර චාරිත්‍රයකි. මෙය අනවශ්‍ය, කල් ඇතිවම වැදගැම්මකට නැති, නුවමනා රෙකුලාසි පැනවීමේ පනත් සහ කොටස් වන්නේය. "... II. පළාත්බද මණ්ඩල.— 3) පළාත් බද වැඩවලදී පළාත්බද මණ්ඩල පක්ෂය නියෝජනය කරයි..." (අළුත්ය එමෙන්ම බුද්ධිමත්ය!) "... 4) [පක්ෂ සමුළු කාලයේදී පැවැති සියලු කමිටු (මණ්ඩල) පිළිගෙන තිබෙන බැවින් ඒවා සමුළුවේදී නියෝජනය කර ඇත].—5) 4වැනි කොටසේ සඳහන් පක්ෂ කමිටුවලට වඩා අමතර ඒවා මධ්‍යම කාරක සභාව විසින් පත්කළ යුතුය [යම්කිසි නියමිත පළාත්බද සංවිධානයක ඇති සාමාජික සංඛ්‍යාව කමිටුවක් ලෙස ස්ථිර කිරීම හෝ පසුකී සංවිධානය ප්‍රතිසංස්කරණය කර පළාත්බද කමිටුවක් පිහිටුවීම හෝ එය විසින් කළ යුතුය]. — 6) එකතු කිරීම මගින් කමිටුවලට සාමාජිකයින් එකතු කර ගත හැකිය. — 7) කිසියම් පළාත්බද කමිටුවක සාමාජික සංඛ්‍යාවෙන් තුනෙන් පංගුවකට නොවැඩි සංඛ්‍යාවක්ම, එම කමිටුවට ඇතුළු කිරීමට (එය දන්නා පරිදි) මධ්‍යම කාරක සභාවට බලය ඇත්තේය..." නිලධාරිවාදයේ අනගිතම නිදසුනකි. තුනෙන් පංගුවකට නොවැඩි සංඛ්‍යාවක් යනු කුමක්ද? මෙහි අදහස කුමක්ද? මෙලෙස ඇතුළු කිරීම නිතර නිතර කළ හැකි බව පෙනෙන්ට තිබියදී, කිසිවක් සීමා නොකරන සීමා කිරීමක් ඇති කිරීමේ තේරුම කුමක්ද? "... 8) [පළාත්බද කමිටුවක් විසිරයාම හෝ හිංසනය විසින් කඩාබිඳ දැමූවිට" (මෙහි තේරුම සියලුම සාමාජිකයින් සිරභාරයට ගෙන නැති බවද?) මධ්‍යම කාරක සභාව එය යළිත් පිහිටුවයි]. (7 වැනි කොටස ගැන ගණන් ගන්නේ නැතිවද? සිය රට වැසියනට සතියේ දවස්වලදී වැඩ කිරීමටත්, උත්සව දවස්වලදී නිවාඩු ගැනීමටත් කියන යහපත් හැසිරීම පිළිබඳ රුසියන් නීති සමග 8 වැනි කොටස සමාන බවක් මාර්තව් සහෝදරයාට නොපෙනෙන්නේද?) "... 9) [පක්ෂයේ වුවමනාවන් සමග යම්කිසි ප්‍රාදේශීය කමිටුවක් එකිනෙකට පරස්පර විරෝධී නම්, එහි සංයෝජනය වෙනස් කරන ලෙස මධ්‍යම කාරක සභාවට දන්වා සිටීමට ඊළඟ පක්ෂ සමුළුවට පුළුවන් කමක් ඇත්තේය. එවැනි අවස්ථාවකදී ප්‍රස්තුත කමිටුව විසුරුවා හැරීම සහ එම පළාතේ වාසය කරන පාක්ෂික සහෝදරවරුන් එයට යටත්වී* වැඩකිරීමෙන් ඔවුන් නිදහස් කිරීම කළ යුතුය."]

* අක්සල්රොඩ් සහෝදරයාගේ අවධානය මේ වචනයට යොමු කරනු කැමැත්තෙමු. ඇයි, මෙය භයානකය! කතු මඬුල්ලක් වෙනස් කිරීම දක්වා... එතරම් දුර දිගක් දක්වා යන "ජැකොබින්වාදයේ මුල් මේවාය...

... මේ කොටසේ ඇති නියමය, රුසියානු නීති සංග්‍රහයේ පහත සටහන් නියමය මෙන්ම ඉතා ප්‍රයෝජනවත්ය: බේබදුකම සියලු දෙනාටත්, හැම එකකුටමත් තහනම්ය. ''... 10) [පක්ෂයේ සියලු ප්‍රචාරක, උද්ඝෝෂණ සහ සංවිධානාත්මක වැඩ, ඒ ඒ පළාත්වල, පළාත්බද කමිටු මගින් මෙහෙයැවිය යුතුය. තමන්ට නියම කර ඇති පොදු පාක්ෂික කාර්යයන් ඉටු කිරීමේදී, පක්ෂයේ මධ්‍යම කාරක සභාවට සහ පක්ෂයේ මධ්‍යම පුවත්පත්වලට ආධාර කිරීමට හැම දෙයක්ම කළ යුතුය.]'' මැදෑ! සියලු ශුද්ධ වන්තයින්ගේ නාමයෙන් මේ කුමක් සඳහාද?.. 11) [''පළාත්බද සංවිධානයක අභ්‍යන්තරික විධිවිධාන, පක්ෂ කමිටුව සහ එයට යටත් කාණ්ඩ අතර ඇති අන්‍යොන්‍ය සම්බන්ධකම්'' (අක්සල්රොඩ් සහෝදරයා, ඔබට එය ඇසෙනවාද?) ''සහ ඒවායේ නීත්‍යානුකූලභාවයේ සහ සෛවරීත්වයේ සීමා'' (නීත්‍යානුකූලභාවයේ සීමා සෛවරීත්වයේ සීමාවලට සමාන නොවන්නේද?) ''මේවා සියල්ල ගැන කණ්ඩායම්වල බලතල පිළිබඳව තීරණ කමිටුව විසින්ම ගෙන ඒවා ගැන පක්ෂයේ මධ්‍යම කාරක සභාවට සහ මධ්‍යම පුවත්පතේ කතෘ මණ්ඩලයට දැන්විය යුතුය.]'' (අමතක කිරීමකි: මේ ලිපි, ලියවිලි ගොනු කළ යුත්තේ කොහේදැයි සටහන් කර නැත.)... ''12) [කොමිටිවලට යටත් වී ඇති සියලු කණ්ඩායම් වලට, එමෙන්ම පෞද්ගලික පාක්ෂිකයින්ටද ඕනෑම විෂයයක් පිළිබඳ තම රෙකමදරු සහ අදහස් මධ්‍යම කාරක සභාවටද, මධ්‍යම පුවත්පත් වලටද යවන ලෙස ඉල්ලා සිටීමට බලයක් ඇත්තේය]. — 13) පළාත්බද පක්ෂ කමිටු සිය ආදයම්වලින් මධ්‍යම කාරක සභාවේ අරමුදල්වලට පරිත්‍යාග කළ යුතුය, එලෙස පරිත්‍යාග කළ යුතු අරමුදල්වල ප්‍රමාණය මධ්‍යම කාරක සභාව විසින් නියම කරනු ලැබේ. —III. රුසියන් බස හැරුණු විට වෙනත් භාෂාවලින් උද්ඝෝෂණ ගෙනයාම සඳහා සංවිධාන. — 14) [රුසියානු නොවන භාෂාවලින් උද්ඝෝෂණය ගෙනයාම සඳහාද, එවැනි උද්ඝෝෂණ ගෙනයාම සඳහා රුසියානුන් කම්කරුවන් සංවිධානය කිරීම සඳහාද එවැනි විශේෂ උද්ඝෝෂණයක් සහ වෙනත් සංවිධාන අවශ්‍ය හා උචිත ස්ථානවල ඒවා පිහිටුවාලිය යුතුය.] — 15) එවැනි අවශ්‍යතාවයක් තිබේද යන්න තීරණය කරන්නේ පක්ෂයේ මධ්‍යම කාරක සභාව විසිනි, මතභේදයක් ඇතිවූ විට එම තීරණය පක්ෂයේ සමුළුව විසින් ගත යුතුය''... මේ කොටසේ මුල් භාගය, ව්‍යවස්ථාවල ඊළඟට එන කොටස් නිසා අනවශ්‍ය වෙයි. මතභේදයන් ගැන කියන දෙවැනි කොටස හාස්‍ය රසය උපදවයි... ''16) [14 වැනි කොටසින් සටහන් කරන ලද ප්‍රාදේශීය සංවිධාන සිය විශේෂ කාර්යයන්හිදී සෛවරී විය යුතු වුවද, ප්‍රාදේශීය කමිටුවේ පාලනය යටතේ වැඩ කළ යුතු අතර එයට යටත් විය යුතුය. කමිටුව හා විශේෂ සංවිධානය අතර, මේ පාලනයේ ආකාරයන් සහ සංවිධානාත්මක සම්බන්ධකම්වල ස්වරූපය ප්‍රාදේශීය කමිටුව මගින් තීරණය කළ යුතුය. (දෙවියන්ට පින්සිදු වේවා! නිකම් පුහු වචන ඇදබෑම නොකළ යුතු බව දැන් නම් හොඳටම පැහැදිලිය).'' පක්ෂයෙ පොදු කරුණු පිළිබඳව එවැනි සංවිධාන කමිටු සංවිධානවල කොටසක් ලෙස ක්‍රියා කරනු ඇත.] — 17) [14 කොටසින් සඳහන් කරන ලද ප්‍රාදේශීය සංවිධානවලට සිය කාර්යන් සාර්ථක ලෙස සපුරාලීම සඳහා සෛවරී- සංගම් ඇති කර ගත හැකිය. මේ සංගම්වලට තමන්ගේම පුවත්පත් සහ සංවිධාන තිබිය හැකිය. එහෙත්



මේ දෙකම පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ ඍජු පාලනය යටතේ පැවතිය යුතුය. මෙවැනි සංගම්වල රීතිමාලාවන් ඒවා විසින්ම සාද ගත යුතු අතර එයට පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ අනුමැතිය ලබාගත යුතුය.] — 18) [17 කොටසින් සටහන් වන සෛවරී සංගම්වලට, පළාත්බද තත්වයන්ගේ හේතුව නිසා මේවා ඒ පළාත්බද භාෂාවලින් උද්ඝෝෂණය ගෙනයන්නේ නම්, පළාත්බද පක්ෂ කමිටුවලටද ඇතුළු විය හැකිය. සැලකිය යුත්තකි. සෛවරී සංගමයේ කොටසක් වන අතරම එවැනි කමිටුවක් පක්ෂ කමිටුවක් වීමෙන් නවතින්නේ නැත'']... (මේ කොටස ඉතා ප්‍රයෝජනවත් අතර එය ඉතා බුද්ධිමත්ය. සැලකිය යුත්ත වඩාත් බුද්ධිමත්ය)... ''19) [සෛවරී සංගමයකට අයත් පළාත්බද සංවිධානයක සම්බන්ධකම් එම සංවිධානයේ මධ්‍යම සංවිධානත් සමග පළාත් බද පක්ෂ කමිටුව විසින් පාලනය කළ යුතුය.] — 20) [සෛවරී සංගම් වල මධ්‍යම පුවත්පත් සහ පරිපාලන සංවිධාන, පක්ෂයේ මධ්‍යම කාරක සභාවට පළාත්බද පක්ෂ කමිටු පවතින ආකාරයටම සම්බන්ධව පැවැතිය යුතුය.] — IV. පක්ෂයේ මධ්‍යම කාරක සභාව සහ පක්ෂයේ සාහිත්‍ය මණ්ඩල. — 21) [දේශපාලන සහ න්‍යායික වශයෙන් මධ්‍යම කාරක සභාව සහ එහි සාහිත්‍යමය සංවිධාන මුළු පක්ෂය නියෝජනය කරයි.] — 22) මධ්‍යම කාරක සභාවේ ක්‍රියාකාරීත්වයන් මෙසේ විය යුතුය: පක්ෂයේ සියලු ප්‍රායෝගික ක්‍රියාවලදී පොදු නායකත්වයක් දීම; පක්ෂයේ සියලු බලමුළු නිසි ලෙස ප්‍රයෝජනයට ගැනීම සහ යෙදවීම; පක්ෂයේ සියලු කොටස්වල ක්‍රියාකාරීත්වය පාලනය කිරීම; ප්‍රාදේශීය සංවිධානවලට අවශ්‍ය සාහිත්‍ය සැපයීම; පක්ෂයේ කාර්මික සංවිධානය පිළියෙළ කිරීම; පක්ෂයේ සම්මේලන කැඳවීම. — 23) පක්ෂයේ සාහිත්‍යමය සංවිධානවල වැඩ කටයුතු මෙසේ විය යුතුය: පක්ෂ ජීවිතයේ දෘෂ්ටිමය මග පෙන්වීම, පක්ෂයේ වැඩපිළිවෙළ සඳහා ප්‍රචාර ගෙනයාම, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ලෝක දෘෂ්ටිය පිළිබඳව න්‍යායික සහ ජනප්‍රිය පොත් සඟරා ආදිය ප්‍රචාරය කිරීම. — 24) සියලු පළාත්බද පක්ෂ කමිටු සහ සෛවරී සංගම් පක්ෂයේ මධ්‍යම කාරක සභාව සහ පක්ෂයේ සාහිත්‍ය මණ්ඩල පිළිබඳ කතු මඬුල්ල සමග ඍජු ලෙස සම්බන්ධකම් පවත්වාගත යුතුය, ව්‍යාපාරයේ ප්‍රගමනය පිළිබඳව සහ සිය පළාත්වල සංවිධානාත්මක වැඩ පිළිබඳවද කලින් කළ වාර්තා කළ යුතුය. — 25) පක්ෂයේ සාහිත්‍යමය මණ්ඩලවල කතු මඬුල්ල පක්ෂයේ සමුළුව විසින් තෝරාපත් කරන අතර ඊළඟ සමුළුව දක්වා එය ක්‍රියා කරයි. — 26) [සිය අභ්‍යන්තර කටයුතුවලදී කතු මඬුල්ල සෛවරීත්වයක් දරනු ඇත.] සමුළුවලට අතර තුර කාලයේදී සිය කතු මඬුල්ලට සාමාජිකයින් ඇතුළු කර ගැනීම හෝ වෙනස් කිරීම හෝ කළ හැකිය, එහෙත් හැම අවස්ථාවකදීම ඒ ගැන මධ්‍යම කාරක සභාවට දැන්විය යුතුය. — 27) මධ්‍යම කාරක සභාව විසින් නිකුත් කරන සියලු ප්‍රකාශන සහ එහි අනුමැතිය ලබන සියලු ප්‍රකාශන, මධ්‍යම කාරක සභාවේ ඉල්ලීම පරිදි පක්ෂයේ මධ්‍යම පුවත්පතේ පළ කළ යුතුය. — 28) මධ්‍යම කාරක සභාව, පක්ෂයේ සාහිත්‍ය මණ්ඩලවල එකඟතාවය ඇතිව, විවිධ සාහිත්‍යමය කටයුතු සඳහා විශේෂ ලේඛක මණ්ඩල පත්කළ යුතුය. — 29) පක්ෂ සමුළුවේදී මධ්‍යම කාරක සභාව තෝරා පත් කළ යුතු අතර ඊළඟ සමුළුව දක්වා එය කටයුතු කළ යුතුය. සීමාවක් නැතිව එකතු කිරීම මගින් මධ්‍යම කාරක

සභාවට සමාජිකයින් වැඩි කරගැනීමට එයට බලය ඇති අතර ඒ හැම අවස්ථාවකදීම මධ්‍යම කාරක සභාව ඒගැන මධ්‍යම පුවත්පතේ කතු මඬුල්ලට දැන්විය යුතුය. — V. පිටරටවල පක්ෂ සංවිධානය. — 30) පිටරටවල පක්ෂ සංවිධානය, පිටරටවල වාසය කරන රුසියානුන් අතර ප්‍රචාරය කළ යුතුය ඔවුන් අතර සිටින සමාජවාදී කොටස් සංවිධානය කළ යුතුය. තෝරාපත් කරන ලද පරිපාලක මණ්ඩලයක් මගින් එයට නායකත්වය දිය යුතුය. — 31) පක්ෂයට අයත් සෛවරී සංගමයට, සිය විශේෂ කාර්යයන් සපුරාලීම සඳහා පිටරටවල ශාඛා පවත්වාගෙන යාමට බලය ඇත්තේය. පොදු සංවිධානාත්මක මණ්ඩලය තුළ මේ ශාඛාවලට සෛවරී කණ්ඩායම් සෑදීමට බලය තිබේ. — VI. පක්ෂයේ සමුළු. — 32) පක්ෂයේ උත්තරීතර අධිකාරය පක්ෂ සමුළුවය. — 33) [පක්ෂයේ සමුළුව විසින් පක්ෂයේ වැඩපිළිවෙළ, ව්‍යවස්ථා සහ පක්ෂයේ ක්‍රියාකාරීත්වය මෙහෙයවන මූලධර්ම ඉදිරිපත් කළ යුතුය. එය විසින් සියලු පක්ෂ සංවිධානවල වැඩ පාලනය කිරීම සහ ඒවා අතර පැන නගින ආරාවුල් විසඳා ලිය යුතුය.] — 34) සමුළුවලදී නියෝජිතත්වය ලැබීමට අයිතිය ඇත්තන් මෙසේ විය යුතුය: අ) පළාත්බද සියලු පක්ෂ කමිටු; ආ) පක්ෂයට අයත් සියලු සෛවරී සංගම්වල මධ්‍යම පාලක මණ්ඩල; ඇ) මධ්‍යම කාරක සභාව සහ මධ්‍යම පුවත්පතේ කතෘ මණ්ඩලය; ඈ) පිටරටවල පක්ෂ සංවිධාන. — 35) නියෝජිත බලය වෙනත් කෙනෙකුට පැවරිය හැකිය, එහෙත් එක් නියෝජිතයකුට ලබා ගත හැකි වැඩිම නියෝජිත බලය සංඛ්‍යාවෙන් තුනකට වැඩි නොවිය යුතුය. විධාන නියෝජිත බලයක්, නියෝජිතයින් දෙදෙනෙකු අතර බෙදගත හැකිය. බැඳුණු උපදෙස් තහනම් ය. — 36) සමුළුවට යම්කිසි සහෝදරවරුන්ගේ සහභාගිවීම ප්‍රයෝජනවත් නම්, ඔවුන් සමුළුවට කැඳවීමට මධ්‍යම කාරක සභාවට බලය ඇත. ඔවුනට උපදේශක චන්ද බලයක් ඇත්තේය. — 37) පක්ෂයේ වැඩපිළිවෙළට සහ ව්‍යවස්ථාවට සංශෝධන සම්මත කර ගත හැක්කේ තුනෙන් දෙකක වැඩි චන්ද සංඛ්‍යාවකිනි. වෙනත් ප්‍රශ්න ගැන සාමාන්‍ය වැඩි චන්දයෙන් තීරණ ගත හැකිය. — 38) සමුළුවක් පවත්වන අවස්ථාවේදී, පවතින පක්ෂ කමිටුවලින් අඩකට වඩා වැඩි සංඛ්‍යාවක් එයට සහභාගි වන්නේ නම්, එම සමුළුව ව්‍යවස්ථානුකූල ලෙස පිළිගත යුතුය. — 39) හැකි තරම් දුරට අවුරුදු දෙකකට වරක් සමුළුවක් කැඳවිය යුතුය. [මේ කාලසීමාව තුළදී මධ්‍යම කාරක සභාවට බලපෑ නොහැකි හේතූන් නිසා සමුළුවක් කැඳවීමට නොහැකි නම් මධ්‍යම කාරක සභාව සිය වගකීම පිට එය කල් දැමිය යුතුය''.]

විශේෂයක් හැටියට මේ රිනියා ව්‍යවස්ථා අවසානය දක්වා කියවීමට තරම්, ඉවසීමක් ඇති ඕනෑම පාඨකයකුට පහත සටහන් නිගමනයන් කිරීම ගැන මවිසින් විශේෂ හේතූන් දැක්විය යුතුයැයි මගෙන් ඉල්ලා නොසිටිනු ඇත: පළමුවැනි නිගමනය: සුවකළ නොහැකි තරම් බරපතළ ජල ගෝඨයකින් මේ ව්‍යවස්ථාව පීඩා විඳීම. දෙවැනි නිගමනය. මධ්‍යස්ථානවාදයේ අධික පෝෂණයක් පිළි නොගන්නා සංවිධානාත්මක මතවල විශේෂ පැහැයක් මේ ව්‍යවස්ථාවල සොයා ගැනීම කළ නොහැකි දෙයකි. තෙවැනි නිගමනය: මාර්තව් සහෝදරයා සිය ව්‍යවස්ථාවන් 38/39 ක් ලෝකයාගෙන් වසන් කර තැබීමෙන් (සහ එය සමුළුවේ සාකච්ඡාවට ඉදිරිපත් නොකිරීමෙන්) කළේ අතිශය බුද්ධිමත් ක්‍රියාවකි. ඔහු මෙලෙස වසන් කිරිම කඩතුරාව ඉවත් කිරීමක් ලෙස හැඳින්වීම එක්තරා ප්‍රමාණයකට විහිළුවකි.

## 8. ඉස්ක්‍රාවාදීන් අතර භේදය ඇති වීමට පෙර මධ්‍යගතවාදය පිළිබඳ ඇතිවූ සාකච්ඡාව

මතභේදයන්ගේ විවිධ පැහැයන් තිබෙන බව නිසැක ලෙසම ප්‍රකාශ කළ පක්ෂ ව්‍යවස්ථාවේ, ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටස පිළිබඳව සැබවින්ම වැදගත් ප්‍රශ්නය සාකච්ඡා කිරීමට පෙර, සමුළුවේ 14 වැනි සභාවාරය සහ 15 වැනි සභාවාරයෙන් කොටසක් විසින් සලකා බලන ලද ව්‍යවස්ථා මාලාවේ පොදු සාකච්ඡාව ගැන යම්තමින් අවධාරණය යොමු කරමු. මේ සාකච්ඡාව එක්තරා වැදගත් කමක් දරයි, මන්දයත්, මධ්‍යම මණ්ඩලවල සංයෝජනය පිළිබඳව ''ඉස්ක්‍රා'' සංවිධානය තුළ සම්පූර්ණ ප්‍රතිවිරුද්ධතාවයක් එයට පෙර පැවති බැවිනි. එහෙත් ඉන් ඉක්බිතිව ඇතිවූ ව්‍යවස්ථා පිළිබඳ පොදු සාකච්ඡාවද, විශේෂයෙන් එකතු කිරීමද ''ඉස්ක්‍රා'' සංවිධානයේ ප්‍රතිවිරුද්ධතාවයට අනතුරුව ඇතිවූ ඒවා විය. ස්වභාවයෙන්ම මේ ප්‍රතිවිරුද්ධතාවයට පෙර අපේ අදහස් වඩාත් අපක්ෂපාත ලෙස ප්‍රකාශ කිරීමේ හැකියාවක් අපට තිබිණි. මෙය මධ්‍යම කාරක සභාවේ පුද්ගලයින්ගේ සංයෝජනයේ ප්‍රශ්නය පිළිබඳ ස්වාධීන මත අනුවය. මෙම ප්‍රශ්නය අප අතර විශාල උනන්දුවක් ඇති කළේය. මවිසින් මීට පෙර සඳහන් කළ පරිදි මාර්තව් සහෝදරයා සංවිධානය පිළිබඳ මගේ අදහස් වලට එකඟ විය (157 වැනි පිටුව). විස්තර පිළිබඳ කරුණු දෙකකදී පමණක් ඔහු වෙනත් මත දැරීය. අනිත් අතට ඉස්ක්‍රා විරෝධීහුද, මධ්‍යස්ථානයද ඉස්ක්‍රාවේ මුළු සංවිධානාත්මක සැළැස්මේ මූලික අදහස්වලට (සහ ඒ අනුව, ව්‍යවස්ථාවට සම්පූර්ණයෙන්ද) විරුද්ධවද, මධ්‍යස්ථාන ගතවාදයට විරුද්ධවද, ''මධ්‍යස්ථාන'' දෙකකට විරුද්ධවද සටන් වැදුණහ. ලීබෙර් සහෝදරයා මවිසින් ඉදිරිපත් කළ ව්‍යවස්ථාව ''සංවිධානවූ අවිශ්වාසය'' හැටියට හඳුන්වමින් මධ්‍යස්ථාන දෙකක් ගැන යෝජනාව විමධ්‍යගත කිරීමක් හැටියට (පපෝව් සහ යෙගෝරව් සහෝදරවරුන් මෙන්ම) පැහැදිලි කළේය. අකීමව් සහෝදරයා ප්‍රාදේශීය කමිටු

වල බලතල පුළුල් කළ යුතුයැයිද, විශේෂයෙන් "ඒවායේ සංයෝජනය වෙනස් කිරීමේ අයිතිය ඒවාටම පවරා දීම" කළ යුතු යැයිද ඉල්ලා සිටියේය. "ඒවාට ක්‍රියා කිරීමේ වැඩි නිදහසක් ලබාදිය යුතුය... රුසියාවේ ක්‍රියාශීලී සංවිධානවල නියෝජිතයින් විසින් මධ්‍යම කාරක සභාව තෝරා පත්කර ගන්නාක්, මෙන්ම, ඒ ඒ ප්‍රදේශවල ක්‍රියාශීලී කම්කරුවන් විසින්, ප්‍රාදේශීය කමිටු තෝරා පත් කළ යුතුය. මෙය මෙලෙස කිරීමට බැරිනම්, ප්‍රාදේශීය කමිටු වලට පත් කරන මධ්‍යම කාරක සභිකයින්ගේ සංඛ්‍යාව සීමා කළ යුතුය..." (158 වැනි පිටුව). ඔබට පෙනෙන පරිදි අකීමව් සහෝදරයා මධ්‍යම කාරක සභාවේ (අධි බලයට හෙවත්) අධික පෝෂණයට විරුද්ධව තර්කයක් ඉදිරිපත් කර ඇත. මේ අධිකාරී උපදෙස් ඇසීමට පවා මාර්තව් සහෝදරයා කොහෙත්ම කැමති නොවීය. මධ්‍යම මණ්ඩලවල සංයෝජනය පිළිබඳ ප්‍රශ්නයේදී ඔහු පරාජය ලැබුවද, අකීමව්ගේ අඩිපාරේ ගමන් කිරීමට ඔහු ඉදිරිපත් නොවීය. අකීමව්, ඔහුට ඔහුගේම ව්‍යවස්ථාවෙන් "අදහස්" ඉදිරිපත් කළ විටදී පවා (7 කොටස — කමිටුවලට සාමාජිකයින් පත් කිරීමේ මධ්‍යම කාරක සභාවේ අයිතිය සීමා කිරීම) ඔහු බිහිරකු මෙන් සිටියේය. එවකට මාර්තව් සහෝදරයාට අප සමග විස්වනයක් අවශ්‍ය නොවීය, එම හේතුව නිසාම ඔහු අකීමව් සහෝදරයා සමගත් ඔහු සමගත් විස්වනය විඳදරා ගත්තේය... එවකට දැවැන්ත මධ්‍යගතවාදයේ එකම විරුද්ධ කරුවන් වූයේ, ඉස්ක්‍රාවේ මධ්‍ය ගත වාදය තමන්ට අවාසි බව පැහැදිලි ලෙස වටහාගත් පුද්ගලයින් පමණකි. මධ්‍යගත වාදයට විරුද්ධව අකීමව්, ලීබෙර්, සහ ගොල්ඩ්බ්ලාට්ද ඔවුන් පසුපස ප්‍රවේසමින් සහ සමීක්ෂාකාරී ලෙස (ඕනෑම මොහොතක ආපසු යාහැකි සේ) යෙගොරව්ද වෙනත් එවැනි අයද සිටියහ (156 සහ 276 පිටු බලන්න). මධ්‍යගතවාදයට විරුද්ධත්වය ප්‍රකාශ කර සිටින්නේ බුන්ඩ්, "යූෂ්නි රබෝචි" ආදී කවයන්ගේ, පටු කවවාදී වුවමනාවන් බව පක්ෂයේ අධිකතරයට එද පැහැදිලිව පෙනිණි. මධ්‍යගතවාදයට විරුද්ධත්වය ප්‍රකාශ කර සිටින්නේ, පැරණි ඉස්ක්‍රා කතෘ මණ්ඩලයේ කවවාදී වුවමනාවන් බව, දැන්වුවද පක්ෂයේ බහුතරයට පැහැදිලිය...

නිදසුනක් වශයෙන් ගොල්ඩ්බ්ලාට්ගේ කතාව ගෙන බලමු (පිටු 160—161). මගේ දැවැන්තමය මධ්‍යගතවාදයට විරුද්ධව ඔහු මට බලවත් සේ දෙස් පවරයි. මෙය නිසා පහළ සංවිධාන "විනාශවී" යන බවත්, "මෙය හැමදෙයකටම අත පෙවීමේ සීමා රහිත අයිතියක් සහ සීමා රහිත බලයක් මධ්‍යස්ථානයට ලබාදීමේ අභිලාෂයෙන් පිරි ඉතිරී ගොස් ඇති" බවත්, එය "සංවිධානවලට එක් අයිතියක්, එනම් වචනයකුදු නොදෙඩා යටත්වීමේ අයිතිය පමණක් දෙන" බවත් ආදීය ඔහු පවසයි. "යෝජිත කෙටුම්පත අනුව මධ්‍යස්ථානය රික්තයක් තුළ පවතිනු ඇත. මධ්‍යස්ථාන වටා පර්යන්ත සංවිධාන නොතිබෙනු ඇත. එහෙත් එයට සිය කෘත්‍යාධිකාරී ඒජන්තවරුන් එහා මෙහා යන අනියතාකාර ස්කන්ධයක් පමණක් තිබෙනු ඇත. සමුළුවේදී සිය පරාජයෙන් පසුව මාර්තව්ලා සහ අක්සල්රොද්ලා අපට සංග්‍රහ කිරීමට ඉදිරිපත් වූ ව්‍යාජ වාග්පාඨ උච්චාරණය මෙයම හැර අන් කිසිවක් නොවේ. බුන්ඩ් සංවිධානය සිය මධ්‍යස්ථානයට වඩාත් ස්ථිර අසීමිත බලතල (එනම්, සාමාජිකයින් පත්කිරීම සහ අස්කිරීම, සමුළුවලට නියෝජිතයින්ගේ සහභාගි වීම ප්‍රතික්ෂේප කිරීම) පවරා දෙමින්, අපේ මධ්‍යස්ථානයට විරුද්ධව සටන් කළ විට, එය සිනහවට ලක් කරන ලදී. මිනිසුන් කාරණා තෝරා බේරා ගත් විට, අල්පතරයේ කෑගැසීම්ද ඔවුහු සිනහවට ලක්කරනු ඇත්තාහ. මන්දයත්, ඔවුන් අල්පතරයේ සිටි විට, මධ්‍යගතවාදයට සහ රීති මාලාවට විරුද්ධව කෑ ගැසූ නමුදු, ඔවුන් බහුතරයට බවට පත්වූ විගසම රීති මාලාව සිය වාසිය පිණිස හරවා ගැනීමට ඉදිරිපත් වූ බැවිනි.

මධ්‍යස්ථාන දෙකක් පිළිබඳ ප්‍රශ්නයේදීද කාණ්ඩ ගැසීම ඉතා පැහැදිලිව පෙනිණි. සියලු ඉස්ක්‍රාවාදීන්ට විරුද්ධව ලීබෙර්ද, අකීමව්ද (මණ්ඩලයේ මධ්‍යම කාරක සභාවට වඩා ඉහළින් මධ්‍යම පුවත්පත බලපෑම පිළිබඳව දැනට ජනප්‍රිය වී තිබෙන අක්සල්රොඩ් — මාර්තව් ගීතය ගායනා කළ පළමුවැන්නා ඔහුය), පපොව්ද, යෙගෝරව්ද නැගිට සිටියහ. මධ්‍යස්ථාන දෙකක් පිළිබඳ මතය පැන නැංගේ සංවිධානය පිළිබඳව පැරණි ඉස්ක්‍රාව හැමදම ඉදිරිපත් කළ. අදහස් අනුවය (මෙය පපොව්ලා සහ යෙගොරව්ලා වාචික ලෙස ස්ථිර කළෝය!). සමාන්තර ජනප්‍රිය පුවත්පතක් බිහිකිරීම සහ එය සැබවින්ම ප්‍රධාන පුවත්පත බවට පරිවර්තනය කිරීම "යූෂ්නි රබෝචි" කණ්ඩායමේ සැළැස්ම පැරණි "ඉස්ක්‍රාවේ" ප්‍රතිපත්ති කපා හැරියේය. බැලූ බැල්මට ලොකු පුදුමයක් සේ පෙනෙන විරුද්ධාභාසයේ මූල මෙතැනය. එනම් සියලු ඉස්ක්‍රාවාදී විරෝධීන් සහ මුළු මහත් මඩ ගොහොරුවම බැලූ බැල්මට වඩාත් වැඩි මධ්‍ය ගතවාදයකට යොමුවී ඇති එක මධ්‍යම මණ්ඩලයකට පමණක් පක්ෂ පාත වීමය. "යූෂ්නි රබෝචි" කණ්ඩායමේ සංවිධානාත්මක සැලැස්මයන්ගේ විපාක මොනවාද, ඉන් ඇති විය හැක්කේ ඇති විය යුත්තේ මොනවාද යන්න ගැන පැහැදිලි අදහස් නැති නියෝජිතවරු මඩගොහොරුවේ සිටියහ. එහෙත් මොවුනට ඉස්ක්‍රා විරෝධීන්ගේ පැත්ත ගැනීමට සිදුවූයේ ඔවුන්ගේම අනිශ්චිත සහ අස්ථිර ගති නිසාය. ව්‍යවස්ථාව පිළිබඳ විවාදයේදී ඉස්ක්‍රාවාදීන්ගේ කතාවලින් (ඉස්ක්‍රාවාදීන් අතර බේදයට පෙර) මාර්තව් සහෝදරයාගේ කතාවත් (සංවිධානය පිළිබඳ මගේ අදහස්වලට "එක්වීම") ට්‍රොට්ස්කි සහෝදරයාගේ කතාවත් විශේෂයෙන් අගනේය. අකීමව් සහ ලීබෙර් සහෝදරවරුන්ට පිළිතුරු දුන් පසු කී නැනැත්තාගේ කතාවේ

හැම වචනයක්ම සමුළුවෙන් පසු අල්පතරයේ හැසිරීමේත්, සහ න්‍යායයේත් පූර්ණ ව්‍යාජ භාවය හෙළි කළේය. ඔහු (අකීමව් සහෝදරයා) මෙසේ පැවසීය: මේ ව්‍යවස්ථාව මධ්‍යම කාරක සභාවේ බලතල සෑහෙන තරම් පැහැදිලි ලෙස විග්‍රහ නොකරන බැවිනි.'' ඔහු සමග මට එකඟවීමට බැරිය. අනිත් අතට මේ විග්‍රහය පැහැදිලිය, පක්ෂය එකම අඛණ්ඩයක් බැවින්, පළාත්බද කමිටු මත එය පාලනයක් ඇති කිරීම අත්‍යාවශ්‍යය. මගේ ප්‍රකාශයක් උපුටාගත් ලීබෙර් සහෝදරයා ව්‍යවස්ථාව ''සංවිධානවූ අවිශ්වාසයක්'' බව පැවසීය. එය සත්‍යයකි. පක්ෂයේ එක් කොටසක් විසින් මුළු මහත් පක්ෂය කෙරෙහි සංවිධානාත්මක අවිස්වාශයක් නියෝජනය කළ බුන්ඩ් සංවිධානයේ නියෝජිතයා විසින් යෝජනා කරන ලද රීති පිළිබඳව මම එම ප්‍රකාශනය භාවිතා කළෙමි. එහෙත් අනිත් අතට අපේ ව්‍යවස්ථා, (මධ්‍යම මණ්ඩලවල සංයෝජනය පිළිබඳව ප්‍රශ්නයේදී පරාජයට පත්වීමට පෙර, එවකට එම ව්‍යවස්ථාව ''අපේ'' විය!) සියලු කොටස් කෙරෙහි, එනම් සියලු පළාත්බද, දිස්ත්‍රික්ක ජාතික සහ අනිකුත් සංවිධාන මත පාලනය කෙරෙහි සංවිධානාත්මක අවිශ්වාසයක් නියෝජනය කරයි'' (158 පිටුව). ඔව්, මෙහිදී අපේ ව්‍යවස්ථාව නිවැරදි ලෙස විස්තර කොට ඇත. සංවිධානාත්මක අවිශ්වාසී ක්‍රමයක් ගැන සිතුවේත්, පළ කළේත් කුමන්ත්‍රණකාරී බහුතරය විසින් යැයි අපට ලෙහෙසි හෘද සාක්ෂියක් අනුව දැන් කියා සිටින පුද්ගලයින් එය ස්ථිර ලෙසම මතක තබා ගත යුතුය. නැතිනම් මෙය ''වැටලීමේ තත්ත්වයමය'' වන්නේය. දේශපාලන අස්ථිරතාවය පිළිබඳව නිදසුනක් ලබාගැනීමටත්, ප්‍රස්තුත කාරණය තමන්ගේ කණ්ඩායමට බලපෑ එකක්ද, නැතිනම් පහළ තත්වයේ පිටස්තර කණ්ඩායමකට බලපෑ එකක්ද යන්න අනුව, මාර්තව් සහ සමාගමේ මතය රඳා පවතින හැටි පෙන්වන නිදසුනක් ලබා ගැනීමටත්, මේ කතාව විදේශ ලීගයේ සමුළුවේදී කළ කතා සමග සසඳා බැලිය යුතුය.

## 9. ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටස

සමුළුවේදී සිත් ඇදගන්නා සුලු විවාදයක් පැන නැගීමට හේතුවූ විවිධ සූත්‍රපාඨ පිළිබඳව අපි දැනටමත් සඳහන් කළෙමු. රැස්වීම් වාර දෙකක් තිස්සේ පැවැති මේ විවාදය නාම ලේඛණය අනුව දෙවරක් චන්දය විමසීමෙන් අනතුරුව අවසන් විය (මා සිතන සැටි නිවැරදි නම්, මුළු මහත් සමුළුව පැවැති කාලය තුළදී නාම ලේඛණය අනුව චන්දය විමසුවේ අටවරක් පමණකි. මෙලෙස චන්දය විමසීමට බොහෝ කාල වේලාවක්



ගත වන නිසා මේ ක්‍රමයට චන්දය විමසන්නේ ඉතා වැදගත් ප්‍රශ්නවලදී පමණකි). අප ඉදිරියේ තිබූ ප්‍රශ්නය නිසැක ලෙසම ඉතා වැදගත් විය. මෙම විවාදය ගැන සමුළුව දැක්වූ සැලකිල්ල අති විශාල විය. සියලුම නියෝජිත වරු චන්දය දුන්හ — මෙය අපේ සමුළුවේ විරල සිද්ධියකි (ඕනෑම විශාල සමුළුවක වුවද එසේය). විවාදයට සහභාගි වූවන් දක්වන සැලකිල්ලටද එය සාක්ෂ්‍යයකි.

එසේනම් විවාදයට භාජනයවූ ප්‍රශ්නයේ හරය කුමක්ද? පළමුවැනි කොටස පිළිබඳව, අප අතර ඇති මතභේදය පක්ෂයේ ජීවනයට සහ මරණයට බලපාන තරම් ඉතා වැදගත් ප්‍රශ්නයක් නොවන බව මම සමුළුවේදී ප්‍රකාශ කළෙමි. ඉන් අනතුරුව කීපවරක්ම එම ප්‍රකාශයම අනුකරණය කළෙමි. ව්‍යවස්ථාවේ එක් අවාසනාවත් කොටසක් නිසා අපි සත්තකින්ම විනාශ නොවන්නෙමු!'' (250 පිටුව) මේ මතභේදය ප්‍රතිපත්ති පිළිබඳව පැහැයයන් හෙළි කළද, සමුළුවට පසුව ඇතිවූ (එම බෙදීම පිළිබඳව කොන්දේසි විරහිතව කතා කරන්නේ නම්) බෙදීම කොහෙත්ම ඇති කළ නොහැක. සෑම කුඩා මතභේදයක්ම දැඩි ලෙස අවධාරණය කරන්නේ නම්, ඒවා එළියට ඇද දමන්නේ නම්, ඒවායේ මුල් සහ අතු සෙවීමට මිනිසුන් ඉදිරිපත් වන්නේ නම්, ඒවා විශාල මතභේද බවට පත්වේ. නියත සාවද්‍ය මත වෙතට ඇදීයාමට හැම කුඩා මතභේදයක්ම පටන්ගැන්මක් කර ගන්නේ නම්,පක්ෂය දෙකඩ කිරීමේ තත්ත්වයට ඇද දමන අරාජිකවාදී ක්‍රියා සමග අළුත් හා අමතර මතභේදවල බලය අනුව මේ සාවද්‍ය. මත සංයෝජනය කරන්නේ නම්, සෑම කුඩා මතභේදයක්ම අති විශාල වැදගත් කමක් දරනු ඇත.

මේ ප්‍රශ්නයේදීද තත්ත්වය එසේම විය. පළමුවැනි කොටස පිළිබඳව සංසන්දනාත්මක ලෙස සුළු භේදය දැන් අති විශාල වැදගත්කමක් දරයි. මන්දයත් අල්පතරයේ අවස්ථාවාදී ගැඹුරු චින්තනයට සහ අරාජිකවාදී වාග්පාඨ ඇද බැමකට මුල පිරීමක් ඇති කළේ මෙය බැවිනි (ලීග් සමුළුවේ විශේෂයෙන්ද ඉන් අනතුරුව අළුත් ඉස්ක්‍රා පුවත්පතේ පිටුවලින්ද මෙය පෙනිණි). ඉස්ක්‍රාවේ අල්පතරය, ඉස්ක්‍රා විරෝධීන් සමග සහ මඩගොහොරුව සමග සහභාගයකට මුල පිරුවේ මෙය විසිනි. චන්දය විමසන විට මේ මඩගොහොරුව අවසාන නියමිත හැඩයක් ගෙන සිටියේය. මෙය අවබෝධ කර නොගන්නේ නම් ප්‍රධාන මණ්ඩලවල සංයෝජනය පිළිබඳව ප්‍රධාන සහ මූලික මතභේදය ගැන අවබෝධකර ගැනීමට නොහැකිය. පළමුවැනි කොටස පිළිබඳව මාර්තව්ගේ සහ අක්සල්රෝද්ගේ සුළු වරද (මා විසින් ලීග් සමුළුවේදී පෙන්වා දුන් පරිදි) අපේ භාජනයේ සුළු ඉරි තැලීමක් පමණකි. මෙසේ ඉරි තැලී ඇති භාජනය තද ගැටයක් ගසා (මාර්තව් විසින් වැරදි ලෙස වටහාගත් පරිදි අළුගෝසුවකුගේ මාර

ගැටයක් නොවේ. ලීග් සමුළුවේදී ඔහු මායා රෝගයට ආසන්න තත්වයෙක සිටියේය) බැඳගත හැකිය. නැතිනම් සියලු ප්‍රයත්න විසින් ඉරිතැලීම තවත් පුළුල් කොට භාජනය දෙකට කැඩී වෙන්වනු ඇත. උද්යෝගිමත් මාර්තව්වාදීන්ගේ වර්ජනයට සහ එවැනි අරාජිකවාදී ක්‍රියාවලට පින්සිදු වන්නට එයම සිදුවිය. මධ්‍යම මණ්ඩලවලට ඡන්දය විමසීමේදී පළමුවැනි කොටස පිළිබඳ මතභේදය නොමඳ සේවයක් ඉටු කෙළේය. ඡන්ද විමසීමේදී මාර්තව්ගේ පරාජය, රළු යාන්ත්‍රික සහ කලහකාරී ක්‍රම පවා පාවිච්චි කරමින් ''මූලධර්ම පිළිබඳ අරගලයක්'' ගෙනයාමේ තත්ත්වයට ඔහු ඇද දැම්මේය (විදේශවල රුසියානු සමාජ ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ ලීග් සමුළුවේදී ඔහු කළ කතාව මෙයට නිදසුනකි).

දැන් මේ සියලු සිදුවීම්වලින් ඉක්බිතිව පළමුවැනි කොටස පිළිබඳ ප්‍රශ්නය ඉමහත් වැදගත් කමක් ගෙන ඇත. සමුළුවේදී කාණ්ඩ ගැසීමේ ස්වරූපය සහ පළමුවැනි කොටසට ඡන්දය දීම අප පැහැදිලිවම වටහා ගත යුතුය. පළමුවැනි කොටස පිළිබඳව හෙළිවූ නැතිනම් හෙළිවීමට පටන්ගෙන ඇත්තාවූ මතභේදයන්ගේ පැහැයේ සැබෑ ස්වරූපය වටහා ගැනීමද වඩාත් වැදගත් වන්නේය. දැන්, පාඨකයාට මේ සිද්ධීන් ගැන දැනීමක් ඇති අතර පැනනැගී ඇති ප්‍රශ්නය මෙසේ විය: මා පක්ෂ සමුළුවේදී ප්‍රකාශ කළ පරිදි, අක්සල්රෝද්ගේ ආධාරය ලැබූ මාර්තව්ගේ සූත්‍ර පාඨය ඔහුගේ (නැතිනම් ඔවුන්ගේ) අස්ථිරතාවය, වැනෙන සුලු භාවය, සහ දේශපාලනමය නොපැහැදිලිතාවය පිළිබිඹු කළේද (333 පිටුව), ලීග් සමුළුවේදී ප්ලෙහානව් යෝජනා කළ පරිදි ඔහුගේ (නැතිනම් ඔවුන්ගේ) අපගමනය ජෝරේස්වාදයට[15] සහ අරාජිකවාදයට නැඹුරුවී තිබේද (ලීග් වාර්තා 102 පිටුව සහ වෙනත් අවස්ථාවලදී) ? එසේත් නැතිනම්, ප්ලෙහානව්ගේ ආධාරය ලැබූ මගේ සූත්‍ර පාඨය සාවද්‍ය, නිලධාරිවාදී, බාහිර චාරිත්‍රවාදී, පොම්පදූර්වාදී[16], මධ්‍යගතවාදය පිළිබඳව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නොවන සංකල්පයකින් යුක්ත වීද? අවස්ථාවාදය සහ අරාජිකවාදයද නැතිනම් නිලධාරිවාදය සහ බාහිර චාරිත්‍රවාදයද? — කුඩා මතභේද විශාල වූ විට, දැන් ප්‍රශ්නය ඉදිරිපත් වී ඇති ආකාරය එසේය. මගේ යෙදුමට පක්ෂව සහ විරුද්ධව ඇති යෝජනා සාකච්ඡා කිරීමේදී, සියලු සිද්ධීන් විසින් අප මත බල කර ඇති එසේත් නැතිනම්, වඩාත් ගම්භීර ලෙස ශබ්ද පිට නොවන්නේ නම්, ඉතිහාසය විසින් ඉදිරිපත් කර ඇතැයි මා පෙන්වා දීමට කැමැති — ප්‍රශ්නය ඉදිරිපත් කර තිබෙන මෙම ආකාරය අප විසින් මතක තබා ගත යුතුය.

සමුළුවේ ඇති වූ විවාද පිළිබඳ විශ්ලේෂණයක නිගමනයකින් අපි අපේ පිරික්සා බැලීම පටන් ගනිමු. පළමුවැනි කතාව යෙගොරව් සහෝදරයාගේය. එය වැදගත් වන්නේ ඔහුගේ ආකල්පය (non liquet, සත්‍යය කොහේදැයි මම තවමත් නොදනිමි, මට තවම පැහැදිලි නැත), සැබවින්ම අළුත්, සෑහෙන තරම් සංකීර්ණ සහ සවිස්තරාත්මක ප්‍රශ්නයක් වූ මෙහි සත්‍ය අසත්‍ය තාවය තෝරා බේරා ගැනීමට අසමත් වූ බොහෝ නියෝජිතවරුන්ගේ ආකල්පයට බොහොසෙයින්ම ආවේණික වූ බැවිනි. ඊළඟට කතාකළ අක්සල්රොඩ් සහෝදරයා එය මූලධර්ම පිළිබඳ ප්‍රශ්නයක් බවට පත් කළේය. අක්සල්රොඩ් සහෝදරයා විසින් මූලධර්ම පිළිබඳ ප්‍රශ්නයක් ගැන සමුළුවේදී කතා කළ පළමුවැනි වාරය මෙය විය. එමෙන්ම එය ඔහුගේ ප්‍රථම කතාවද විය. සුප්‍රසිද්ධ ''මහාචාර්යවරයා'' සමග ඔහුගේ ප්‍රථම දර්ශනය විශේෂ සතුටක් ඇති කළැයි කීම උගහටය. අක්සල්රොඩ් සහෝදරයා මෙසේ පැවසීය: පක්ෂය සහ සංවිධානය පිළිබඳ විකල්ප අප විසින් බෙදා වෙන් කළ යුතුයැයි මම සිතමි. මේ සංකල්ප දෙක මෙතැනදී ව්‍යාකූල කර ඇත. මේ ව්‍යාකූලත්වය අනතුරු දායකය''. මගේ සූත්‍ර පාඨයට විරුද්ධව ඉදිරිපත් කළ පළමුවැනි තර්කය එසේය. වඩාත් සමීපලෙස පිරික්සා බලමු. පක්ෂය සංවිධානවල* එකතුවක් (හුදු අංක ගණිතමය එකතුවක් නොව, සංකීර්ණයකි!) විය යුතුයැයි මා කියන විට, මා පක්ෂය සහ සංවිධාන පිළිබඳව සංකල්පය ව්‍යාකූල කරතියි මින් අදහස් වන්නේද? සත්තකින්ම නැත. පංතියේ පෙරමුණු බල ඇණිය වන පක්ෂය හැකි තරම් හොඳින් සංවිධානය කළ යුතු බවත්, යටත් පිරිසෙයින්, අවමය සංවිධානාත්මක භාවයකට ඉඩදෙන පුද්ගලයින් පමණක්, පක්ෂයට ඇතුළු කර ගත යුතු බවත් කියා සිටින මගේ අභිප්‍රාය සහ මගේ ඉල්ලීම පැහැදිලි ලෙසත්, ස්ථිර ලෙසත් එමගින් මම ප්‍රකාශ කළෙමි. එහෙත් අනිත් අතට,

---

* ''සංවිධානය'' නැමැති වචනය පුළුල් සහ පටු අදහස් අනුව යොදවති. පටු අදහස් අනුව, උපරිමය අනුසන්ධාන ආකාරයක් සහිත මිනිසුන් සමූහයකගේ පෞද්ගලික න්‍යෂ්ටියක් එය නියෝජනය කරයි. පුළුල් අදහස අනුව, එකට එක්වූ න්‍යෂ්ටිවල සමස්තයකි. නාවුක හමුදාව, යුද්ධ හමුදාව හෝ රජය එක අතකින් සංවිධානවල එකතුවක් වන අතර (මෙය වචනයේ පටු අදහස අනුවය) සමාජ සංවිධානයේ විවිධත්වයක්ද (මෙය වචනයේ පුළුල් අදහස අනුවය) වන්නේය. අධ්‍යාපන අංශය (වචනයේ පුළුල් අදහස අනුව) සංවිධානයකි. එය සංවිධාන කීපයකින් (වචනයේ පටු අදහස අනුව) යුක්තය. එලෙසම පක්ෂයද සංවිධානයකි, එය සංවිධානයක් විය යුතුය (වචනයේ පුළුල් අදහස අනුවය); එහෙත් ඒ අතරම පක්ෂය විවිධ සංවිධාන වලින් යුක්ත විය යුතුය (වචනයේ පටු අදහස අනුවය). එබැවින් අක්සල්රෝද් සහෝදරයා සංවිධානය හා පක්ෂය පිළිබඳ සංකල්ප බෙදා වෙන්කරන විට, පළමුවෙන් ඔහු සංවිධානය නැමැති වචනයේ පටු හා පුළුල් අදහස් සිය සැලකිල්ලට නොගත්තේය. දෙවනුව ඔහු සංවිධානාත්මක හා අසංවිධානාත්මක කොටස් ඔහු විසින් ව්‍යාකූල කර ගැන තිබෙන බැව් නොදුටුවේය.

මගේ විරුද්ධකරුවෝ, සංවිධානවූත්, අසංවිධානවූත් කොටස්ද, නායකත්වයට ඉඩදෙන සහ ඉඩ නොදෙන කොටස්ද, පුරෝගාමී සහ ඉතා මුරණ්ඩු ලෙස නොදියුණු කොටස්ද, එකට මිශ්‍ර කර ගනිති. මන්දයත්, මුරණ්ඩු නොවන නොදියුණු කොටස් වලට සංවිධානයකට ඇතුළු විය හැකි බැවිනි. මෙන්න මේ මිශ්‍රණය සැබවින්ම අනතුරුදායකය. අක්සල්රොඩ් සහෝදරයා තව දුරටත්, අතීතයේ ඉතා රහස් සහ මධ්‍යගත සංවිධානයක් (වන "සිම්ලායා ඉ වෝල්‍යා"[17] සහ "නරෝද්නය වෝල්‍යා"[18] සංවිධාන උපුටා දැක්විය: "මේවා වටා කිසිදු සංවිධානයකට අයත් නැති පුද්ගලයින් විශාල සංඛ්‍යාවක් සිටි අතර ඔවුහු එක් හෝ තවත් විධියකින් ඒවාට ආධාර කළහ. ඔවුන් පක්ෂයේ සාමාජිකයින් ලෙස ගණන් ගන්නා ලදී... මේ මූලධර්මය වඩාත් දැඩි ලෙස සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානය විසින් පිළිපැදිය යුතුයැ" යි ඔහු පැවසීය. අප මෙහිදී ප්‍රශ්නයේ ප්‍රධාන කරුණක් වෙත ළඟා වීමු. "මේ මූලධර්මය" සැබවින්ම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී වන්නේද? පක්ෂයේ කිසිම සංවිධානයකට අයත් නොවන නමුදු, "එයට එක් හෝ තවත් විධියකින් පමණක් ආධාර කරන" එය පක්ෂයේ සාමාජිකයින් ලෙස හැඳින් වීමේ මෙම මූලධර්මය සැබවින්ම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී වන්නේද? මෙයට දියහැකි එකම උචිත පිළිතුර ප්ලෙහානව් විසින් දෙන ලදී: "එක් දස් අටසිය හැත්තෑ ගණන්වලදී ඇතිවූ දේ උපුටා දැක්වීමෙන් අක්සල්රොඩ් වරදක් කර ඇත. ඒ කාලයේදී ඉතා හොඳින් සංවිධානය වූ දැඩි විනය ගරුක මධ්‍යස්ථානයක් තිබිණි. එය වටා එය විසින් බිහිකරන ලද විවිධ වර්ගවලට අයත් සංවිධාන තිබිණි. මේ සංවිධානයවලට පිටතින් පැවතියේ ව්‍යාකූලත්වය සහ අරාජිකවාදයයි. මේ ව්‍යාකූලත්වයේ සංයුක්ත කොටස් තමන් පක්ෂයේ සාමාජිකයින් ලෙස හඳුන්වා ගත්හ. මෙනිසා ව්‍යාපාරයට හානි මිස වාසි සිදු නොවීය. අටසිය හැත්තෑ ගණන්වල අරාජිකවාදය අනුකරනය නොකළ යුතු අතර එය ඉවත දැමිය යුතුය." ඒ අනුව, අක්සල්රොඩ් සහෝදරයා "මූලධර්මයක්" හැටියට ඉදිරිපත් කරන මෙය සමාජ-ප්‍රජාත්‍රන්ත්‍රවාදී එකක් නොව, සැබවින්ම අරාජිකවාදී මූලධර්මයකි. මෙය ප්‍රතික්ෂේප කිරීම සඳහා පාලනය, මෙහෙයැවීම සහ විනය සංවිධානයකින් පරිබාහිරව පැවැතිය හැකි යැයිද, එමෙන්ම ව්‍යාකූලත්වයේ කොටස් මත පක්ෂයේ සාමාජිකයා යන නාමය පිරිනැමීම අවශ්‍ය යැයිද ඔප්පු කළ යුතුය. මාර්තව් සහෝදරයාගේ සූත්‍ර පාඨයට පක්ෂ අය මේ දෙකින් එකක් වත් ඉදිරිපත් නොකළහ. එවැන්නක් ඉදිරිපත් කිරීමටද ඔවුනට බැරිවිය. "සමාජ ප්‍රජාතන්ත්‍රවාදීයකු හැටියට ස්වයං පිළිගැනීමක් කරන මහාචාර්යවරයෙක් එලෙස ප්‍රකාශ කිරීම" අක්සල්රොඩ් සහෝදරයා විසින් නිදසුනක් ලෙස ඉදිරිපත් කැරිණි. මේ නිදසුනේ අඩංගු මතය සම්පූර්ණ කරනු වස්, සංවිධානාත්මක ප්‍රජාතන්ත්‍රවාදීන්, මේ මහාචාර්යවරයාව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකු ලෙස පිළිගනිත්ද යන්න අක්සල්රොඩ් සහෝදරයා විසින් කිව යුතුව තිබිණි. වැඩිදුරටත් එම ප්‍රශ්නය ඉදිරිපත් නොකළ අක්සල්රොඩ් සහෝදරයා සිය තර්කය අතර මගදී අතහැර දමා ඇත. ඇත්ත වශයෙන්ම දෙකින් එකක් තෝරාගත යුතුය. එක්කෝ සංවිධානාත්මක සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් මේ මහාචාර්ය වරයාව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකු ලෙස පිළිගත යුතුය, එසේනම්, ඔවුන් ඔහුව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී එක් සංවිධානයකට ඇතුළු නොකරන්නේ මන්ද? මන්දයත් මහාචාර්ය වරයා එසේ ඇතුළු වූ විට පමණක් ඔහුගේ "ප්‍රකාශනය" සමග ක්‍රියාව ගැලපෙන බැවිනි. එවිට එය පුහු කතාවක් නොවන්නේය (මහාචාර්යවරුන්ගේ ප්‍රකාශ නිතර පාහේ එවැනි දේ වෙති). නැතිනම් සංවිධානාත්මක සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් මේ මහාචාර්යවරයාව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකු ලෙස පිළි නොගැනීමය, එසේනම් පක්ෂයේ සාමාජිකයා නැමැති ගෞරවනීය, සහ වගකිවයුතු නිලයක් දැරීමේ අයිතියකට ඔහුට ඉඩතැබීම අමන, තේරුම් රහිත, එමෙන්ම හානිකර දෙයක් වන්නේය. එවිට ප්‍රශ්නයේ හරය මෙසේ වනු ඇත: සංවිධානාත්මක මූලධර්මය ස්ථිර ලෙස ක්‍රියාවේ යෙදවීමද නැතිනම් අසමගිය සහ අරාජිකත්වය ස්ථිර කිරීමද? පක්ෂයේ සමූළුව බිහිකළ, දැනටමත් සෑදී, වෙළී පවතින සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ අරටුව පදනම් කර ගනිමින් අපි පක්ෂය ගොඩ නගමුද, නිදසුනක් වශයෙන්, මේ පක්ෂය සියලු වර්ගයේ පක්ෂ සංවිධාන වැඩි කොට ඒවා විශාල කළ යුතුය. එසේත් නැතිනම්, පක්ෂයට ආධාර කරන හැම දෙනෙකුම පක්ෂයේ සාමාජිකයින් වෙතියි යන නළවන සුලු වාග් පාඨය නිසා සතුටට පත්වී සිටිමුද? අක්සල්රොඩ් සහෝදරයා මෙසේද පැවසීය: "අපි ලෙනින්ගේ සූත්‍ර පාඨය පිළිගනිමු නම්, පක්ෂ සංවිධානයකට කෙළින්ම බඳවා ගැනීමට බැරි වුවද, පක්ෂයේ සාමාජිකයින් කොටසක් එළවා දමන්නෙමු." අක්සල්රොඩ් සහෝදරයා මට චෝදනා කිරීම සඳහා පාවිච්චි කරන සංකල්ප පිළිබඳ ව්‍යාකූලත්වය විසින් ඔහුගේ තත්ත්වයම පැහැදිලි ලෙස වෙන්කර පෙන්වයි. පක්ෂයට ආධාර කරන හැම කෙනෙක්ම පක්ෂයේ සාමාජිකයකු ලෙස ඔහු දැනටමත් පිළිගෙන සිටී. එහෙත් ඇත්ත වශයෙන්ම මේ මතභේදය පැනනැගී ඇත්තේ එම ප්‍රශ්නය උඩය. එවැනි අර්ථකථනයක අවශ්‍යතාවය සහ වටිනාකම අපේ විරුද්ධකරුවන් විසින් තවම ඔප්පුකර නැත. බැලූ බැල්මට නම් භයානක ලෙස පෙනෙන "එළවා දමන්නෙමු" නැමැති මේ වාග් පාඨයේ තේරුම කුමක්ද? පක්ෂයේ සාමාජිකයින් හැටියට පිළිගන්නේ, පක්ෂයේ සංවිධානවල සිටින සාමාජිකයින් පමණක් වු වද "කෙළින්ම" පක්ෂයේ සංවිධානයකට බැඳීමට බැරි මිනිසුන්ට, පක්ෂයේ සංවිධානයක් නොවුවද එයට සම්බන්ධ වී ඇති සංවිධානයකට බැඳී වැඩ

කළ හැකිය. ඒ අනුව වැඩ කිරීමෙන් සහ ව්‍යාපාරයේ වැඩ කටයුතු වලට සහභාගිවීමෙන් වලක්වාලීමක් අදහස් කෙරෙන්නා වූ එළවා දැමීමක් ගැන කිසිවෙක් කතා නොකරති. අනිත් අතට සැබෑ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී-න්ගෙන් යුක්තවූ අප පක්ෂ සංවිධානය ශක්තිමත් වන තරමට, පක්ෂය තුළ වැනෙන සුලු සහ අස්ථිර පුද්ගලයින්ගේ සංඛ්‍යාව අඩුවන තරමට, පක්ෂය වටා සිටින සහ පක්ෂයේ මෙහෙයැවීම ලබන වැඩ කරන ජනතාව මත පක්ෂයේ බලපෑම වඩාත් පුළුල්, විවිධ, පොහොසත් සහ වඩාත් එලදායී වනු ඇත. කම්කරු පංතියේ පුරෝගාමී බල ඇණිය වන පක්ෂය කෙසේවුවද, මුළු මහත් කම්කරු පංතිය සමග කවලම් කර නොගත යුතුය. අක්සල්-රොඩ් සහෝදරයා මෙලෙස කවලම් කිරීමේ වරදට හසුවී (මෙය අපේ අවස්ථාවාදී ආර්ථිකවාදයට පොදුවූ ආවේණික ලක්ෂණයකි). ඇත්තේ ඔහු මෙසේ පවසන විටය: ''ප්‍රථමයෙන් සහ ප්‍රධාන වශයෙන් අපි පක්ෂයේ ඉතාම ක්‍රියාශීලී කොටස්වල සංවිධානයක්, විප්ලවවාදීන්ගේ සංවිධානයක් සාදන්නෙමු. එහෙත් අප පංතියේ පක්ෂයක් වන බැවින්, සිය හැඟීම් අනුව, සමහර විට ක්‍රියාශීලි ලෙස නොවූවද පක්ෂය සමග සම්බන්ධවන මිනිසුන් පක්ෂයෙන් පිටත නොතැබීමට අප වගබලා ගත යුතුය.'' ප්‍රථමයෙන්ම, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂය විප්ලවවාදීන්ගේ සංවිධාන පමණක් නොව, පක්ෂ සංවිධාන හැටියට පිළිගත් කම්කරු සංවිධාන විශාල සංඛ්‍යා-වක් පක්ෂයේ සංවිධාන ලෙස ගණන් ගැනීමය. දෙවනුව, අප පංතියේ පක්ෂය වූ පමණින්ම පක්ෂයට අයත් සහ පක්ෂය සමග සම්බන්ධකම් ඇත්තාවූ අය අතර වෙනසක් කිරීම අනවශ්‍යයැයි යන නිගමනය කරන්නේ කිනම් හේතුවක් නිසාද? කිනම් තර්කයක් අනුවද? මෙය මීට හාත්පසින්ම වෙනස්ය: සත්තකින්ම හැඟීම්වල තීව්‍රතාවය සහ ක්‍රියාකාරීත්වයේ මට්ටම අනුව පක්ෂයට අයත් සමීපතාවයේ වෙනසක් තිබිය යුතුය. අපි පංතියේ පක්ෂය වෙමු. එම නිසා මුළු මහත් පංතියම පාහේ (යුද්ධ කාලයේදීත්, රටවැසි යුද්ධ කාලයේදීත්, මුළු පංතියම) අප පක්ෂයේ නායකත්වය යටතේ ක්‍රියාකාරී විය යුතුය. හැකි තරම් දැඩි ලෙස අප පක්ෂයට ළං විය යුතුය. ධනපති ක්‍රමය යටතේ මුළු මහත් කම්කරු පංතිය, නැතිනම් මුළු මහත් කම්කරු පංතියම පාහේ, එහි පුරෝගාමී බල ඇණිය වන, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ පංති හැඟීමේ සහ ක්‍රියා කාරීත්වයේ මට්ට-මට සරිලන සේ නැගී සිටිතියි සිතීම මනිලව්[10] ගුණය සහ ''වල්ගවාදය'' වන්නේය. ධනපති ක්‍රමය යටතේ වෘත්තීය සමිති සංවිධාන පවා (වර්ධනය නොවූ කොටස්වලට වඩාත් ගැලපෙන සහ වඩාත් නොදියුණු) මුළු මහත් කම්කරු පංතියම නැතිනම් මුළු මහත් කම්කරු පංතියම පාහේ බඳවා ගැනීමට සමත් වෙතියි සිහි බුද්ධිය ඇති එකද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියක් නොසිතයි. පුරෝගාමී බල ඇණිය සහ එය වටා ඇදී එමින් සිටින පොදු




N. LENIN. Ein Schritt vorwärts, zwei Schritt rückwärts
(Über die Krise in unserer Partei).

Россійская Соціальдемократическая Рабочая Партія

Н. ЛЕНИНЪ.

Шагъ впередъ,
два шага назадъ

(Кризисъ въ нашей Партіи).

ЖЕНЕВА
Типографія Партіи. Rue de la Coulouvreniere, 27.
1904

ජනතාව අතර ඇති වෙනස අමතක කිරීමද, වඩ වඩාත් පුළුල් කොටස් තම දියුණු තත්වය දක්වා උසස් කිරීම පුරෝගාමී බල ඇණියේ ස්ථාවර යුතුකම බව අමතක කිරීමද තමා විසින් තමා රවටා ගැනීමකි, අපේ කාර්යයන්ගේ මහා පරිමාණය ඉදිරියේ දෙනෙත් වසාගැනීමකි, එමෙන්ම මේ කාර්යයන් පටු කිරීමකි. පක්ෂයට සම්බන්ධ සහ පක්ෂයට අයත් වන අය අතරත්, පංති හැඟීම ඇති, ක්‍රියාශීලී අය සහ ආධාර කරන අය අතරත් ඇති වෙනස මකාදැමීම වූකලී කෙනෙකුගේ නෙත් වසාගැනීමක් සහ එමෙන්ම අමතක කිරීමක්ද වන්නේය.

අප පංතියක දේශපාලන පක්ෂයක් නිසා සංවිධානාත්මක ලිහිල්භාවය සාධාරණයැයිද, සංවිධානය අසංවිධානය සමග මිශ්‍ර කිරීම සාධාරණයැයිද තර්ක කිරීම, ''මුල්වල'' ''ගැඹුර'' පිළිබඳ දර්ශනික සහ සමාජ ඓතිහාසික ප්‍රශ්නය තාක්ෂණික සහ සංවිධානාත්මක ප්‍රශ්නය සමග පටලවා ගත් නඩෙෂ්ඩින් කළ වරද අනුකරනය කිරීමකි (''කළ යුත්තේ කුමක්ද?'', 91 පිටුව). අක්සල්රොඩ් සහෝදරයාගේ නිපුණත්වය විසින් කරන ලද මේ ව්‍යාකූලත්වය, අනතුරුව මාර්තව් සහෝදරයාගේ සූත්‍ර පාඨයට පක්ෂව කතා කළ අය විසින් අනුකරණය කෙරිණි. ''පක්ෂයේ සාමාජිකයා යන නාමය පුළුල් වී පැතිර ගිය තරමට වඩාත් හොඳයැයි හරය සමග නොගැළපෙන, පුළුල් ලෙස පැතිරෙන එම නාමයේ වාසිය ගැන විස්තර නොකළ මාර්තව් සහෝදරයා පැවසීය. පක්ෂයේ සංවිධානයකට අයත් නැති සාමාජිකයින් පාලනය කිරීම හුදු පරිකල්පිතයක් බව ප්‍රතික්ෂේප කළ හැකිද? පුළුල් ලෙස පැතිරගිය පරිකල්පනයක් වාසිදායක නොව හානිදායකය. ''තම ක්‍රියාවලට පිළිතුරු දෙන සෑම වැඩ වර්ජකයෙකුම සෑම පෙළපාලිකරුවකුම තමා පක්ෂයේ සාමාජිකයකු බව ප්‍රකාශ කරන්නේ නම් අපි ප්‍රීතිවමු'' (239 පිටුව). මෙය මෙසේද? වැඩ වර්ජනයක යෙදෙන හැම කම්කරුවකුටම තමා පක්ෂයේ සාමාජිකයකු ලෙස ප්‍රකාශ කිරීමට අයිතියක් තිබිය යුතුද? මේ ප්‍රකාශනය මගින් මාර්තව් සහෝදරයා සිය වරද, හාස්‍යජනක මෝඩකමක් දක්වා ගෙනයයි. ඔහු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය වැඩවර්ජන තත්වයක් දක්වා පහත හෙළයි. එමගින් ඔහු අකීමව්ලාගේ අනතුරුදායක අහේතුක ක්‍රියාව යළිත් කරයි. හැම වැඩ වර්ජනයක්ම සාර්ථක ලෙස මෙහෙයැවීමට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සමත් වෙති නම්, අපි සතුටු වමු, මන්දයත්, නිර්ධන පංතියේ, සියලු අන්දමේ පංති අරගල මෙහෙයැවීම ඔවුන්ගේ සෘජු සහ අනිවාර්ය යුතුකම වන බැවිනි. වැඩ වර්ජනය එම අරගලයේ ඉතා ගැඹුරු සහ ඉතා බලගතු ප්‍රකාශයනකි. Ipso facto*

* — හරය වශයෙන්. — සංස්කාරක

වෘත්තීය සමිති ආකාරයකට වඩා වැඩි නොවන මේ මූලික අරගලයයේ ආකාරය සමග අප බහු පාර්ශ්විය සවිඥනක සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී අරගලය හඳුන්වන්නේ නම්, අපි වල්ගවාදීන් වන්නෙමු. වැඩ වර්ජනය කරන හැම කෙනෙකුටම "තමා පක්ෂයේ සාමාජිකයකු ලෙස ප්‍රකාශ කිරීමේ" අයිතියට අප ඉඩ හැරියොත් එය අප විසින් ව්‍යාජ-ස්වාධිකාරයක් අවස්ථාවාදී ලෙස නීත්‍යානුකූලගත කිරීමක් වන්නේය. මන්දයත්, බහුතර අවස්ථාවලදී එවැනි "ප්‍රකාශ කිරීමක්" ව්‍යාජ වන බැවිනි. "නුපුහුණු" සහ "දක්ෂ නොවන" කම්කරුවන්ගේ ඉතා පුළුල් කොටස් ධනපති ක්‍රමය විසින් පාගා දැමීම, අසීමිත අසමගිය, මර්දනය සහ මොට්ට කිරීම ඉදිරියේ වැඩ වර්ජනය කරන හැම කෙනෙකුම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකු යයිද, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සාමාජිකයකු යැයිද අප විසින් විශ්වාස කිරීමටත් පිටස්තර අයට එලෙස ඒත්තු ගැන්වීමටත් අප ඉඩ දෙන්නේ නම්, අපි, අපව මනිලව්ගේ සිහින ලෝකයක නැලවීමකට ඉඩ හරින්නෙමු. "වැඩ වර්ජකයා" පිළිබඳ මේ නිදසුන මගින්, හැම වැඩ වර්ජනයක්ම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ලෙස මෙහෙයැවීමට උත්සාහ ගන්නා විප්ලවවාදියාත් සහ හැම වැඩ වර්ජකයෙකුම පක්ෂයේ සාමාජිකයකු ලෙස ප්‍රකාශ කරන අවස්ථාවාදී වාග්පාඨ දෙඩවීමත් අතර ඇති වෙනස විශේෂ පැහැදිලිතාවයකින් පෙනේ. අප පංතියේ පක්ෂයක් වන්නේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ලෙස මුළු මහත් පංතියම පාහේ, නැතිනම් මුළු මහත් නිර්ධන පංතියම අප විසින් මෙහෙයවන බැවිනි. එහෙත් අප වචනයෙන් පක්ෂය සහ පංතිය සර්වසම යැයි කියා සිටි යුතු බව මින් නිගමනය කළ හැක්කේ අකීමව්ලාට පමණකි.

"රහස් සංවිධානයකට මම බිය නොවෙමි" යි මාර්තව් සහෝදරයා පැවසීය. එහෙත් වැඩිදුරටත් ඔහු මෙසේද පැවසීය: "පුළුල් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයක් විසින් වට කොට තිබෙන විට පමණක් මට රහස් සංවිධානයක තේරුමක් ඇත" (239 පිටුව). වඩාත් නිවැරදි වීමට ඔහු විසින් මෙසේ කිව යුතුව තිබිණි: පුළුල් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු ව්‍යාපාරයක් විසින් වටකොට තිබෙන විට. අන්න එවිට මාර්තව් සහෝදරයාගේ ප්‍රස්තුතය විවාද රහිත වනවා පමණක් නොව, රිජු සත්වාදයද වන්නේය. මේ ප්‍රශ්නය ගැන මා සටහන් කරන්නේ මාර්තව් සහෝදරයාට පසුව කතා කළ සහෝදරවරුන්, ලෙනින් "පක්ෂ සාමාජිකයින්ගේ සමස්තය රහස් කුමන්ත්‍රණ කරුවන්ගේ සමස්තයට සීමා කිරීමට" යන්නේය යන අති ව්‍යාප්ත සහ අති පිරිහුණු තර්කය ඉදිරිපත් කරන නිසාය. මඳ සිනාවක් මුව ගන්වන මේ නිගමනය පසදෝව්ස්කි සහෝදරයා සහ පපෝව් සහෝදරයා විසින් කරන ලදී. එහෙත් මෙය මර්ටිනව් සහ අකීමව් සහෝදරවරුන් විසින් පාවිච්චි කිරීමට පටන්ගත් විට, එහි සැබෑ ස්වරූපය



ඉතා මැනවින් පෙනෙන්නට විය, එනම් එය අවස්ථාවාදී බව හෙළි විය. අද අක්සල්රොඩ් සහෝදරයා මේ තර්කය නව "ඉස්ක්‍රාව" මගින් ඉදිරිපත් කොට වර්ධනය කරමින්, සංවිධානය පිළිබඳව නව කතෘ මණ්ඩලයේ නව අදහස් පාඨකයින්ට හඳුන්වා දෙයි. සමුළුව පටන් ගැනීමේදීම, ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටස සාකච්ඡාවට භාජනය කළ පළමුවැනි රැස්වීමේදීම, මේ ලාභ අවිය පාවිච්චි කිරීමට අපේ විරුද්ධවාදීන් කැමැත්තක් දක්වන බව මා දුටු නිසාම මම මෙලෙස අවවාද කළෙමි: "පක්ෂ සංවිධානය වෘත්තීය විප්ලවවාදීන්ගෙන් පමණක් සමන්විත විය යුතු යැයි කිසිවකු සිතිය යුතු නැත. ඉතා පටු රහස් සංවිධානවලින් පටන් ගෙන ඉතා පුළුල්, නිදහස්, lose Organisationen* දක්වා වූ සියලු වර්ග, තරාතිරම් සහ පැහැයන්ගෙන් යුත් අතිශයින්ම විවිධ සංවිධාන අපට අවශ්‍ය වන්නේය." මෙය ඉතා පැහැදිලි ස්වයං-සාක්ෂාත් සත්‍යයක් වන බැවින් ඒ ගැන විස්තර කිරීමට අවශ්‍යතාවයක් ඇතැයි මම නොසිතුවෙමි. එහෙත් අද බොහෝ අංශවලින් අපව නැවත පසස්ට ඇද ගෙන ගොස් තිබෙන නිසා මේ විෂය ගැන පවා "පැරණි පාඩම් යළිත් කියා දීමට" සිදු වී ඇත. මෙය කිරීම සඳහා "කළ යුත්තේ කුමක්ද?" සහ "සගයකුට ලිපියක්!" නැමැති කෘතිවලින් මම උපුටා දක්වමි:

..."අලෙක්සේයව් සහ මීෂ්කින්, හල්ටූරින් සහ ෂෙල්යාබව් වැනි නායකයින්ගේ කවයක් සැබෑ සහ වචනයේ පරිසමාප්ත අර්ථය අනුව ඉතා ප්‍රායෝගික ලෙස දේශපාලන කටයුතු කිරීමට සමත්ය. මේ කවයේ ආවේගික ප්‍රචාරයේ හේතුවට සහ පරිමාණයට අනුව ඉබේටම අවදි වූ බහුජන කොටස්වල අනුමැතිය එයට ලැබෙන බැවිනි. එමෙන්ම මේ කවයේ ප්‍රබෝධමත් ධෛර්යයට විප්ලවවාදී පංතියේ ආධාරය සහ ශක්තිය ලැබෙන බැවිනි". සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයක් වීම සඳහා පංතියේ ආධාරය නියත ලෙසම ලබා ගත යුතුය. මාර්තව් සහෝදරයා සිතන පරිදි රහස් සංවිධානය වටා සිටිය යුත්තේ පක්ෂය නොවේ. එහෙත් විප්ලවවාදී පංතිය වන නිර්ධන පංතිය වටා සිටිය යුතුය. පක්ෂය රහස් සංවිධානවලින් සහ රහස් නොවන සංවිධානවලින් සමන්විත විය යුතුය.

..."ආර්ථික අරගලය සඳහා කම්කරු සංවිධාන වෘත්තීය සංවිධාන විය යුතුය. සෑම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරුවකුම හැකි තරම් දුරට මේ සංවිධානවලට ආධාර දිය යුතුය, ක්‍රියාශීලි ලෙස ඒවා තුළ වැඩ කළ යුතුය... එහෙත් වෘත්තීය සමිතිවල සාමාජිකයින් වීමට සුදුස්සන් විය යුත්තේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් පමණක් ය යන ඉල්ලීම ඉදිරිපත් කිරීම සත්තකින්ම අපේ වුවමනාවලට නොගැළපේ, මන්දයත් එවිට බහුජනතාව

* — ලිහිල් සංවිධාන. — සංස්කාරක

මත අපේ ඇති බලපෑම පටුවන බැවිනි. කම්හල් හිමියන්ට සහ ආණ්ඩුවට විරුද්ධව සටන් කිරීමේදී සමගි වීම අවශ්‍ය බව වටහා ගන්නා සෑම කම්කරුවකුම වෘත්තීය සමිතියට බැඳුණාවේ. වැටහීමේ මූලික තත්ත්වයට එළඹුණු පුද්ගලයින් පවා ඔවුන් එක්සත් නොකරන්නේ නම්, ඒවා ඉතා පුළුල් සංවිධාන නොවන්නේ නම්, වෘත්තීය සමිතිවල (වැඩ ශාලා සංගම්වල) පරමාර්ථය පවා මුදුන් පමුණුවා ගැනීමට නොහැකි වන්නේය. මේ සංවිධාන පුළුල් වන තරමට ඒවා මත අපේ බලපෑමද පුළුල් වනු ඇත. ආර්ථික අරගලයේ ''ඉබේ හටගන්නා'' වර්ධනය නිසා පමණක් නොව, සමාජවාදී වෘත්තීය සමිති සාමාජිකයින් සිය සගයින් මත ඍජු ලෙසත් සවිඥනක ලෙසත් බලපෑමට දරන පරිශ්‍රමය නිසා එලෙස සිදුවනු ඇත'' (86 පිටුව). විවාදයට භාජනය වී ඇති පළමුවැනි කොටස පිළිබඳව තක්සේරුවක් කිරීම සඳහා වෘත්තීය සමිතිවල නිදසුන විශේෂයෙන්ම වැදගත් බව කිව යුතුය. මේ සමිති සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානවල ''පාලනය සහ මෙහෙයැවීම'' යටතේ වැඩ කළ යුතුය. මේ පිළිබඳව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර මත දෙකක් තිබිය නොහැකිය. එහෙත් එය පදනම් කර ගනිමින්, වෘත්තීය සමිතිවල සියලු සාමාජිකයින්ට තමන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සාමාජිකයින් ලෙස ප්‍රකාශ කිරීමට අයිතියක් දීම මෝඩ ක්‍රියාවක් මෙන්ම ද්වි-අනතුරක් වන්නේය: එක් අතකින් එය වෘත්තීය සමිති ව්‍යාපාරයේ පරිමාණය පටු කොට එමගින් කම්කරුවන්ගේ සහයෝගතාවය දුර්වල කරයි; අනිත් අතින් නොපැහැදිලිතාවයකට සහ වැනෙන සුලු භාවයකට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ දොර හැරීමය. හැම්බුර්ග් නගරයේ කැලි ගණනට වැඩ කරන ගඩොල් කම්කරුවන් පිළිබඳ සුප්‍රසිද්ධ ප්‍රශ්නයේදී, ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයට මෙවැනි ගැටළුවක් ප්‍රායෝගික ලෙස විසඳීමට සිදු විය.[20] සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දෘෂ්ටිය අනුව වැඩ වර්ජන කඩා කප්පල් කිරීම අපකීර්තිමත් දෙයක් ලෙස ප්‍රකාශ කිරීමට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු මොහොතක් වත් පමා නොවූහ. වැඩ වර්ජනය මෙහෙයැවීම සහ එයට ආධාර කිරීම තමන්ගේ ඉතා වැදගත් කාර්යයක් බව ඔවුහු එයින් පිළිගත්හ. එහෙත් ඒ අතරම ඔවුහු පක්ෂයේ වුවමනාවන්, වෘත්තීය සමිතිවල වුවමනා සමග සර්වසම කිරීමේද, වෘත්තීය සමිතිවල තනි ක්‍රියාකාරීත්වයට පක්ෂය වග කිව යුතු යැයි ඉල්ලා සිටීමේද ඉල්ලීම එලෙසම දැඩි ලෙස ප්‍රතික්ෂේප කළහ. වෘත්තීය සමිති තම බලපෑම යටතට ගෙන ඒම සඳහා පක්ෂය ඒවාට සිය ආස්වාදය ඇතුළු කිරීමට ක්‍රියා කළ යුතුය, එමෙන්ම ක්‍රියා කරන්නේය. එහෙත් ස්ථිර ලෙසම මෙය කිරීම සඳහා පක්ෂය මේ සමිතිවල සිටින (සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයට අයත් කොටස්) සම්පූර්ණ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කොටස්, පූර්ණ පංති හැඟීමක් නැති, දේශපාලනමය ක්‍රියාකාරීත්වයෙන් තොර වූ කොටස්වලින් වෙන්කර හැඳින ගත යුතුය. අක්සල්රොඩ් සහෝදරයා මෙන් මේ කොටස් දෙක පටලවා ගත යුතු නැත.



...''විප්ලවවාදීන්ගේ සංවිධානයක ඉතා රහස් ක්‍රියාකාරීත්වය මධ්‍යගත කිරීමෙන් එය දුබල වනවා නොවේ; පොදු ජනතාව සඳහා ඇති අනිකුත් සංවිධාන විශාල සංඛ්‍යාවක ක්‍රියාකාරීත්වය එයින් වඩාත් පොහොසත් වී එහි ගුණය උසස් වන්නේය. ඒ නිසා වෘත්තීය සමිතිද, කම්කරුවන්ගේ ස්වයං අධ්‍යාපන කවයන්ද, ජනතාවගේ අන් සියලු කොටස් අතර රහස් සාහිත්‍ය කියවීම සඳහා කවයන්ද, සමාජවාදී, එමෙන්ම ප්‍රජාතන්ත්‍රවාදී කවයන්ද හැකි තරම් දුරට ලිහිල් සහ රහස් නොවිය යුතුය. හැම තැනම හැකි තරම් විශාල සංඛ්‍යාවක්, එවැනි කවයන් කම්කරු සමිති සහ සංවිධාන අපට තිබිය යුතුය. ඒවායේ ක්‍රියාකාරීත්වය ඉතා පුළුල් හා විවිධ විය යුතුය. එහෙත් මේවා විප්ලවවාදීන්ගේ සංවිධානය සමග මිශ්‍රකර ගැනීමත්, මේවා අතර ඇති සීමා මකා දැමීමත් අමන මෙන්ම හානිකර වන්නේය''... (96 පිටුව). විප්ලවවාදී සංවිධානය වටා පොදු පුළුල් කම්කරු සංවිධාන තිබිය යුතු යැයි මාර්තව් විසින් මට මතක් කිරීම තැනට සුදුසු නොවන බව එම කොටස පෙන්වා දෙයි. ''කළ යුත්තේ කුමක්ද?'' නැමැති කෘතියෙන් මම එය පෙන්වා දුන්නෙමි. ''සගයකුට ලිපියක්'' නැමැති කෘතියෙන් මෙම අදහස වඩාත් ස්ථිර ලෙස පෙන්වා දුන්නෙමි. කම්හල් කවයන් වඩාත් වැදගත් බව මම පෙන්වා දුන්නෙමි. ව්‍යාපාරයේ ප්‍රධාන ශක්තිය රඳා පවතින්නේ විශාල කම්හල්වල කම්කරු සංවිධාන මත බව මම පෙන්වා දුනිමි. මන්දයත් විශාල කම්හල් (සහ මෝලවල්) වල සංඛ්‍යා අනුව බලන විට, මේවායේ කම්කරු පංතියේ ප්‍රධාන කොටස සිටිනවා පමණක් නොව, බලපෑම, සංවර්ධනය සහ සටන්කාමී හැකියාව අනුව වඩාත් වැඩි වැදගත්කමක් දරන බැවිනි. සෑම කම්හලක්ම අපේ බලකොටුවක් විය යුතුය... පැක්ටරි උප කමිටු මුළු මහත් පැක්ටරියම, උපරිමය කම්කරු සංඛ්‍යාවක් සහ සියලු අන්දමේ කවයන් (නැතිනම් නියෝජිත වරුන්) ඒකරාශී කිරීමට උත්සාහ ගත යුතුය. සියලු කණ්ඩායම්, කවයන් සහ උප කමිටු ආදිය කමිටු ආයතනවල තත්වයක් නැතිනම් කමිටුවක ශාඛා විය යුතුය. සමහර ඒවා රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයට බැඳීමට ප්‍රසිද්ධියේ කැමැත්ත ප්‍රකාශ කරනු ඇත. කමිටුව විසින් අනුමත කළොත් ඉන් පසුව පක්ෂයට බැඳෙනු ඇත. ඒ අනුව ස්ථිර කාර්ය භාරයන් (කමිටුවේ උපදෙස් අනුව හෝ එය සමග එකඟවීම අනුව) පටන් ගනු ඇත. පක්ෂ සංවිධානවල නියමයන් පිළිගැනීමට බැඳෙනු ඇත. සියලු පක්ෂ සාමාජිකයින්ට ලැබෙන අයිතිවාසිකම් ඔවුන්ටද ලැබෙනු ඇත. කමිටුවේ සාමාජිකත්වය සඳහා

කිට්ටුතම අපේක්ෂකයින් ලෙස ගැනෙනු ඇත. අනිත් අය රු. ස. ප්‍ර. ක. පක්ෂයට* නොබැඳෙනු ඇත. ඒවාට පක්ෂ සාමාජිකයින් විසින් සංවිධානය කරන ලද කවයන්ගේ තත්වය ලැබෙනු ඇත. නැතිනම් එක් හෝ තවත් පක්ෂ කණ්ඩායමක් සමග සම්බන්ධ වීමක් ලැබෙනු ඇත'' (17-18 පිටු). ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටසේ යෙදුම පිළිබඳ අදහස ''සගයකුට ලිපියක්'' නැමැති මගේ කෘතිය මගින් මම සම්පූර්ණයෙන් ප්‍රකාශ කර ඇති බව මවිසින් යටි ඉරි ගසා ඇති වචන අනුව විශේෂයෙන් පැහැදිලි වෙයි. පක්ෂයට බැඳීමේ කොන්දේසි එහි සෘජු ලෙසම සඳහන් කර ඇත. ඒවා මෙසේය: 1) එක්තරා ප්‍රමාණයක සංවිධානය සහ 2) පක්ෂ කමිටුවක පිළිගැනීම. මෙයට පිටුවකට පසුව, පක්ෂයට බඳවා ගත යුත්තේ (බඳවා නොගත යුත්තේ) කිනම් සංවිධානද යන්න අඩුවැඩි වශයෙන් මවිසින් සඳහන් කර ඇත: ''බෙදු හැරීමේ කණ්ඩායම් රු. ස. ප්‍ර. ක. පක්ෂයට අයත් විය යුතුය. එමෙන්ම සමහර පක්ෂ සාමාජිකයින් සහ පූර්ණ කාලීනයින් දනගන සිටිය යුතුය. කම්කරුවන්ගේ ශ්‍රම තත්වයන් සහ වෘත්තීය සමිති ඉල්ලීම් ඉදිරිපත් කරන කණ්ඩායම් රු. ස. ප්‍ර. ක. පක්ෂයට බැඳීම අවශ්‍ය නොවේ. පක්ෂ සාමාජිකයින් එක් කෙනෙකුගේ හෝ දෙදෙනෙකුගේ හෝ සහභාගිත්වය ඇතිව, ස්වයං අධ්‍යාපනයෙහි යෙදී සිටින විද්‍යාල ශිෂ්‍යයින්ගේ කණ්ඩායම්, නිලධාරීන්ගේ කණ්ඩායම්, කාර්යාල සේවකයින්ගේ කණ්ඩායම් ආදිය සමහර අවස්ථාවලදී ඒවා පක්ෂයට අයත් බව සමහර විට නොදන ගත යුතුය'' (18-19 පිටු).

''විවෘත මුකවාඩම'' පිළිබඳ ප්‍රශ්නය ගැන අමතර කරුණු එසේය! මාර්තව් සහෝදරයාගේ කෙටුම්පත් යෙදුම පක්ෂය සහ සංවිධානය පිළිබඳ සම්බන්ධකම් ගැන යම්තමින් හෝ සටහන් නොකරන අතර, සමුළුව පැවැත්වීමට වසරකටත් පෙර සිටම, මම සමහර සංවිධාන පක්ෂයට අයත් විය යුතු බවත්, අන් සමහර ඒවා අයත් නොවිය යුතු බවත් පෙන්වා දුන්නෙමි. ''සගයකුට ලිපියක්'' මගින් මම සමුළුවේදී ඉදිරිපත් කළ අදහස පැහැදිලි ලෙස පෙන්වා දුන්නෙමි. පහත සටහන් ආකාරයට එය සුවිත්‍රිත ලෙස පෙන්විය හැකිය. පොදුවේ සංවිධානයේ ශ්‍රේණිය අනුවත්, විශේෂයෙන් සංවිධානයේ රහස්බව අනුවත් රළු ලෙස මෙවැනි වර්ගවලට බෙදීමට පිළිවන: 1) විප්ලවවාදීන්ගේ සංවිධාන; 2) හැකි තරම් පුළුල් සහ හැකි තරම් විවිධ කම්කරු සංවිධාන (මා මෙහිදී කම්කරු පංතියට පමණක් සීමා වන්නේ, සමහර තත්වයන් යටතේ වෙනත් පංතීන්වල කොටස්ද මෙයට ඇතුළු කළ හැකි බව ප්‍රත්‍යක්ෂ ලෙස පිළිගනිමිනි). එම

* රු. ස. ප්‍ර. ක. ප. — රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂය. — සංස්කාරක



කොටස් දෙකෙන් පක්ෂය සමන්විත වේ. තව දුරටත්, 3) පක්ෂය සමග සම්බන්ධ වූ කම්කරු සංවිධාන; 4) පක්ෂයට සම්බන්ධ නැති නමුදු සැබවින්ම එහි පාලනය සහ මෙහෙයැවීම යටතේ පවතින කම්කරු සංවිධාන; 5) පංති අරගලයේ විශාල ප්‍රකාශනවලදී යටත් පිරිසෙයින් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ මෙහෙයැවීමට අඩ වශයෙන් හෝ පිළිගන්නා වූ කම්කරු පංතියේ අසංවිධානාත්මක කොටස්. මගේ මතයේ හැටියට මේ ප්‍රශ්නය අඩුවැඩි වශයෙන් එසේය. එහෙත් මාර්තව් සහෝදරයාගේ මතයේ හැටියට පක්ෂයේ සීමා කොහෙත්ම පැහැදිලි නැත. මන්දයත්, ''වැඩ වර්ජනයක යෙදෙන හැම කෙනෙකුටම තමා පක්ෂයේ සාමාජිකයකු'' ලෙස ප්‍රකාශ කළ හැකි බැවිනි. මේ ලිහිල් භාවය නිසා ඇති වන වාසි මොනවාද? පුළුල් ලෙස පැතිර ගිය ''නිලයකි''. මෙහි ඇති හානිය නම් එම අසංවිධානාත්මක අදහස ඉදිරිපත් කිරීමය; පක්ෂයත්, පංතියත් පටලවා ගැනීමය.

අප විසින් ඉදිරිපත් කරන ලද පොදු ප්‍රස්තුතයන් පැහැදිලි කිරීම සඳහා සමුළුවේදී පළමුවැනි කොටස පිළිබඳව කරන ලද සාකච්ඡාව ගැන ඉක්මන් බැල්මක් හෙළමු. බ්රූකෙර් සහෝදරයා (මාර්තව් සහෝදරයා ඉමහත් සතුටට පත් කරමින්) මගේ යෙදුමට පක්ෂපාත විය. ඔහු සහ මා අතර ඇති මිත්‍රත්වය, මාර්තව් සහ අකීමව් අතර ඇති මිත්‍රත්වය මෙන් නොව, වැරදි වැටහීමක් මත ගොඩනැගුණු එකක් බව හෙළි විය. බ්රූකෙර් සහෝදරයා ''මුළු මහත් ව්‍යවස්ථා මාලාවටත්, එහි ජීවයටත් එකඟ නොවිය'' (239 පිටුව). ''රබෝචිය දියල'' ආධාර කරුවන්ගේ අභිමතය පරිදි ප්‍රජාතන්ත්‍රවාදයේ පදනම හැටියට ඔහු මගේ යෙදුමට පක්ෂ විය. දේශපාලන අරගලයේ සමහර අවස්ථාවලදී අඩු නපුර තෝරා ගැනීම අවශ්‍යය යන මතයට බ්රූකර් සහෝදරයා තවමත් එළඹී නැත. අපේ සමුළුව වැනි තැනෙක ප්‍රජාතන්ත්‍රවාදය ආරක්ෂා කිරීම කොහෙත්ම ප්‍රයෝජනයක් නැති දෙයක් බව බ්රූකර් සහෝදරයා වටහා ගෙන නැත. අකීමව් සහෝදරයා වඩාත් දූරදර්ශියෙකි. තමන්ගේ පොදු අරමුණ ඉටු කර ගැනීම සඳහා කිනම් යෙදුමක් වඩාත් යෝග්‍යද යන්න ගැන ''මාර්තව් සහ ලෙනින් සහෝදරවරුන් තර්ක කරති''යි අකීමව් පවසන විට ඔහු නිවැරදිය (252 පිටුව). ''ඉතා අඩුවෙන් එම අරමුණු ඉටු කරන එකක් තෝරා ගැනීමට බ්රූකර් සහ මා ඉදිරිපත් වී සිටී. මේ දෘෂ්ටි කෝණය අනුව මම මාර්තව්ගේ යෙදුම තෝරා ගතිමි''යි අකීමව් පැවසීය. ''ඔවුන්ගේ එම පරමාර්ථය'' (එනම් ප්ලෙහානව්ගේ, මාර්තව්ගේ සහ මගේ — විප්ලවවාදීන් මෙහෙයැවීමේ සංවිධානයක් බිහි කිරීම) ''ක්‍රියාවේ යෙදවිය නොහැකි, හානිකර දෙයක්'' ලෙස අකීමව් සහෝදරයා අවංක ලෙසම ප්‍රකාශ කළේය. මර්ටීනව්

සහෝදරයා මෙන්ම* ඔහුද "විප්ලවවාදීන්ගේ සංවිධානයක්" අවශ්‍ය නැතැයි යන ආර්ථිකවාදී මතය දේශනා කරයි. "යථාර්ථවාදී ජීවිතයට මාර්තව්ගේ හෝ ලෙනින්ගේ හෝ යෙදුම මගින් බාධා ඇති කළ ද, එය මැඩ ගෙන අප පක්ෂ සංවිධානය තුළට ඉමහත් බලයකින් යුතුව යථාර්ථවාදී ජීවිතය ඇතුළු වන බව" ඔහුට "විශ්වාසය". මාර්තව්ගේද මෙවැනිම අදහස් අප නොදකින්නේ නම්, "යථාර්ථවාදී ජීවිතය" පිළිබඳ මෙවැනි "වල්ගවාදී" මත ගැන විස්තර විභාගයක් නොවටනේය. පොදුවේ බලන විට මාර්තව් සහෝදරයාගේ දෙවැනි කතාව කෙතරම් වැදගත්දයත්, ඒ පිළිබඳව විස්තර විභාගයක් කිරීම වටනේය.

මාර්තව් සහෝදරයාගේ පළමුවැනි තර්කය: පක්ෂ සංවිධානවලට අයත් නැති පක්ෂ සාමාජිකයින් පාලනය කිරීම "කළ හැකි දෙයකි, කමිටුවට යම්කිසි කෙනෙකුට කාර්යයක් භාර දී ඒ පිළිබඳව සොයා බැලීමට පිළිවන" (245 පිටුව). මේ තීසිසය යසට කැපී පෙනෙයි. මන්දයත් මාර්තව්ගේ යෙදුම අවශ්‍ය වන්නේ කාටද, එය සැබවින්ම සේවය කරන්නේ කාටද, හුදකලාව සිටින බුද්ධිමතුන්ට නැතිනම් කම්කරු කණ්ඩායම්වලට සහ කම්කරු පොදු ජනතාවටද යන්න එය හෙළි කරන බව කිව හැකි බැවිනි. මාර්තව්ගේ යෙදුම දෙයාකාර අර්ථ කථනයකට භාජනය කළ හැකිය: 1) පක්ෂයේ එක් සංවිධානයක මග පෙන්වීම යටතේ, පක්ෂයට නිතිපතා පෞද්ගලිකව ආධාර කරන හැම කෙනෙකුටම "තමා පක්ෂයේ සාමාජිකයකු ලෙස" (මාර්තව් සහෝදරයාගේ වචන අනුව) ප්‍රකාශ කළ හැකිය; 2) සංවිධානයක මග පෙන්වීමක් යටතේ එයට නිතිපතාම පෞද්ගලික ආධාර දෙන ඕනෑම පුද්ගලයකුව පක්ෂයේ සාමාජිකයකු ලෙස පිළිගැනීමට පක්ෂ සංවිධානය බැඳී සිටී. "සෑම වැඩ වර්ජකයකුටම" තමා පක්ෂ සාමාජිකයකු යැයි කියා ගැනීමට සැබැවින්ම අවස්ථාවක් ලබා

* මර්ටිනව් සහෝදරයා අකීමව් සහෝදරයාට වඩා වෙනස් ලෙස පෙනී සිටීමට කැමැත්තක් දක්වයි. කුමන්ත්‍රණකාරී යනු රහස් නොවන බවත්, මේ වචන දෙක සංකල්ප දෙකක් හඟවන බවත් අකීමව් සහෝදරයා පවසයි. මේ වචන දෙකෙහි තේරුම කුමක්ද යනු අකීමව් සහෝදරයා හෝ දැන් ඔහුගේ අඩිපාරේ ගමන් කරන අක්සල්රොඩ් සහෝදරයා හෝ තේරුම් නොකරති. නිදසුනක් වශයෙන් මවිසින් ලියන ලද "කළ යුත්තේ කුමක්ද?" නැමැති කෘතිය මගින් "දේශපාලන අරගලය කුමන්ත්‍රණවලට සීමා කිරීමට" මා දැඩි ලෙස විරුද්ධ නොවූවාක් මෙන් මර්ටිනව් සහෝදරයා "ක්‍රියා කර" ඇත. අකීමව් සහෝදරයා දැන් නොදකින පරිදි, මා සටන් කරන මිනිසුන්ද විප්ලවවාදීන්ගේ සංවිධානයක අවශ්‍යතාවයක්ද නොදුටු බව තමාට සවන් දෙන මිනිසුන් ලවා අමතක කරවීමට මර්ටිනව් සහෝදරයාට වුවමනා වී ඇත.



දෙන්නේ පළමුවැනි අර්ථ කථනයයි. ඒ අනුව එය පමණක් ලිබෙර්ලාගේත්, අකීමව්ලාගේ සහ මර්ටිනව්ලාගේත් සිත්සතන් වහාම දිනාගත්තේය. එහෙත් මේ අර්ථ කථනය වාග් පාඨයක් හැර අන් කිසිවක් නොවේ. මන්දයත් මෙය මුළු මහත් කම්කරු පංතියටම බලපාන අතර පක්ෂය සහ පංතිය අතර ඇති වෙනස මැකී යන බැවිනි. "සෑම වැඩ වර්ජකයකුම" මත පාලනය සහ මෙහෙයැවීම "සංකේතයක් ලෙස" පමණක් කතා කළ හැකිය. මාර්තව් සහෝදරයා සිය දෙවැනි කතාවේදී දෙවැනි අර්ථ කථනය දක්වා (සමුළුව කෝස්තිච්ගේ, 255 පිටුව, යෝජනාව[21] ප්‍රතික්ෂේප කළ විට, එයද ඍජු ලෙසම ප්‍රතික්ෂේප කළ බව වරහන් තුළ හෝ සටහන් කළ යුත්තේ එබැවිනි) එනම්, කමිටුවක් විසින් ක්‍රියාවන් භාර දෙන අතර ඒවා සපුරාලීම පිළිබඳව පිරික්සා බලනු ඇතැයි කිව්වේ එබැවිනි. මෙවැනි විශේෂ වැඩ කම්කරුවන් බහුජන කොටස්වලට, නිර්ධනීන් දහස් ගණනකට (අක්සල්රොඩ් සහෝදරයා සහ මර්ටිනව් සහෝදරයා කතා කළ) සත්තකින්ම භාර නොදෙනු ඇත. අක්සල්රොඩ් සහෝදරයා විසින් මතක් කරන ලද මහාචාර්යවරුන්ට, ලීබෙර් සහ පපෝව් සහෝදරවරුන් ඉමහත් සැලකිල්ලක් දක්වන උසස් විද්‍යාලවල ශිෂ්‍යයින්ටද (241 පිටුව), අක්සල්රොඩ් සහෝදරයා තම දෙවැනි කතාවේදී මතක් කළ විප්ලවවාදී තරුණයින්ටද (242 පිටුව) නිතර ඒවා භාර දෙනු ඇත. එක් වචනයකින් කියතොත් මාර්තව් සහෝදරයාගේ යෙදුම එක්කෝ වලංගු නැති නීතියක්, පුහු වාග් පාඨයක් වනු ඇත, නැතිනම් එය "ධනවාදී පෞද්ගලිකවාදයේ එහෙම පිටින්ම ඇලී-ගැලී සිටින" සහ සංවිධානයකට බැඳීමට කිසිදු කැමැත්තක් නොදක්වන "බුද්ධිමතුන්ට" පමණක් ප්‍රධාන වශයෙන් සහ විශේෂයෙන් පාහේ වාසි ගෙන දෙනු ඇත. වචනවලින් නම් මාර්තව්ගේ යෙදුම නිර්ධන පංතියේ පුළුල් කොටස්වල වුවමනාවන් ආරක්ෂා කරයි. එහෙත් ඇත්ත වශයෙන් එය නිර්ධන පංතික විනයට සහ සංවිධානයට අකමැති ධනපති බුද්ධිමතුන්ගේ වුවමනාවන්ට සේවය කරයි. සමකාලීන ධනවාදී සමාජයේ විශේෂ තට්ටුවක් වන බුද්ධිමතුන්, පොදු ලෙසත්, පූර්ණ ලෙසත්, පෞද්ගලිකවාදයෙන් සහ විනයට සහ සංවිධානයට අසමත් බවෙන් විශේෂයෙන්ම කැපී පෙනෙන බව ප්‍රතික්ෂේප කිරීමට කිසිවකු ඉදිරිපත් නොවනු ඇත (නිදසුනක් වශයෙන්, බුද්ධිමතුන් පිළිබඳ කෞට්ස්කිගේ සුප්‍රසිද්ධ ලිපි කියවන්න). මේ සමාජ ස්තරය නිර්ධන පංතියට වඩා අවාසිදයක ලෙස පෙන්වන එක් කරුණක් මෙය වේ. නිර්ධන පංතියට නිතර පාහේ දැනෙන බුද්ධිමතුන්ගේ සෙවල ගතියට සහ අස්ථිර භාවයට එක් හේතුවකි මෙය. බුද්ධිමතුන්ගේ මේ ගුණය, ඔවුන්ගේ ගතානුගතික ජීවන ක්‍රමය අඛණ්ඩ ලෙස වෙළී පවතී. ඔවුන්ගේ ජීවනෝපායී ක්‍රමය, සුළු ධනපතීන්ගේ පැවැත්මේ ක්‍රමයට බොහෝ විධි අනුව සමීපව

ඇත්තේය. (භූගතලාව හෝ ඉතා කුඩා කාණ්ඩවල වැඩ කිරීම ආදිය වේ). මාර්තව් සහෝදරයාගේ යෙදුමට පක්ෂපාත පුද්ගලයින් නිදසුන් හැටියට මහාචාර්යවරුන් සහ විද්‍යාල ශිෂ්‍යයින් ඉදිරිපත් කිරීම අහම්බෙන් සිදු වූවක් නොවේ! මර්ටිනව් සහ අක්සල්රොඩ් සිතූ පරිදි, පළමුවැනි කොටස පිළිබඳ විවාදයේදී සම්පූර්ණ රහස් සංවිධානවලට පක්ෂපාත වූවන්ට විරුද්ධව පුළුල් නිර්ධන පංතික අරගලයට පක්ෂපාත වූවන් සටන් වැදුනා නොවේ. එහෙත් ධනපති බුද්ධිමත් පෞද්ගලිකවාදයට පක්ෂපාත වූවන් නිර්ධන පංතික සංවිධානයට සහ විනයට පක්ෂපාත වූවන්ට විරුද්ධව සටන් වැදීමකි.

පපෝව් සහෝදරයා මෙසේ පැවසීය: ''හැම තැනම, පීටර්ස්බර්ග්හි මෙන්ම නිකොලායෙව්වල සහ ඔඩෙස්සාවලදීද, මේ නගරවල අපේ නියෝජිතයින්ගේ සාක්ෂ්‍ය අනුව, පොත් පත්‍රිකා බෙදන, වාචික ලෙස උද්ඝෝෂණය ගෙන යන කම්කරුවෝ දූසිම් ගණනින් සිටිත්. එහෙත් මේ අයට සංවිධානයක සාමාජිකයින් වීමට බැරිය. ඔවුන්ව සංවිධානයකට සම්බන්ධකර ගත හැකි වුවද, සාමාජිකයින් හැටියට ගණන් ගත නොහැක'' (241 පිටුව). මේ අයට සංවිධානයක සාමාජිකයින් වීමට බැරි මන්ද? එය පපෝව් සහෝදරයාගේ රහසක් බවට පවතී. ''සගයකුට ලිපියක්'' නැමැති කෘතියෙන් මා ඉහත උපුටා දැක්වූ පරිදි, මෙවැනි කම්කරුවන් සියලු දෙනාම (දූසිම් ගණනින් නොව, සිය ගණනින්) සංවිධානයකට ඇතුළු කැර ගැනීම හැකිවාක් මෙන්ම අවශ්‍ය වන්නේය. එපමණක් නොව මේ සංවිධානවලින් අති විශාල සංඛ්‍යාවක් පක්ෂයට අයත් විය හැකිය, එලෙසම අයත් විය යුතුය.

මාර්තව් සහෝදරයාගේ දෙවැනි තර්කය මෙසේය: ''ලෙනින්ගේ මතය අනුව පක්ෂය තුළ, පක්ෂ සංවිධාන හැරුණු විට, වෙනත් සංවිධාන කිසිවක් නොතිබිය යුතුය''... පූර්ණ සත්‍යයකි!.. ''මට නම්, අනිත් අතට, එවැනි සංවිධාන තිබිය යුතුය. වෘත්තීයමය විප්ලවවාදීන්ගේ සංවිධානයේ ධූරාවලියට එවැනි සංවිධාන අප ඇතුළු කර ගන්නවාට වඩා වැඩි වේගයකින්, ජීවිතය විසින් එවැනි දෑ බිහිකොට, සංඛ්‍යාවෙන් වැඩි කරයි''... මෙය කරුණු දෙකක් අනුව සාවද්‍යය: 1) ''ජීවිතය'' විසින් බිහිකරන විප්ලවවාදීන්ගේ එලදායී සංවිධානවල සංඛ්‍යාව අපට අවශ්‍ය, කම්කරු පංති ව්‍යාපාරයට අවශ්‍ය සංඛ්‍යාවට වඩා ඉතා අඩුය; 2) අප පක්ෂය ධූරාවලියක් විය යුත්තේ විප්ලවවාදීන්ගේ සංවිධානවලට පමණක් නොවේ, කම්කරු සංවිධානවල බහු කොටසටද එසේ විය යුතුය... ''මූලධර්ම පිළිබඳ කටයුතුවලදී සම්පූර්ණ විශ්වාසයක් තැබිය හැකි සංවිධානවලට පමණක් පක්ෂ සංවිධානය නැමැති ධූරය මධ්‍යම කාරක සභාව පිරිනමන බව ලෙනින් කල්පනා කරයි. එහෙත් බ්රූකෙර් සහෝදරයා (sic!) ජීවිතය ස්වයං තහවුරු කිරීමක් කරන බව ඉතා හොඳින් දනී. සංවිධාන අති විශාල සංඛ්‍යාවක් පක්ෂයෙන් පිටත නොතැබීම සඳහා, ඒවායේ ස්ථිර ස්වරූපය ගැන නොතකා මධ්‍යම කාරක සභාව ඒවා නීත්‍යානුකූල කරනු ඇතැයි ඔහු සිතයි. බ්රූකෙර් සහෝදරයා ලෙනින් සමග එකතු වූයේ ඒ නිසාය''... මෙය සැබවින්ම ''ජීවිතය'' පිළිබඳ වල්ගවාදී සංකල්පයකි! සත්තකින්ම මධ්‍යම කාරක සභාව තමන්ගේ මතය අනුව ක්‍රියා නොකර, එහෙත් අනුන්ගේ කතා අනුව ක්‍රියා කරන්නේ නම්, (සංවිධාන කමිටුව පිළිබඳ සිද්ධිය බලන්න) එවිට ''ජීවිතය ස්වයං තහවුරු කිරීමක් කරනු ඇත,'' එනම් පක්ෂයේ ඉතා නොදියුණු කොටස් එහි බලය ලබා ගනු ඇත (දැන් නොදියුණු කොටස් විසින් පක්ෂයේ ''අල්පතරය'' සමන්විත වී තිබෙන පරිදි). එහෙත් සිහිබුද්ධිය ඇති මධ්‍යම කාරක සභාවක්, ''අවිශ්වාස'' කටයුතු කොටස් පක්ෂයට ඇතුළු කර ගැනීම පිළිබඳව බුද්ධිමත් හේතුවක් ඉදිරිපත් කළ නොහැකිය. අවිශ්වාසදායක කොටස් ''පැටව් ගසන'' ''ජීවිතය'' ගැන මතක් කිරීමෙන් මාර්තව් සහෝදරයා සිය සංවිධානාත්මක සැලැස්මේ අවස්ථාවාදී ස්වරූපය ඇස් පනා පිට හෙළි කරයි!.. ඔහු වැඩි දුරටත් මෙසේ පවසයි: ''මා හිතන හැටියට එවැනි සංවිධානයක් (එනම්, එතරම් විශ්වාසය තැබිය නොහැකි) පක්ෂයේ පාලනය සහ වැඩ පිළිවෙළ පිළිගැනීමට සූදානම් නම්, එය පක්ෂයේ සංවිධානයක් නොකර, පක්ෂයට ඇතුළු කර ගත යුතුය. නිදසුනක් වශයෙන් සමහර 'ස්වාධීන' සංගම් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මත සහ වැඩ පිළිවෙළ පිළිගෙන පක්ෂයට බැඳෙන්නේ නම්, එය අප පක්ෂයට විශාල ජයග්‍රහණයක් ලෙස මම සළකමි. එහෙත් මේ සංගමය පක්ෂයට ඇතුළු කර ගත යුතු යැයි මින් අදහස් නොකෙරේ''... මාර්තව්ගේ යෙදුම මෙවැනි අවුල් ජාලයක් ඇති කරයි: අපාක්ෂික සංවිධාන පක්ෂයට අයත්වීම! ඔහුගේ ආදර්ශ සටහන ගැන සිතා බලන්න: පක්ෂය = 1) විප්ලවවාදීන්ගේ සංවිධානයකි + 2) පක්ෂයේ සංවිධාන හැටියට පිළිගත් කම්කරු සංවිධාන+3) පක්ෂයේ සංවිධාන හැටියට පිළිනොගත් කම්කරු සංවිධාන (ප්‍රධාන වශයෙන් ''ස්වාධීන'' පුද්ගලයින්ගෙන් සමන්විතය)+4) විවිධ ක්‍රියාවන් ඉටුකරන පුද්ගලයින් — මහාචාර්යවරුන්, විද්‍යාල සිසුන් ආදිය+ 5) ''සෑම වර්ජකයෙක්ම''. මේ අපූරු සැලැස්ම අසලින් ලීබෙර් සහෝදරයාගේ වචන යෙදිය හැකිය: ''අපේ කාර්යය සංවිධානයක් සංවිධාන කිරීම පමණක් නොවේ (!!) අපට පක්ෂයක් සංවිධානයක් කළ හැකිය, එසේ කළ යුතුය'' (241 පිටුව). සත්තකින්ම අපට එය කළ හැකිය, එය කළ යුතුය. එහෙත් එයට අවශ්‍ය වන්නේ ''සංවිධාන සංවිධාන කිරීම'' වැනි තේරුම් රහිත වචන නොවේ. සැබවින්ම සංවිධානයක් බිහි කිරීම සඳහා හැම සාමාජිකයකුම වැඩ කළ යුතුය යන ඉතා පැහැදිලි ඉල්ලීම

අවශ්‍ය වේ. ''පක්ෂයක් සංවිධානය කිරීම'' ගැන කතා කරන අතරම හැම විධියකම අසංවිධානයක් සහ අසමගියක් වසා ගැනීම සඳහා පක්ෂය නැමැති වචනය ආරක්ෂක පළිහක් හැටියට පාවිච්චි කිරීම වූකලී තේරුම් රහිත වචන දෙඩවීමකි.

''අපේ යෙදුම විප්ලවවාදීන්ගේ සංවිධානය සහ බහු ජනතාව අතර සංවිධාන පෙළක්ම ඇති කිරීමේ අභිප්‍රායය ප්‍රකාශ කරන්නකි''යි මාර්තව් සහෝදරයා පැවසීය. සත්තකින්ම එය එසේ නොවේ. මාර්තව්ගේ යෙදුමෙන් ප්‍රකාශ නොවන්නේද මේ මූලික අභිප්‍රායමය. මන්දයත් එය සංවිධානය කිරීමට උත්තේජකයක් ඉදිරිපත් නොකරන බැවිනි, සංවිධානය සඳහා ඉල්ලීමක් නොකරන බැවිනි, සංවිධාන වූවන්, සංවිධානය නොවූවන්ගෙන් වෙන් නොකරන බැවිනි. එය තිලයක්* පමණක් ඉදිරිපත් කරයි.

---

* ලීග් සමුළුවේදී මාර්තව් සහෝදරය සිය යෙදුම සනාථ කිරීම සඳහා තවත් එක් තර්කයක් ඉදිරිපත් කළේය. එම තර්කය සිනහවට ලක් කිරීම වටී.''ලෙනින්ගේ යෙදුම වචනයේ පරිසමාප්ත අර්ථයෙන් ගත් විට,පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ ඒජන්ත වරුන් ඉබේටම පක්ෂයෙන් ඉවත් වේ, මන්දයත් ඔවුන් කිසිදු පක්ෂ සංවිධානයකට බැඳී නැති බැවිනැ'' යි මාර්තව් පැවසීය (59 පිටුව). ලීග් සමුළුවේදී මේ තර්කය වාර්තා ගත කරන විට පවා, එය සිනහවට භාජන විය. මාර්තව් සහෝදරයා ඉදිරිපත් කරන මේ ''අමාරුව'' විසඳාලිය හැක්කේ ම. කා. සභාවේ ඒජන්තවරුන් එම සභාවට ඇතුළු කර ගැනීමෙන් පමණක් බව ඔහු සිතයි. එහෙත් කාරණය එය නොවේ. මාර්තව් සහෝදරයාට පළමුවැනි කොටසට සම්බන්ධ අදහස අවබෝධ කැරැ ගැනීමට බැරි බව ඔහු ඉතා පැහැදිලි ලෙස පෙන්වා දී ඇත. එය පණ්ඩිතමානී විවේචනයක නිදසුනක් බැවින් එය සිනහවට භාජනය වීමට සුදුසු විය. මෙතැනදී කළ යුත්තේ ''මධ්‍යම කාරක සභාවේ ඒජන්තවරුන්ගේ සංවිධානයක්'' ඇති කොට, එය පක්ෂයට ඇතුළු කර ගැනීම සඳහා යෝජනාවක් සම්මත කැරැ ගැනීමය. එවිට මාර්තව් සහෝදරයාට මෙතරම් හිස රදය ගෙනදුන් එම ''අමාරුව'' සැනෙකින් අතුරු දහන් වනු ඇත. මවිසින් ඉදිරිපත් කරන ලද පළමුවැනි කොටසේ අදහස, උත්තේජනයකින් යුක්තය: ''සංවිධානය වනු!'' සැබෑ පාලනය සහ මෙහෙයැවීම එය සහතික කරයි. මූලික වශයෙන් මධ්‍යම කාරක සභාවේ ඒජන්තවරුන් පක්ෂයට අයත්ද යන ප්‍රශ්නය ඉදිරිපත් කිරීම හාස්‍යජනකය. මන්දයත්, ඔවුන් ම. කා. සභාවේ ඒජන්තවරුන් හැටියට පත් කොට, ඔවුන් එලෙස පවත්වාගෙන යන නිසාම ඔවුන් මත සම්පූර්ණ සහ නිරපේක්ෂ පාලනයක් සහතික කර තිබෙන බැවිනි.ඒ අනුව මෙතැනදී සංවිධානය සහ අසංවිධානය මිශ්‍ර කිරීමක් පිළිබඳ කිසිම ව්‍යාකූලත්වයක් නැත (මාර්තව් සහෝදරයාගේ යෙදුමේ මූලික වරද එතැනය). මාර්තව් සහෝදරයාගේ යෙදුම සුදුසු නොවන්නේ, එය ඕනෑම අවස්ථාවාදියකුට, වාග් පාඨ දෙඩවන්නකුට, ඕනෑම ''මහාචාර්ය වරයකුට'', ''විදුහල් සිසුවකුට'' තමා



මේ පිළිබඳව අක්සල්රොඩ් සහෝදරයාගේ වචන මතක් නොකර සිටිය නොහැකිය: ''ඔවුන් (විප්ලවවාදී කවයන්ට සහ එවැනි අයට) හෝ පුද්ගලයින් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ලෙස'' (සත්තකින්ම!) ''හඳුන්වා ගැනීම පක්ෂයේ කොටසක් ලෙස ඔවුන් විසින් ඔවුන්ම හඳුන්වා ගැනීම තහනම් කිරීමට සමත් නීති නැත''... එහෙත් මෙය සම්පූර්ණයෙන්ම සත්‍යය නොවේ! කිසිවකු තමා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකු ලෙස හඳුන්වා ගැනීම තහනම් කිරීම කළ නොහැකිවාක් එසේ කිරීමට හේතුවක්ද නැත. මන්දයත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියා යන වචනයේ නියම අරුත අනුව එය වැටහීම් පද්ධතියක් නියෝජනය කරනවා මිස, ස්ථිර සංවිධානාත්මක සම්බන්ධකම් නියෝජනය නොකරන බැවිනි. එහෙත් ''පක්ෂයේ කොටසක් හැටියට තමන් පිළිගන්නා'' විවිධ කවයන් සහ පුද්ගලයින්, පක්ෂයට හානිකරන්නේ නම්, දූෂනය හෝ අසංවිධානය කරන්නේ නම්; එය තහනම් කළ හැකිය, එසේ කළ යුතුය. ''තමන් පක්ෂයේ කොටසක්'' බව කියා සිටින කවයක් ''නියමයක් මගින් තහනම් කිරීමට'' පක්ෂයට බැරිනම්, සමස්තයක් හැටියට හෝ දේශපාලනමය අස්තිත්වයක් හැටියට පක්ෂය ගැන කතා කිරීම විහිළුවක් වනු ඇත! පක්ෂයෙන් නෙරපා දැමීමේ කාර්ය පරිපාටිය සහ කොන්දේසි විග්‍රහ කරන්නේ කෙසේද? අක්සල්රොඩ් සහෝදරයා, මාර්තව් සහෝදරයාගේ මූලික වරද සුපැහැදිලි හාස්‍යයකට පෙරළා ඇත. ඔහු මෙසේ එකතු කරන විට, ඔහු ඒ වරද අවස්ථාවාදී න්‍යායයක් දක්වා පෙරළා ඇත: ''ලෙනින් විසින් සූත්‍ර ගත කරන ලද පරිදි පළමුවැනි කොටස නිර්ධන පංතියේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයක පරමාර්ථ සහ නියම ස්වරූපය (!!). සමග මූලධර්ම වශයෙන් ඍජු ලෙසම ප්‍රතිවිරුද්ධ වී ඇත'' (243 පිටුව). එහි තේරුම අඩු වැඩි වශයෙන් මෙසේය: පංතියට වඩා පක්ෂයට වැඩි ඉල්ලීම් ඉදිරිපත් කරලීම නිර්ධන පංතියේ කාර්යයන්ගේ ස්වභාවයන් පිළිබඳව මූලධර්ම වශයෙන් ප්‍රතිවිරෝධිතාවයකි. අකීමව් සිතින් හා කයෙන් මේ න්‍යායයට පක්ෂ වීම පුදුමයට කරුණක් නොවේ.

දැන් පැහැදිලි ලෙසම අවස්ථාවාදය දෙසට නැඹුරු වී ඇති මේ සාවද්‍ය යෙදුම, නව අදහස්වල බීජයක් ලෙස පරිවර්තනය කිරීමට අක්සල්රොඩ් සහෝදරයාට වුවමනා සාධාරණත්වයේ නාමයෙන් කිව යුතුය. සමුළුවේදී

---

පක්ෂයේ සාමාජිකයෙකු ලෙස ප්‍රකාශ කිරීමට ඉඩ තැබීම නිසාය. තමන් පක්ෂයේ සාමාජිකයින් ලෙස හිතුවක්කාරි ලෙස දන්වා සිටීම් සහ ප්‍රකාශ කිරීම්වල යෙදෙන මිනිසුන් ගැන නිදසුන් ඉදිරිපත් කිරීමෙන් තම යෙදුමේ ඇති දුර්වල ස්ථානය වසා ගැනීමට මාර්තව් සහෝදරයා වැර දැරීම නිෂ්ඵල ක්‍රියාවකි.

හෙට්වු කිරීමට ඔහු සූදනම් බවක් ප්‍රකාශ කරමින් මෙසේ පැවසීය: ''මට පෙනෙන හැටියට මම විවෘත කළ දෙරකට තට්වු කරමි''... (අළුත් ''ඉස්ක්‍රා-වේ''ද මම මෙය නිරීක්ෂණය කරමි)... ''මන්දයත් ලෙනින් සහෝදරයා, පක්ෂ සංවිධානයේ කොටසක් ලෙස සැලකිය යුතු ඔහුගේ පර්යන්ත කවයනුත් සමග මගේ ඉල්ලීම පිළිගැනීමට ඉදිරියට එන බැවිනි''... (පර්යන්ත කවයන් සමග පමණක් නොව, හැම විධියකම කම්කරු සංගම් සමගය: වාර්තාවේ 242 පිටුවත්, ස්ට්‍රාහව් සහෝදරයාගේ කතාවත්, ''කළ යුත්තේ කුමක්ද?'' සහ ''සගයකුට ලිපියක්'' නැමැති කෘතිවල කොටස කියවන්න)... ''පුද්ගලයින් තවමත් ඉතිරිව සිටියද, මෙහිදී ද අපට හෙට්වු කළ හැකිය.'' පොදුවේ පවසන්නේ නම්, මා හෙට්වු කිරීමට විරුද්ධ නැති බව, අක්සල්රොඩ් සහෝදරයාට මම පිළිතුරු දුනිමි. එම ප්‍රකාශයෙන් මා අදහස් කළේ කුමක්දැයි මම දැන් විස්තර කරමි. පුද්ගලයින් ගැන එනම් මහාචාර්යවරුන්, උසස් විදුහල් ශිෂ්‍යයින් ආදිය ගැන නම් මා ඉඩ දීමට කොහෙත්ම කැමති නැත. එහෙත් කම්කරු සංවිධාන පිළිබඳව සැකයක් මතු විණි නම්, මගේ පළමුවැනි කොටසට පහත සටහන් එකතු-වක් කිරීමට (මවිසින් ඉහත ඔප්පු කළ පරිදි, එවැනි සැක පිළිබඳව ඇති පදනම් විරහිත භාවය ගැන නොතකා) මම කැමති වෙමි. ''රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ වැඩ පිළිවෙළ සහ ව්‍යවස්ථාව පිළිගන්නා කම්කරු සංවිධාන, පක්ෂ සංවිධාන ලෙස හැකි තරම් විශාල සංඛ්‍යාවක් පක්ෂයට ඇතුළු කර ගත යුතුය.'' වඩාත් ස්ථිර ලෙස පවසන්නේ නම්, මෙය සටහන් විය යුත්තේ ව්‍යවස්ථා මාලාවේ නොවේ. එය ව්‍යවස්ථිත විග්‍රහයන් විසින් නොව සවිස්තර විමර්ශනයන් හා කුඩා පොත් මගින් සටහන් කළ යුතුය (ව්‍යවස්ථා මාලාව පිළියෙළ කිරීමට බොහෝ කලකට පෙර සිටම, මා දැනටමත් පෙන්වා දී ඇති පරිදි, එවැනි කුඩා පොත් මගින් මම විස්තර ඉදිරිපත් කළෙමි); මාර්තව් සහෝදරයාගේ යෙදුමට නිසැක-යෙන්ම ආවේණික වූ අසංවිධානයට තුඩු දෙන වැරදි අදහස්වල සේයාවක් හෝ, අවස්ථාවාදී තර්කවල* සහ ''අරාජික සංකල්පවල'' සේයාවක් හෝ එවැනි සටහන්වල නොතිබිය යුතුය.

* මාර්තව්ගේ යෙදුම සාධාරණ යැයි පෙන්වීමට තැත් කරන විට, තර්කවල මෙවැනි වර්ගයකට නොවැළැක්විය හැකි සේ ඇද වැටෙයි. ට්‍රොට්ස්කි සහෝදරයාගේ මේ ප්‍රකාශනය විශේෂයෙන්ම එයට අයත්ය (248 සහ 346 පිටු). ''ව්‍යවස්ථා මාලාවේ එක් හෝ තවත් කොටසකට වඩා සංකීර්ණ (නැතිනම් වඩාත් ගැඹුරු) හේතූන් විසින් අවස්ථාවාදය බිහි කරන ලදී. ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ සහ නිර්ධන පංතියේ වර්ධනයේ සාපේක්ෂ මට්ටම විසින් එය බිහි කෙරේ''... ව්‍යවස්ථා මාලාවේ වගන්ති විසින් අවස්ථාවාදය බිහි කරනු ඇතැයි යන්න මෙහි කරුණ නොවේ. එහෙත් එවැනි වගන්තිවල ආධාරය ඇතිව අවස්ථාවාදයට විරුද්ධ අඩු වැඩි



මවිසින් වරහන් තුළ සටහන් කරන ලද ඒ අවසාන ප්‍රකාශනය පව්-ලොවිච් සහෝදරයාට අයත්ය. ''වගකීම් රහිත වන සහ පක්ෂයට ස්වයං ලෙස ඇතුළුවන'' පාක්ෂිකයින් පිළිගැනීම අවස්ථාවාදය වන බව ඔහු

වශයෙන් තියුණු අවියක් බිහිකර ගැනීමට ඉඩ ඇත. අවස්ථාවාදයේ ගැඹුරු වැඩිවන තරමට එම අවියේ තියුණුභාවයද වැඩි විය යුතුය. ඒ නිසා අවස්-ථාවාදයට ''ගැඹුරු හේතූන්'' තිබේ යැයි කියමින්, එය පසුබිම් කරගෙන අවස්ථාවාදයට දෙර විවෘත කිරීමේ යෙදුම සාධාරණ යැයි කීම, පළමුවැනි පංතියේ වල්ගවාදයක් වන්නේය. ට්‍රොට්ස්කි සහෝදරයා ලීබෙර් සහෝ-දරයාට විරුද්ධ වූ විට, ව්‍යවස්ථා මාලාවේ සමස්තයක් කොටසකටද, පුරෝගාමී බල ඇණිය, නොදියුණු බල ඇණියටද ''සංවිධානාත්මක අවිශ්-වාසයක්'' හැටියටද අවබෝධ කැර ගත්තේය. එහෙත් ට්‍රොට්ස්කි සහෝ-දරයා, ලීබෙර් සහෝදරයාට පක්ෂ වූ විට, ඔහුට මෙය අමතක විය, ''සංකී-ර්ණ හේතූන්'' ගැනද, ''නිර්ධන පංතික වර්ධනයේ මට්ටම ආදිය ගැනද'' කතා කරමින් මේ අවිශ්වාසයේ (අවස්ථාවාදය කෙරෙහි ඇති අවිශ්වාසය) අපේ සංවිධානයේ දුර්වලකම් සහ අස්ථිරතාවය සාධාරණ යැයි පෙන්වීමට පවා ඉදිරිපත් විය. ට්‍රොට්ස්කි සහෝදරයාගේ තවත් තර්කයක් මෙසේය: ''එක් විධියකින් හෝ තවත් විධියකින් සංවිධානය වූ බුද්ධිමත් තරුණයින්ට, තමන් පක්ෂ ලේඛනය තුළට ගෙන ඒමට ලෙහෙසිය'' (අවධාරණය මවිසිනි). සත්තකින්ම එසේය. අසංවිධානය වුණු පුද්ගලයින් පවා පක්ෂයේ සාමාජිකයින් හැටියට ප්‍රකාශ කැරෙන යෙදුම බුද්ධිමත් අස්ථිරතාවයකින් පීඩා විඳින්නේ ඒ නිසාය; ''තමන් විසින්ම'' පක්ෂයේ නාම ලේඛනයට නම ඇතුළු කර ගැනීම වලක්වාලන මගේ යෙදුම නොවේ. මධ්‍යම කාරක සභාව අවස්ථාවාදීන්ගේ සංවිධානයක් ''පිළිගැනීම ප්‍රතික්ෂේප කරන්නේ'' නම්, එය එසේ වන්නේ සමහර පුද්ගලයින්ගේ චරිතය නිසා යැයිද, මේ පුද්ගලයින් දේශපාලනඥයින් හැටියට ප්‍රසිද්ධ නිසා මොවුන් අනතුරු-දායක පුද්ගලයින් නොවන අතර, පක්ෂයේ පොදු වර්ජනයකින් මොවුන් නෙරපාලිය හැකි බව ට්‍රොට්ස්කි සහෝදරයා පැවසීය. පක්ෂයෙන් පුද්ග-ලයින් නෙරපා දැමීමේදී නම් මෙය සත්‍යයකි (එයද අර්ධ සත්‍යයකි. මන්දයත් සංවිධානාත්මක පක්ෂයක් ඡන්දයෙන් සාමාජිකයින් නෙරපා දමනවා මිස වර්ජනයකින් එසේ නොකරන බැවිනි). නෙරපා දැමීම මෝඩ ක්‍රියාවක් වන්නේ කිනම් අවස්ථාවලදීද, පාලනය පමණක් අවශ්‍ය වී ඇත්තේ කිනම් අවස්ථාවලදීද, යන්න බලපාන බොහෝ අවස්ථාවලදී මෙය සම්පූර්ණයෙ-න්ම සාවද්‍ය වන්නේය. පාලනය කිරීම සඳහා මධ්‍යම කාරක සභාව එතරම් විශ්වාසදායක නැති නමුදු වැඩ කිරීමෙහි සමත් සංවිධාන සමහර කොන්-දේසි යටතේ වුවමනාවෙන්ම ඇතුළු කර ගනු ඇත. එම සංවිධානය පිරික්සා බැලීමේ අරමුණ ඇතිව, එය නිසි මග ඔස්සේ මෙහෙයැවීමට තැත් කරමින්, එහි අර්ධ මුලාවීම් මග පෙන්වීම මගින් නිවැරදි කරලීම ආදිය සඳහා මධ්‍යම කාරක සභාව එසේ කරනු ඇත. පොදුවේ පක්ෂයට ''ස්වයං ඇතුළු වීමකට'' ඉඩ නොතබන්නේ නම්, මෙය අනතුරුදායක

ඉතා සාධාරණ ලෙස පෙන්වා දුන්නේය. මගේ යෙදුම පිළිබඳව ලීබෙර් සහෝදරයාට විස්තරයක් කළ පව්ලොවිච් සහෝදරයා මෙසේ පැවසීය: ''සරල බසට පෙරලන්නේ නම්, එහි තේරුම මෙසේය: 'ඔබට පක්ෂයේ සාමාජිකයකු වීමට ඕනෑ නම්, ඔබ විසින් පිළිගන්නා වූ සංවිධානාත්මක සබඳකම් හුදු ප්ලතෝනික නොවිය යුතුය'.'' මේ ''පරිවර්තනය'' කෙතරම් සරල වුවද, සැක කටයුතු විවිධ, මහාචාර්ය වරුන්ට සහ විදුහල් සිසුන්ට පමණක් නොව ඉතා හොඳ පක්ෂ සාමාජිකයින්ට සහ ඉහළ ස්තරයේ මිනිසුන්ටද එය වැඩිපුර දෙයක් (සමුළුවට පසුව හටගත් සිද්ධීන් පෙන්වා දුන් පරිදි) නොවිය... මාර්තව් සහෝදරයාගේ යෙදුම සහ මාර්තව් සහෝදරයා විසින්ම ඉතා අවාසනාවත් ලෙස උපුටා දැක්වූ විවාද රහිත විද්‍යාත්මක සමාජවාදී ශික්ෂා පදයත් ඇති ප්‍රතිවිරෝධිතාවයද පව්ලොවිච් සහෝදරයා එමෙන්ම සාධාරණ ලෙස පෙන්වා දුන්නේය. ''අපේ පක්ෂය අසංඥ ක්‍රියාදාමයක සවිඥනක ප්‍රකාශකයා වන්නේය.'' සත්තකින්ම එසේය. එම හේතුව නිසාම ''වැඩ වර්ජනයට සහභාගි වන සෑම කෙනෙකුටම'' පක්ෂයේ සාමාජිකයෙකු ලෙස ප්‍රකාශ කිරීමට ඉඩ දීම සාවද්‍ය වන්නේය; මන්දයත්''සෑම වැඩ වර්ජනයක්ම''සමාජවාදී විප්ලවයක් කරා නොවැළැක්විය හැකි සේ මෙහෙයැවෙන පංති සටනේ සහ බලගතු පංති ඉවෙහි ඉබේ හට ගන්නා ප්‍රකාශනයක් පමණක් නොව, එම ක්‍රියාදාමයේ සවිඥනක ප්‍රකාශනයක්ද වන්නේ නම්, එවිට... එවිට පොදු වැඩ වර්ජනය අරාජිකවාදී වාග් පාඨයක් නොවන්නේය, එවිට අපේ පක්ෂය වහාම හා සැනෙකින් මුළු මහත් කම්කරු පංතියම බදගනු ඇත, ඉන් අනතුරුව වහාම සමස්තයක් වශයෙන් මුළු මහත් ධනපති සමාජයම අහෝසි කර දමනු ඇත. සැබැවින්ම පක්ෂය සවිඥනක ප්‍රකාශකයා වීමට නම්, සවිඥනයේ නියත මට්ටමක් සහතික කරන සහ මේ මට්ටම ක්‍රමානුකූල ලෙස උසස් කරන සංවිධානාත්මක සම්බන්ධතාවයන් පිළිබඳ වැඩ පිළිවෙළක් ඉදිරිපත් කිරීමට පක්ෂය සමත් විය යුතුය. පව්ලොවිච් සහෝදරයා මෙසේද පැවසීය:

---

නොවනු ඇත. සාවද්‍ය මත සහ සාවද්‍ය උපක්‍රම විවෘත සහ වගකිව යුතු පාලිත ප්‍රකාශනයකට (සහ සාකච්ඡාවකට) එලෙස ඇතුළු කිරීමක් නිතර පාහේ ප්‍රයෝජනය වනු ඇත. ''එහෙත් ව්‍යවස්ථාපිත විග්‍රහයන් සැබෑ සම්බන්ධකම්වලට අනුකූල කරන්නේ නම් ලෙනින් සහෝදරයාගේ යෙදුම ප්‍රතික්ෂේප කළ යුතුයැ''යි ට්‍රොට්ස්කි සහෝදරයා පැවසීය. ඔහු යළිත් අවස්ථාවාදියකු ලෙස කතා කළේය. සැබෑ සම්බන්ධකම් මිය ගිය ඒවා නොවේ, ඒවා ජීවත් වෙමින් වර්ධනය වේ. ව්‍යවස්ථාපිත විග්‍රහයන් එම සම්බන්ධකම්වල ප්‍රගතිශීලී වර්ධනයට අනුකූල විය හැකිය. එහෙත් ඒවා (විග්‍රහයන් අයහපත් ඒවා නම්) ප්‍රතිගාමීත්වයට සහ එකතැන පල්වීමකට ''අනුකූල'' විය හැකිය. මාර්තව් සහෝදරයාගේ ''සිද්ධිය'' පසුකී ගණයට අයත් වේ.



''මාර්තව්ගේ මග ඔස්සේ අප යන්නේ නම්, පක්ෂයේ වැඩ පිළිවෙළ පිළිගත යුතු යැයි කියන කොටස කපා හැරිය යුතුය. මන්දයත් වැඩ පිළිවෙළක් පිළිගැනීමට පෙර එය හොඳ හැටි අධ්‍යයන කොට අවබෝධ කර ගත යුතු බැවිනි... වැඩ පිළිවෙළ පිළිගැනීම දේශපාලනමය සවිඥනයේ සෑහෙන උසස් මට්ටමක් අඟවන බැවිනි.'' සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයට ආධාර කිරීමද, එහි නායකත්වය යටතේ අරගලවලට සහභාගි වීමද යම්කිසි ඉල්ලීම් (නිපුණත්වය, අවබෝධය ආදිය) වලින් සීමා කිරීමට අපි කිසි විටෙක ඉඩ නොදෙමු. මන්දයත්, මේ සහභාගි වීම ම, එම සාධකය පමණක්ම, සවිඥනය සහ සංවිධානය කිරීමේ ඉව යන දෙකම උසස් කරන බැවිනි. එහෙත් අප ක්‍රමානුකූලව වැඩ කිරීම සඳහා පක්ෂයකට බැඳී සිටින බැවින්, එම ක්‍රමානුකූලත්වය සහතික කිරීම සඳහා අප කටයුතු කළ යුතුය.

පව්ලොවිච් සහෝදරයාගේ අනතුරු හැඟවීම නුවමනා දෙයක් නොවන බව එක වරම එම රැස්වීම් වාරයේදීම පෙනෙන්නට විය. මාර්තව් සහෝදරයාගේ යෙදුම* සම්මත කරවා ගත් අකීමව් සහ ලීබෙර් සහෝදරවරු වැඩ පිළිවෙළ සම්බන්ධයෙන්, ප්ලතෝනික පිළිගැනීමක් පමණක් කළ යුතු යැයි ඉල්ලා සිටිමින් (254—255 පිටු), සිය සැබෑ ස්වරූපය වහාම හෙළි කළහ. (පක්ෂයේ ''සාමාජිකත්වය'' සඳහා) වැඩ පිළිවෙළේ ''මූලික ප්‍රතිපත්ති'' පමණක් පිළිගත යුතු යැයි ඔවුහු ඉල්ලා සිටියහ. ''මාර්තව් සහෝදරයාගේ මතය අනුව, අකීමව් සහෝදරයාගේ යෝජනාව සම්පූර්ණයෙන්ම තර්කානුකූල යැ''යි පව්ලෝවිච් සහෝදරයා සඳහන් කළේය. අකීමව්ගේ යෝජනාවට ඡන්ද කීයක් ලැබුණේද යන්න අවාසනාවකට මෙන් අපට වාර්තාවෙන් බලාගත නොහැකිය. අනුමාන වශයෙන් එය ඡන්ද හතකට (බුන්ඩ් සංවිධානයේ පස්දෙනාත්, අකීමව් සහ බෲකෙර්) නොඅඩුය. සමුළුවෙන් නියෝජිතයින් හත්දෙනෙක් ඉල්ලා අස්වීම නිසා ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටසින් පටන් ගත් සුසංහිත බහුතරය''

---

* එයට පක්ෂව ඡන්ද විසි අටක්ද විපක්ෂව ඡන්ද විසි දෙකක්ද ලැබිණි. ඉස්ක්‍රාවිරෝධීන් අට දෙනාගෙන් හත් දෙනෙක්ම මාර්තව්ට පක්ෂය ඡන්දය දුන්හ. මගේ පැත්ත ගත්තේ එක් කෙනෙකු පමණකි. අවස්ථාවාදීන්ගේ ආධාරය නැතිව, මාර්තව් සහෝදරයාට තම අවස්ථාවාදී යෙදුම සම්මත කරවා ගැනීමට බැරි වනු ඇත. (ලීග් සමුළුවේදී මේ ස්ථිර සත්‍යය නිෂ්ප්‍රභ කිරීමට මාර්තව් සහෝදරයා අසාර්ථක ප්‍රයත්නයක යෙදුනේය. යම් හේතුවක් නිසා ඔහු බුන්ඩ් නියෝජිතයින්ගේ ඡන්දය ගැන මතක් කරමින් අකීමව් සහ ඔහුගේ මිතුරන් ගැන අමතක කළේය. බෲකෙර් සහෝදරයා මා සමග එකඟවීම ගැන මතක් කරමින්, මට පහර දීමේදී පමණක් ඔහු ඔවුන් ගැන මතක් කළ බව කිව යුතුය.

(ඉස්ක්‍රාවිරෝධීන්, ''මධ්‍යස්ථ පිරිස සහ මාර්තව්වාදීන්) සුසංහිත අල්පතරය දක්වා අඩුවිය! පැරණි කර්තෘ මණ්ඩලය පිළිගැනීමේ යෝජනාව -- ''ඉස්ක්‍රා''කර්තෘ මණ්ඩලයේ ''අවිච්ඡින්නතාවය'' දැඩි ලෙස උල්ලංඝණය කරන්නේ යැයි කියනු ලබන — පරාජය වූයේ නියෝජිතයින් හත්දෙනෙකු ඉල්ලා අස්වූ බැවිනි! ''ඉස්ක්‍රාවේ'' ''අවිච්ඡින්නතාවය'' සහතික කරන සහ එහි එකම විමුක්තිය වන පළමුවැනි හත්දෙනා බුන්ඩ් සංවිධානයේ පස්දෙනා සහ අකීමව් හා බ්රුකෙර් වූහ. ''ඉස්ක්‍රාව'' මධ්‍යම පුවත්පත හැටියට පිළිගැනීමේ අභිමතයට විරුද්ධව ඡන්දය දුන්නෝද මේ නියෝජිතවරුය, සම්මේලනය විසින් කීපවාරයක් අවස්ථාවාදීන් ලෙස පිළිගත්තේද, වැඩ පිළිවෙළේ පළමුවැනි කොටසේ සැර බාල කිරීම නිසා විශේෂයෙන් මාර්තව් සහ ප්ලෙහානව් විසින් අවස්ථාවාදීන් ලෙස පිළිගත්තේද මේ නියෝජිතවරුන්වය. ''ඉස්ක්‍රාවේ'' ''අවිච්ඡින්නය'' ආරක්ෂා කරන්නේ ඉස්ක්‍රාවිරෝධීන් විසිනි! මෙය අප පශ්චාත් සමුළු ශෝකාභාසයක ආරම්භයට ගෙන යයි.

* * *

භාෂා සමානත්වය පිළිබඳ සිද්ධියට සම්පූර්ණයෙන්ම සමාන ප්‍රපංචයක්, ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටසට ඡන්දය දීමේදී කාණ්ඩ ගැසීමෙන් හෙළි විය. ''ඉස්ක්‍රා'' බහුතරයෙන් හතරෙන් කොටසක් (අඩු වැඩි වශයෙන්) ඈත් වීම නිසා ''මධ්‍යස්ථ පිරිසේ'' ආධාරය ලැබුණු ඉස්ක්‍රාවිරෝධීන්ගේ ජයග්‍රහණයට හේතු විය. චිත්‍රයේ සමමිතියට බාධා කරන පෞද්ගලික ඡන්ද තිබුණු බව සත්‍යයකි. විශේෂයෙන් පළමුවැනි කොටස වැනි ප්‍රශ්නයකදී අහම්බෙන් එක් පැත්තකට හෝ ඡන්දය දෙන ''මංමුළාවූවන්'' අප සමුළුව වැනි විශාල රැස්වීමෙක සිටීමට පිළිවන. මතභේදයේ සැබෑ ස්වරූපය පිළිබිඹු කිරීම ආරම්භ වීමට පටන් ගත්තේ පළමුවැනි කොටසිනි. බොහෝ නියෝජිතයින්ට කරුණු තෝරා බේරා ගැනීමට තවමත් හැකියාවක් නොතිබිණි (පුවත්පත් මගින් ඊට පෙර මේ ප්‍රශ්නය ගැන සාකච්ඡා ඇති නොවූ බැවිනි). ''ඉස්ක්‍රාවේ'' බහුතරයෙන් ඡන්ද පහක් (ඡන්ද දෙකක් බැගින් හිමි රූසව් සහ ක්‍රාර්ස්කිද, එක් ඡන්දයක් හිමි ලේන්ස්කිද) ඈත් විය. අනිත් අතින් ඔවුනට එක් ඉස්ක්‍රාවිරෝධියෙක්ද (බ්රුකෙර්), මධ්‍යස්ථ පිරිසේන් තිදෙනෙක්ද (මීඩ්වේඩෙව්, යෙගෝරව්, ට්සරියොව්) එකතු වූහ. මෙහි ප්‍රතිඵලය වූයේ ඡන්ද විසි තුනකි (24—5+4), අවසාන ඡන්ද විමසීමේදී ඇතිවූ කාණ්ඩ ගැසීමට වඩා එක් ඡන්දයකින් අඩු විය. මාර්තව්ට බහුතරයක් ලබා දුන්නේ ඉස්ක්‍රාවිරෝධීන්ය. මින් හත්දෙනෙක් මාර්තව්ට පක්ෂවද එක් කෙනෙක් මට පක්ෂවද ඡන්දය දුන්හ. (''මධ්‍යස්ථ පිරිසේ'' ඡන්දවලින් හතක් මාර්තව්ටද, තුනක් මටද



ලැබිණි). සමුළුව අවසානයේදී සුසංහිත අල්පතරයක් ඇති කළේ ඉස්ක්‍රාවාදීන්ගේ අල්පතරයේද, ඉස්ක්‍රාවිරෝධීන්ගේද සහ ''මධ්‍යස්ථ පිරිසේ''ද සභාගය විසිනි. සමුළුවට අනතුරුව මෙය හැඩ ගැසෙන්නට විය. පළමුවැනි කොටස සූත්‍රගත කිරීමේදීද, විශේෂයෙන් එම යෙදුම ආරක්ෂා කිරීමේදීද, සැක රහිතවම අවස්ථාවාදය දෙසට සහ අරාජික පෞද්ගලිකවාදය දෙසට පියවරක් තැබූ මාර්තව්ගේ සහ අක්සල්රොඩ්ගේ දේශපාලනමය වරද, සමුළුව විසින් ඉදිරිපත් කරන ලද නිදහස් හා විවෘත වේදිකාව නිසා විශේෂයෙන්ම හෙළි විය. විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ මතවල ඇතිවූ පැල්ම, බිඳීම පුළුල් කිරීම සඳහා ස්ථිරත්වයෙන් ඉතා අඩු කොටස්ද, මූලධර්ම අතින් ඉතා ලිහිල් කොටස්ද එකවර මුළු මහත් ශක්තිය යෙදීම නිසා එය හෙළි විය. සංවිධානාත්මක කරුණුවලදී විවිධ අරමුණු සඳහා එළිපිටම ක්‍රියා කළ මිනිස්සු සමුළුවේදී එකට වැඩ කළහ (අකීමව්ගේ කතාව බලන්න). අපේ සංවිධානාත්මක සැලැස්මට සහ අපේ ව්‍යවස්ථා මාලාවට ප්‍රතිපත්ති මූලක වශයෙන් විරුද්ධ අය මාර්තව් සහ අක්සල්රොඩ් සහෝදරවරුන්ගේ වරදට පක්ෂපාත වීමට එකවරම බල කරන තත්වයක් ඇති විය. මේ ප්‍රශ්නයේදීද විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මතවලට අවංක ලෙස පක්ෂපාත වී සිටි ඉස්ක්‍රාවාදීන් අල්පතරයට ඇද වැටිණි. මෙය ඉතා වැදගත් කරුණකි. මන්දයත් මෙය වටහා නොගෙන ව්‍යවස්ථාවල විස්තරය පිළිබඳව ඇති වූ අරගලය ගැනද මධ්‍යම පුවත්පතට සහ මධ්‍යම කාරක සභාවට තෝරා පත් කරන පුද්ගලයින්ගේ සංයෝජනය පිළිබඳව ඇති වූ අරගලය ගැනද අවබෝධ කැර ගැනීමට කොහෙත්ම බැරි වන බැවිනි.

## 10. අවස්ථාවාදය පිළිබඳ ව්‍යාජ චෝදනාවට හසුවූ අහිංසකයෝ

ව්‍යවස්ථා මාලාව ගැන තවදුරටත් සාකච්ඡා කිරීමට පෙර මධ්‍යම කාරක සභාවට තෝරාපත් කරන පුද්ගලයින්ගේ කවුරුන්ද යන්න පිළිබඳව අප අතර ඇති වූ වෙනස්කම් ගැන පැහැදිලි කිරීම සඳහා, සමුළුව පැවති කාලයේදී, පවත්වන ලද ''ඉස්ක්‍රා'' සංවිධානයේ පෞද්ගලික රැස්වීම් ගැන මතක් කිරීම අවශ්‍යය. මේ රැස්වීම් හතරෙන් අවසාන සහ ඉතා වැදගත් රැස්වීම ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටස සඳහා ඡන්දය විමසූ විගස පවත්වන ලදී. ඒ අනුව මේ රැස්වීමේදී ඇති වූ ''ඉස්ක්‍රා'' සංවිධානයේ භේදය පසුව ඇති වූ අරගලයේ කාලීන සහ තර්කානුකූල පූර්වලක්ෂණයක් විය.

සංවිධායක කමිටුවේ සිද්ධියෙන් අනතුරුව ''ඉස්ක්‍රා'' සංවිධානය පෞද්ගලික රැස්වීම්* තැබීමට පටන් ගත් අතර මධ්‍යම කාරක සභාවට තෝරාපත් කරගත හැකි අපේක්ෂකයින් පිළිබඳව සාකච්ඡා කිරීමට මේ සිද්ධිය තුඩු දුන්නේය. තීරණවලින් බැඳී සිටීමේ අවශ්‍යතාවය අහෝසිකර දැමූ නිසා මේ රැස්වීම් හුදු උපදේශාත්මක ස්වරූපයක් ගත් අතර ඒවායේ තීරණ කිසිවකුට බල නොපාන බව ඉබේටම තේරුම් යන දෙයක් විය. එහෙත් මේ රැස්වීම්වල වැදගත්කම අති මහත්ය. මධ්‍යම කාරක සභාවට අපේක්ෂකයින් තෝරා ගැනීමේදී නියෝජිතවරුන්ට සැහෙන අමාරුවකට මූණ පෑමට සිදු විය. මේ අය රහසේ වැඩ කරන්නන්ගේ නම් හෝ සැබෑ පක්ෂ සංවිධානයක් බිහිකළ ''ඉස්ක්‍රා'' සංවිධානයේ අභ්‍යන්තර වැඩ කටයුතු ගැන හෝ නොදැන සිටියහ. ''ඉස්ක්‍රා'' නියත වශයෙන් පක්ෂ සමගිය ගොඩ නැගූ සහ ප්‍රායෝගික ව්‍යාපාරයට නායකත්වය දුන් සංවිධානය වීම ''ඉස්ක්‍රාව'' නිල පුවත්පත ලෙස තෝරා ගැනීමට එක් හේතුවක් විය. ඉස්ක්‍රාවාදීන් අතර සමගියක් තිබිණි නම්, සමුළුවේදී ඔවුන්ට, පහෙන් තුන් පංගුවක් පමණ වූ විශාල බහුතරයක් ස්ථිර ලෙසම දිනා ගැනීමට ඉඩ තිබුණු බව අපි දැනටමත් දැක ඇත්තෙමු. නියෝජිතවරු සියලු දෙනාම මෙය ඉතා හොඳින් වටහා ගෙන සිටියහ. මධ්‍යම කාරක සභාවට තෝරාපත් කරගත යුතු පුද්ගලයින්ගේ පිළිබඳව ''ඉස්ක්‍රා'' සංවිධානය ස්ථිර රෙකමදාරුවක් කරතියි සියලු ඉස්ක්‍රාවාදීහු බලාපොරොත්තු වූහ. මධ්‍යම කාරක සභාවේ සංයුතිය පිළිබඳව මූලික සාකච්ඡාවක් ''ඉස්ක්‍රා'' සංවිධානය තුළ පැවැත්වීම ගැන එම සංවිධානයේ එකම සාමාජිකයකුවත් විරුද්ධ නොවීය. සංවිධායක කමිටුවේ සියලු සාමාජිකයින්ගේ නම් සම්මත කිරීම, එනම් එම සංවිධානය මධ්‍යම කාරක සභාවට පරිවර්තනය කිරීම ගැන එකම සාමාජිකයකුවත් ඉඟියක් පවා නොකළේය. නැතිනම් මධ්‍යම කාරක සභාවට සුදුසු අපේක්ෂකයින් ගැන මුළු සංවිධායක කමිටුව සමග සාකච්ඡා කිරීම ගැන පවා එවැනි ඉඟියක් නොවීය. මේ තත්ත්වයද ඉතාමත්ම වැදගත්ය, එය අමතක නොකිරීමද අතිශයින්ම වැදගත්ය. මන්දයත් දැන්, සිද්ධියෙන් ඉක්බිතිව මාර්තව්වාදීන් ඉමහත් ඕනෑකමකින් සංවිධායක කමිටුව ආරක්ෂා කරන බැවිනි. ඒ අනුව ඔවුහු සිය දේශපාලනමය චපලත්වය* ද සිය දහස්වැනි වරටත් ඔප්පු කරති. මධ්‍යම මණ්ඩල පිළිබඳ ප්‍රශ්නයේදී ඇති වූ බෙදීයාමට නායකත්වය දුන් මාර්තව් අකීමව් සමග සමගි වන තුරු එක් කරුණක් පැහැදිලි විය. සමුළුවේ වාර්තාවලින් සහ ''ඉස්ක්‍රාවේ'' මුළු මහත් ඉතිහාසයෙන් එය සමුළුවේ හැම දෙනාටම ඉතා පහසුවෙන් වටහා ගත හැකි විය. එනම්, සංවිධායක කමිටුව ප්‍රධාන වශයෙන් සමුළුව කැඳවීමට පත්කළ කොමිෂන් සභාවක් බවත්, බූන්ඩ්වාදීන් ඇතුළු විවිධ මත දරන නියෝජිතයින් වුවමනාවෙන්ම ඇතුළත් කරන ලද කොමිෂන් සභාවක් බවත්, පක්ෂයේ සංවිධානාත්මක සමගිය බිහි කිරීමේ සැබෑ වැඩ කොටස ''ඉස්ක්‍රා'' සංවිධානය විසින් ඉටු කළ බවත්ය. (සංවිධායක කමිටුවේ සිටි ඉස්ක්‍රාවාදීන් කීපදෙනෙකුම අහම්බෙන් සමුළුවේ වැඩවලට සහභාගි නොවූ බව මතක තබා ගත යුතුය. මෙයට හේතුව, එක්කෝ ඔවුන් සිරභාරයට ගනු ලැබීමය, නැතිනම් ''ඔවුන්ගේ පාලනයෙන් පරිබාහිරව ඇති වූ '' වෙනත් හේතූන්ය.) සමුළුවට සහභාගි වූ ''ඉස්ක්‍රා'' සංවිධානයේ සාමාජිකයින් පව්ලොවිච් සහෝදරයා විසින් සිය පොත් පිංචෙහි සටහන් කරන ලදී. (ඔහුගේ ''දෙවැනි සමුළුව ගැන ලිපිය'' බලන්න; රුසියන් මුද්‍රණයේ 13 පිටුව).[22]

''ඉස්ක්‍රා'' සංවිධානයේ උණුසුම් විවාදවල අවසාන ප්‍රතිඵලය වූයේ මවිසින් ''කතෘවරුන්ට ලියුමෙහි'' සඳහන් කළ ඡන්ද විමසීම් දෙකය. පළමුවැනි ඡන්ද විමසීම: ''මාර්තව්ගේ ආධාරය ලැබූ එක් අපේක්ෂකයෙකුට පක්ෂව ඡන්ද හතරක්ද විරුද්ධව ඡන්ද නවයක්ද ලැබූ ඔහු ප්‍රතික්ෂේප වීම. තිදෙනෙක් ඡන්දය දීමෙන් වැළකුණහ.'' මෙවැනි සත්‍ය කරුණකට වඩා සරළ හා ස්වාභාවික දෙයක් තවත් ඇත්දැයි කෙනෙකුට සිතිය හැකිය. සමුළුවේ ''ඉස්ක්‍රා'' සංවිධානයේ සාමාජිකයින් දහසය දෙනාගේ පොදු කැමැත්ත අනුව අපේක්ෂයින් විය හැකි පුද්ගලයින් පිළිබඳව සාකච්ඡා කරන ලදී. මාර්තව්ගේ එක් අපේක්ෂකයකු බහුතරය විසින් ප්‍රතික්ෂේප කරන ලදී (මාර්තව් සහෝදරයා විසින්ම ඉවසිලි රහිත ලෙස දැන් ප්‍රකාශ

* ලීග් සමුළුවේදී, පෞද්ගලික රැස්වීම්වලදී සිදුවූ දේ ගැන විස්තරයක් කිරීමට මම උත්සාහ ගතිමි. විසඳිය නොහැකි තර්කවලින් වැළැකීම සඳහා ඉතා වැදගත් කරුණු ගැන පමණක් මම මතක් කළෙමි. ''ඉස්ක්‍රාවේ'' කතෘවරුන්ට මා යැවූ ලිපියෙන්ද මම ප්‍රධාන කරුණු ඉදිරිපත් කළෙමි (4 පිටුව). මාර්තව් සහෝදරයා සිය පිළිතුරේදී ඒවාට අභියෝග නොකළේය.

* මේ ''සදාචාරය පිළිබඳ චිත්‍රය'' ගැන සිතා බලන්න: ''ඉස්ක්‍රා'' සංවිධානයේ නියෝජිතයෙක් සමුළුවේදී එය සමග පමණක් සාකච්ඡා කරයි, සංවිධායක කමිටුව සමග සාකච්ඡා කිරීම ගැන ඉඟියකුදු නොකරයි. එහෙත් ඔහු සංවිධායක කමිටුවේදී සහ සමුළුවේදී පරාජය ලැබූ පසු සං. ක. සම්මත නොකිරීම ගැන කනගාටු වෙයි, තමාට නියෝජිත බලය ලබාදුන් සංවිධානය ඉමහත් ලෙස අමතක කරමින් ඔහු සං. ක. නමින් අතීතයටද බලපාන සේ තුති ගී ගයයි. මෙයට සමාන සිද්ධියක් සැබෑ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සහ සැබෑ කම්කරු පංති පක්ෂයක ඉතිහාසයේ නැති බවට ස්ථිර ලෙසම ප්‍රකාශ කළ හැකිය.

කර ඇති පරිදි, ඔහු ෂ්ටෙයින් සහෝදරයාය — ''වැටලීමේ තත්ත්වය'', 69 පිටුව). පක්ෂ සමුළුවේදී අප රැස්වූ එක් හේතුවක් නම්, ''සන්නායකගේ යෂ්ටිය'' භාර දිය යුත්තේ කාටද යන්න සාකච්ඡා කොට තීරණය ගැනීම සඳහාය. න්‍යාය පත්‍රයේ මේ කාර්යය ගැන ඉතා බැරෑරුම් ලෙස සලකා බැලීම, පසුකලෙක රූසව් සහෝදරයා නිවැරදි ලෙස ප්‍රකාශ කළ පරිදි ''අවරසික හැඟීම්'' අනුව නොව, වැඩවල වුවමනාවන් අනුව මේ ප්‍රශ්නය ගැන තීරණය කිරීම පක්ෂයේ සාමාජිකයින් වන අපගේ පොදු යුතුකම වන්නේය. සත්තකින්ම සමුළුවේදී අපේක්ෂකයින් ගැන සාකච්ඡා කිරීමේදී, විශේෂයෙන්ම නිල නොවන සහ කුලුපග රැස්වීමකදී සමහර පෞද්ගලික ගුණයන් ගැන සලකා බැලීමටත් අපේ අනුමැතිය හෝ ප්‍රතික්ෂේපය ප්‍රකාශ කිරීමටත්* සත්තකින්ම සිදුවේ. මා මීට පෙර ලීග් සමුළුවේදී පෙන්වා දුන් පරිදි අපේක්ෂකයකු ප්‍රතික්ෂේප කළ විට ඔහු අවමානයට ලක් කළහයි සිතීම හාස්‍යජනකය (ලීග් වාර්තා 49 පිටුව) එසේම, පක්ෂයේ වගකීමක වන සවිඥානක ලෙස සහ සුපරික්ෂාකාරී ලෙස නිලධාරීන් තෝරාපත් කිරීමේ ඍජු කාර්ය භාරයට පක්ෂ සාමාජිකයින් එළඹෙන විට එයට විරුද්ධව ''කලබලයක්'' කිරීම හා වාතසන්නි රෝගියකු සේ හැසිරීමද හාස්‍ය ජනකය. එහෙත් අපේ අල්පතරය ගැන කියන්නේ නම්, ඇවිලෙන ගින්නට තෙල් දැමුවේද මෙය විසිනි. සමුළුවට පසුව ඔවුන් ''කීර්තිය විනාශ කිරීම'' ගැන කෑගසන්නට විය (ලීග් වාර්තා 70 පිටුව). පැරණි සංවිධාන කමිටුවේ ''ප්‍රධාන පුද්ගලයා'' ෂ්ටෙයින් සහෝදරයා වූ බව පුවත්පත් මගින් පොදු ජනතාවට ප්‍රකාශ කිරීම සහ ඔහුට

* මගේ ප්‍රතික්ෂේපයේ දැඩි බවට විරුද්ධව මාර්තව් සහෝදරයා කටුක ලෙස දුක් ගැනවිලි කියා පෑවේය. ඔහුගේ මේ දුක් ගැනවිල්ල ඔහුට විරුද්ධව තර්කයක් වන සැටි දැකීමට ඔහු අපොහොසත් විය. ඔහුගේම ප්‍රකාශය පාවිච්චි කරන්නේ නම්, ලෙනින් කෝපාන්විත ලෙස හැසුරුණේය (ලීග් වාර්තා 63 පිටුව). එය එසේය. ඔහු හඬ නගින සේ දොර වැසීය. සත්‍යයකි. ඔහුගේ හැසිරීම (''ඉස්ක්‍රා'' සංවිධානයේ දෙවැනි හෝ තෙවැනි රැස්වීමේදී) රැස්වීමේදී ඉතිරි වූ සාමාජිකයින්ගේ කෝපයට භාජන විය. එසේ සිදුවිය. — එහෙත් ඉන් සිදුවූ දේ මොනවාද? විවාදයට ලක්වී ඇති ප්‍රශ්නවල හරය පිළිබඳව මගේ තර්ක ඒත්තු යන ඒවා වීම සහ සමුළුවේ සිද්ධීන් විසින් ඒවා සනාථ වීම පමණකි. ''ඉස්ක්‍රා'' සංවිධානයේ සාමාජිකයින් 16 දෙනාගෙන් නව දෙනෙක් අවසානයේදී මට පක්ෂ වූහ. මෙසේ වූයේ මගේ කෝපාන්විත හැසිරීමද නොසලකා බව පැහැදිලිය. ඒ අනුව මගේ මේ කෝපාන්විත හැසිරීම නිසා නොවේ නම්, නව දෙනෙකුට වඩා වැඩි සංඛ්‍යාවක් මට පක්ෂ වන්නට තිබිණි. මා ඉදිරිපත් කළ තර්කවලට බාධක වූ''කෝපාන්විත භාවය''වැඩි වූ තරමට, එය වඩාත් අවබෝධ ගන්වන සුලු වූවා විය හැකිය.



විරුද්ධව පාපිෂ්ඨ කුමන්ත්‍රණ තිබුණු ප්‍රකාශ කිරීමත් ඔවුන් විසින් කරන ලදී. (''වැටලීමේ තත්ත්වය'', 69 පිටුව). අපේක්ෂකයින් පිළිගැනීම හෝ ප්‍රතික්ෂේප කිරීම පිළිබඳව ''කීර්තිය විනාශ කිරීමක්'' ගැන කෑගැසීම වාතසන්නි රෝගයක් නොවන්නේද? ''ඉස්ක්‍රා'' සංවිධානයේ පෞද්ගලික රැස්වීමකදීද, පක්ෂයේ නිලලත් උත්තරීතර මණ්ඩලය වන සමුළුවේදීද පරාජයට පත් පුද්ගලයින්, හැම දෙනා වෙතම දුක් ගැනවිලි ඉදිරිපත් කරමින්, ප්‍රතික්ෂේප කරන ලද අපේක්ෂකයින් ''ප්‍රධාන පුද්ගලයින්'' හැටියට ගරු කටයුතු මහජනතාවට රෙකමදරු කිරීමද, පක්ෂය තුළ භේදයක් ඇති කරමින්, පරාජය ලැබූ ඔවුන්ගේ අපේක්ෂකයන් සම්බන්ධකර ගන්නා ලෙස පක්ෂයට බල කිරීමද, ඔවුන් මධ්‍යම කාරක සභාවට ඇඳා ගත යුතු යැයි ඉල්ලා සිටිමද, දඹර කිරීමක් නොවන්නේද? අපේ විදේශගත දේශපාලන ජීවිතයේ පුස් බැඳුණු වටපිටාව නිසා දේශපාලන සංකල්ප කෙතරම් ව්‍යාකූල වී තිබේදයත් මාර්තව් සහෝදරයාට තවදුරටත් පක්ෂයේ යුතුකම පෞද්ගලික සහ කට්ටිවාදී බැඳීම්වලින් වෙන්කොට හඳුණා ගැනීමට බැරි විය. ඉතා වැදගත් ප්‍රතිපත්ති මූලික ප්‍රශ්න ගැන සාකච්ඡා කිරීම සඳහා නියෝජිතයින් රැස්වන, පෞද්ගලිකත්වය පිළිබඳ ප්‍රශ්නය පක්ෂ භජනයෙන් තොරව විසඳීමෙහි සමත්, සිය තීරණාත්මක චන්දය දීමට පෙර අපේක්ෂකයින් පිළිබඳව සියලු අවශ්‍ය තොරතුරු ඉල්ලා සිටීමෙහි සමත් (එය සිය යුතුකම ලෙස සලකන), ව්‍යාපාරයෙහි නියෝජිතයින් රැස්වන මග සන්නායකගේ යෂ්ටිය භාර දීම පිළිබඳව ප්‍රශ්නය ගැන ස්වාභාවික ලෙසත්, අත්‍යාවශ්‍ය ලෙසත් තර්ක කිරීමට ඉඩ ඇති ස්ථානයක් වන පක්ෂ සමුළුවේදී පමණක් අපේක්ෂකයින් ගැන සාකච්ඡා කිරීමේ සහ තීරණයන් ගැනීමේ ප්‍රශ්නය නිලධාරිවාදී සහ ආකාර ප්‍රධාන්‍යවාදය ලෙස පිළිගත යුතු යැයි අපට කියති. මේ නිලධාරිවාදී සහ විධිවත් මත වෙනුවට දැන් අප අතර වෙනත් ව්‍යවහාරයන් සහ සිරිත් මතුවී ඇත: සමුළුවෙන් අනතුරුව අප යම්කිසි ඉවාන් ඉවානවිච් කෙනෙකුගේ දේශපාලනමය භූමදානය ගැන හෝ යම්කිසි ඉවාන් නිකීfපරවිච් කෙනෙකුගේ[23] විනාශ කළ කීර්තිය ගැන හෝ දිගට හරහට කතා කළ යුතුය. ලේඛකයින් කුඩා පොත් මගින් අපේක්ෂකයින් රෙකමදරු කරන අතර තම පපුවලට ගසා ගනිමින් කෛරාටික ලෙස මෙසේ කිව යුතුය: මෙය කවයක් නොවේ, මෙය පක්ෂයකි... ඕපාදූප කියවීමට රුචියක් ඇති පාඨක ලෝකයා මාර්තව්ගේ* ම සහතිකය අනුව, අසවල් පුද්ගලයා සංවිධායක කමිටුවේ

* මාත් මාර්තව් මෙන්ම, ''ඉස්ක්‍රා'' සංවිධානයේදී එක්තරා අපේක්ෂකයකු මධ්‍යම කාරක සභාවට නම් කරවා ගැනීමට උත්සාහ ගත් නමුදු එය අසාර්ථක විය. සමුළුවට පෙර සහ සමුළුවේ මුල් කාලයේදී මේ අපේ-

ප්‍රධානියා වී සිටියේ යැයි කියන සංවේදනීය පුවත් ආශාවකින් කියවනු ඇත. බහුතර ඡන්දය නැමැති ගොරහැඩි යාන්ත්‍රික තීරණය සහිත සමුළු වැනි විධිමත් ආයතනවලට වඩා ඉතා දක්ෂ ලෙස එම ප්‍රශ්නය සාකච්ඡා කොට විසඳාලීමට තරම් නිපුණත්වයක් මේ පාඨක ලෝකයාට ඇත්තේය... පක්ෂයේ නියම ක්‍රියාකාරීන් විසින් පිරිසුදු කළ යුතු, විදේශ ගතවී සිටින්නන්ගේ කලහවලින් පිරුණු, ඔව්ගියස් රජුගේ අස්ස ඉස්තාලය[24] බඳු කසල ගොඩවල් තවම ඉතිරිව ඇත!

---

"ඉස්ක්‍රා" සංවිධානයේ දෙවැනි ඡන්ද විමසීම: "මධ්‍යම කාරක සභාවට අපේක්ෂකයින් පස්දෙනෙකු — මෙයට මගේ යෝජනාවක් අනුව "ඉස්ක්‍රා" නොවන කොටස්වල නායකයකුගේ නමද, "ඉස්ක්‍රා" අල්පතරයේ එක් නායකයකුගේ නමක්ද ඇතුළු කරන ලදී — ඇතුලත් ලැයිස්තුවකට පක්ෂව ඡන්ද දහයක්ද, විරුද්ධව ඡන්ද දෙකක්ද, මධ්‍යස්ථව ඡන්ද හතරක්ද ලැබීමෙන් එය සම්මත විය." මෙම ඡන්ද විමසීම ඉතා වැදගත්ය. මන්දයත්, ඉස්ක්‍රාවාදීන් නොවන අය පක්ෂයෙන් ඉවත්කර ලීමට හෝ අයින්කර තැබීමට අපට වුවමනා වූ බවද, බහුතරය සමුළුවේ එක් භාගයකින් පමණක් අපේක්ෂකයින් තෝරා ගෙන, එම භාගයේ ඡන්දයෙන් ඔවුන් තෝරාපත් කළ බවද කියන කලහකාරී වටපිටාවේ පසුකලෙක මවාපා තිබෙන කතාවල ව්‍යාජ භාවය එයින් ස්ථිර ලෙස ඔප්පු වන බැවිනි. මේවා සියල්ල අමූලික බොරුය. මවිසින් පෙන්වා දී ඇති ඡන්ද විමසීම අනුව ඉස්ක්‍රාවාදීන් නොවන අයව පක්ෂයෙන් තබා මධ්‍යම කාරක සභාවෙන් පවා ඇත් කර නැති අතර අපේ විරුද්ධකරුවන්ට අප සැහෙන අල්පතරයක් ලබා දී ඇති බවද හෙළි වෙයි. එහෙත් ප්‍රධාන කරුණ ඔවුනට බහුතරයක් අවශ්‍ය වීමය, මේ වාම් අභිප්‍රායය අසාර්ථක වූ විට, ඔවුහු කලහයක් ආරම්භ කොට මධ්‍යම සංවිධානවලට තෝරා පත්වීම සම්පූර්ණයෙන්ම ප්‍රතික්ෂේප කළහ. ලීගයේදී මාර්තව් සහෝදරයා විසින් දෙන ලද සහතිකවලට පටහැනිව සිදුවූ දේ එසේ විය. ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටස සමුළුව විසින් පිළිගත් විගස, "ඉස්ක්‍රා" සංවිධානයේ අල්පතරය ඉස්ක්‍රාවාදීන්ගේ බහුතරය (හත්දෙනා ඉල්ලා අස්වීමෙන් ඉක්බිතිව සමුළුවේ බහුතරය) වෙත එවන ලද පහත සටහන් ලිපියෙන් ඒ බව පෙනේ.

---

ක්ෂකයාගේ අනගිතම කීර්තිය සම්භාවනීය සත්‍ය කරුණුවලින් ඔප්පු වී තිබිණි. මටත් ඒ ගැන කතා කළ හැකිව තිබිණි. එහෙත් ඒ මා සිතුවේ වත් නැත. සමුළුවට පසුව මුද්‍රණය මගින් සිය අපේක්ෂකත්වය ඉදිරිපත් නොකිරීමට සහ දේශපාලනය භූමදනයත් සහ විනාශ කළ කීර්තිය ගැන දුක් ගැනවිලි ඉදිරිපත් නොකිරීමට තරම් ආත්ම ගරුත්වයක් මොහුට ඇත්තේය.



(මා සඳහන් කළ "ඉස්ක්‍රා" සංවිධානයේ රැස්වීම අවසාන එක වූ බව අවධාරණය කළ යුතුය. ඉන් අනතුරුව සැබවින්ම සංවිධානය කැඩිණි. එහි එක් එක් අංශයක් සිය මතය නිවැරදි බව සමුළු නියෝජිතයින්ට ඒත්තු ගැන්වීමට වෑයම් කළේය).

එවන ලද ලිපියේ පෙළ මෙසේය:

"රැස්වීමට (අසුවල් දවසේ*) සහභාගි වීමට කර්තෘ මණ්ඩලයේ බහුතරයේ සහ "ශ්‍රම විමුක්තිය" කණ්ඩායමේ අභිප්‍රාය පිළිබඳව, නියෝජිතවරුන් වන සරෝකින් සහ සාබ්ලිනා විසින් කරන ලද විස්තරය ඇසීමෙන් ඉක්බිතිව, මේ නියෝජිතයින්ගේ ආධාරය ඇතිව, අප විසින් ඉදිරිපත් කරන ලදැයි කියනු ලබන, මධ්‍යම කාරක සභා අපේක්ෂකයින්ගේ නම් ලැයිස්තුවක් පසුගිය රැස්වීමේදී කියැවූ බව දැනගැනීමෙන් සහ එය අපේ මුළු දේශපාලන තත්ත්වය වැරදි ලෙස පෙන්වා දීමට පාවිච්චි කළ බව දැනගැනීමෙන් ඉක්බිතිව, පළමුව මේ ලැයිස්තුවේ සැබෑ ප්‍රභවය ගැන නොසොයා එය අප මත පැටවීම ගැන සිහි තබා ගනිමින්, දෙවැනිව මෙම තත්ත්වය නිසැකයෙන්ම "ඉස්ක්‍රා" කර්තෘ මණ්ඩලයේ බහුතරයට සහ "ශ්‍රම විමුක්තිය" කණ්ඩායමට විරුද්ධව අවස්ථාවාදයේ චෝදනාවක් එළිපිටම බෙදා හැරීම සමග සම්බන්ධ බව පෙන්වා දෙමින්, තෙවැනිව මේ චෝදනාව, අපට පැහැදිලි ලෙසම පෙනී ගොස් ඇති පරිදි, "ඉස්ක්‍රාවේ" කර්තෘ මණ්ඩලයේ සංයුතිය වෙනස් කිරීමේ නියත සැලැස්මක් සමග සම්බන්ධ බව පෙන්වා දිය යුතු බව පෙන්වා දෙමින්, අපට රැස්වීමට සහභාගි වීමට ඉඩ නොදීමේ හේතූන් සතුටුදායක නොවන බව අප කල්පනා කරන බවද, අපට රැස්වීමට සහභාගි වීමට ඉඩ නොදීම, අප විසින් ඉහත සටහන් කරන ලද බොරු චෝදනා පිළිබඳව සත්‍යය ප්‍රකාශ කිරීමට අපට ඉඩ ප්‍රස්තාවක් ලබා නොදීමට අවශ්‍ය වූ බව ඔප්පු කරන්නක් බව ද අපි ප්‍රකාශ කරන්නෙමු.

"මධ්‍යම කාරක සභාව සඳහා අපේක්ෂකයින්ගේ ඒකාබද්ධ ලැයිස්තු-

---

* මට මතක හැටියට ලිපියේ සටහන් දවස අඟහරුවාද දිනයකි. රැස්වීම අඟහරුවාද හවස සමුළුවේ 28 වැනි රැස්වීම් වාරයට පසුව මේ රැස්වීම පවත්වන ලදී. මෙහිදී කාලික ක්‍රමය ඉතා වැදගත්ය. අප අතර මතභේදයක් ඇති වූයේ තෝරාපත් කරගත යුතු පුද්ගලයින් පිළිබඳව නොව මධ්‍යම මණ්ඩලවල සංවිධානය පිළිබඳ ප්‍රශ්නය උඩ යැයි මාර්තව් සහෝදරයා දරන අදහස නිෂ්ප්‍රභ කරන ලියවිල්ලකි මෙය. මෙය ලීග් සමුළුවේදී සහ "කර්තෘ මණ්ඩලයට ලිපියේ" මවිසින් කරන ලද ප්‍රකාශනයේ නිරවද්‍යතාවය ලියවිලි මගින් ඔප්පු කිරීමකි. සමුළුවේ 28 වැනි සැසි වාරයෙන් පසුව මාර්තව් සහ ස්තාරවේර් සහෝදරවරු අවස්ථාවාදය පිළිබඳ ව්‍යාජ චෝදනා ගැන බොහෝ දේ කීවෝය. එහෙත් මණ්ඩලයේ සංයෝජනය ගැන හෝ මධ්‍යම මණ්ඩලවලට ඈඳා ගැනීම ගැන හෝ (25, 26 සහ 27 සැසි වාරවලදී අපි මේ ගැන තර්ක කළෙමු) වචනයකුද නොකීවෝය.

වක් ගැන එකඟතාවයට පැමිණීමේ හැකියාවක් පිළිබඳව, අපි මෙසේ ප්‍රකාශ කරමු: එකඟතාවයට පදනමක් ලෙස අපට පිළිගත හැකි එකම ලැයිස්තුව පපෝව්, ට්‍රොට්ස්කි සහ ග්ලේබව් ය. ග්ලේබව් එම ලැයිස්තුවට ඇතුළු කර තිබීම බහුතරයේ අදහස්වලට වාසි දීමක් හැටියට පමණක් පිළිගත යුතු නිසා එය සම්මුති ලැයිස්තුවක් බව අපි වැඩි දුරටත් අවධාරණය කරමු. සමුළුවේදී ග්ලේබව් සහෝදරයා ඉටු කළ ක්‍රියා කලාපය දැන් අපට පැහැදිලි වී ඇති බැවින්, මධ්‍යම කාරක සභාවේ අපේක්ෂකයකුට තිබිය යුතු සුදුසුකම් ඔහුට තිබේ යැයි අපි පිළි නොගනිමු.

"මධ්‍යාම කරක සභාවට අපේක්ෂකයින් පිළිබඳව අප සාකච්ඡාවලට ඉදිරිපත් වුණද, මධ්‍යම පුවත්පතේ කර්තෘ මණ්ඩලයේ සංයුතිය පිළිබඳ ප්‍රශ්නය මෙයට කොහෙත්ම අදාළ නොවන බවත්, මේ ප්‍රශ්නය (කර්තෘ මණ්ඩලයේ සංයුතිය) පිළිබඳව කිසිදු සාකච්ඡාවකට ඉදිරිපත් වීමට අප සූදනම් නැති බවත් ඒ සමගම අපි අවධාරණය කරමු.

මීට සහෝදරවරුන් වෙනුවෙන්

මාර්තව් සහ ස්තාරවේර්"

විවාදයට එළඹ සිටින පක්ෂවල මනෝභාවය සහ විවාදයේ තත්ත්වය නියම ලෙස පිළිබිඹු කරන මෙම ලිපිය ආරම්භ වී ඇති භේදයේ "හදවත" තුළට අප එකවර ගෙන යයි. එමෙන්ම එහි සැබෑ තතු හෙළි කරයි. "ඉස්ක්‍රා" සංවිධානයේ අල්පතරය එහි බහුතරය සමග එකඟ වීම ප්‍රතික්ෂේප කරමින්, සමුළුවේදී උද්ඝෝෂණය කිරීමේ නිදහස තබා ගැනීමට කැමති විය. (සත්තකින්ම ඔවුන්ට එසේ කිරීමට පූර්ණ අයිතියක් ඇත) එසේ වුවද බහුතරයේ පෞද්ගලික රැස්වීමට තමන් ඇතුළු කර ගන්නා ලෙස බහුතරයේ නියෝජිතයින් පෙළඹවීමක ඔවුහු යෙදුණහ! ස්වභාවයෙන්ම, මේ හාස්‍යජනක ඉල්ලීම නිසා අපේ රැස්වීමේදී අපි මඳ සිනා පෑවෙමු. දෙවුර සෙළවීමු. අවස්ථාවාදයේ ව්‍යාජ චෝදනා පිළිබඳ වාතසන්නියට ළංවූ කෑගැසීම් නිසා අපි කොක් හඬ නගමින් සිනාසුනෙමු. එහෙත් අපි පළමුව මාර්තව්ගේ හා ස්තාරවේර්ගේ කටුක දුක්ගැනවිලි එකින් එක ගෙන පිරික්සා බලමු.

ලැයිස්තුව සාවද්‍ය ලෙස ඔවුන් පිට පටවා ඇත; ඔහුගේ දේශපාලන තත්ත්වය වැරදි ලෙස විග්‍රහ කර ඇත. එහෙත් මාර්තව්, ඔහු විසින්ම පිළිගත් පරිදි, (ලීග් වාර්තා 64 පිටුව) ලැයිස්තුවේ කතුවරයා ඔහු නොවේ යැයි කළ ප්‍රකාශනයේ සත්‍යතාවය ගැන සැක කිරීමට මා කල්පනා කළේවත් නැත. මෙහිදී සාමාන්‍ය වශයෙන් කතෘත්වය පිළිබඳ ප්‍රශ්නය කොහෙත්ම පැන නොනගී. ලැයිස්තුව පිළියෙළ කරන ලද්දේ කිසියම් ඉස්ක්‍රාවාදියකු විසින්ද නැතිනම් "මධ්‍යස්ථානයේ" නියෝජිතයකු විසින්ද යන්න කිසිදු වැදගත්කමක් නොදරයි. ප්‍රධාන කරුණ නම්, වර්තමාන අල්පතරයට අයත් සාමාජිකයින්ගේ නම්වලින් පමණක් සමන්විත වූ



මේ ලැයිස්තුව, හුදු සංකල්පනාවක් හැටියට නැතිනම් අනුමානයක් හැටියට හෝ සමුළුවේදී බෙදා හැරීමය. අවසාන වශයෙන් කිව යුතු ඉතා වැදගත් කරුණ නම්, සමුළුවේදී මාර්තව් සහෝදරයාට කටින් පමණක් නොව අතින් හා පයින් පවා මෙවැනි ලැයිස්තුවකට තමා කොහෙත්ම සම්බන්ධ නැති බව, පිළිගැනීමට සිදු වීමය. දැන්නම් ඔහු මෙවැනි ලැයිස්තුවක් ඉමහත් උනන්දුවකින් පිළිගනු ඇත. "අපකීර්තිමත් කටකතා" පිළිබඳ කෑගැසීමේ සිට, දෙමසක් තුළදී මේ අපකීර්තිමත් ඊනියා ලැයිස්තුවේ* අපේක්ෂකයින්ට පක්ෂයේ මධ්‍යම මණ්ඩලයට බලෙන් තල්ලු කිරීම දක්වා වූ කනපිට පෙරළීම වැනි මතිමාත්‍ර සහ මිනිසුන් තක්සේරු කිරීමේදී දක්වන අස්ථිරතාවය මීට වඩා සුපැහැදිලි ලෙස විස්තර කළ නොහැක.

මේ ලැයිස්තුව, "එක් අතකින් අපත් "යූෂ්නි රබෝචි" කණ්ඩායම සහ බුන්ඩ් සංවිධානය අතරත්, දේශපාලනමය සභාගිත්වයක් අභවන බවත් අනික් අතින් එය සෘජු ගිවිසුමක අර්ථය ඇති සභාගයක් අභවන බවත් මාර්තව් සහෝදරයා ලීග් සමුළුවේදී පැවසීය (64 පිටුව). මෙය සත්‍යයක් නොවේ, මන්දයත් ප්‍රථමයෙන්, එකද බුන්ඩ් සාමාජිකයකුවත් නැති ලැයිස්තුවක් ගැන බුන්ඩ් කිසිදු ගිවිසුමකට නොඑළඹෙන බැවිනි. දෙවනුව, සෘජු ගිවිසුමක් පිළිබඳව (මාර්තව් සිතූ හැටියට එය නින්දිත ය) බුන්ඩ් සංවිධානය සමග පමණක් නොව, "යූෂ්නි රබෝචි" සමග පවා එකඟතාවයක් ඇති නොවීය, එවැන්නක් ඇති විය නොහැකි විය. ප්‍රශ්නය වූයේ ගිවිසුමක් පිළිබඳව නොව, සභාගයක් පිළිබඳවය; මාර්තව් සහෝදරයා සම්මුතියකට එළඹුණා නොවේ; සමුළුවේ මුල් භාගයේදී ඔහු තම සටන් පහරට ලක් කළ සහ ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටස පිළිබඳව ඔහු කළ වරද අල්ලා ගෙන සිටි එම ඉස්ක්‍රාවිරෝධීන්ගේ සහ අස්ථිර කොටස්වලට ආධාරය ඔහුට ලැබීම නිසැක විය. "අමනාපයේ" මුල් රඳා තිබෙන්නේ අවස්ථාවාදය පිළිබඳව විවෘත, එපමණක් නොව, ව්‍යාජ ලෙස ඉදිරිපත් කෙරෙන චෝදනාව තුළ යයි මවිසින් උපුටා දක්වන ලද ලිපිය අවිවාදිත ලෙස ඔප්පු කරයි. ඇවිලෙන ගින්නට තෙල් දමන්නාක් වැනි සහ "කර්තෘ මණ්ඩලයට ලිපිය" මගින් කෙරුණු මගේ මතක් කිරීමද නොතකා දැන් මාර්තව් සහෝදරයා ඉතා ඕනෑකමින් මහහැරීමට වෑර දරන එම "චෝදනාව" දෙ ආකාර විය. ප්‍රථමයෙන්ම, ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටස සාකච්ඡා කිරීමේදී, එම පළමුවැනි කොටස, "අවස්ථාවාදයේ සෑම කොටසකට අයත් නියෝජිතයකුම" "අපෙන් ඇත් කර

---

* ගුසෙව් සහෝදරයා සහ දෙයිච් සහෝදරයා පිළිබඳ සිද්ධියේ තොරතුරු අපට ලැබෙන විට මේ වගන්ති ලිය අවසාන වී තිබිණි. අතිරේකයක් මගින් අපි මේ සිද්ධිය ගැන වෙනම පිරික්සා බලමු(236—246 පිටු බලන්න).

තැබීමේ'' ප්‍රශ්නයට සම්බන්ධ බව ප්ලෙහානව් කෙළින්ම පැවසීය. මගේ කෙටුම්පත පක්ෂය ආක්‍රමණය කරන ඔවුන් නවත්වන පවුරක් වශයෙන් ඔහු හැඳින්වීය. ''මේ හේතුව නිසා අවස්ථාවාදයේ සියලු සතුරන් එයට ඡන්දය දිය යුතු යැ'' යි ඔහු පැවසීය (සමුළුවේ වාර්තා, 246 පිටුව). මේ තද බල වචන මවිසින් තරමක් මෘදු කළද, (250 පිටුව) විශාල ආන්දෝලනයක් ඇති කෙළේය. එය රූසව් (247 පිටුව), ට්‍රොට්ස්කි (248 පිටුව), සහ අකීමව් සහෝදරවරුන්ගේ කතාවලින් සුපැහැදිලි ලෙස ප්‍රකාශ විය. අපේ පාර්ලිමේන්තු 'ලොබිය' තුළ ප්ලෙහානව්ගේ තීසිසය උනන්දුවෙන් විමර්ශනය කැරිණි. පළමුවැනි කොටස පිළිබඳව ඉමක් නැති තර්ක දහසක් මගින් එය වෙනස් කෙරිණි. තම අදහස එහි අගය පෑමෙන් ආරක්ෂා කරනු වෙනුවට අපේ ආදරණීය සහෝදරවරු හාස්‍යජනක ලෙස අසාධාරණයකට භාජනය කරන ලද තත්ත්වයක් පෑහ. ''අවස්ථාවාදී ව්‍යාජ චෝදනාවක්'' පිළිබඳව ලියවිලි මගින් දුක් ගැනවිලි අදිරිපත් කිරීමට පවා ඔවුහු ඉදිරිපත් වූහ.

සියලු දෙනා ඉදිරිපිට විවෘත මතභේදය නැමැති ප්‍රණීත සුළං පහරට පක්ෂයේ සාමාජිකයින් වශයෙන්, මුහුණ දිය නොහැකි ඔවුන්ගේ පටු කවවාදී බුද්ධිය සහ පාක්ෂික නොමේරූ භාවය මෙහිදී පැහැදිලි ලෙස හෙළි විය. පැරණි කියමනකින් දැක්වෙන පරිදි රුසියානුවන්ට සුපුරුදු මනෝභාවය මෙහිදී හෙළිවේ: ''එක්කෝ දත් කැඩෙන්ට දීම, නැතිනම් අතට අතදීම!'' මේ මිනිසුන් තම පටු කුඩා කවය වන වීදුරු ගෙයට කෙතරම් පුරුදුවී සිටිතිද යත්, කිසිවෙකු තම වගකීම පිට විවෘත වේදිකාවක නිදහස් ලෙස කතා කළ විගස ඔවුහු සිහිනැතිව ඇද වැටෙති. අවස්ථාවාදීයැයි චෝදනා කිරීම — කාට විරුද්ධවද? ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායමට[25] විරුද්ධව, එපමණක් නොව, එහි බහුතරයට විරුද්ධව අවස්ථාවාදී යැයි චෝදනා කිරීම — මෙයට වඩා බියජනක දෙයක් තවත් තිබේද? නොමැකිය හැකි මේ නින්දාව නිසා එක්කෝ පක්ෂයේ භේදය ක් ඇති කළ යුතුය නැතිනම් වීදුරු කූඩුව තුළට වී සිටීම ''දිගටම ගෙනයාමෙන්'' මෙම ගෙදර අප්‍රසන්නතාවය යටපත් කළ යුතුය. අප පිරික්සා බලන ලිපියෙහි එම විකල්පය පැහැදිලිව පෙනේ. පක්ෂය ඉදිරියේ විවෘතව කතා කිරීමේ අවශ්‍යතාවය බුද්ධිවාදී පෞද්ගලිකවාදය සහ කවවාදී මනෝභාවය සමග මෙහිදී සට්ටනය වී ඇත. මෙවැනි දබර කිරීමක්, ''අවස්ථාවාදීයැයි ව්‍යාජ ලෙස චෝදනා කිරීමක්'' වැනි මෝඩ දෙයක් ජර්මනියේ පක්ෂය තුළ ඇතිවීම ගැන ඔබට සිතා ගැනීමට පුළුවන්ද? එරටේ, නිර්ධන පංතික සංවිධානය හා විනය බුද්ධිමත් කුසීත බවෙන් ඔවුන් බොහෝ කලෙක සිට මුදගෙන ඇත. කිසිවකු ලීබ්ක්නෙහ්ට්ට සලකන්නේ ඉමහත් ගරුත්වයකින් මිස වෙනත් අන්දමකින් නොවේ. එහෙත් ඔහුට සහ (බෙබෙල්ට)



1895 සමුළුවේදී,[26] ''අවස්ථාවාදීන් යැයි ප්‍රසිද්ධියේම චෝදනා කළ විට'', ඒ ගැන දුක්ගැනවිලි ඉදිරිපත් කළොත්, ඔවුන් කෙතරම් සිනාසෙනු ඇත්ද! ඉඩම් පිළිබඳ ප්‍රශ්නයේදී, ලීබ්ක්නෙහ්ට් අපකීර්තිමත් අවස්ථාවාදී ෆෝල්මර් සහ ඔහුගේ මිතුරන්ගේ ගොඩට වැටී සිටියේය. ලීබ්ක්නෙහ්ට්ගේ නාමය අඛණ්ඩ ලෙසම ජර්මන් කම්කරු පංති ව්‍යාපාරයේ ඉතිහාසය සමග එකට වෙළී පවතී. මෙය මෙසේ වූයේ ඔහු සාපේක්ෂ වශයෙන් කුඩා, විශේෂ ප්‍රශ්නයකදී අවස්ථාවාදී ලෙස නොමග ගිය නිසා නොවේ, එලෙස සිදුවීමද නොතකාය. එමෙන්ම අරගලයේ කර්කශ බව නොතකා අක්සල්රොඩ් සහෝදරයාගේ නාමයට සෑම රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක්ම ගරු කරයි. ඔවුහු ඔහුට හැමදම එලෙස ගරු කරනු ඇත්තාහ. මෙය මෙසේ වන්නේ අප පක්ෂයේ දෙවැනි සමුළුවේදී අක්සල්රොඩ් සහෝදරයා අවස්ථාවාදී අදහස්වලට පක්ෂපාත වූ නිසා නොවේ, ලීගයේ සමුළුවේදී පැරණි අරාජික කුණු කන්දල් ඇවිස්සූ නිසා නොවේ, මෙලෙස ක්‍රියාකාර තිබීම නොතකා ය. ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායමේ බහුතරයට විරුද්ධව ''අවස්ථාවාදී ව්‍යාජ චෝදනාවක්'' ඉදිරිපත් කිරීම නිසා, හිස්ටීරියාවටත්, දබර කිරීම්වලටත්, පක්ෂයේ භේදයක් ඇති කිරීමටත් ඉඩ දෙන්නේ ''එක්කෝ දත් කැඩෙන්ට දීම, නැතිනම් අතට අත දීම'' නැමති තර්කය අනුව ක්‍රියා කරන ඉතා පටු කවවාදී බුද්ධියක් ඇති මිනිසුන් පමණකි.

මේ බියජනක චෝදනාව පූර්ව සිද්ධිය සමග අඛණ්ඩ ලෙස සම්බන්ධ වී ඇත. (මේ සිද්ධියේ එක් අංශයක් යටපත් කිරීමට ලීග් සමුළුවේදී [63 පිටුව] මාර්තව් සහෝදරයා සෑහෙන වෑයමක් දැරීය). ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටස සම්බන්ධයෙන් මාර්තව් සහෝදරයා සහ ඉස්ක්‍රාවිරෝධීන් හා අස්ථිර කොටස් අතර සභාගයට මෙය සම්බන්ධ වී ඇත්තේය. සත්තකින්ම මාර්තව් සහෝදරයා සහ ඉස්ක්‍රාවිරෝධීන් අතර ඍජු හෝ වක්‍ර ගිවිසුමක් ඇති නොවීය, එවැන්නක් ඇති වීමට පවා ඉඩක් නොවීය. ඔහු එවැන්නක් කරතියි කිසිවෙක් සැක නොකළහ. ඔහුගේ ඉමහත් බිය නිසා ඔහුට එසේ සිතුනා විය හැකිය. නිසැකයෙන්ම අවස්ථාවාදය දෙසට ඇදී ගිය, මිනිසුන් ඔහු වටා වඩාත් වැඩි ස්ථිර ''සුසංහිත'' බහුතරයක් (මෙය දැන් අල්පතරයක් බවට පත්වූයේ අහම්බෙන් නියෝජිතයින් හත්දෙනෙක් ඉල්ලා අස්වූ බැවිනි), ඇති කළ නිසා ඔහුගේ දේශපාලන සාවද්‍යතාවය හෙළි විය. සමුළුවේදී (උපුටා දැක්වූ පව්ලොවිච්ගේ සටහන් බලන්න, සමුළුවේ වාර්තා, 255 පිටුව මෙන්ම ''ඉස්ක්‍රා'' සංවිධානයේදීත් (මට මතක හැටියට ප්ලෙහානව් එය විශේෂයෙන් මතක් කළේය) පළමුවැනි කොටසට සම්බන්ධ කාරණයට ඉක්බිතිව අපි මේ සහභාගිත්වය විවෘත ලෙසම පෙන්වා දුන්නෙමු. 1895 දී ක්ලාරා ට්සෙට්කින් බෙබෙල්ට සහ ලීබ්ක්නෙහ්ට්ට "Es tut mir in der Seele weh, daß ich

dich in der Gesellschaft seh'" (ඔබ (බේබෙල්) ඔවැනි කට්ටියකට — ෆේපාල්මර් සහ පිරිස — එකතු වී සිටිනවා දකින විට මගේ හදවත දුකින් පිරෙයි)[27], යනුවෙන් කීවිට වචනයේ පරිසමාප්ත අර්ථයෙන් එය මීට සමාන කරුණක් හා එවැනිම උපහාසයක් විය. බේබෙල් සහ ලීබ්ක්නෙහ්ට් කෞට්ස්කිට සහ ට්සෙට්කින්ට අවස්ථාවාදී ව්‍යාජ චෝදනා ගැන දුක් ගැනවිලි ඉදිරිපත් කරමින් හිස්ටීරියාවෙන් පෙළෙන පණිවුඩ නොයැවීම පුදුමයක් වුවද, සත්‍යයකි.

මධ්‍යම කාරක සභාවට අපේක්ෂකයින්ගේ ලැයිස්තුව පිළිබඳව, අප සමග ගිවිසුමකට පැමිණීම ප්‍රතික්ෂේප කිරීම තවමත් අවසාන තීරණය නොවන බව ලීග් සමුළුවේදී මාර්තව් විසින් ප්‍රකාශ කිරීම වරදක් බව මේ ලිපිය පෙන්වා දෙයි. දේශපාලන අරගලයකදී ලියවිලි මත විශ්වාසය තබනවා වෙනුවට, කට වචනය කෙරෙහි විශ්වාසය තැබීම කෙතරම් අනුවණකමක්ද යන්න පෙන්වන තවත් නිදසුනකි, මෙය. සැබැවින්ම, ''බහුතරයට'' අවසාන නිවේදනයක් ඉදිරිපත් කිරීමට තරම් ''අල්පතරය'' නිහතමානී විය: අල්පතරයට අයත් දෙදෙනෙකු ගනිල්ලා එකෙක් (සම්මුතියක් හැටියට සහ සැබැවින්ම කියන්නේ නම්, වාසිදීමක් හැටියට පමණකි) බහුතරයෙන් අරගනිල්ලා. මෙය ඉතා අද්භූත වුවද, සත්‍යයකි. සමුළුවෙන් භාගයක් එම භාගයට අයත් නියෝජිතයින් තෝරා පත් කර ගත්හයි කියන සුරඟනා කතා කෙතරම් හාස්‍යජනකද යන්න මේ සත්‍ය කරුණ පැහැදිලි ලෙස පෙන්වා දෙයි. සත්‍යය එයට හාත්පසින්ම විරුද්ධය: මාර්තව්වාදීන් තුනෙන් එකක් අපට දුන්නේ වාසිදීමක් හැටියට පමණකි. ඒ අනුව අප ඔවුන්ගේ මේ අපූරු වාසිදීම පිළිනොගතහොත්, ඔවුන්, සියලු ආසනවලට ඔවුන්ගේම අපේක්ෂකයින් පත් කරනු ඇත! අපේ පෞද්ගලික රැස්වීමේදී මාර්තව්වාදීන්ගේ මේ නිහතමානය ගැන අපි මහ හඬින් සිනාසී,අපේම ලැයිස්තුවක් ඉදිරිපත් කළෙමු: ග්ලේබව් — ට්‍රවින්ස්කි (මේ අය පසුව මධ්‍යම කාරක සභාවට තෝරා පත් වූහ) — පපෝව්. පසුව අප විසින් පපෝව් වෙනුවට (විසිහතර දෙනාගේ පෞද්ගල්ක රැස්වීමකදී) වසිල්යෙව් සහෝදරයාගේ නම (පසුව ඔහුද ම. කා. සභාවට තේරී පත් විය) ඉදිරිපත් කැරිණි. මෙසේ කිරීමට සිදු වූයේ පපෝව් සහෝදරයා මුලදී පෞද්ගලික රැස්වීමේදීද, අනතුරුව විවෘත ලෙස සමුළුවේදීද (383 පිටුව) අපේ ලැයිස්තුවට ඇතුළුවීම ප්‍රතික්ෂේප කළ බැවිනි.

සැබවින්ම සිදුවූ දේ එසේ විය.

''නිහතමානී'' අල්පතරය, නිහතමානී ලෙසම බහුතරය වීමට සිතීය. මේ නිහතමානී අභිප්‍රායයට එකඟ නොවූ විට, අල්පතරය සියල්ල ප්‍රතික්ෂේප කොට, කලහයක් ආරම්භ කළේය. එහෙත් දැන් බහුතරයේ ''බුරුලක් නැතිකම'' ගැන උදරම් ලෙසත් නිහතමාන ලෙසත් කියන්නට මිනිස්සු ඉදිරිපත් වී සිටිති.



සමුළුවේදී නිදහස් උද්ඝෝෂණයේ පොර පිටියට වැදුණු 'අල්පතරය' සිනහ උපදවන අවසාන නිවේදනයන් බහුතරය වෙත ඉදිරිපත් කළේය. පරාජය ලැබූ අපේ වීරයෝ කඳුළු සලමින් වැටලීමක් පිළිබඳව කෑගැසීමට පටන් ගත්හ. Voilà tout*

කර්තෘ මණ්ඩලය වෙනස් කිරීමට අප අදහස් කරතියි යන භයානක චෝදනාවද අපි (විසිහතර දෙනාගේ පෞද්ගලික රැස්වීම) මඳ සිනාවකින් පිළිගනිමු. මුලින් තිදෙනෙකු තෝරා පත් කිරීමෙන් කර්තෘ මණ්ඩලය අළුතෙන් පත් කිරීමේ සැලැස්ම ගැන සමුළුව ආරම්භ වූ ද සිටම, සමුළුවට පෙර සිටම පවා හැම දෙනෙක්ම ඉතා හොඳින් දැන සිටියහ. (සමුළුවේදී කර්තෘ මණ්ඩලය තෝරා පත් කිරීම ගැන මා කියන විට ඒ ගැන මම විස්තර කරමි). මේ සැලැස්මේ නිරවද්‍යතාවය දැක බියවූ ''අල්පතරය'' ඉස්ක්‍රාවිරෝධීන් සමග ඇති කරගත් සහභාගය නිසා අප මවිතයට පත් නොවීය. අපේ නිදහස් කැමැත්ත අනුව,සමුළුවේදී අරගලයකින් තොරව,අප අල්පතරයකට පරිවර්තනය කර ගැනීම පිළිබඳ යෝජනාව බැරෑරුම් ලෙස පිළිගැනීමට අපට නොහැකි විය. ''අවස්ථාවාදය පිළිබඳ ව්‍යාජ චෝදනා'' ගැන කතා කිරීමට තරම් විශ්වාස නොකළැකි තරමට දැඩි ලෙස කුපිත වූ කතුවරයින්ගේ මේ මුළු ලිපිය බැරෑරුම් දෙයක් ලෙස සැලකීමටද අපට නොපුළුවන. ''කියා දැමීමේ'' ස්වාභාවික අභිප්‍රාය මැඩ ගෙන, පක්ෂයේ යුතුකම පිළිබඳ හැඟීමක් ඔවුන් තුළ ඉක්මනින්ම ඇති වෙතියි අපි දැඩි ලෙසම විශ්වාස කරමු.

## 11. ව්‍යවස්ථා මාලාව පිළිබඳ විවාදය දිගටම. මණ්ඩලයේ සංයුතිය

ව්‍යවස්ථා මාලාවේ ඉතිරි කොටස්, සංවිධාන මූලධර්මවලට වඩා විස්තර පිළිබඳව මතභේදයන් ඇති කළේය. සමුළුවේ 24 වැනි සැසි වාරය පක්ෂ සමුළුවල නියෝජිතත්වය පිළිබඳව ප්‍රශ්නයට සම්පූර්ණයෙන්ම මිඩංගු කරන ලදී. සියලු ඉස්ක්‍රාවාදීන්ගේ පොදු සැලැස්මට විරුද්ධව තීරණාත්මක සහ නියත සටනක් බුන්ඩ්වාදීහු (ගොල්ඩ්බ්ලාට් සහ ලීබෙර් 258—259 පිටු) සහ අකීමව් සහෝදරයා පමණක් ගෙන ගියහ. සමුළුවේ තම ක්‍රියාකලාපය ගැන ප්‍රශංසා කටයුතු අවංක භාවයකින් යුතුව අකීමව්

* එපමණය. — සංස්කාරක

සහෝදරයා මෙසේ පැවසීය: ''මා කතා කරන සෑම වාරයකදීම, මා එසේ කරන්නේ මගේ තර්ක සහෝදරවරුන් කෙරෙහි බලනොපාන බව සම්පූර්ණයෙන්ම වටහා ගෙනය. ඊට ප්‍රතිකූලව, ඊට හාත්පසින්ම විරුද්ධව මා පක්ෂවන කරුණුවලට ඉන් හානියක් වන බවද වටහා ගෙනය'' (261 පිටුව). ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටසට පසුව වහාම කරන ලද මේ උචිත ප්‍රකාශනය, විශේෂයෙන් ගැලපෙන සුලුය. ''ඊට ප්‍රතිකූලව'' යන වචන පමණක් මෙයට යෝග්‍ය නැත. මන්දයත්, අකීමව් සහෝදරයා විවිධ කරුණුවලදී හානි කිරීමට සමත්වූවා පමණක් නොව, ඒ අතරම, එසේ කරමින්ම, අවස්ථාවාදී වාග් පාය දෙඩවීමට ආශාවක් දක්වූ ඉතා අස්ථිර ඉස්ක්‍රාවාදී ''සහෝදරවරුන් කෙරෙහි බලපෑමටද''... සමත් වූ බැවිනි.

පොදුවේ, සමුළුවලදී නියෝජිතත්වයේ කොන්දේසි විග්‍රහ කරන ව්‍යවස්ථා මාලාවේ තෙවැනි කොටස හත් දෙනෙකු මධ්‍යස්ථව සිටියදී බහුතර චන්දයෙන් පිළිගන්නා ලදී (263 පිටුව). මධ්‍යස්ථ වූයේ ඉස්ක්‍රා-විරෝධීන් විය යුතුය.

සමුළුවේ 25 වැනි සැසි වාරයෙන් වැඩි කාලයක් ගත් මණ්ඩලයේ සංයුතිය පිළිබඳ විවාදයේදී, යෝජනා අති විශාල සංඛ්‍යාවක් වටා විශාල කාණ්ඩ සංඛ්‍යාවක් රොක් වී සිටින බව හෙළි විය. අබ්‍රම්සොන් සහ ටසරියොව් මණ්ඩලයක් පිළිබඳ සැලැස්ම සම්පූර්ණයෙන්ම ප්‍රතික්ෂේප කළහ. මණ්ඩලය බෙරුම් කිරීමේ අධිකරණයක් විය යුතු යැයි පානින් ඉල්ලා සිටියේය. ඒ අනුව මණ්ඩලය උත්තරීතර ආයතන යැයි කියන විග්‍රහය කටුගා දැමිය යුතු යයි ද ඒ අනුව ඕනෑම සාමාජිකයින් දෙදෙනෙකු විසින් එය කැඳවිය හැකි යැයිද දැඩි ස්ථිරතාවයකින් යුතුව යෝජනා කරන ලදී*. ව්‍යවස්ථා කමිටුවේ සාමාජිකයින් පස්දෙනා ඉදිරිපත් කළ ක්‍රම තුනට අමතරව හෙර්ට්ස් සහ රූසව් මණ්ඩලය සකස් කිරීමේ විවිධ ක්‍රම ඉදිරිපත් කළෝය.

ප්‍රධාන වශයෙන් මණ්ඩලයේ ක්‍රියාකාරීත්වය විග්‍රහ කිරීම පිළිබඳ ප්‍රශ්නවලට සීමාවන සේ විවාදය පටුවිය: එය පක්ෂයේ උත්තරීතර ආය-

* ස්ටරවේර් සහෝදරයාද පානින් සහෝදරයාගේ මතයට එකඟ වූවාක් මෙනි. එකම වෙනසකට තිබුණේ, තමාට අවශ්‍ය මොනවාද යන්න දැන සිටි පානින් සහෝදරයා මණ්ඩලය හුදු බෙරුම් කිරීමේ සහ සමාදාන කිරීමේ සංවිධානයක් බවට පත්කිරීමේ අටියෙන් ස්ථිර ලෙස යෝජනා ඉදිරිපත් කිරීමය. කෙටුම්පත අනුව මණ්ඩලය ''පාර්ශ්වයන්ගේ අභිප්‍රාය අනුව පමණක් රැස්විය හැකියැ''යි ස්ටරවේර් සහෝදරයා කියන විට, ඔහු ඔහුට වුවමනා මොනවාද යන්න නොදැන සිටියේය (266 පිටුව). ඔහුගේ ප්‍රකාශනය සම්පූර්ණයෙන්ම සාවද්‍යය.



තනය විය යුතුද නැතිනම් එය ආරාවුල් බේරුම් කිරීමේ අධිකරණයක් විය යුතුද. මා ඉහත සඳහන් කළ පරිදි පානින් සහෝදරයා පසුකී දෙයට ස්ථිර ලෙසම පක්ෂ විය. එසේ වුවද ඔහු තනි විය. මාර්තව් සහෝදරයා මේ අදහසට සම්පූර්ණයෙන්ම විරුද්ධ විය: ''මණ්ඩලය උත්තරීතර ආයතනය වන්නේය යන වචන කපා හැරීම සඳහා ඉදිරිපත් කර තිබෙන යෝජනාව ප්‍රතික්ෂේප කරන ලෙස මම යෝජනා කරමි. අපේ යෙදුම'' (එනම් ව්‍යවස්ථා කමිටුවේදී අප පිළිගත් මණ්ඩලයේ ක්‍රියාකාරීත්වය පිළිබඳ යෙදුම) ''අනුව පක්ෂයේ උත්තරීතර ආයතනය හැටියට වර්ධනය වීමට මණ්ඩලයට ඇති හැකියාව වුවමනාවෙන්ම විවෘත තබා ඇත. අප අදහස් කරන මණ්ඩලය හුදු ආරාවුල් බේරන සංවිධානයක් නොවේ.'' එසේ වුවද, මාර්තව් සහෝදරයා මණ්ඩලයේ සංයුතිය පිළිබඳව ඉදිරිපත් කරන ලද යෝජනාව මගින් මණ්ඩලය සම්පූර්ණයෙන් හා විශේෂයෙන් සමාදාන මණ්ඩලයක් සහ ආරාවුල් බේරන උසාවියක් බවට පත් කරවයි. මධ්‍යම මණ්ඩලවලින් සාමාජිකයින් දෙදෙනෙකු බැගින්ද මේ හතර දෙනා විසින් පස්වැනි සාමාජිකයාට ආරාධනා කිරීමද මේ යෝජනාව වන්නේය. මණ්ඩලයේ එවැනි සංයුතියක් පමණක් නොව, සමුළුව විසින් පිළිගත් රූසව් සහ හෙර්ට්ස් සහෝදරවරුන්ගේ යෝජනාව (පස්වැනි සාමාජිකයා සමුළුව විසින් පත්කිරීම) පවා ආරාවුල් බේරීමට සහ සමාදාන කිරීමට පමණක් ඉතා හොඳින් ගැලපෙන්නකි. මණ්ඩලයේ එවැනි සංයෝජනයක් සහ එය පක්ෂයේ උත්තරීතර ආයතනය හැටියට පත් කිරීමත් අතර සටහන් කළ නොහැකි ප්‍රතිවිරෝධීතාවයක් පවතී. පක්ෂයේ උත්තරීතර ආයතනයේ සංයුතිය ස්ථාවර විය යුතුය. එය මධ්‍යම මණ්ඩලවල සංයුතියෙහි අහඹු වෙනස්වීම් (සමහර විට සිරභාරයට ගනු ලැබීම නිසා) මත රඳා නොපැවැතිය යුතුය. පක්ෂයේ උත්තරීතර ආයතනය පක්ෂ සමුළුවට ඍජු සම්බන්ධකමකින් තිබිය යුතුය. එය සිය බලතල ලබා ගත යුත්තේ සමුළුවෙන් මිස, සමුළුවට වඩා පහත් අන්‍ය පක්ෂ ආයතන දෙකින් නොවේ. උත්තරීතර මණ්ඩලය පක්ෂ සමුළුව දන්නා පුද්ගලයින්ගෙන් සමන් විය යුතුය. අවසාන වශයෙන්, උත්තරීතර මණ්ඩලයේ පැවැත්ම ම ආකස්මිකත්වයට යටත් නොවන ආකාරයට එය සංවිධානය නොකළ යුතුය: සංවිධාන දෙක පස්වැනි සාමාජිකයා තෝරා ගැනීමට එකඟ නොවුවත්, පක්ෂයට උත්තරීතර ආයතනයක් නැතිව යයි! මෙයට විරුද්ධත්වයක් පැන නැගිණි: 1) මේ පස්දෙනාගෙන් එකකු මධ්‍යස්ථව සිටියහොත්, ඉතිරි හතර දෙනා දෙදෙනා බැගින් බෙදුණොත්, තත්ත්වය ඉතා නරක එකක් වනු ඇත (යෙගෝරව්). මෙම විරුද්ධත්වය පදනම් විරහිතය, මන්දයත්, තීරණයක් ගැනීමේ නොහැකියාව සමහර අවස්ථාවලදී ඕනෑම මණ්ඩලයකට නොවැළැක්විය හැකි දෙයක් වීමට ඉඩ ඇති බැවිනි.

නමුත් මෙය මණ්ඩල පිහිටුවීමට නොහැකි වීමට වඩා වෙනස් තත්ත්වයකි. දෙවැනි විරුද්ධත්වය: ''මණ්ඩලය වැනි ආයතනයක් තම පස්වැනි සාමාජිකයා තෝරා ගැනීමට අසමත් වූවොත්, එහි තේරුම පොදුවේ එය කාර්ය සාධක නොවේය යනුය'' (සසුලිච්). එහෙත් මෙහිදී ප්‍රධාන කාර්යය එය කාර්ය සාධක භාවයෙන් තොර වීම නොවේ. කිසිම උත්තරීතර මණ්ඩලයක් නැති වීමය. කිසිම ''ආයාතනයක්'' නොමැති වීමය. කාර්ය සාධකද, නැතිද යන ප්‍රශ්නය කොහෙත්ම පැන නගින්නේ නැත. එක් ඉහළ පක්ෂ සංවිධානයකට පහළින් ඇති තවත් පක්ෂ සංවිධානයක් ගොඩ නැගීමට නොහැකි වීම නිසා කරදර ඇති වන්නේ නම්, හදිසි අවස්ථාවලදී ඉහළින් ඇති පක්ෂ සංවිධානය අඩුව පිරිමසන නිසා කරදරය මග හරවා ගත හැකි වේ. එහෙත් මණ්ඩලයට ඉහළින් සමුළුව හැරුණු විට අන් සංවිධානයක් නොමැත. එබැවින් මණ්ඩලයක් ඇති කිරීමට පවා නොහැකි වන සේ ව්‍යවස්ථා සකස් කිරීම පැහැදිලි ලෙසම අතාර්කික නොවේ.

මාර්තව්ගෙ යෝජනාවට පක්ෂව ඔහු සහ අනිකුත් සහෝදරවර නැඟී සිටි විට, මේ සාවද්‍ය විරුද්ධත්ව ප්‍රකාශ කිරීම් දෙක ගැන පමණක් පිරික්සා බැලීමට (267 සහ 269 පිටු) සමුළුවේදී මා කළ කෙටි කතා දෙක මම වෙන් කළෙමි. මණ්ඩලයේ වැඩි බලයක් තිබිය යුත්තේ මධ්‍යම පුවත්පතටද නැත්නම් මධ්‍යම කාරක සභාවටද යන ප්‍රශ්නය ගැන මගේ කතාවේදී මම කොහෙත්ම සටහන් නොකෙළෙමි. අකීමව් සහෝදරයා විසින් සමුළුවේ 14 වැනි සැසි වාරය තරම් ඈත කාලයකදී (157 පිටුව) මේ ප්‍රශ්නය ඉදිරිපත් කරන ලදී. ප්‍රධාන පත්‍රය ආධිපත්‍යයක් පෑමේ අවදානම ගැන පළමුවෙන්ම කතා කළේ ඔහුය. මධ්‍යම කාරක සභාව කර්තෘ මණ්ඩලයේ අවියක් බවට පත් කිරීමට බහුතරය කටයුතු කරන්නේ යැයි කියන අමන සහ කුටිල කතාව මාර්තව්, අක්සල්රොඩ් සහ අනිකුත් සහෝදරවරුන් විසින් සමුළුවට පසුව මවා පෑ විට, ඔවුහු අකීමව්ගේ මග ඔස්සේ යාමට පටන් ගත්හ: මාර්තව් සහෝදරයා ''වැටලීමේ තත්ත්වය'' ගැන කතා කරන විට, ඔහු නිහතමාන ලෙස එහි සැබෑ මූලාරම්භකයා ගැන සඳහන් නොකළේය.

පක්ෂ සමුළුවේදී මධ්‍යම කාරක සභාව මත මධ්‍යම පුවත්පත බලපෑම පිළිබඳව මුළු මහත් ප්‍රශ්නය ගැන දැනගැනීමට කැමති අය, සන්දර්භයෙන් වෙන්කොට ගත් තනි උද්ධෘත පාඨවලින් සෑහීමට පත් නොවන අය, මාර්තව් සහෝදරයා කාරණය කොතරම් විකෘති කර තිබේද යන්න ලෙහෙසියෙන් දකිනු ඇත්තාහ. මෙම (අකීමව්) ක්‍රමයේ සම්පූර්ණ අර්ථය වන මධ්‍යම පුවත්පතේ බලපෑම දුර්වල කිරීම සඳහා පක්ෂයේ උච්චස්ථානයේ, ''තදබල ගත කිරීමක්'' ඉල්ලා සිටි අකීමව් සහෝදරයාගේ මතවලට විරුද්ධව, 14 වැනි සැසි වාරයේදී විවාදයක් ආරම්භ කළේ අන් කිසිවකු නොව පපෝව් සහෝදරයා ය (154 පිටුව, අවධාරණය මවිසිනි). ''එවැනි මධ්‍යගත කිරීමක් ආරක්ෂා කරනවා වෙනුවට, මා සතු සියලු බලය යොදවා එයට විරුද්ධව සටන් කිරීමට මා සූදනම්ය; මන්දයත් එය අවස්ථාවාදයේ ධජය වන බැවිනි'' යි පපෝව් සහෝදරයා වැඩි දුරටත් පැවසීය. මධ්‍යම කාරක සභාව කෙරෙහි ප්‍රධාන පුවත්පත බලපෑමේ ප්‍රසිද්ධ ප්‍රශ්නයේ මුල එසේය. ප්‍රශ්නයේ සැබෑ සම්භවය ගැන නිහඬ වී සිටීමට මාර්තව් සහෝදරයාට දැන් සිදුවී තිබීම මවිතයට කරුණක් නොවේ. මධ්‍යම පුවත්පතේ* බලපෑම පිළිබඳ අකීමව්ගේ කතාවේ අවස්ථාවාදී ස්වරූපය නොදැක සිටීමට පපෝව් සහෝදරයාට පවා නොහැකි විය. තමා අකීමව් සහෝදරයාගෙන් සම්පූර්ණයෙන්ම වෙන්කර පෙන්වීම සඳහා පපෝව් සහෝදරයා ස්ථිර ලෙස මෙසේ පැවසීය: ''මේ ප්‍රධාන සංවිධානයට (මණ්ඩලයට) කර්තෘ මණ්ඩලයෙන් සාමාජිකයින් තිදෙනෙකුද, මධ්‍යම කාරක සභෙවෙන් දෙදෙනෙකුද පත් කළ යුතුය. එය ද්විතීයික ප්‍රශ්නයකි. (අවධාරණය මගේය) ප්‍රධාන දෙය නම් පක්ෂයේ නායකත්වය, පක්ෂයේ උත්තරීතර නායකත්වය එකම උල්පතකින් පැන නැංග යුතු බවය'' (155 පිටුව). අකීමව් සහෝදරයා මෙසේ විරුද්ධත්වය ප්‍රකාශ කළේය: ''කෙටුම්පත අනුව මණ්ඩලය මත ප්‍රධාන පුවත්පත බලපානු ඇත, මන්දයත්, කර්තෘ මණ්ඩලයේ සංයුතිය ස්ථාවර අතර මධ්‍යම කාරක සභාවේ සංයුතිය වෙනස් කළ හැකි බැවිනි'' (157 පිටුව). මෙය මූලධර්මය පිළිබඳ කරුණුවලදී නායකත්වයේ ''ස්ථිරතාවයට'' පමණක් අදාළ තර්කයකි (මෙය ස්වාභාවික සහ අභිප්‍රාය කටයුතු දෙයකි). ස්වාධීනතාවයට බාධා කිරීම සහ අතපෙවීම

* පපෝව් සහෝදරයා හෝ මාර්තව් සහෝදරයා හෝ අකීමව් සහෝදරයාව අවස්ථාවාදී යැයි හංවඩු ගැසීමට පසුබට නොවූහ. මේ හැඳින්වීම අනුව ඔවුන් හඳුන්වන විට පමණක් ඔවුහු අමනාප වී, කෝපවීමට පටන් ගත්හ. ''භාෂා සමානතාවය'' හෝ පළමුවැනි කොටස පිළිබඳව හෝ සම්බන්ධයෙන් ඔවුහු එලෙස සාධාරණ ලෙස හැඳින්විණි. මාර්තව් සහෝදරයා, අකීමව් සහෝදරයාගේ අඩිපාරේ ගමන් කළද, මාර්තව් සහෝ. සහ කල්ලිය ලීග් සමුළුවේ හැසුරුණාට වඩා ඉමහත් ගර්වයකින් හා පෞරුෂ ලීලාවකින් අකීමව් පක්ෂ සමුළුවේදී හැසිරීමට සමත් විය. අකීමව් සහෝදරයා පක්ෂ සමුළුවේදී මෙසේ පැවසීය: ''මා මෙහිදී අවස්ථාවාදියකු ලෙස නම්කර ඇත. එම පාඨය අපවාදත්මක සහ නින්ද සහගත යයි මම පෞද්ගලිකව කල්පනා කරමි. එවැනි අපවාදයක් ලැබීමට තරම් මා කිසිවක් කර නැත. කෙසේවුවද මම විරුද්ධත්වය ප්‍රකාශ නොකරමි'' (296 පිටුව). අවස්ථාවාදී ව්‍යාජ චෝදනාවට විරුද්ධව, විරුද්ධත්වය ප්‍රකාශ කිරීමට එකතු වන ලෙස මාර්තව් සහ ස්තරවේර් සහෝදරවරුන් ඔහුගෙන් ඉල්ලූ නමුත් ඔහු එයට එකඟ නොවීද?

පිළිබඳ අර්ථයෙන් මෙය ''බලපෑමට'' අදාළ නැත. එවකට පපෝව් සහෝදරයා, මධ්‍යම කාරක සභාවේ ඌන ස්වාධීනත්වය ගැන බොරුගොතා පතුරුවා හරිමින්, මධ්‍යම මණ්ඩලවල සංයුතිය පිළිබඳ සිය අසතුට වසා ගන්නා ''අල්පතරයට'' සම්බන්ධ වී සිටියේ නැත. ඔහු අකීමව් සහෝදරයාට තර්කානුකූල ලෙස මෙසේ පැවසීය: ''එය (එනම් මණ්ඩලය) පක්ෂය මෙහෙයවන මධ්‍යස්ථානය හැටියට සලකන ලෙස මම යෝජනා කරමි. එවිට මණ්ඩලයට වැඩියෙන් නියෝජිතයින් පත්වන්නේ මධ්‍යම පුවත්පතින්ද නැතිනම් මධ්‍යම කාරක සභාවෙන්ද යන්න කොහෙත්ම වැදගත් නොවන්නේය'' (පිටු 157—158. අවධාරණය මවිසිනි).

සමුළුවේ 25 වැනි සැසි වාරයේදී මණ්ඩලයේ සංයුතිය පිළිබඳ සාකච්ඡාව යළිත් ආරම්භ වූ විට, පව්ලෝවිච් සහෝදරයා පැරණි විවාදය දිගටම කරගෙන යමින්, මධ්‍යම කාරක සභාවට වඩා ප්‍රධාන පුවත්පත ''ස්ථිරතාවය නිසා'' එහි බලපෑමට පක්ෂව ප්‍රකාශ කළේය (264 පිටුව). ඔහු මෙහිදී ප්‍රතිපත්ති මූලක ස්ථිරතාවයට මුල්තැන දුන්නේය. මාර්තව් සහෝදරයාද ඔහු වටහා ගත්තේ ඒ ආකාරයටය. පව්ලෝවිච් සහෝදරයාට පසුව වහාම කතා කළ මාර්තව් සහෝදරයා එක් ආයතනයකට ඉහළින් තවත් ආයතනයක අධිකත්වයක් ස්ථිර කිරීම අනවශ්‍ය ලෙස කල්පනා කරන බව පෙන්වා දුන්නේය. මධ්‍යම කාරක සභාවේ එක් සාමාජිකයෙකු විදේශීය රටක වාසය කිරීමේ හැකියාව පෙන්වා දුන් ඔහු ''ඒ අනුව ප්‍රතිපත්ති මූලක ස්ථිරතාවය එක්තරා දුරකට තහවුරු වන්නේයැ''යි පැවසීය (264 පිටුව). මධ්‍යම කාරක සභාවේ ස්වාධීනත්වය සහ ක්‍රියාරම්භකතාවය ආරක්ෂා කිරීම සම්බන්ධ ප්‍රතිපත්ති මූලක කරුණුවලදී සහ එය ආරක්ෂා කිරීමේදී කුටිල ව්‍යාකූලත්වයක සේයාවක් පවා මෙහි දකින්නට නැත. සමුළුවෙන් ඉක්බිතිව මේ ව්‍යාකූලත්වය මාර්තව් සහෝදරයාගේ තුරුම්පුවක් බවට ප්‍රායෝගික වශයෙන් පත්වී ඇත. සමුළුවේදී මේ ව්‍යාකූලත්වය අකීමව් සහෝදරයා විසින් තව තවත් සංකීර්ණ කළේය. එවකට ඔහු ව්‍යවස්ථා මාලාවේ අරක්චේයව්[28] ජීවගුණයක්'' ගැන කතා කළේය (268 පිටුව). ඔහු මෙසේ කියා සිටියේය: ''පක්ෂයේ මණ්ඩලයට මධ්‍යම පුවත්පතින් සාමාජිකයින් තිදෙනෙකු පත් කළහොත්, මධ්‍යම කාරක සභාව කර්තෘ මණ්ඩලයේ හුදු අවියක් බවට පරිවර්තනය වන්නේය. (අවධාරණය මවිසිනි). මුළු මහත් (!!) පක්ෂයේම වැඩ කටයුතු මෙහෙයැවීම සඳහා අසීමිත (!!) බලයක් විදේශගත තිදෙනෙකුට ලැබෙනු ඇත. ඔවුන්ගේ සුරක්ෂිතතාවය සහතික වන අතර, එබැවින් ඔවුන්ගේ බලය යාවජීව වනු ඇත'' (268 පිටුව). දෘෂ්ටිමය නායකත්වය දීම මුළු මහත් පක්ෂයේ වැඩවලට බාධා කිරීමක් යැයි කියන මේ සම්පූර්ණ අමන සහ කුටිල කතාවලට විරුද්ධව (සමුළුවට ඉක්බිතිව, ''පූජක තන්ත්‍රයක්'' ගැන



කතා කරන අක්සල්රොඩ් සහෝදරයාට පහත් පෙළේ උද්යෝග පාඨයක් ලබා දුන්) මේ කතාවලට විරුද්ධව පව්ලෝවිච් සහෝදරයා සිය මතය අවධාරණය කරමින්, තමා '' ''ඉස්ක්‍රාව'' නියෝජනය කරන මූලධර්මවල ස්ථිරතාවය සහ නිර්මලත්වයට පක්ෂව'' නැගී සිටින බවත්, ''මධ්‍යම පුවත්පතේ කර්තෘ මණ්ඩලයට අධිකතර බලයක් ලබා දෙමින් එම මූලධර්මමා තවත් දුර තහවුරු කරන'' බවත් පැවසීය (268 පිටුව).

මධ්‍යම පුවත්පත, මධ්‍යම කාරක සභාවට බලපෑමේ සුප්‍රසිද්ධ ප්‍රශ්නයේ සැබෑ තත්ත්වය එසේය. අක්සල්රොඩ් සහ මාර්තව් සහෝදරවරුන්ගේ සුප්‍රසිද්ධ ''මූලධර්ම පිළිබඳ මතභේදය'' අකීමව් සහෝදරයාගේ අවස්ථාවාදී සහ කුටිල කතාවේ අනුකරණයක් මිස අන් කිසිවක් නොවේ. මධ්‍යම මණ්ඩලවල සංයෝජනය පිළිබඳ ප්‍රශ්නයේදී පරාජය ලැබීමට පෙර දවස්වලදී පපෝව් සහෝදරයා විසින් පවා මෙහි සැබෑ ස්වරූපය සුපැහැදිලි ලෙස දක්නා ලදී.

* * *

මණ්ඩලයේ සංයුතිය පිළිබඳ ප්‍රශ්නයේ සම්පිණ්ඩනය මෙසේය: මාර්තව් සහෝදරයා විසින් සිය ''වැටලීමේ තත්ත්වය'' නැමැති කෘතිය මගින්, 'කර්තෘට ලිපියක්' නැමැති මගේ කෘතියේ ප්‍රකාශනය ප්‍රතිවිරෝධී සහ සාවද්‍ය බව පෙන්වීමට දරන ලද ප්‍රයත්න දැරුවත්, ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටස සමග සන්සන්දනය කරන විට, මේ ප්‍රශ්නය ඇත්ත වශයෙන්ම සවිස්තරයක් පමණක් බවත්, ''අපේ සමුළුව'' නැමැති ලිපියෙන් (''ඉස්ක්‍රා'' අංක 53) අප පක්ෂයේ මධ්‍යම ආයතනයන් සංවිධානය කිරීම ගැන ''තනිකරම පාහේ'' විවාද කළහයි යන ප්‍රකාශනය සම්පූර්ණ විකෘතියක් බවත් සමුළුවේ වාර්තා සුපැහැදිලි ලෙස පෙන්වා දෙයි. මේ විකෘතිය වඩාත් දරුණු වන්නේ එම ලිපියේ කතුවරයා පළමුවැනි කොටස පිළිබඳව ඇතිවූ මතභේදය සම්පූර්ණයෙන්ම අමතක කරන බැවිනි. මණ්ඩලවල සංයුතිය පිළිබඳව ඉස්ක්‍රාවාදීන් අතර නියත කාණ්ඩ ගැසීමක් නොතිබුණු බව වාර්තාවලින් වැඩි දුරටත් ඔප්පු වෙයි. නම අඬ ගසා ඡන්දය දීමක්ද නොතිබිණි: මාර්තව් පානින්ගේ මතයට එකඟ නොවීය, මම පපෝව් සමග පොදු මතයක් දැරීමි, යෙගෝරව් සහ ගූසෙව් වෙනත් මතයක් දැරූහ, මේ ආදී වශයෙනි. ඉස්ක්‍රාවිරෝධීන් සමග මාර්තව්වාදීන්ගේ සභාගය වඩාත් දැඩි ලෙස ශක්තිමත් වන්නේ යැයි මවිසින් කරන ලද අවසාන ප්‍රකාශනය (''විදේශගත රුසියානු විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ලීගයේ'' සමුළුවේදී), මේ ප්‍රශ්නයේදීත් මාර්තව් සහෝදරයා සහ අක්සල්රොඩ් සහෝදරයා — දැන් හැම දෙනෙකුටම පැහැදිලිව පෙනී යන පරිදි — අකීමව් සහෝදරයා වෙතට නැඹුරු වීමෙන්ද සනාථ වන්නේය

## 12. ව්‍යවස්ථා මාලාව පිළිබඳ විවාදය අවසන් වීම. මධ්‍යම මණ්ඩලවලට තෝරා පත් කර ගැනීම. ''රබෝචිය දියල'' නියෝජිතයින් ඉවත්ව යාම

ව්‍යවස්ථා මාලාව පිළිබඳව තවදුරටත් ඇතිවූ විවාද අතරින් (සමුළුවේ විසිහයවැනි සැසි වාරය). මධ්‍යම කාරක සභාවේ බලතල සීමා කිරීමේ ප්‍රශ්නය ගැන පමණක් සඳහන් කිරීම වටී. මන්දයත් අධිමධ්‍යගතවාදයට විරුද්ධව මාර්තව්වාදීන් දුන් ගසන ප්‍රහාරය පිළිබඳ විස්තර එයින් ඉදිරිපත් වන බැවිනි. තමන්ගේම අපේක්ෂකත්වය ගැන හෝ තමන් ආධාර කරන අපේක්ෂකයින් ගැන හෝ නොතකා යෙගෝරව් සහ පපෝව් සහෝදරවරු මධ්‍යම කාරක සභාවේ බලය සීමා කිරීම සඳහා දැඩි වැටහීමකින් යුතුව ක්‍රියා කළහ. මේ ප්‍රශ්නය ව්‍යවස්ථා පිළබඳ කොමිෂන් සභාවේ තිබෙද්දී පවා ඔවුහු පළාත්බද කාරක සභා විසුරුවා හැරීමට මධ්‍යම කාරක සභාවට ඇති අයිතිය මණ්ඩලයේ අනුමැතිය ඇතිව සීමා කළ යුතු යැයිද, එයට අමතරව විශේෂයෙන් සටහන් කරන අවස්ථාවලදී පමණක් එසේ කළ යුතු යැයි කියා සිටියහ (272 පිටුව,සටහන 1). ව්‍යවස්ථා කොමිෂන් සභාවේ සාමාජිකවරු තිදෙනෙක් මෙයට විරුද්ධ වූහ. (ග්ලේබව්, මාර්තව් සහ මා), සමුළුවේදී මාර්තව් සහෝදරයා අපේ මතයට පක්ෂ විය (273 පිටුව). ''සංවිධානයක් විසුරුවා හැරීම වැනි වගකිව යුතු පියවරක් ගැන තීරණය කිරීමට පෙර කෙසේවුවද මධ්‍යම කාරක සභාව ඒ ගැන සාකච්ඡා කරනු ඇතැයි යෙගෝරව් සහ පපෝව් සහෝදරවරුන්ට පිළිතුරු දෙමින් මාර්තව් පැවසීය. ඔබට පෙනෙන පරිදි, ඒ කාලයේදී මධ්‍යගත විරෝධී සියලු ව්‍යාපාරවලට මාර්තව් සහෝදරයා මුළුමනින්ම විරුද්ධ විය. සමුළුව යෙගෝරව්ගේ සහ පපෝව්ගේ යෝජනාව ප්‍රතික්ෂේප කළේය. එහෙත් අවාසනාවකට මෙන් චන්ද කීයකින්ද යන්න අපට වාර්තාවෙන් දැනගත නොහැකිය.

පක්ෂ සමුළුවේදී, ''සංවිධානය කරනවා'' යන වචනය වෙනුවට ''අනුමත කරනවා'' යන වචනය යෙදීමට මාර්තව් සහෝදරයා විරුද්ධ විය. (මධ්‍යම කාරක සභාව කමිටු සංවිධානය කරයි ආදී වශයෙනි පක්ෂ ව්‍යවස්ථාවේ 6 වැනි ඡේදය) ''එයට සංවිධානය කිරීමේ අයිතියද දිය යුතුයැ'' යි හේ පැවසීය. මාර්තව් සහෝදරයා එද කීවේ ඒ විධියටය. එවකට ඔහු ''සංවිධානය කිරීම'' නැමැති සංකල්පයට අනුමත කිරීම අයත් නැත යන අපූරු අදහස දරා සිටියේය. එම අදහස ඔහු සොයා ගත්තේ ලීග් සමුළුවේදී පමණකි.



මේ කරුණු දෙක හැරුණු විට, ව්‍යවස්ථා මාලාවේ 5—11 කොටස් පිළිබඳව ඇතිවූ විවාදය (වාර්තා 273—276 පිටු) සවිස්තර කරුණු ගැන නොවැදගත් තර්කවලට පමණක් සීමා වූයෙන්, එය කිසිදු වැදගත්කමක් නොදැරීය. ඊළඟට 12 කොටස — පක්ෂයේ සියලු සංවිධානවලට පොදුවෙන්ද, මධ්‍යම සංවිධානවලට විශේෂයෙන්ද තෝරා පත්කර ගැනීම පිළිබඳ ප්‍රශ්නය පැමිණියේය. තෝරා ගැනීමට ලැබිය යුතු බහුතර චන්ද සංඛ්‍යාව තුනෙන් දෙකක සිට, පහෙන් හතරක් දක්වා වැඩි කිරීමට කොමිෂන් සභාව යෝජනා කළාය. එහි වාර්තාව ඉදිරිපත් කළ ග්ලේබව්, තෝරා පත් කර ගැනීම පිළිබඳ තීරණය ඒකච්ඡන්දයෙන් විය යුතු බව යෝජනා කළේය. විෂමතාවයන් තිබීම නුසුදුසු බව පිළිගත් යෙගෝරව් සහෝදරයා හේතු සහිත veto* නැතිනම්, සාමාන්‍ය වැඩි චන්දයකට පක්ෂ බැව් පැවසීය. පපෝව් සහෝදරයා කොමිෂන් සභාව සමග හෝ යෙගෝරව් සහෝදරයා සමග හෝ එකඟ නොවීය. ඔහු එක්කෝ සාමාන්‍ය වැඩි චන්දයක් (veto) පාවිච්චි කිරීමේ අයිතිය රහිතව) නැතිනම් ඒකච්ඡන්දයක් ඉල්ලා සිටියේය. මාර්තව් සහෝදරයා කොමිෂන් සභාව සමග හෝ යෙගෝරව් සමග හෝ පපෝව් සමග හෝ එකඟ නොවීය. ඔහු ඒකච්ඡන්දයට, පහෙන් හතරට (තුනෙන් දෙකට ඔහු පක්ෂ විය) විරුද්ධ විය, ''අන්‍යොන්‍ය තෝරා පත්කර ගැනීම් ගැනද'' එනම් තෝරා ගැනීමකට විරුද්ධත්වය මධ්‍යම කාරක සභාවට ප්‍රකාශ කිරීමට මධ්‍යම පුවත්පතේ කර්තෘ මණ්ඩලයට ඇති අයිතියටද එය අනිත් අතට ක්‍රියාවේ යෙදවීමටද (''තෝරා ගැනීම් ගැන අන්‍යොන්‍ය පාලනයේ අයිතිය''ටද) ඔහු විරුද්ධ විය.

පාඨකයාට පෙනී යන පරිදි, කාණ්ඩ ගැසීම අතිශයින්ම විවිධාකාරය, මතභේද කෙතරම් විශාල වීදයත්, සෑම නියෝජිතයකුගේම මතය සම්පූර්ණයෙන්ම පාහේ ''අභූත පූර්ව'' විය!

මාර්තව් සහෝදරයා මෙසේ පැවසීය: ''අප්‍රසන්න මිනිසුන් සමග වැඩ කිරීමේ මනෝවිද්‍යාත්මක නොහැකියාව මම පිළිගනිමි. එහෙත් අපේ සංවිධානයට ජීව ශක්තියක් හා කාර්ය සාධක හැකියාවක් තිබීම ඉතා වැදගත්ය... ඇඳාගැනීම්වලදී මධ්‍යම කාරක සභාවේ සහ මධ්‍යම පුවත්පතේ කර්තෘ මණ්ඩලයේ අන්‍යොන්‍ය පාලනය අනවශ්‍යය. මා එයට විරුද්ධ වන්නේ මින් එක් සංවිධානයක් අනිත් සංවිධානයට අයත් ක්ෂේත්‍රයේ කටයුතු ගැන අදක්ෂතාවයක් දක්වන නිසා නොවේ. නැත! මධ්‍යම කාරක සභාවට නදේෂ්දින් මහත්මයාව ඇතුළු කර ගන්නවාද නැද්ද යන ප්‍රශ්නය ගැන යහපත් උපදෙසක් ප්‍රධාන පුවත්පතේ කර්තෘ

---

* —නිෂේධ බලය.—සංස්කාරක

මණ්ඩලයට දිය හැකිය. මා විරුද්ධ වන්නේ අන්‍යොන්‍ය වශයෙන් කුපිත කරවන පුරුදු බිහි කිරීමට මා නොකැමැති බැවිනි.''

මම ඔහුට මෙසේ විරුද්ධ වීමි: ''මෙතැන ප්‍රශ්න දෙකකි. පළමුවැන්න අවශ්‍ය බහුතර චන්ද සංඛ්‍යාවකි, මෙය පහෙන් හතරේ සිට තුනෙන් දෙක දක්වා අඩු කිරීමට මම විරුද්ධ වෙමි. හේතු සහිත විරුද්ධත්වයක් ගෙන ඒමට ඉඩ සැලසීම නුවණට හුරු දෙයක් නොවේ. එවැන්නකට මා විරුද්ධය. දෙවැනි ප්‍රශ්නය අසමාන්‍ය ලෙස වඩාත් වැදගත්ය. එය තෝරා පත්කර ගැනීම පිළිබඳව මධ්‍යම කාරක සභාවේ සහ මධ්‍යම පුවත්පතේ අන්‍යොන්‍ය පාලන අයිතිය ගැනය. මධ්‍යම මණ්ඩල දෙකේ අන්‍යොන්‍ය කැමැත්ත සඳහා සංගතිය වැදගත් කොන්දේසියකි. මෙහිදී ප්‍රශ්නය විය හැක්කේ සංවිධාන දෙකේ මධ්‍යස්ථාන දෙකේ භේදයක් වීමට ඉඩ තිබීමය. භේදයක් දැකීමට නොකැමැති හැම දෙනෙක්ම සංගතිය ආරක්ෂා කිරීම ගැන සැලකිලි දැක්විය යුත්තාහ. භේද ඇති කරන මිනිසුන් සිටි බව පක්ෂ ඉතිහාසයෙන් අපි දන්නෙමු. මෙය ප්‍රතිපත්ති මූලක ප්‍රශ්නයකි, ඉතා වැදගත් ප්‍රශ්නයකි. මෙය මත පක්ෂයේ මුළු අනාගතය රඳා පැවතිය හැකිය'' (පිටු 276—277).* සමුළුවේ වාර්තා වී ඇති පරිදි මගේ කතාවේ සම්පිණ්ඩණයේ සම්පූර්ණ පෙළ එසේය. මේ කතාවට මාර්තව් සහෝදරයා විශේෂ බැරෑරුම් වැදගත්කමක් දැක්විය. අවාසනාවකට මෙන්, එයට බැරෑරුම් වැදගත්කමක් දක්වන අතරම එය මුළු මහත් විවාදයට සම්බන්ධව සහ එම කතාව කරන විට සමුළුවේදී පැවැති මුළු දේශපාලන තත්ත්වය කල්පනාවට ගැනීමට ඔහු අසමත් විය.

මුලින්ම ප්‍රශ්නය මෙසේ විය: මගේ මුල් කෙටුම්පතින් (394 පිටුව, §11 බලන්න)** මා තුනෙන් දෙකකට වැඩි ඡන්දයකට සීමාවී, මධ්‍යම සංවිධානවලට තෝරා පත්කර ගැනීමේදී අන්‍යොන්‍ය පාලනයක් ඉල්ලා නොසිටියේ මන්ද? මට පසුව කතා කළ ට්‍රොට්ස්කි සහෝදරයා (277 පිටුව), එම ප්‍රශ්නය වහාම ඉදිරිපත් කළේය.

ලීග් සමුළුවේදී මවිසින් කළ කතාවෙන් සහ දෙවැනි සමුළුව ගැන වූ පව්ලෝවිච් සහෝදරයාගේ ලිපියෙන් එයට පිළිතුරු සපයා ඇත. ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටසින් ''බඳුන බිඳින ලදී'', දැන් එය ගැට ''දෙකක් ගසා බැඳ තැබිය'' යුතු බව මම ලීග් සමුළුවේදී පැවසීමි. එහි තේරුම මෙසේය: ප්‍රථමයෙන්ම, හුදු න්‍යායික ප්‍රශ්නයකදී මාර්තව් අවස්ථාවාදියකු

---

* වී. අයි. ලෙනින්ගේ කෘතීන් පස්වැනි රුසියන් මුද්‍රණය. 7 වෙළුම. 293 පිටුව.

** වී. අයි. ලෙනින්. ''රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවට කෙටුම්පත් යෝජනා.'' — සංස්කාරක



බව ඔප්පු විය. ඔහුගේ වරදට ලීබෙර් සහ අකීමව් පක්ෂ වූහ. දෙවැන්න, මධ්‍යම සංවිධානවලට පුද්ගලයින් තෝරාපත් කිරීමට චන්ද දීමේදී, මාර්තව්වාදීන් (එනම් ඉස්ක්‍රාවාදීන්ගේ නොවැදගත් අඩු කොටස) ඉස්ක්‍රා-විරෝධීන් සමග ඇති කරගත් සභාගය නිසා එයට සමුළුවේදී බහුතරයක් ලැබීමය. මා මෙහිදී කතා කළේ මධ්‍යම මණ්ඩලවලට පුද්ගලයින් තෝරාපත් කිරීම ගැනය, සංගතියක ඇති අවශ්‍යතාවය අවධානය කළ මම, භේද ''ඇති කරන මිනිසුන්'' ගැන අනතුරු ඇඟවීමක් කළෙමි. මේ අනතුරු ඇඟවීම සැබවින්ම, ප්‍රතිපත්ති මූලක වශයෙන් වැදගත් ලෙස සැලකිය යුතු කරුණක් විය, මන්දයත් ''ඉස්ක්‍රා'' සංවිධානය (සියලු කටයුතු සහ සියලු අපේක්ෂකයින් සමග ඉතා කිට්ටු ප්‍රායෝගික සම්බන්ධකම් ඇති කරගෙන සිටි බැවින් මධ්‍යම සංවිධානවල පුද්ගලයින්ගේ සංයුතිය පිළිබඳව, විනිශ්චය කිරීමට ඉතාම හොඳ සුදුසුකමක් නිසැක ලෙසම ඇත්තේ ''ඉස්ක්‍රා'' සංවිධානයටය), මේ විෂයය පිළිබඳව සිය රෙකමදරු කර ඇති බැවින් සහ සැක ඇති කරන අපේක්ෂකයින් පිළිබඳව, තීරණයන් කර තිබුණු බව අප දන්නා බැවිනි. අධ්‍යාත්මික සුදුසුකම සහ යෝග්‍යතාවය (එනම්, විනිශ්චය කිරීමේ දක්ෂතාවය) අනුව, මේ සියුම් කරුණේ දී තීරණාත්මක විනිශ්චයක් කිරීමට අයිතියක් ''ඉස්ක්‍රාව''ට තිබිය යුතු විය. එහෙත් චාරිත්‍රානුකූලව කථා කරතොත්, ''ඉස්ක්‍රා'' සංවිධානයේ බහුතරයට විරුද්ධව ලීබෙර්ලාට සහ අකීමව්ලාට ආයාචනා කිරීමට මාර්තව් සහෝදරයාට සෑම අයිතියක්ම තිබිණි. ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටස පිළිබඳව ඉතා පැහැදිලි සහ විචක්ෂණ කතාවක් කළ අකීමව් සහෝදරයා, ඉස්ක්‍රාවාදීන් අතර ඔවුන්ගේ පරමාර්ථ මුදුන් පමුණුවා ගැනීම සඳහා ක්‍රියා විධි ගැන මතභේදයක් ඇති වූ විට, තමා එභාතකව සහ සිතාමතාම අයහපත් ක්‍රියා විධියට චන්දය දෙන බැව් පැවසීය. මන්දයත්, ඔහුගේ, අකීමව්ගේ අරමුණු, ඉස්ක්‍රාවාදීන්ගේ අරමුණුවලට හාත්පසින්ම වෙනස් බැවිනි. එබැවින් ඉතා සුළු හෝ සැකයකින් තොරව, මාර්තව් සහෝදරයාගේ අභිප්‍රායයන් සහ බලාපොරොත්තු නොතකා මධ්‍යම මණ්ඩලවල වඩාත් අයහපත් සංයුතියකට ලීබෙර්ලාගේ සහ අකීමව්ලාගේ ආධාරය ලැබෙනු ඇත. ඔවුනට චන්දය දිය හැකිය, ''භේද ඇති කරන මිනිසුන් සිටින බවට බලාපොරොත්තු ඇති කරන නාම ලේඛනයට පැහැදිලි ලෙසම ඔවුන් චන්දය දෙනු ඇත (ඔවුන්ගේ කතා අනුව නොව, ඔවුන්ගේ ක්‍රියාවන් අනුව, පළමුවැනි කොටස පිළිබඳ ඔවුන් චන්දය දුන් ආකාරය අනුව විනිශ්චය කිරීමෙනි). ''භේද ඇති කිරීම'' සඳහා ඔවුන් එසේ කරනු ඇත. එය පක්ෂයේ මුළු මහත් අනාගතය රඳා පවතින ප්‍රතිපත්ති මූලක ඉතා

වැදගත් ප්‍රශ්නයක් බව (මධ්‍යම සංවිධාන දෙකක් අතර ඇති සංගතිය) මා සඳහන් කිරීම මවිතයට හේතුවක් වන්නේ ද?

''ඉස්ක්‍රාවේ'' අදහස් සහ සැලැස්ම සහ ව්‍යාපාරයේ ඉතිහාසය ගැන දන්නාවූත්, එම අදහස් අවංක ලෙසම පිළිගන්නාවූත් කිසිම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකුට, ''ඉස්ක්‍රා'' සංවිධානය තුළ මධ්‍යම සංවිධානවල සංයුතිය පිළිබඳ විවාදයේදී ලීබෙර්ලා සහ අකීමව්ලා විසින් ගනු ලැබූ තීරණය කරනු ලැබීම විධිමාත්‍ර වශයෙන් නිවැරදි බව ගැන මොහොතකට හෝ සැක කිරීමට බැරිය. එහෙත් එය ඉතාමත් අයහපත් ප්‍රතිඵල සහතික කරයි. මේ ඉතා අයහපත් ප්‍රතිඵල වලක්වාලීම සඳහා ඒවාට විරුද්ධව සටන් කිරීම අනිවාර්ය වන්නේය.

අප ඔවුන්ට විරුද්ධව කෙසේ නම් සටන් කළ හැකි වී ද? අපි හිස්ටීරියා රෝගීන් ලෙස හෝ කලහ කරුවන් ලෙස හෝ සටන් නොකෙළෙමු. පක්ෂයට ඉතා ලැදි ක්‍රම සහ ඉතා නීත්‍යානුකූල ක්‍රම අනුව අපි සටන් කළෙමු. (පළමුවැනි කොටස පිළිබඳ ප්‍රශ්නයේදී මෙන්), අප අල්පතරය වන්නේය යන හැඟීමෙන් යුතුව, අල්පතරයේ අයිතීන් ආරක්ෂා කරන ලෙස අපි සමුළුවෙන් ඉල්ලා සිටියෙමු. සාමාජිකයින් ඇතුළු කර ගැනීමට අවශ්‍ය බහුතරය පිළිබඳව (තුනෙන් දෙකක් වෙනුවට පහෙන් හතරක්) වඩාත් දැඩි බවක්, තෝරාපත් කර ගැනීමට ඒකච්ඡන්දයක් අවශ්‍ය වීම, මධ්‍යම සංවිධානවලට සාමාජිකයින් තෝරා ගැනීමේදී අන්‍යොන්‍ය පාලනය — මධ්‍යම සංවිධානවල සාමාජික සංයුතිය පිළිබඳ ප්‍රශ්නයේදී අප අල්පතරයට පත්වූ විට මේ කරුණු අනුව ක්‍රියා කළ යුතු යැයි අපි ඉල්ලා සිටියෙමු. සිය මිතුරන් සමග දෙතුන් විටක් පිළිසඳර කතා කොට, වාර්තා පිළිබඳව බැරෑරුම් ලෙස අධ්‍යයනය නොකර, සැලකිල්ලක් දක්වන පුද්ගලයින් පිළිබඳව සියලු ''සහතික'' සොයා නොබලා, සමුළුව පිළිබඳ සැහැල්ලු අදහස් ඉදිරිපත් කිරීමට නිතර සූදානම්, ඉවාන්ලා සහ පීටර්ලා මේ සත්‍යය ස්ථාවර ලෙසම අමතක කරති. එහෙත් කිසිවෙක් මේ වාර්තා සහ සහතික සුහද සිතින් අධ්‍යයනය කරන්නේ නම්, මවිසින් පෙන්වා දෙන ලද සත්‍යයට ඔහු නොවැළැක්විය හැකි සේ ළඟා වන්නේය: එනම් සමුළුවේ ඒ මොහොතේ පැවැති මතභේදයේ මුල වූයේ ප්‍රධාන සංවිධානවල පෞද්ගල සංයුතිය පිළිබඳ ප්‍රශ්නය බවය. අපි අල්පතරයේ සිටි නිසාම පාලනය පිළිබඳ වඩාත් දැඩි කොන්දේසි ඉල්ලා සිටියෙමු. ප්‍රීතියෙන් කුල්මත් වූ ලීබෙර්ලාගේ සහ අකීමව්ලාගේ ආධාර ඇතිව, ප්‍රීති උත්සවය මධ්‍යයේ මාර්තව් විසින් බිඳ දමන ලද බඳුන ''ගැට දෙකක් ගසා තදවනසේ බැඳ දැමීමට'' අපට අවශ්‍ය වී ඇත.

සමුළුවේ මේ මොහොත ගැන කතා කළ පව්ලෝවිච් සහෝදරයා, ''එය එසේ නොවේ නම්, තෝරාපත් කිරීමේදී ඒකමතිකත්වය පිළිබඳ



ප්‍රශ්නය ඉදිරිපත් කිරීමෙන්, අපි අපේ විරුද්ධකරුවන් ගැන සැලකිලිමත් වීමුයි කෙනෙකුට සිතීමට ඉඩ ඇත. මන්දයත්, ඕනෑම ආයතනයක ඉතා ප්‍රබල කොටසට ඒකමතිකත්වය අනවශ්‍ය පමණක් නොව, ඉන් අවාසියක් පවා සිදුවන බැවිනියි පැවසීය. (දෙවැනි සමුළුවට ලිපියක්, 14 පිටුව). එහෙත් අද සිද්ධීන් පිළිබඳ කාලානුක්‍රමික අංශය බොහෝ නිරන්තර ලෙස අමතක කර ඇත. වත්මන් අල්පතරය බහුතරය (ලීබෙර්ලාගේ සහ අකීමව්ලාගේ සහභාගිත්වයට පින්සිදු වන්නට) බවට පත්වී සිටි සම්පූර්ණ කාල පරිච්ඡේදයක් සමුළුවේදී තිබුණු බවද අමතක කර ඇත, මධ්‍යම සංවිධානවලට තෝරාපත් කිරීම පිළිබඳව මතභේදය පැන නැංගේ පැහැදිලි ලෙසම මේ වකවනුවේදීය. මෙයට යටි හේතුව වූයේ මධ්‍යම සංවිධානවල පෞද්ගලික සංයුතිය පිළිබඳව ''ඉස්ක්‍රා'' සංවිධානය තුළ හටගත් මතභේදයය. මේ සත්‍යය වටහාගත් හැම කෙනෙකුම අපේ තර්කවල උද්වේගය අවබෝධ කර ගනු ඇත. සවිස්තර පිළිබඳව නොවැදගත් මතභේදයන් සැබෑ ඉතා වැදගත් ප්‍රතිපත්ති මූලක ප්‍රශ්න ඉදිරියට වන බව බැලු බැල්මට විරුද්ධාභාසයක් ලෙස පෙනුනත් එය මවිතයට හේතු නොවනු ඇත.

එම සැසි වාරයේදී කතා කළ දෙයිච් සහෝදරයා (277 පිටුව) මෙසේ පැවසූ විට, ඔහු කීප අතකින් නිවැරදි විය: ''නිසැක ලෙසම, මේ යෝජනාව අද තිබෙන තත්ත්වයට ගැළපෙයි.'' එසේය, සත්තකින්ම නිශ්චිත අවස්ථාව එහි ඇති සියලු සංකීර්ණතාවයන් සමග අවබෝධ කර ගත් විට පමණක්, මතභේදයේ සැබෑ තේරුම අපට වටහා ගත හැකිය. අප අල්පතරයට අයත් වූ බවත්, ඕනෑම යුරෝපීය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකු නීත්‍යානුකූල යැයිද, අවසර සහිත යැයිද පිළිගත් ක්‍රම අනුව, එනම් මධ්‍යම සංවිධානවලට පුද්ගලයින් තෝරාපත් කිරීමේ සංයුතිය පිළිබඳව දැඩි පාලනයක් සඳහා සම්මේලනයට අභියාචනයක් කළ බවත් මතක තබා ගැනීම ඉතා වැදගත්ය. යෙගෝරව් සහෝදරයා සමුළුවේ වෙනත් සැසි වාරයකදී, මෙසේ පැවසූ විට, ඔහු අංශ කීපයකින් නිවැරදි විය:- ''විවාදයේදී මූලධර්ම යළිත් සඳහන් කිරීම නිසා මම උපරිමය ලෙස මවිත වෙමි''... (සමුළුවේ 31 වැනි සැසි වාරයේදී මධ්‍යම කාරක සභාවට නියෝජිතයින් තෝරා ගැනීම පිළිබඳව මෙය කියන ලදී. මා හිතන හැටියට එම සැසි වාරය පවත්වන ලද්දේ බ්‍රහස්පතින්ද උදේය. දැන් අප කතා කරන 26 සැසි වාරය පවත්වන ලද්දේ සඳුද හවසය)... ''පසුගිය දවස් කීපය තුළදීම, විවාදය මූලධර්ම පිළිබඳ එක් හෝ තවත් ප්‍රශ්නයක් වටා ඇති නොවූ බව කාටත් පැහැදිලිය. එහෙත් එය මධ්‍යම සංවිධානවලට එක් හෝ තවත් පුද්ගලයකු පිළිගැනීම හෝ ප්‍රතික්ෂේප කිරීම වටා ඇති විය, මේ සමුළුවේදී බොහෝ කලෙක සිට මූලධර්ම අහෝසි වී ඇති බව

අපි පිළිගනිමු. අප ඇත්ත ඇති සැටියේ කියා පෑ යුතුය. (පොදු සිනා. මුරවියොව්: මාර්තව් සහෝදරයා මඳ සිනා පෑ බව වතා කරන ලෙස මම ඉල්ලා සිටිමි)'' (377 පිටුව). මාර්තව් සහෝදරයාද අප හැම කෙනෙකු මෙන්ම, යෙගෝරව් සහෝදරයාගේ දුක්ගැනවිලි වලට සිනාසුනේය. සත්තකින්ම එම දුක්ගැනවිලි හාස්‍යජනක ඒවා විය. එසේය. ''අවසාන දවස් කීපය තුළදී'' මධ්‍යම සංවිධානවල පෞද්ගලික සංයුතිය පිළිබඳ ප්‍රශ්නය වටා බොහෝ දේ භ්‍රමණය විය.එය සත්‍යයකි. සමුළුවට සහභාගි වූ හැම කෙනෙකුටම එය පැහැදිලි විය (මේ පැහැදිලි සත්‍යය ඇඳිරි කිරීමට අල්පතරය උත්සාහ ගන්නේ දන්ය). එමෙන්ම ඇත්ත ඇති සැටියෙන් පිළිගැනීමද කළ යුත්තකි. එහෙත් දෙවියන්ගේ නාමෙට මෙහි ''මූලධර්ම අහෝසිවීමක්'' ඇත්තේ කොහිද? අප සමුළුවට රැස්වූයේ පළමුවැනි දවස් කීපය තුළදී (10 පිටුව සමුළුවේ න්‍යාය පත්‍රය) වැඩ පිළිවෙළ, උපාය මාර්ගය, සහ ව්‍යවස්ථා මාලාව ගැන සාකච්ඡා කිරීමට සහ ඒවාට සම්බන්ධ ප්‍රශ්න තීරණය කිරීමටය. අවසාන දවස් කීපය තුළදී (න්‍යාය පත්‍රයේ 18 සහ 19 වැනි අංක) මධ්‍යම සංවිධානවලට නියෝජිතයින් තෝරාපත් කර ගැනීම පිළිබඳව සාකච්ඡා කිරීමට සහ ඒ ගැන තීරණයන් ගැනීමටය. සමුළුවේ අවසාන දවස් කීපය සන්නායක යෂ්ටිය පිළිබඳව සටනට යෙදවීම එමෙන්ම ස්වාභාවිකය, සම්පූර්ණයෙන්ම නීත්‍යානුකූලය. (එහෙත් සමුළුවෙන් පසු සන්නායක යෂ්ටිය සඳහා සටන් කිරීම කලහ කිරීමක් වන්නේය.) මධ්‍යම සංවිධානවලට පුද්ගලයින් තෝරාපත් කිරීම පිළිබඳ ප්‍රශ්නයේදී යම් කිසිවකු පරාජය ලබන්නේ නම් (යෙගෝරව් සහෝදරයා මෙන්), එම සිද්ධියට ඉක්බිතිව එය ''මූලධර්ම අහෝසිවීමක්'' හැටියට හැඳින්වීම, හුදු හාස්‍යජනක කරුණක් වන්නේය. හැම දෙනෙකුම යෙගෝරව් සහෝදරයාගේ කතාවට සිනාසුනේ මන්දැයි ඒ අනුව වටහා ගත හැකිය. මෙලෙස සිනාසීමේදී මාර්තව් සහෝදරයාත්, සිනාසුණු බව වාර්තා කරන ලෙස මුරවියොව් සහෝදරයා ඉල්ලා සිටියේ මන්ද යන්න එලෙසම වටහා ගත හැකිය: යෙගෝරව් සහෝදරයාට සිනාසුනු මාර්තව් සහෝදරයා තමාටම සිනාසුනේය...

මුරවියොව් සහෝදරයාගේ ඇනුම් පදයට අමතරව පහත සටහන් සත්‍යය මතක් කිරීම වැඩිමහත් දෙයක් ලෙස නොසිතමි. මතභේදයට තුඩුදුන් ප්‍රධාන හේතුව මධ්‍යම සංවිධානවලට සාමාජිකයින් තෝරාපත් කර ගැනීම පිළිබඳව ප්‍රශ්නය බව සමුළුවට පසුව මාර්තව් සහෝදරයා දිගට හරහට කියන්නට පටන් ගත්තේය. ''පැරණි කර්තෘ මණ්ඩලයේ බහුතරය'' මධ්‍යම මණ්ඩලවලට සාමාජිකයින් තෝරා පත් කර ගැනීමේදී ස්ථිර ලෙසම අන්‍යොන්‍ය පාලනයට විරුද්ධ බවද ඔහු පැවසීය. සමුළුවට පෙර තුන් දෙනෙකුගෙන් බැගින් යුත් කණ්ඩායම් දෙකක් තෝරාපත් කිරීම සහ තුනෙන් දෙකක බහුතරයක් ඇතිව අන්‍යොන්‍ය තෝරාපත් කිරීමක් පිළිබඳ මගේ සැලැස්ම පිළිගැනීමේදී, එම විෂය ගැන මාර්තව් සහෝදරයා මෙසේ ලියුවේය: ''අන්‍යොන්‍ය තෝරාපත් කිරීමේ මේ ක්‍රමය පිළිගැනීමේදී, සමුළුවෙන් ඉක්බිතිව, එක් එක් සංවිධානයකට එකතු කර ගැනීම් වෙනත් ආකාරයට සිදුවන බව අවධාරණය කළ යුතුය. (මා ඉදිරිපත් කරන උපදෙස මෙසේය: එක් සංවිධානයක් තවත් සංවිධානයකට සිය අදහස දන්වමින්, අළුත් සාමාජිකයින් අනුබද්ධ කර ගත යුතුය. පසුකී සංවිධානයට එයට විරුද්ධත්වය ප්‍රකාශ කළ හැකිය, එවිට මණ්ඩලයට එම ප්‍රශ්නය විසඳාලිය හැකි වන්නේය. පමාවීම් බැහැර කරනු වස්, කල් ඇතිව ඉදිරිපත් කරන ලද අපේක්ෂකයින් සම්බන්ධව — පත් කිරීම් සඳහා — වඩාත් ක්ෂණික ලෙස තෝරා ගත හැකි සාමාජිකයින්ගෙන් සමන්විත මධ්‍යම කාරක සභාව පිළිබඳව වත් යටත් පිරිසෙයින් මේ ක්‍රමය අනුගමනය කළ හැකිය). තව දුරටත් තෝරා පත් කර ගැනීම් පක්ෂයේ ව්‍යවස්ථා මාලාව විසින් දක්වා ඇති ආකාරයට ඉටු කරන බව අවධාරණය කිරීම සඳහා 22 කොටසට මෙලෙස එකතු කළ යුතුය:* ''... ඒ අනුව ගන්නා ලද තීරණ අනුමත කළ යුතුය'' ''(අවධාරණය මවිසිනි).

මේ ගැන විමර්ශනයක් කිරීම අනවශ්‍යය.

---

මධ්‍යම සංවිධානවලට සාමාජිකයින් තෝරා පත් කර ගැනීම පිළිබඳව අවස්ථාවේ වැදගත්කම විස්තර කළ අප, එම විෂයය ගැන ඡන්දය දීම පිළිබඳව විමසා බැලිය යුතුය. මාර්තව්ගේ සහ මගේ කතා උපුටා දැක්වීමෙන් පසුව, ඉතා සුළු සංඛ්‍යාවක් නියෝජිතයින් විසින් ඉතා කෙටි වාග් හුවමාරුවක් ඇති කරගත් බැවින් සාකච්ඡාව පිළිබඳව විස්තර කිරීම අනවශ්‍යය, (වාර්තාවේ 277—280 පිටු) ලීග්. සමුළුවේදී ඡන්දය විමසීම ගැන කතා කළ මාර්තව් සහෝදරයා, මගේ සංක්ෂිප්ත වාර්තාවේදී මා ''ඉතා විශාල වශයෙන් විකෘති කළ'' බැව් පැවසීය: (ලීග් සමුළුවේ වාර්තා 60 පිටුව). ''ව්‍යවස්ථා වටා පැන නැඟී අරගලය නියෝජනය කිරීමේදී''...

---

* මේ සටහන සමුළුවේ Tagesordnung (න්‍යාය පත්‍රයේ) මගේ මුල් කෙටුම්පත සහ එයට මවිසින් ලියන ලද විමර්ශනය ගැනය. සියලු නියෝජිතවරු මේ ගැන දැන සිටියහ. මේ කෙටුම්පතේ 22 වැනි කොටසින් ප්‍රධාන පුවත්පතට සහ මධ්‍යම කාරක සභාවට තෝරා පත් කරන තිදෙනා බැගින් යුත් කාණ්ඩ දෙකක් විසින් එහි තුනෙන් දෙකක ඡන්දය අනුව අන්‍යොන්‍ය තෝරා පත් කිරීමක් කරනු ඇත. මේ අන්‍යොන්‍ය තෝරාපත් කිරීම සමුළුව විසින් ස්ථිර කළ යුතුය. ඉන් අනතුරුව එය මධ්‍යම පුවත්පත සහ මධ්‍යම කාරක සභාව විසින් වෙන වෙනම සම්මත කළ යුතුය.

(මාර්තව් සහෝදරයා අකැමැත්තෙන් වුවද පූර්ණ සත්‍යය පැවසීය: පළමුවැනි කොටසින් පසුව, ව්‍යවස්ථා මාලාව වටා උණුසුම් විවාදයක් ඇති විය)... " "ඉස්ක්‍රාව"ට විරුද්ධ එම අරගලයේදී" මාර්තව්වාදීහු බුන්ඩ්ය සමග සභාගයක් ඇති කර ගත්හ."

මේ වැදගත් "මහා විකෘතිය" දූන් අපි පිරික්සා බලමු. මණ්ඩලයේ සංයුතිය පිළිබඳව චන්දයදීම සහ තෝරාපත් කිරීම පිළිබඳව දූන් චන්ද එකට එකතු කළ මාර්තව් සහෝදරයා චන්ද විමසීම් අටක් පෙන්වා දෙයි: 1) මණ්ඩලයට, ප්‍රධාන පුවත්පතින් සහ මධ්‍යම කාරක සභාවෙන් දෙදෙනෙකු බැගින් තෝරා පත් කිරීම සඳහා චන්දය විමසීමට පක්ෂව චන්ද 27 (මා), විපක්ෂව 16 (ලෙ)*, මධ්‍යස්ථව 7 කි. (වාර්තාව අනුව, 270 පිටුව, මධ්‍යස්ථව චන්ද 8 ලැබී ඇති බව අමතරව සටහන් කරමු. එසේවුවද එය වැඩි විස්තරයක් පමණකි.)— 2) සමුළුව විසින් මණ්ඩලයට පස්වැනි සාමාජිකයා තේරීම — පක්ෂව චන්ද 23 (ලෙ), විරුද්ධව 18 (මා), මධ්‍යස්ථව 7 කි. — 3) අවලංගු වූ සිය සාමාජිකයින් වෙනුවට මණ්ඩලය විසින්ම සාමාජිකයින් පත් කිරීම විපක්ෂව චන්ද 23 (මා), පක්ෂව චන්ද 16 (ලෙ), මධ්‍යස්ථ 12 කි. — 4) මධ්‍යම කාරක සභාවට තෝරා ගැනීමේදී ඒකමතිකත්වයට පක්ෂව චන්ද 25 (ලෙ), විරුද්ධව 19 (මා), මධ්‍යස්ථව 7 කි. — 5) සාමාජිකයකු තෝරා නොකිරීමට එක් හේතු සහිත විරුද්ධත්වයක් පමණක් සෑහේය යන යෝජනාවට පක්ෂව චන්ද 21 (ලෙ), විරුද්ධව 19 (මා), මධ්‍යස්ථව 11 කි. — 6) ප්‍රධාන පුවත්පතට තෝරා ගැනීමේදී ඒකමතිකත්වයට පක්ෂව චන්ද 23 (ලෙ), විරුද්ධව 21 (මා), මධ්‍යස්ථව 7 කි. — 7) අළුත් සාමාජිකයකු එකතු නොකරගත යුතුය යන මධ්‍යම පුවත්පතේ හෝ මධ්‍යම කාරක සභාවේ තීරණය නිෂ්ප්‍රභ කිරීමට බලය මණ්ඩලයට දීමේ යෝජනාවක් චන්දයට දැමීමට පක්ෂව චන්ද 25 (මා), විරුද්ධව 19 (ලෙ), මධ්‍යස්ථව 7 කි. — 8) එය පිළිබඳව යෝජනාවටම පක්ෂව චන්ද 24 (මා), විරුද්ධව 23 (ලෙ), මධ්‍යස්ථ 4 කි. මාර්තව් සහෝදරයා මෙසේද පැවසීය: "(ලීග් වාර්තා 61 පිටුව) මෙතැනදී පැහැදිලිව පෙනෙන පරිදි, එක් බුන්ඩ් නියෝජිතයෙක් යෝජනාවට පක්ෂව චන්දය දුන් අතර ඉතිරි අය මධ්‍යස්ථව සිටියහ." (අවධාරණය මවිසිනි).

නම අනුව චන්දය පාවිච්චි නොකළ විට, බුන්ඩ්වාදීයා ඔහුට, මාර්තව්ට පක්ෂව දුන්නේ යැයි මාර්තව් සහෝදරයා කල්පනා කරන්නේ කුමක් නිසාද?

මන්දයත් චන්දය දුන් සංඛ්‍යාව ඔහු ගණන් කළ බැවිනි; සංඛ්‍යාව අනුව බුන්ඩ්වාදීන් චන්දය දූන් බව පෙනී ගිය විට, ඔහු එනම් මාර්තව් සහෝදරයා ඔවුන් තමාට චන්දය දූන් බව සැක නැතිවම විශ්වාස කළේය.

එසේනම්, මවිසින් කරුණු මහා විකෘති කිරීමක් මෙතැන කොයින්ද?

මුළු චන්ද සංඛ්‍යාව 51 කි. බුන්ඩ්වරුන් හැරුණු විට එය 46 කි, රබෝචිය දියල කණ්ඩායම හැරුණු විට එය 43 කි. මාර්තව් සහෝදරයා විසින් මතක් කරන ලද චන්ද විමසීම් අටෙන් හතකදීම පිළිවෙළින් නියෝජිතවරු 43, 41, 39, 44, 40, 44 සහ 44 දෙනෙක් සහභාගි වූහ. එකකට නියෝජිතවරු 47 (වඩාත් නිවැරදිව චන්ද 47 ක්) සහභාගි වූහ. මෙතැනදී මාර්තව් සහෝදරයා තමාට පක්ෂව බුන්ඩ්වාදියෙක් චන්දය දූන් බව පවසයි. ඒ අනුව මාර්තව් විසින් අඳින ලද පින්තූරය (එය අසම්පූර්ණ සිත්තමක් බව අපි ඉක්මනින්ම දකිමු) අරගලය පිළිබඳව මවිසින් කරන ලද විස්තරය සනාථ කිරීමක් සහ ශක්තිමත් කිරීමක් පමණක් කරයි! අති විශාල වාර ගණනකදී මධ්‍යස්ථව සිටි අයගේ සංඛ්‍යාව විශාල බව අපට පෙනී යයි. සමහර නොවැදගත් කරුණු වලදී, සමුළුව සමස්තයක් වශයෙන්, මඳ — සාපේක්ෂ වශයෙන් මඳ සැලකිල්ලක් දැක්වූ බව සහ මේ ප්‍රශ්න ගැන ඉස්ක්‍රාවාදීන් අතර යම්කිසි ස්ථිර කාණ්ඩ ගැසීමක් නොතිබුණු බව එය පෙන්වයි. "බුන්ඩ්වාදීහු සිය මධ්‍යස්ථභාවයෙන් ලෙනින්ට ආධාර කළ බවක් පෙනේ" යි මාර්තව්ගේ ප්‍රකාශනය (ලීග් සමුළුවේ වාර්තා 62 පිටුව) ඇත්ත වශයෙන්ම මාර්තව්ට විරුද්ධව සාක්ෂි දෙයි. මෙහි තේරුම බුන්ඩ්වරුන් සහභාගි නොවන විට හෝ චන්දය නොදී මධ්‍යස්ථව සිටින විට හෝ පමණක් සමහර විට මට ජයග්‍රහණයක් ගැන විශ්වාස තැබිය හැකි බවය. එහෙත් චන්දයදීමට සහභාගි විය යුතුයැයි බුන්ඩ්වරුන් සිතූ විට ඔවුහු මාර්තව්ට පක්ෂ වූහ. එසේම නියෝජිතවරුන් 47 දෙනෙකු චන්දය දූන් ඉහත සටහන් අවස්ථාව ඔවුන් මැදිහත්වූ එකම වාරය නොවීය. සමුළුවේ වාර්තා කියවා බලන ඕනෑම කෙනෙකුට මාර්තව් සහෝදරයාගේ චිත්‍රයේ ඉතා පුදුමාකාර අසම්පූර්ණතාවයක් පෙනෙනු ඇත. බුන්ඩ්වරුන් චන්දය දූන් අවස්ථා තුනක් ගැන මතක් කිරීමට මාර්තව් සහෝදරයා අමතක කළේය. මේ අවස්ථා තුනේදී මාර්තව් සහෝදරයා ජයග්‍රාහකයා වූ බව කිව යුතු නැත. ඒ අවස්ථා තුන මෙසේය: 1) අවශ්‍ය බහුතරය පහෙන් හතරේ සිට තුනෙන් දෙක දක්වා අඩු කිරීමේ ෆේපාමින් සහෝදරයාගේ අතුරු යෝජනාව පිළිගැනීම. මෙයට පක්ෂව චන්ද 27 ක්ද විරුද්ධව චන්ද 21 ක් ද ලැබිණ (278 පිටුව) මුළු චන්ද සංඛ්‍යාව 48 කි. 2) අන්‍යොන්‍ය තෝරාපත් කිරීම අතහැර දැමීමේ මාර්තව් සහෝදරයාගේ යෝජනාව පිළිගැනීමට පක්ෂව 26 විපක්ෂව 24 (279 පිටුව) චන්ද සංඛ්‍යාව 50 කි. අවසාන වශයෙන්, 3) මධ්‍යම පුවත්පතට හෝ මධ්‍යම කාරක සභාවට හෝ සාමාජිකයින් තෝරාපත් කර ගැනීම මණ්ඩලයේ සියලු සාමා-

* වරහන් තුළ "මා" සහ "ලෙ" යනු ඒ ඒ චන්ද විමසීම්වලදී මාර්තව් සහ මා පක්ෂවූ සැටි පෙන්වයි. (මා)-මාර්තව්, (ලෙ)-ලෙනින්.

ජිකයින්ගේ කැමැත්ත අනුව කළ යුතුයැයි කියන මගේ යෝජනාව ප්‍රතික්ෂේප කිරීම (280 පිටුව). විරුද්ධව 27 කි. පක්ෂව 22 කි. (මෙහිදී නම් අඬ ගසා ඡන්දය විමසීමක්ද කරන ලදී. එහෙත් අවාසනාවකට මෙන් වාර්තාවෙහි මෙය සටහන් වී නැත) මුළු ඡන්ද සංඛ්‍යාව 49 කි.

සම්පිණ්ඩනය මෙසේය: මධ්‍යම මණ්ඩලවලට සාමාජිකයින් එකතු කරගැනීමේ ප්‍රශ්නයේදී බුන්ඩ්වරුන් ඡන්ද විමසීම් හතරකට සහභාගි වී ඇත (මවිසින් සටහන් කළ ඡන්ද විමසීම් තුන පිළිවෙළින් ඡන්ද 48, 50, 49 සහිතව සහ මාර්තව් සහෝදරයා සටහන් කළ ඡන්ද 47 සහිත, විමසීමය). මේ හැම වාරයකදීම ජයග්‍රාහයකයා වූයේ මාර්තව් සහෝදරයාය. හැම අතින්ම කාරණය ගැන මගේ විස්තරය නිවැරදි විය: බුන්ඩ් සමග සභාගයක් තිබුණේයැයි ප්‍රකාශ කරන විටත්, මේ ප්‍රශ්නවල සාපේක්ෂ නොවැදගත් ස්වරූපය ගැන සටහන් කරන විටත් (බොහෝ අවස්ථාවලදී මධ්‍යස්ථ වූ අයගේ සංඛ්‍යාව ඉතා විශාලය), ඉස්ක්‍රාවාදීන්ගේ ස්ථිර කාණ්ඩ ගැසීමක් නොතිබුණු බව (නමින් ඡන්දය නොවිමසීම, විවාදවලට ඉතා සුළු සංඛ්‍යාවක් සහභාගි වීම) පෙන්වා දෙන විටත් මා කී දේ නිවැරදිය.

මගේ ප්‍රකාශනයේ ප්‍රතිවිරුද්ධතාවයක් දැකීමට මාර්තව් සහෝදරයා දරන ප්‍රයත්නය දුර්වල මාධ්‍යයන් යොදා ගත් එකක් බව හෙළි විය. මන්දයත් ගැලපෙන තැනින් වචන වෙන්කරගත් ඔහු සම්පූර්ණ චිත්‍රය ප්‍රතිනිර්මාණය කිරීමට වෙහෙස නොගත් බැවිනි.

---

විදේශ සංවිධානවලට කැප වූ ව්‍යවස්ථා මාලාවේ අවසාන ඡේදය යළිත් වරක් විවාදවලට සහ ඡන්ද විමසීම්වලට තුඩු දුන්නේය. සමුළුවේදී කාණ්ඩ ගැසීම අනුව බලන විට මෙය ඉතා වැදගත්ය. විදේශවල පක්ෂ සංවිධානය හැටියට ලීගය පිළිගත යුතුය යන ප්‍රශ්නය මතු විය. අකීමව් සහෝදරයා, පළමුවැනි සමුළුව විසින් සම්මත කරන ලද විදේශගත සංගමය[29] ගැන මතක් කරමින් වේගවත් ලෙස කතා කළේය. මෙය මූලධර්ම පිළිබඳ ප්‍රශ්නයක් බවද ඔහු පෙන්වා දුන්නේය. ''මම පළමු වෙන්ම වෙනසක් දක්වන්නෙමි'' යි ඔහු පැවසීය: ''මේ ප්‍රශ්නය කිනම් ආකාරයකට විසඳන්නේද යන්න ගැන විශේෂ ප්‍රායෝගික වැදගත්කමක් මම නොදක්වමි. අප පක්ෂය තුළ කෙරීගෙන යන්නා වූ දෘෂ්ටිය පිළිබඳ අරගලය තවමත් අවසන් වී නැති බවට සැක නැත. එහෙත් මේ අරගලය වෙනත් තලයක විවිධ බලවේගයන්ගේ හවුල්වීම් අනුව තව දුරටත් කෙරීගෙන යනු ඇත... අපේ සමුළුව. පක්ෂයේ සමුළුවක සිට කවටිවාදී සමුළුවක් දක්වා පරිවර්තන කිරීමේ ප්‍රවණතාවය ඉතා දැඩි ලෙස රීති මාලාවේ 13 කොටස යළිත් වරක් පිළිබිඹු කරයි... පක්ෂයේ සමගියේ නාමයෙන් පක්ෂ සමුළුවේ තීරණවලට ගරු කිරීමට රුසියාවේ සියලු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට ගරු කරනවා වෙනුවට, අල්පතරයේ සංවිධානය විනාශ කළ යුතු බවත්, අල්පතරය අහෝසිකර දැමිය යුතු බවත් සමුළුවට යෝජනා කර සිටී'' (281 පිටුව). පාඨකයාට පෙනී යන පරිදි, මධ්‍යම සංවිධානවලට නියෝජිතයින් තෝරාපත් කර ගැනීම පිළිබඳ ප්‍රශ්නයේදී සිය පරාජයෙන් අනතුරුව මාර්තව් සහෝදරයාට මේ ''අවිච්ඡින්නතාවය'' ඉතා වටනා වූ පරිදිම අකීමව් සහෝදරයාටද එය ඉතා වටනා විය. එහෙත් සමුළුවේදී, තමන් කෙරෙහි සහ අන් අය කෙරෙහි විවිධ ප්‍රතිමාණයන් යොදවන මේ මිනිස්සු අකීමව් සහෝදරයාට විරුද්ධව ඉතා උණුසුම් ලෙස නැගී සිටියහ. පිළිගත් වැඩපිළිවෙළද, ''ඉස්ක්‍රා'' පුවත්පත පිළිගැනීමද, ව්‍යවස්ථා මාලාවේ සියලුම කොටස් පාහේ පිළිගැනීමද නොතකා, ''මූලධර්ම වශයෙන්'' ලීගය සංගමයෙන් වෙන්කළ ''මූලධර්මය'' ඉදිරියට ගෙනැවිත් තිබේ. මාර්තව් සහෝදරයා මෙසේ පැවසීය: ''මෙය මූලධර්මය පිළිබඳ ප්‍රශ්නයක් කිරීමට අකීමව් සහෝදරයා කැමති නම්, එයට විරුද්ධවීමට අප සූදානම් නැත. ප්‍රවණතා දෙකකට විරුද්ධව සටන් කිරීමේ සංයෝජන හැකියාව ගැන අකීමව් සහෝදරයා විශේෂයෙන් කතාකළ බැවිනි. එක් ප්‍රවණතාවයක ජයග්‍රහණය අනුමත කළ යුතුය (සමුළුවේ 27 වැනි සැසි වාරයේදී මෙසේ කී බව මතක තබා ගන්න!) මෙය ඉස්ක්‍රාවට තවත් වරක් නමස්කාර කිරීමක් හැටියට නොව, අකීමව් සහෝදරයා විසින් මතක් කරන ලද යෙදවිය හැකි සියලු සංයෝජනවලින් අවසාන වරට සමුගැනීමක් හැටියටය (282 පිටුව. අවධාරණය මවිසිනි).

එවිට පෙනෙන චිත්‍රය පුදුම සහගතය! සමුළුවේදී වැඩ පිළිවෙළ පිළිබඳව සියලු විවාවලට අනතුරුව යෙදවිය හැකි සියලු සංයෝජනවලින් මාර්තව් සහෝදරයා අවසාන වශයෙන් සමුගනී... ඒ මධ්‍යම සංවිධානවලට නියෝජිතයින් තෝරාපත් කර ගැනීම පිළිබඳ ප්‍රශ්නයේදී ඔහු මෙතෙක් පරාජය ලබන තෙක්ය. සමුළුවට පසුද තමා විසින් එලදයී ලෙස ඉදිරිපත් කළ එම යෙදවිය හැකි සංයෝජනයට මාර්තව් සමුළුවේදී අවසාන සමුගැනීමක් කළේය. එහෙත් අකීමව් සහෝදරයා එවකට පවා, මාර්තව් සහෝදරයට වඩා දූරදර්ශී බව ඔප්පු කළේය; පස් වසරක් වැඩ කළ පැරණි පක්ෂ සංවිධානයක්, සමුළුවේ තීරණය අනුව, කමිටුවක නමක් ඇතිව සිටින්නේ'' යැයි අකීමව් සහෝදරයා පෙන්වා දුන්නේය. ඔහු සිය කතාව අවසන් කළේ ඉතා විසකුරු සහ දූරදර්ශී තියුණු ඇනීමකිනි: ''අප පක්ෂය තුළ නව ප්‍රවණතාවයක් ඇති වීම පිළිබඳව මගේ බලාපොරොත්තුවල ඵලරහිත භාවය ගැන මාර්තව් සහෝදරයාගේ අදහස පිළිබඳව මෙසේ කිව යුතුය: ඔහු, ඔහු විසින්ම එවැනි බලාපොරොත්තු ඇති කර ගැනීම මට ආශ්වාදයක් ලබා දෙයි'' (283 පිටුව. අවධාරණය මවිසිනි).

එසේය, මාර්තව් සහෝදරයා අකීමව් සහෝදරයාගේ එම බලාපොරොත්තු ඉතා අනගි ලෙස සනාථ කළේය!

අවුරුදු තුනක් තිස්සේ වැඩකළ බවක් අදහස් කෙරෙන පැරණි පක්ෂ සංවිධානයක "අවිච්ඡින්නතාවය" කඩා බිඳ දමූ පසු-අකීමව් සහෝදරයා නිවැරදි බව පිළිගත් මාර්තව් සහෝදරයා ඔහු අනුගමනය කළේය. සිය ජයග්‍රහණය සඳහා අකීමව් සහෝදරයාට වැඩි පරිශ්‍රමයක් අවශ්‍ය නොවීය.

එහෙත් සමුළුවේදී අකීමව් සහෝදරයාට නිත්‍ය ආධාර ලැබුණේ මර්ටිනව් සහ බ්රූකර් සහෝදරවරුන්ගෙන්ද, බුන්ඩ්වරුන් (චන්ද අටකි) ගෙන්ද පමණකි. "මධ්‍යස්ථ පිරිසේ" සැබෑ නායකයා හැටියට යෙගෝරව් සහෝදරයා ස්වර්ණමය මධ්‍යම ප්‍රතිපදවක් අනුගමනය කළේය: ඔහු ඉස්ක්‍රාවාදීන් සමග එකඟ විය. ඔහුගේ "සානුකම්පික පක්ෂපාතිත්වය" ඔවුනට හිමි විය (282 පිටුව). ඔහු සිය පක්ෂ පාතිත්වය යෝජනාවකින් ඉදිරිපත් කරමින්, (283 පිටුව) ලීගය හෝ සංගමය ගැන කිසිවක් නොකියාම, මූලධර්මය පිළිබඳ ප්‍රශ්නය මඟ හැරියේය. මේ යෝජනාවට විරුද්ධව චන්ද විසිහතක්ද පක්ෂව චන්ද පහළොවක්ද ලැබීමෙන් එය නිෂ්ප්‍රභ විය. ඉස්ක්‍රාවිරෝධීන්ට (අට දෙනෙකි) අමතරව "මධ්‍යස්ථ පිරිස" සම්පූර්ණයෙන්ම පාහේද (දස දෙනෙකි) යෙගෝරව් සහෝදරයාට පක්ෂව චන්දය දුන්හ. (මුළු චන්ද සංඛ්‍යාව හතළිස් දෙකකි, විශාල සංඛ්‍යාවක් මධ්‍යස්ථ වූහ. නැතිනම් සහභාගි නොවූහ. වැදගත් නොවන චන්ද විමසීම්වලදී නැතිනම්, ප්‍රතිඵලය කල් ඇතිව ස්ථිර වූ විට මෙලෙස සිදුවේ). "ඉස්ක්‍රාවේ" මූලධර්ම ක්‍රියාවට යෙදවීම පැන නැගුණු හැම වාරයකදීම "මධ්‍යස්ථ පිරිසේ" පක්ෂපාතිත්වය වචනවලට පමණක් සීමා විය. අපට ලැබුණු චන්ද සංඛ්‍යාව තිහක් පමණකි නැතිනම් එයට යම්තම් වැඩියෙනි. රූසව්ගේ යෝජනාව (විදේශගත එකම සංවිධානය හැටියට ලීගය පිළිගැනීම) පිළිබඳව විවාදයේදී සහ චන්ද විමසීමේදී මෙය වඩාත් හොඳින් කැපී පෙනිණ. මෙහිදී ඉස්ක්‍රාවිරෝධීන් සහ "මඩගොහොරුව" කෙළින්ම ප්‍රතිපත්ති මූලක මාර්ගයක් අනුගමනය කළ අතර ලීබෙර් සහ යෙගෝරව් සහෝදරවරුන් එය ආරක්ෂා කරමින්, රූසව් සහෝදරයාගේ යෝජනාව චන්දයට දැමිය නොහැකි බවත්, එය නීතිවිරෝධී බවත් කීවෝය: "එය විදේශගත අන් සියලු සංවිධාන මරාදමන්නේය" (යෙගෝරව්), "සංවිධාන මරා දැමීමට" කොහෙත්ම කැමති නැති, කතිකයා, එයට චන්දය දීම ප්‍රතික්ෂේප කළා පමණක් නොව, සම්මේලන ශාලාවෙන්ද පිටවී ගියේය. එහෙත් "මධ්‍යස්ථ පිරිසේ" නායකයාට සාධාරණ විය යුතුය: ඔහු සිය දේශපාලනමය නිර්භයත්වය සහ වටහා ගැනීමේ ශක්තිය (ඔහුගේ සාවද්‍ය මූලධර්ම පිළිබඳ) සහෝදර මාර්තව් සහ කල්ලියට වඩා දසගුණයක් වැඩියෙන් ප්‍රකාශ කළේය.



මන්දයත්, ඔහු "මියගිය" සංවිධාන සඳහා සටන් කිරීමට පටන් ගත්තේ, විවෘත සටනකදී පරාජය ලැබූ සංවිධානය තමන්ගේම කවය වූ විටදී පමණක් නොවන බැවිනි.

රූසව් සහෝදරයාගේ යෝජනාව චන්දයට දැමිය හැකි බවට, පක්ෂව චන්ද 27 ක්ද විරුද්ධව චන්ද 15 ක්ද ලැබී සම්මත විය. අනතුරුව එම යෝජනාවට පක්ෂව චන්ද 25 ක්ද විපක්ෂව චන්ද 17 ක්ද ලැබී එය පිළිගන්නා ලදී. මෙයට සහභාගි නොවූ යෙගෝරව් සහෝදරයා සහ 17 දෙනාත් ඇතුළු කරන විට, අපට ඉස්ක්‍රාවිරෝධීන්ගේ සහ "මධ්‍යස්ථ පිරිසේ" සම්පූර්ණ සංඛ්‍යාව (18) ලැබේ.

විදේශගත පක්ෂ සංවිධානය ගැන විස්තර කරන ව්‍යවස්ථා මාලාවේ 13 වැනි කොටසට පක්ෂව චන්ද 31 ක්ද විරුද්ධව චන්ද 12 ක්ද මධ්‍යස්ථව චන්ද 6 ක්ද ලැබීමෙන් සම්මත විය. මේ 31 සමුළුවට සහභාගිවූ ඉස්ක්‍රාවාදීන්ගේ සංඛ්‍යාවට සමානය. එනම් ඉස්ක්‍රාවේ අදහස් ස්ථිර වශයෙන්ම පිළිගන්නා, එය ක්‍රියාවේ යොදවන අයගේ සංඛ්‍යාවය. සමුළුවේ චන්ද විමසීම විශ්ලේෂණය කිරීමේදී හයකට නොඅඩු වාර ගණනකදී මෙය අපට හමුවී ඇත. (න්‍යාය පත්‍රයේ බුන්ඩ්ය පිළිබඳ ප්‍රශ්නයේ ස්ථානය, සංවිධායක කමිටුවේ සිද්ධිය, යූෂ්නි රබෝචි කණ්ඩායම විසුරුවා හැරීම, කෘෂක වැඩ පිළිවෙළ පිළිබඳව චන්දය විමසූ දෙවාරය). එහෙත් ඉස්ක්‍රාවාදීන්ගේ එවැනි "පටු" කණ්ඩායමක් වෙන්කොට පෙන්වීමට කිසිදු පදනමක් නැතැයි මාර්තව් සහෝදරයා අපට බැරෑරුම් ලෙසම ප්‍රකාශ කරයි!

ව්‍යවස්ථා මාලාවේ 13 කොටස සම්මත කර ගැනීම නිසා අකීමව් සහ මර්ටිනව් සහෝදරවරුන් තමන් චන්දයදීම ප්‍රතික්ෂේප කරන්නේ යැයි කළ ප්‍රකාශනය සම්බන්ධයෙන් ඉතා ස්වභාව නිරූපී සාකච්ඡාවක් ඇති වූ බව අමතක කිරීමටද අපට නොහැකිය (288 පිටුව). මේ ප්‍රකාශනය ගැන සාකච්ඡා කළ සමුළුවේ බියුරෝ මණ්ඩලය, සංගමය සෘජු ලෙසම වසා දැමීමට වුවද තීරණය කළ විට පවා, සමුළුවේ වැඩ කටයුතුවලට සහභාගිවීමට ප්‍රතික්ෂේප කිරීමට කිසිදු අයිතියක් නියෝජිතයින්ට නැති බව හේතු සහිතව පෙන්වා දුන්නේය. චන්දයදීමට ප්‍රතික්ෂේප කිරීම සම්පූර්ණයෙන්ම අස්වාභාවිකය, එමෙන්ම අනවසරය යනු බියුරෝවේ මතය විය. අල්පතරයේ ඉස්ක්‍රාවාදීන්ද ඇතුළුව මේ මතය මුළු සමුළුවම පිළිගත්තාය. ඉස්ක්‍රාවාදී අල්පතරය විසි අටවැනි සැසි වාරයේදී එම වරද, උණුසුම් ලෙස හෙළා දුටුවද 31 එක් වැනි සැසි වාරයේදී ඔවුන් එයට හසුවිය! මර්ටිනව් සහෝදරයා සිය අදහස් වලට පක්ෂව නැඟී සිටි විට (291 පිටුව) පව්ලෝවිච්, ට්‍රොට්ස්කි, කාර්ස්කි, සහ මාර්තව් ඔහුට විරුද්ධ වූහ. අසතුටට පත් අල්පතරයක යුතුකම් ගැන මාර්තව් සහෝදරයා විශේෂ

පැහැදිලි බවක් දැක්විය. (ඔහු අල්පතරයට වැනෙට තුරු එසේ විය!) ඔහු එම විෂයය ගැන මහත්වූ උපදේශාත්මක ලීලාවෙකින් කතා කළේය. ඔහු අකීමව් සහ මර්ටිනව් සහෝදරවරුන්ට මෙසේ පැවසීය: ''එක්කෝ නුඹලා සමුළුවේ නියෝජිතවරුන්ය, එසේනම් එහි සියලු වැඩකට යුතු වලට සහභාගි විය යුතුය. (අවධාරණය මවිසිනි. බහුතරයට අල්පතරය යටත් කිරීමේදී විධි මාත්‍රවාදය සහ නිලධාරිවාදය මාර්තව් සහෝදරයා තවමත් නොදිටීය) නැතිනම් නුඹලා නියෝජිතයින් නොවන්නහුය, එසේනම් නුඹලාට සමුළුවට සහභාගි විය නොහැකිය... සංගම් නියෝජිතවරුන්ගේ ප්‍රකාශනය නිසා මට ප්‍රශ්න දෙකක් ඇසීමට සිදුවී ඇත: ඔවුන් පක්ෂයේ සාමාජිකයින්ද, ඔවුන් සමුළුවේ නියෝජිතයින්ද?'' (292 පිටුව).

මාර්තව් සහෝදරයා අකීමව් සහෝදරයාට පක්ෂ සාමාජිකයකුගේ යුතුකම් පිළිබඳව උපදෙස් දෙයි! එහෙත් අකීමව් සහෝදරයා මාර්තව් සහෝදරයා කෙරෙහි යම්කිසි බලාපොරොත්තුවකින් පසුවන බව ප්‍රකාශ කළේ හේතු රහිතව නොවේ! මේ බලාපොරොත්තු සත්‍යයක් බවට පත්වූයේ මාර්තව් සහෝදරයා ඡන්ද විමසීම්වලදී පරාජයට පත්වූ පසුවය. ඔහු ගැන නොව, වෙනත් අය ගැන කතාකරන විට, මාර්තව් සහෝදරයා ''හදිසි නීතිය'' නැමති බියජනක වචනයට පවා බිහිරකු මෙන් සිටියේය. මෙය පළමුවෙන් දියත් කරන ලද්දේ (මට මතක හැටියට) මර්ටිනව් සහෝදරයා විසිනි. සිය ප්‍රකාශනය ඉල්ලා අස්කර ගන්නා ලෙස මර්තිනව් සහෝදරයාගෙන් ඉල්ලා සිටි අයට පිළිතුරු දෙමින් ඔහු මෙසේ පැවසීය: ''අපට දී තිබෙන විස්තරය අනුව, සංගමයට විරුද්ධව ගෙන තිබෙන මෙම තීරණය ප්‍රතිපත්ති මූලක ද නැතිනම් හදිසි පියවරක්ද යන්න පැහැදිලි කර නැත. එය පසුව සඳහන් කළ දෙය නම්, සංගමයට අපහාසයක් කළ බව අපි පිළිගනිමු. අපට මෙන්ම හැඟීමක් යෙගෝරව් සහෝදරයාටද ඇතිවිය, එනම් එය සංගමයට විරුද්ධ හදිසි නීතියක් (අවධාරණය මවිසිනි) හැටියටය. එබැවින් ඔහු ශාලාවෙන් පවා පිටවී ගියේය'' (295 පිටුව). සමුළුවේදී ඇතිවන ඡන්ද විමසීමක් අපහාසයක් හැටියට ගණන් ගැනීම මෝඩ, සැබවින්ම මෝඩ අදහසක් ලෙස මාර්තව් සහ ට්‍රොට්ස්කි සහෝදරවරු, ප්ලෙහානව් සහෝදරයා සමග එකතුව පෙන්වා දෙමින්, විරුද්ධත්වය ප්‍රකාශ කළහ. ට්‍රොට්ස්කි සහෝදරයා (තමන්ට සම්පූර්ණ තෘප්තියක් ගෙනදුන් බව අකීමව් සහ මර්ටිනව් සහෝදරවරුන්ට කල්පනා කළ හැකිය) සමුළුවේ තීරණයට පක්ෂව යෝජනාවක් ඉදිරිපත් කරමින්, මෙසේ පැවසීය: ''මෙය ප්‍රතිපත්ති මූලක මිස අවරසික යෝජනාවක් නොවේ, ඒ ගැන යම්කිසිවකු අමනාප වන්නේ නම්, එය අප සතු කාර්යයක් නොවේ'' (296 පිටුව). එහෙත් අප පක්ෂය තුළ කවවාදී හැඟීම් සහ



අවරසික (පිලිස්ටීන්) වාදය තවමත් දැඩි ලෙස බලපාන බවත්, මවිසින් අවධාරණය කරන ලද වචන බොල් හඬක් නංවන පුහු වාක්‍ය ඛණ්ඩ බවත් වැඩිකල් නොගොස් පැහැදිලි විය.

සිය ප්‍රකාශනය ඉල්ලා අස්කර ගැනීමට විරුද්ධවූ අකීමව් සහ මර්ටිනව් සහෝදරවරු ''තේරුමක් ඇති වැඩක් නොවේ!'' යැයි සමුළුවේ නියෝජිතවරුන් හඬ නගා කෑගසද්දී, සභා ගැබින් පිටව ගියෝය.

## 13. ඡන්ද විමසීම. සමුළුව අවසන් වීම

ව්‍යවස්ථා මාලාව පිළිගැනීමෙන් ඉක්බිතිව, සමුළුව දිසා සංවිධාන පිළිබඳ යෝජනාවක්ද, විශේෂ පක්ෂ සංවිධාන පිළිබඳ යෝජනා කීපයක්ද සම්මත කළාය. මීට පෙර මවිසින් විශ්ලේෂණයට භාජනය කරන ලද ''යූෂ්නි රබොචි'' කණ්ඩායම පිළිබඳව ඉතා උපදේශාත්මක විවාදයට ඉක්බිතිව, පක්ෂයේ මධ්‍යම සංවිධාන තෝරාපත් කිරීම ගැන සාකච්ඡා කිරීමට පටන් ගත්තාය.

මුළු සමුළුව ''ඉස්ක්‍රා'' සංවිධානයෙන් විශ්වාස ගත හැකි රෙකමදරු බලාපොරොත්තු වුණද, එම ප්‍රශ්නය ගැන එය තුළ භේදයක් ඇතිවුණු බව අපි දැනටමත් දනිමු. මන්දයත්, ''ඉස්ක්‍රා'' සංවිධානයේ අල්පතරය, සමුළුවේදී තමාට බහුතරයක් දිනාගැනීමට පුළුවන්ද යන්න නිදහස් සහ විවෘත අරගලයක් මගින් පරීක්ෂාකර බැලීමට ඉදිරිපත් වූ බැවිනි. ප්‍රධාන පුවත්පතට සහ මධ්‍යම කාරක සභාවට නියෝජිතයින් තිදෙනෙකු බැගින් තෝරා පත් කරමින්, කර්තෘ මණ්ඩලය ප්‍රතිසංවිධානය කිරීමට සැලැස්මක් සමුළුව ඉදිරියේ තිබුණු බව, අපි දනිමු. සමුළුවේදී මෙය සියලු නියෝජිතවරුන්ට දැනගැනීමට ලැබිණි. සමුළුවේදී ඇති වූ විවාද පිළිබඳව වඩාත් සවිස්තර ලෙස දැනගනු පිණිස අපි මේ සැලැස්ම විස්තර විභාගයට භාජන කරමු.

එම සැලැස්ම* ඉදිරිපත් කළ සමුළුවේ Tagesordnung කෙටුම්පතට මා කළ සමාලෝචනයේ නියම පෙළ මෙසේය: ''ප්‍රධාන පුවත්පතේ කර්තෘ මණ්ඩලයට සාමාජිකයින් තිදෙනෙකුද, මධ්‍යම කාරක සභාවට සාමාජිකයින් තිදෙනෙකුද සමුළුව විසින් තෝරා පත් කළ යුතුය. මේ හය දෙනා එකතු වී, තුනෙන් දෙකක වැඩි ඡන්දයකින් ප්‍රධාන පුවත්පතේ කර්තෘ මණ්ඩලයට සහ මධ්‍යම කාරක සභාවට අවශ්‍ය නම් තවත් වැඩිපුර සාමා-

* මගේ '' ''ඉස්ක්‍රා'' කර්තෘ මණ්ඩලයට ලියුම'', 5 පිටුව, සහ ලීග් සමුළුවේ වාර්තා, 53 පිටුව, බලන්න.

ජිකයින් තෝරා පත් කරගෙන ඒ බව සමුළුවට වාර්තා කළ යුතුය. එම වාර්තාව සමුළුව විසින් සම්මත කළ ඉක්බිතිව, ප්‍රධාන පුවත්පතේ කර්තෘ මණ්ඩලයට සහ මධ්‍යම කාරක සභාවට සාමාජිකයින් පත් කරගනු (ඈඳා ගනු) ලැබේ.''

මෙම පෙළින් එම සැලැස්ම ඉතා නියත ලෙසත්, අනෝකාර්ථයෙන් තොරවත් පැහැදිලි වන්නේය: ප්‍රායෝගික වැඩ විෂයෙහි ඉතාම ප්‍රබල නායකයින්ගේ සහභාගීත්වය ඇතිව කර්තෘ මණ්ඩලය නැවත පත් කිරීම මෙහි අදහස වන්නේය. මෙම පෙළ සැලකිල්ලකින් කියවීමට ඉදිරිපත් වන ඕනෑම කෙනෙකුට මෙම සැලැස්මේ මවිසින් අවධාරණය කරන ලද විශේෂාංග දෙක එකවරම පෙනී යයි. එහෙත් මේ දවස්වල ඉතාම මූලික කරුණු පවා විස්තර කළ යුතු තත්ත්වයක් පැන නැඟී තිබේ. මෙම සැලැස්මෙන් අදහස් කරන ලද්දේ විශේෂයෙන්ම කර්තෘ මණ්ඩලය නැවත පත් කිරීම වුවද —එහි සාමාජිකයින්ගේ සංඛ්‍යාව අනිවාර්යයෙන්ම වැඩිකිරීමක් හෝ අනිවාර්යයෙන්ම අඩුකිරීමක් හෝ නොවේ. එහෙත් එය නැවත පත් කිරීම පමණකි; මන්දයත් කර්තෘ මණ්ඩලය විශාල කිරීම හෝ කුඩා කිරීම විවෘතව තිබුණු බැවිනි. අළුතින් සාමාජිකයින් එකතු කිරීමක් කරන්නේ අවශ්‍යතාවයක් ඇතිවූවොත් පමණකි. නැවත පත් කිරීම පිළිබඳව විවිධ මිනිසුන් ඉදිරිපත් කළ යෝජනාවලින් සමහරක් කර්තෘ වරුන්ගේ සංඛ්‍යාව අඩුකරන ලෙසත්, තවත් සමහරක් කර්තෘ වරුන් හත්දෙනෙකු දක්වා වැඩිකරන ලෙසත් (හත්දෙනෙක්, හයදෙනෙකුට වඩා ඉතා යෝග්‍ය බව මම හැමදම විශ්වාස කළෙමි) ඉල්ලා සිටින ලදී. සමහරු එකොළොස් දෙනෙකු (පොදුවේ සමාජ-ප්‍රජාතන්වාදී සියලු සංවිධානවලද, විශේෂයෙන් බුන්ඩ් සහ පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානයේද සාමකාමී සංගමයක් ඇතිවූ විට පමණක් මෙවැන්නක් සුදුසු බව මගේ විශ්වාසය විය) යෝජනා කළහ. ''තුන්දෙනෙකු'' පිළිබඳව කතා කරන මිනිසුන් සාමාන්‍යයෙන් අමතක කරන දෙයක් නම්, මධ්‍යම පුවත්පතට වැඩිදුරටත් සාමාජිකයින් එකතු කර ගැනීමේදී, එය මධ්‍යම කාරක සභාවේ සාමාජිකයින්ගේ සහභාගිත්වයත් ඇතිව තීරණය කළ යුතුය යන්නය. මෙය ඉතා වැදගත් කරුණකි. මෙම සැලැස්ම දැනසිටි සහ එය (ඒකාන්ත ලෙස හෝ නිහඬ ලෙස) අනුමත කළ, සංවිධානයේ අල්පතරයට අයත් සාමාජිකයින්ගෙන් එකතු හෝ සමුළුවේ නියෝජිතයින් හෝ එම ඉල්ලීමේ වැදගත්කම විස්තර කිරීමට වෙහෙස දරා නැත. ප්‍රථමයෙන්ම, කර්තෘ මණ්ඩලය නැවත පත් කිරීමේදී තුන්දෙනෙකු, තුන්දෙනෙකු පමණක් මුල පිරීමක් ලෙස තෝරාගෙන ඇත්තේ මන්ද? කර්තෘ මණ්ඩලය විශාල කිරීම එකම සහ යටත් පිරිසෙයින් ප්‍රධාන අරමුණ වී නම්, මෙය සම්පූර්ණයෙන්ම තේරුම් රහිත ක්‍රියාවක් බව පැහැදිලිවම පෙනේ.



විශේෂයෙන්ම කර්තෘ මණ්ඩලය ''සංගතියකින්'' යුත් සංවිධානයක් ලෙස සැලකුවේ නම් වඩාත් එය එසේ වන්නේය. ''සංගතියකින්'' යුත් සංවිධානයක් විශාල කිරීම අරමුණ වී නම්, එසේ කිරීම මුළු මහත් සංවිධානයෙන් ආරම්භ කරනවා මිස, ඉන් කොටසකින් ආරම්භ කිරීම පුදුම සහගතය. කර්තෘ මණ්ඩලය නැවත පත් කිරීම, පැරණි කර්තෘ මණ්ඩලය පක්ෂයේ ආයතනයකට පරිවර්තනය කිරීම ආදිය සාකච්ඡා කිරීම සහ තීරණය කිරීම සඳහා සාමාජිකයින්ගෙන් බොහෝ දෙනෙක් සුදුසු නොවන බව පැහැදිලිය. මේ පුනරුත්ථාපනය කර්තෘ මණ්ඩලයේ විශාලවීමක් ලෙස පෞද්ගලිකව දැකීමට සතුටු සාමාජිකයෝ පවා පැරණි කර්තෘ මණ්ඩලයේ සංයෝජනය සංගතියකින් නොපැවැති බවත් එය පරමාදර්ශී පක්ෂ ආයතනයකට නොගැළපෙන බවත් පිළිගත්හ. නැතිනම් කර්තෘ මණ්ඩලය විශාල කරනුවස් හයදෙනා තුන්දෙනෙකු දක්වා අඩුකිරීම තේරුමක් නැත. මෙය ඉබේටම පෙනී යන කරුණක් බව මම යළිත් කියමි. ''පෞද්ගලිකත්වයන්'' විසින් තාවකාලිකව ප්‍රශ්නය ව්‍යාකූල කිරීම නිසා එය අමතක කිරීමට සැලැස් වූවා විය හැකිය.

දෙවනුව, ඉහත සටහන් පෙළින් කියැවෙන පරිදි, තුන්දෙනාගේ සංඛ්‍යාව වැඩි කිරීමට, මධ්‍යම පුවත්පතේ සාමාජිකයින් තිදෙනාගේ ඒකමතික එකඟතාවය වුවද ප්‍රමාණවත් නොවේ. මේ ගැනද ඔවුන්ට අමතක වී ඇත. අළුතින් තෝරාපත් කර ගැනීම සඳහා තුනෙන් දෙපංගුවක ඡන්දයක් එනම්, හතර දෙනෙකුගේ කැමැත්ත අවශ්‍ය වේ. එහෙත් මධ්‍යම කාරක සභාවට තෝරා පත් වූ සාමාජිකයින් තිදෙනා "veto" පාවිච්චි කරන්නේ නම්, මධ්‍යම පුවත්පතේ තිදෙනාගේ සංඛ්‍යාව වැඩි කළ නොහැකිය. අනිත් අතට කර්තෘ මණ්ඩලයේ සාමාජිකයින් තිදෙනාගෙන් දෙදෙනෙක් තෝරාපත් කරගැනීමට විරුද්ධ වුවද, මධ්‍යම කාරක සභාවේ සාමාජිකයින් තිදෙනා එයට පක්ෂ පාත වුවහොත්, එය සම්මත වන්නේය. ඒ අනුව අදහස වූයේ, පැරණි කවය පක්ෂ ආයතනයක් බවට පරිවර්තනය කිරීමත්, සමුළුව විසින් තෝරාපත් කරගන්නා ලද ප්‍රායෝගික වැඩවල නායකයින්ට තීරණාත්මක ඡන්ද බලය ලබාදීමත් බව පැහැදිලිය. කර්තෘ මණ්ඩලය සමුළුවට පෙර, පව්ලෝවිච් සහෝදරයාව හත්වැනි සාමාජිකයා ලෙස ඒකමතිකව තෝරාපත් කර ගැනීමෙන්ද, සමුළුවේදී කර්තෘ මණ්ඩලය වෙනුවට ප්‍රකාශයක් කිරීමට සිදු වූවොත්, පව්ලෝවිච් සහෝදරයා හැරුණු විට, පසුකලෙක මධ්‍යම කාරක සභාවට තේරී පත් වූ, ''ඉස්ක්‍රා'' සංවිධානයේ පැරණි සාමාජිකයකු සහ සංවිධායක කමිටුවේ සාමාජිකයකුව හත්වැනි ස්ථානයට යෝජනා කිරීමෙන්ද අප විසින් අඩුවැඩි වශයෙන් කිනම් සහෝදරවරුන් අදහස් කළේද යන්න පෙනේ.

ඒ අනුව තුන්දෙනෙකුගෙන් යුත් කණ්ඩායම් දෙකක් තෝරා පත්

කිරීමේ සැලැස්ම ස්ථිර ලෙසම අදහස් කළේ මෙසේය: 1) කර්තෘ මණ්ඩලය පුනරුත්ථාපනය කිරීම, 2) පක්ෂයේ ආයතනයකට සුදුසු නොවන කවවාදී හැඟීමෙකින් පෙළෙන සමහර කොටස් ඉවත් කිරීම (ඉවත් කිරීමට කිසිවක් නොතිබිණි නම්, මුලදී තුන්දෙනෙකු පත්කිරීම පිළිබඳ අදහසේ කිසිදු තේරුමක් නැත!), 3) ලේඛක සමූහයකගේ ''පූජක තන්ත්‍රවාද'' ලක්ෂණවලින් ඈත්වීම (තුන්දෙනාගේ කණ්ඩායම විශාල කිරීම පිළිබඳ ප්‍රශ්නය තීරණය කිරීමේදී ප්‍රමුඛ ප්‍රායෝගිකයින්ගේ ආධාරය ලබා ඔවුන් ඉවත් කිරීම). සියලු කර්තෘවරත් විසින් දනගෙන ඇති මෙම සැලැස්ම අවුරුදු තුනකදී ලබාගත් වැඩවල පලපුරුද්ද අනුව පැහැදිලි ලෙසම පදනම් වී ඇති අතර ස්ථාවර ලෙසම අප විසින් ඉදිරිපත් කළ විප්ලවවාදී සංවිධානවල මූලධර්මවලට සම්පූර්ණයෙන්ම ගැළපෙන්නේය. ''ඉස්ක්‍රාව'' වේදිකාවට එළඹී අසමගිය රජකළ අවධියේදී කාණ්ඩ නිතර පාහේ අහම්බෙන් සහ ඉබේටම ඇති විය. මේවා කවවාදයේ සමහර අහිතකර බලපෑම්වලින් නොවැළැක්විය හැකිසේ පීඩා වින්දේය. පක්ෂයක් බිහි කිරීම විසින් මේ ලක්ෂණ අහෝසිකර දැමීම ඇඟවීමක් සහ ඉල්ලා සිටීමක් කැරිණි. මෙලෙස අහෝසි කිරීමේදී ප්‍රමුඛ ප්‍රායෝගිකයින්ගේ සහභාගීත්වය අවශ්‍ය වන්නේය. මන්දයත් කර්තෘ මණ්ඩලයේ සමහර සාමාජිකයින් නිතරම සංවිධාන කටයුතුවල යෙදී සිටි නමුදු පක්ෂ ආයතන පද්ධතියට ඇතුළු විය යුතු සංවිධානය, හුදු ලේඛකයින්ගේ සංවිධානයක් නොව, දේශපාලන නායකයින්ගේ සංවිධානයක් වන බැවිනි. ''ඉස්ක්‍රා'' පුවත්පත හැමදම දරූ මතය අනුව, මූලික තුන්දෙනා තෝරාපත් කිරීම සමුළුවට භාරදීම ස්වාභාවික දෙයක් විය. සමුළුවට සූදානම් වීමේදී අපි ඉතා ප්‍රවේසම් වීමු. වැඩ පිළිවෙළට, උපක්‍රමවලට, සහ සංවිධානයට අදාළ මූලධර්ම පිළිබඳව මතභේදයට තුඩු දෙන ප්‍රශ්න සියල්ලක්ම සම්පූර්ණයෙන්ම නිරාකරණය කරන තුරු බලා සිටියෙමු. මේ මූලික කරුණු අනුව, සමුළුව ඉස්ක්‍රාවාදී වන බවත්, එහි වැඩි ඡන්දය ස්ථිර වන බවත් අපි සැක නොකළෙමු, (''ඉස්ක්‍රාව'' ප්‍රධාන පුවත්පත ලෙස පිළිගන්නා යෝජනාවෙන්ද මෙය සටහන් කර තිබිණි); ''ඉස්ක්‍රාවේ'' අදහස් ප්‍රචාරය කිරීමේ සියලු වැඩ කටයුතුවලට සිත — කය යොද වැඩ කළ එය පක්ෂය හැටියට පරිවර්තනය කිරීමට ක්‍රියා කළ සහෝදරවරුන්ට, පක්ෂයේ අළුත් සංස්ථාවලට ඉතාම සුදුසු අපේක්ෂකයින් තෝරාපත් කිරීම තීරණය කිරීම භාරදීමට, එබැවින් අපි බැඳී සිටියෙමු. තිදෙනෙකු බැගින් යුත් කණ්ඩායම් දෙකක් පිළිබඳ සැලැස්ම සැබෑ වන්නේ එබැවිනි. එය ''ඉස්ක්‍රාවේ'' මුළු මහත් ප්‍රතිපත්තියට අදාළ වන්නේත්, ''ඉස්ක්‍රාව'' ගැන දනගත් මිනිසුන්ට සහ එයට සමීප මිනිසුන්ට එය සැබෑ වන්නේත් එබැවිනි. මේ සැලැස්මට පොදු සහයෝගය ලැබුණේත්, මෙයට විරුද්ධව



තරඟ කිරීමට වෙනත් සැලැස්මක් ඉදිරිපත් නොවූ හේතුවත් ඉන් විස්තර කළ හැකිය.

ඉතින් ඒ අනුව, තිදෙනෙකු බැගින් යුත් කණ්ඩායම් දෙකක් පිළිබඳ යෝජනාවක් සමුළුවේදී රූසව් සහෝදරයා ඉදිරිපත් කළේය. මේ සැලැස්ම අවස්ථාවාදයේ ව්‍යාජ චෝදනාව සමග සම්බන්ධ වී ඇතැයි අපට ලිපියක් මගින් දන්වා සිටි මාර්තව්ගේ අනුගාමිකයින්ට, තුන්දෙනෙකුගේ නැතිනම් හය දෙනෙකුගේ මණ්ඩලයක් පිළිබඳ ප්‍රශ්නය, චෝදනාව සත්‍යයද අසත්‍යද යන ප්‍රශ්නය දක්වා ලඝු කර ගැනීමට නොහැකි විය. එකෙක්වත් මේ ගැන ඉඟියක්වත් නොකළහ! හයදෙනා නැතිනම් තුන්දෙනා පිළිබඳ ප්‍රශ්නයේ මූලධර්මවල විවිධ පැහැයයන් ගැන එක වචනයකුදු පැවසීමට එකකුවත් ඉදිරිපත් නොවීය. ඔවුනට රිසිවූයේ වඩාත් සරල සහ වඩාත් ලාභ ක්‍රමයකි, එනම් සානුකම්පික හැඟීම් අවුස්සාලීමය, අමනාපවීම ගැන කතා කිරීමය, ''ඉස්ක්‍රාව'' ප්‍රධාන පුවත්පත හැටියට පත් කිරීමෙන් කර්තෘ මණ්ඩලය පිළිබඳ ප්‍රශ්නය විසඳා ඇති බව, ව්‍යාජ ලෙස මවා පෑමය. මෙම තර්කය කල්ට්සොව් සහෝදරයා විසින් රූසව් සහෝදරයාට විරුද්ධව ඉදිරිපත් කර ඇති අතර එය අමූලික බොරුවකි. සමුළුවේ න්‍යාය පත්‍රයට වෙනම කරුණු දෙකක් — අහම්බෙන් නොවේ — ඇතුළු කර ඇත (වාර්තා 10 පිටුව බලන්න): 4 වැනි අංකය — ''පක්ෂයේ ප්‍රධාන පුවත්පත,'' 18 වැනි අංකය — ''මධ්‍යම කාරක සභාව සහ ප්‍රධාන පුවත්පතේ කර්තෘ මණ්ඩලය තෝරාපත් කිරීම.'' මෙය ප්‍රථම කරුණය. දෙවැනි කරුණ නම්, ප්‍රධාන පුවත්පත නියම කරන විට, ඉන් කර්තෘ මණ්ඩලය සම්මත කිරීමක් අදහස් නොකරන බවත්, ප්‍රවනතාවය* පමණක් සම්මත කරන බවත් සියලු නියෝජිතවරු ස්ථිර ලෙස ප්‍රකාශ කළහ. මේ ප්‍රකාශයන්ට එකද විරුද්ධත්වයක්වත් පැන නැංගේ නැත.

* අකීමව් ගේ කතාව — වාර්තාවේ 140 පිටුව බලන්න... ''මධ්‍යම පුවත්පතට ඡන්දය විමසීම පිළිබඳව, අවසානයේදී අප සාකච්ඡා කරන බව මට කියා ඇත...'' අකීමව්ට විරුද්ධව, මුරවියොව්ගේ කතාව: ''මධ්‍යම පුවත්පතේ අනාගත කර්තෘ මණ්ඩලය පිළිබඳ ප්‍රශ්නය ඕනෑවට වැඩියෙන් හිතට අරගෙන'' (141 පිටුව); ප්‍රධාන පුවත්පත තෝරාගත් පසුව, අප ලබාගත් දේ ගැන පව්ලෝවිච්ගේ කතාවේ මෙසේ සඳහන් විණි: ''අකීමව් සහෝදරයා මේ තරම් වුවමනාවක් දක්වන ස්ථිර ද්‍රව්‍යමය පදනමක් අපි ලබාගත්තෙමු.'' ඒ නිසා ''ඉස්ක්‍රාව'' ''පක්ෂයේ තීරණවලට'' ''යටවීම'' ගැන සැකයක සේයාවක් පවා තබා ගත යුතු නැත (142 පිටුව). ට්‍රොට්ස්කි මෙසේ පැවසීය: ''අප කර්තෘ මණ්ඩලය ස්ථිර නොකරන නිසා ''ඉස්ක්‍රාවේ'' අප ස්ථිර කරන්නේ මොනවාද?.. නම නොවේ, නමුත් ප්‍රවණතාවයය... නම නොවේ නමුත් ධජයය...'' (142 පිටුව). මර්ටිනව්ගේ කතාව: ''බොහෝ සගයින් මෙන්ම, ''ඉස්ක්‍රා'' පුවත්පත නියත ප්‍රවණතාවයක් ඇති,

ඒ අනුව සමුළුව, නියත පුවත්පතක් ස්ථිර කිරීමේ ප්‍රකාශනයෙන්, ඇත්ත වශයෙන්ම කර්තෘ මණ්ඩලයක්ද සම්මත කළා යැයි අල්පතරයට පක්ෂපාත උදව්ය (කල්ට්සොව් විසින්ද, 321 පිටුව, පසදෝව්ස්කි විසින්ද, 321 පිටුව, පපෝව්, 322 පිටුව, සහ තවත් බොහෝ දෙනෙකු විසින්ද) කරන ප්‍රකාශනය ස්ථිර ලෙසම අසත්‍ය වූයේය. එය මධ්‍යම මණ්ඩලවලට සාමාජිකයින් තෝරාපත් කිරීමේ ප්‍රශ්නය පිළිබඳව හැම කෙනෙක්ම සැබවින්ම ආවේගයකින් තොරව සලකද්දී එවිට තමන් සිටි තත්ත්වයෙන් පසුබැසීම සඳහා කරන ලද උපායයක් බව හැම කෙනෙකුටම පැහැදිලිව පෙනී ගොස් ඇත. එම පසුබැසීම ප්‍රතිපත්ති මූලක හේතූන් නිසා හෝ (මන්දයත්, සමුළුවේදී අවස්ථාවාදී ව්‍යාජ චෝදනාවක් ඉදිරිපත් කිරීම අල්පතරයේ අවාසියට විශාල හේතුවක් වූ බැවිනි. ඔවුහු ඒ ගැන ඉඟියක් පවා නොකළහ), වඩාත් කාර්යක්ෂම හය දෙනෙකුද නැතිනම් තුන් දෙනෙකුද යන්න ඉදිරිපත් කරමින් සත්‍ය කරුණු පෙන්වා හෝ (මන්දයත් මේ කරුණු ඉදිරිපත් කිරීම නිසා පමණක් වුවද අල්පතරයට විරුද්ධව මහ ගොඩක් තර්ක ඇති විය හැකි බැවිනි) සධාරණ යැයි පෙන්වා දීමට නොහැකිය. ඔවුහු ප්‍රශ්නයෙන් පිටපැනීම සඳහා "සමමිතික සමස්තය" ගැනද, "සංගතියෙන් යුත් කණ්ඩායමක්" ගැනද, "සමමිතිය සහ අති පවිත්‍ර පූර්ණ-සාකල්‍යයක්" ආදිය ගැන ද වාක්‍ය ඛණ්ඩ ඇද බාමින් මහන්සි ගත්හ. මේ තර්ක හඳුන්වා දිය යුතු ආකාරයටම හඳුන්වා දීම පුදුමයට කරුණක් නොවීය: "දීන වචන" ලෙසය (328 පිටුව). තිදෙනෙකුගෙන් යුත් කණ්ඩායම පිළිබඳ සැලැස්ම සංගතියක් නැති බවට සුපැහැදිලි සාක්ෂියකි. මසක් හෝ ඊට වැඩි කලක් එකට වැඩ කිරීමෙන් නියෝජිතයින් ලබාගත් හැඟීම් ඔවුන් විසින් ස්වාධීන විනිශ්චයක් කිරීම සඳහා සෑහෙන කරුණු රාශියක් සපයා දුන් බව පැහැදිලිය. පසදෝව්ස්කි සහෝදරයා මේ කරුණු පිළිබඳව ඇහවීමක් කළ විට (ඔහුගේ මතය අනුව අප්‍රවේසම්කාරී සහ අදූරදර්ශී ලෙස, 321 සහ 325 පිටු බලන්න. "නොගැළපෙන" නැමැති ඔහු පාවිච්චි කළ "තාත්ත්වාරෝපිත අදහස" අනුව), මුරවියොව් සහෝදරයා එක එල්ලේම මෙසේ පැවසීය: "මා හිතන හැටියට, එවැනි** නොගැළපීම් නිසැක ලෙසම පවතින බව සමුළුවේ

---

අපේ මධ්‍යම පුවත්පත ලෙස පිළිගැනීම සාකච්ඡා කරන අතර එහි කර්තෘ මණ්ඩලය තෝරාගැනීම හෝ සම්මත කරන ක්‍රමය පිළිබඳව මේ අවස්ථා- වේදී සාකච්ඡා නොකළ යුතු බව, මම අදහස් කරමි. න්‍යාය පත්‍රයේ නියම අංකය යටතේ අපි පසුව සාකච්ඡා කරමු..." (143 පිටුව).

** පසදෝව්ස්කි සහෝදරයාගේ සිතෙහි පැවති "නොගැළපීම්" මො- නවාද යන්න සමුළුවේදී අපි නොදත්තෙමු. එම සැසිවාරයේදීම මුරවියොව් සහෝදරයා ඔහුගේ අදහස් වැරදි විධියට පෙන්වා ඇති බැව් පැවසීය.



බහුතරයට ඉතා පැහැදිලි ය" (321 පිටුව). අල්පතරය, මුරවියොව් කළ අභියෝගය පිළිගැනීමට තීරණය නොකර, හයදෙනෙකුගෙන් යුතු මණ්ඩලයක වටිනාකම පිළිබඳව ප්‍රශ්නයට පක්ෂව එකද තර්කයක්වත් ඉදිරිපත් කිරීමට තීරණය නොකර, "නොගැළපීම" නැමැති වචනයට (මෙය ඉදිරිපත් කළේ පසඩෝව්ස්කි මිස මුරවියොව් නොවේ) හුදු පෞ- ද්ගලික අදහසක් දීමට කැමති විය. මෙහි ප්‍රතිඵලය වූයේ වදබව නිසාම හාස්‍යජනක තර්කයක් ඇති වීමය. බහුතරය (මුරවියොව් සහෝදරයාගේ කටින්) හයදෙනාගේ හෝ තුන්දෙනාගේ ප්‍රශ්නයේ සැබෑ වැදගත්කම තමන්ට පැහැදිලි බව ප්‍රකාශ කරන ලදී. එහෙත් අල්පතරය දැඩිලෙසම එයට සවන් නොදී, "අප එය පරීක්ෂාකර බැලීමට තරම් තත්ත්වයක නැතැයි සහතික" ලෙස කියා සිටී. එය පරීක්ෂාකර බැලීමේ තත්ත්වයක තමන් සිටින බව බහුතරය සිතනවා පමණක් නොව, එය දැනටමත් "පරීක්ෂාකර බලා ඇත". එම පරීක්ෂණයේ ප්‍රතිඵල බහුතරයට සම්පූර්ණ- යෙන්ම පැහැදිලි බවද ප්‍රකාශ කර ඇත. එහෙත් අල්පතරය පරීක්ෂණයකට බියවී "දීන වචනවලට" මුවාවී සිටී. "ප්‍රධාන පුවත්පත හුදු සාහිත්‍ය කණ්ඩායමකට වඩා වැඩි දෙයක් බව, අපට මතක තබා ගන්නා ලෙස බහුතරය උපදෙස් දෙයි; "ප්‍රධාන පුවත්පතේ නායකත්වය නිශ්චිත පුද්ගලයින් විසින් දැරිය යුතු බවත්, සමුළුව දන්නා පුද්ගලයින්, මවිසින් සඳහන් කළ සුදුසුකම් ඇති පුද්ගලයින් එය ඉසිලිය යුතු" බවත් බහුතරය කියා සිටී (එනම්, මෙය සාහිත්‍යමය අවශ්‍යතා පමණක් නොවේ, 327 පිටුව, ලාන්ගෙ සහෝදරයාගේ කතාව බලන්න). අල්පතරය, යළිත් වරක් අභියෝගය පිළිගැනීමට ඉදිරිපත් නොවීය; ඔවුන්ගේ මතය අනුව, සාහිත්‍ය සංවිධානයකට වඩා වැඩි යම්කිසිවකට සුදුසු කවුද යන්න ප්‍රකාශ කිරීමට, "සමුළුව හඳුණන" "ඉතා නියත," පරිමාණයෙන් යුත් පුද්ගලයා කවුද යන්න ප්‍රකාශ කිරීමට ඉදිරිපත් නොවීය. අල්පතරය සිය සුප්‍රසිද්ධ සංගතියේ පිළිසරණය සෙවීම දිගටම කරගෙන ගියේය. එපමණක් නොවේ. අල්පතරය, මූලධර්ම වශයෙන් සම්පූර්ණයෙන්ම ව්‍යාජ තර්ක පවා ඉදිරිපත් කළ නිසා ඒවාට සාධාරණ ලෙස දැඩි පිළිතුරු ලැබිණි. "කර්තෘ මණ්ඩලය ප්‍රතිසංවිධානය කිරීමට සදචාරමය හෝ දේශපාලනමය හෝ අයිතියක් සමුළුවට නැති" බව නොපෙනේ ද (ට්‍රොට්ස්කි 326 පිටුව). "එය බොහෝ සියුම් (sic!) ප්‍රශ්නයකි" (ට්‍රොට්ස්කි, යළිත් වරක්), "කර්තෘ මණ්ඩලය

---

වාර්තාව සම්මත කර ගන්නා විට, ඔහු "සමුළුවේ විවාද වලදී විවිධ කරුණු පිළිබඳව, නොගැළපෙන දේ හෙළි වූ බවත්, අවාසනාවකට මෙන් දත් කිසිවකු විසින් ප්‍රතික්ෂේප නොකරන මූලධර්ම පිළිබඳව නොගැළපෙන කරුණු තිබෙන" බවත් පෙන්වා දුන්නේය." (353 පිටුව).

තුළ තමන් තවත් දුර රැඳී නොසිටිය යුතුය යන සමුළුවේ අභිප්‍රායය කෙරෙහි, යළි තේරී පත් නොවූ කතුවරයින් දැක්විය යුතු ආකල්පය කුමක්ද?'' (එසරියොව්, 324 පිටුව)* .

මෙවැනි තර්ක විසින්, මුළු ප්‍රශ්නය අනුකම්පාව සහ අමනාපය නැමැති පදනමකට ඇද දමන ලදී. මෙය ප්‍රතිපත්ති මූලක සැබෑ තර්ක, සැබෑ දේශපාලන තර්ක පිළිබඳව ඍජු බංකොලොත් භාවයක් පිළිගැනීමකි. ඒ අනුව බහුතරය, මෙම ආකල්පය නියම නාමයකින් වහාම හැඳින්විය: අවරසිකවාදය (රූසව් සහෝදරයා). ''විප්ලවවාදීන්ගේ මුවින් අපි පුදුමාකාර කතා අසමු'' යි. රූසව් සහෝදරයා සාධාරණ ලෙස පැවසීය: ''පක්ෂයේ වැඩ පිළිබඳ සංකල්පවලද, පක්ෂයේ ආචාර ධර්මවලද අසංගතියක් මේ කතා වලින් හෙළිවේ. තුන්දෙනෙකු බැගින් තෝරාපත් කිරීමේ මූලධර්මයට විරුද්ධවන අයගේ ප්‍රධාන තර්කය පක්ෂයේ කාර්යයන් පිළිබඳව හුදු අවරසිකවාදී හැඟීමකට (අවධාරණය මවිසිනි) තුඩු දී ඇත...'' පක්ෂයේ මතයක් නොවන, අවරසිකවාදී මතයක් වන මෙය අප පිළිගන්නේ නම්, හැම ඡන්දය විමසීමකදීම අප මෙසේ කල්පනා කළ යුතුය: පෙට්‍රෝව් වෙනුවට ඉවනොව් තෝරාපත් කළහොත්, පෙට්‍රෝව් අමනාප නොවන්නේද, සංවිධාන කමිටුවේ සාමාජිකයකු වෙනුවට, වෙනත් කෙනෙකු මධ්‍යම කාරක සභාවට තෝරා පත් කළ නිසා ඔහු අමනාප නොවන්නේද? සහෝදරවරුනි, මේ නිසා අප වැටෙන්නේ කොතැනටද? අප මෙහි රැස්වූයේ පක්ෂයක් බිහිකිරීමේ කාර්යය සපුරාලීමට මිස, අන්‍යොන්‍ය තෘප්තියක් ඇති කරන කතා කිරීමට නොවේ නම්; අවරසිකවාදී සුහද හැඟීම් ප්‍රකාශ කිරීමට නොවේ නම්, එවැනි මතයකට අපට කොහෙත්ම එකඟ විය නොහැකිය. එක්, එක් නිලයකට සුදුසු අය තෝරාපත් කිරීම සඳහා අපි මෙහි රැස්වී සිටිමු. තෝරාපත් නොවූ අය කෙරෙහි විශ්වාසයක් නැතියැයි ප්‍රශ්නයක් ඇති විය නොහැකිය. අපේ එකම කාර්යය විය යුත්තේ, පක්ෂයේ කාර්‍ය්‍ය කටයුතු සහ කිසියම් නිලයකට තෝරා පත් කරන පුද්ගලයාගේ සුදුසුකම ගැන සැලකිලි දැක්වීමය'' (325 පිටුව).

පක්ෂ භේදයට හේතු පිළිබඳව ස්වාධීන පරීක්ෂණයක් කිරීමට කැමති සියලු අයට සහ සමුළුව දක්වා විහිද ඇති එහි මුල් සොයාගැනීමට කැමති අයට රූසව් සහෝදරයාගේ කතාව යළි යළිත් කියවන ලෙස අපි උපදෙස් දෙමු. ඔහු ඉදිරිපත් කළ තර්ක අල්පතරය නිෂ්ප්‍රභ නොකළා පමණක්

* පසදෝව්ස්කිගේ කතාව සසඳන්න: ''... කර්තෘ මණ්ඩලයේ හයදෙනාගෙන් තුන්දෙනෙකු පමණක් තෝරා පත් කිරීමෙන්, අනික් තිදෙනා අනවශ්‍ය, වැඩිපුර අය ලෙස ඔබ පිළිගනී. මෙවැන්නක් කිරීමට අයිතියක් හෝ පදනමක් හෝ ඔබට නැත.''



නොව, ඒවාට අභියෝග කිරීමට පවා ඉදිරිපත් නොවීය. ඇත්ත වශයෙන්ම එවැනි මූලික, ප්‍රාථමික සත්‍යයන් අභියෝග කිරීමට නොහැකිය. රූසව් සහෝදරයා ඉතා නිවැරදි ලෙස විස්තර කළ පරිදි මේවා ''ස්නායු කිපීම'' නිසා අමතක වී තිබිණි. අවරසික සහ කවවාදී දෘෂ්ටි කෝණයක් සඳහා පක්ෂයේ දෘෂ්ටි කෝණය අතහැර දැමීම පිළිබඳව අල්පතරයට දිය හැකි අඩුම අසතුටුදායක විස්තරය සැබවින්ම මෙය වන්නේය.*

* ''වැටලීමේ තත්ත්වයක්'' නැමැති සිය කෘතිය මගින් මාර්තව් සහෝදරයා මේ ප්‍රශ්නය ගැන විස්තර කරන්නේද අනිකුත් ප්‍රශ්න විස්තර කරන ආකාරයටමය. මතභේදය පිළිබඳව සම්පූර්ණ චිත්‍රයක් ඇඳ පෙන්වීමට ඔහු වෙහෙසී නැත. මේ විවාදයේදී පැන නැඟි එකම ප්‍රතිපත්ති මූලක ප්‍රශ්නය ඔහු ඉතා චාම් ලෙස මගහරී. අවරසික අනුරක්ත හැඟීම්ද නැතිනම් නිලධාරීන් තෝරාපත් කිරීමද, පක්ෂයේ මතයද නැතිනම් ඉවාන් ඉවානවිච්ලාගේ අමනාපවීම්ද? මෙහිදීද මාර්තව් සහෝදරයා සිදුවූ දෙයින් වෙන්වූ කොටස් සහ කැලි ඉදිරියට ඇද ගෙන ඒවාට සීමවාන අතර මටද එල්ල කර බැනවැදීමෙහි යෙදෙයි. මාර්තව් සහෝදරයාට එපමණක් මදිය!

අක්සල්රොඩ්, සසූලිච් සහ ස්ටාරවේර් සහෝදරවරුන් සමුළුවේදී තෝරාපත් නොකළේ මන්ද යන ප්‍රශ්නය ඉදිරිපත් කරමින් මාර්තව් සහෝදරයා විශේෂයෙන් මට කරදර කරයි. ඔහුගේ අවරසිකවාදී ආකල්පය එම ප්‍රශ්නවල අවිනීත බව දැකීමට ඉඩ නොදී ඔහුට බාධා කරයි (කර්තෘ මණ්ඩලයේ ඔහුගේ සගයින්ගෙන්, ප්ලෙහානව් සහෝදරයාගෙන් නො අසන්නේ මන්ද?) .සමුළුවේදීහයදෙනා පිළිබඳ ප්‍රශ්නයේදී අල්පතරයේ හැසිරීම ''ගොරෝසු'' දෙයක් ලෙස මා සැලකීම තුළ ඔහු ප්‍රතිවිරෝධිතාවයක් දකී. ඒ අතරම මා පක්ෂ ප්‍රසිද්ධියක් ඉල්ලා සිටින බවද ඔහු කියයි. මුළු මහත් ප්‍රශ්නයේ කොටස් වෙන් නොකරගෙන එය එකිනෙකට සම්බන්ධ ඒකකයක් වශයෙන් බලන්නේ නම්, මෙහි කිසිදු ප්‍රතිවිරෝධිතාවයක් නැති බව මාර්තව්ට පවා ලෙහෙසියෙන් පෙනීයන්නේය. මේ ප්‍රශ්නය අවරසිකවාදී ලෙස ඉදිරිපත් කොට අනුකම්පාවට සහ අමනාපයට ආයාචනය කිරීමට වෑයම් කිරීම ගොරෝසු වැඩකි. තුන්දෙනෙකු වෙනුවට හයදෙනෙකුගේ ඇති වාසිය පිළිබඳ අගැයීමක්ද, ඒ ඒ තනතුරු සඳහා ඉදිරිපත්වී සිටින අපේක්ෂකයින්ගේ අගැයීමක්ද, විවිධ පැහැයයන් ගැන අගැයීමක්ද පාක්ෂික ප්‍රාචාරයේ වුවමනාවන් විසින් ඉල්ලා සිටින ලදී. අල්පතරය මේ කිසිවක් ගැන සමුළුවේදී ඇහවීමක් පවා කර නැත.

මාර්තව් සහෝදරයා සමුළුවේ වාර්තා සැලකිල්ලෙන් අධ්‍යයන කරන්නේ නම්, හයදෙනාගේ මණ්ඩලයට විරුද්ධ තර්ක ගොඩක් නියෝජිතයින්ගේ කතාවල තිබෙන බව ඔහුට පෙනෙනු ඇත. එම කතාවලින් තෝරාගත් කොටස් මෙසේය: ප්‍රථමයෙන්ම, පැරණි හයදෙනා අතර මූලධර්ම පිළිබඳ විවිධ මතිමාත්‍ර අනුව නොගැළපීමක් ඇති බව පැහැදිලි වීම. දෙවනුව, කර්තෘ මණ්ඩලයේ වැඩ ශිල්පීය වශයෙන් සරල කිරීම අවශ්‍ය වීම; තෙවනුව අවරසිකවාදී හැඟීමවලට වඩා පක්ෂයේ වැඩවලට උසස් තැනක්දීම; සුදුසු මිනිසුන් තෝරාගත හැක්කේ ඡන්ද විමසීම මගින්

අල්පතරය චන්ද විමසීමට විරුද්ධව අර්ථවත් සහ කාර්යක්ෂම තර්ක කිසිවක් ඉදිරිපත් කිරීමට අපොහොසත් විය. එය පාක්ෂික කටයුතුවලට අවරසිකවාදී හැඟීම් ඇතුළු කිරීමට අමතරව නින්දිත කටයුතුවලට පෙළඹිණි. ''සියුම් කාර්යයන් භාර නොගන්නා ලෙස'' පපෝව් සහෝදරයා, මුරවියොව් සහෝදරයාට උපදෙස් දුන්විට අපට ඔහුගේ එම ක්‍රියාව වෙනත් විධියකට කෙසේ නම් හැඳින්විය හැකිද (322 පිටුව) ? සරෝකින් සහෝදරයා නිවැරදි ලෙස පෙන්වා දුන් පරිදි, ''මෙය පිටස්තර කෙනෙකුගේ ආත්මයට රිංගන්නට වැයම් කිරීමක්'' හැර වෙන කුමක්ද (328 පිටුව) ? දේශපාලන තර්ක නැති විට මෙය පුද්ගලයින් පිළිබඳව සමපේක්ෂණයක් හැරුණු විට අන් කුමක්ද? තමා සමග එකඟ නොවන,සහෝදරවරුන්ව දෙස් කීමට අවිනීත ලෙස දෙයිච් සහෝදරයාට ඉදිරිපත් වීමට අවසර තිබේ ද?** (328 පිටුව).

---

පමණක් වීම; හතරවෙනුව තෝරාපත් කිරීම සඳහා සමුළුවට ඇති බල සීමා නොකළ යුතු වීම; පස්වෙනුව, ප්‍රධාන් පුවත්පතේ සාහිත්‍ය කණ්ඩායමට වඩා වැඩියමක් දුන් පක්ෂයට අවශ්‍යවීම; මධ්‍යම පුවත්පතට ලේඛකයින් පමණක් නොව, පරිපාලකයින්ද අවශ්‍යවීම; හයවෙනුව, මධ්‍යම පුවත්පතට, සමුළුව දන්නා හඳුණන, නියත පුද්ගලයින් පත්කළ යුතු වීම; හත්වෙනුව, හයදෙනෙකුගේ මණ්ඩලය අකාර්යක්ෂම වීම, මෙම මණ්ඩලයේ වැඩ සාර්ථක වූයේ එහි අසාමාන්‍ය ව්‍යවස්ථාව නිසා නොව, එයට පටහැනිවය; අටවැනිව, පුවත්පතක් ගෙනයාම පක්ෂයේ කාර්යයක් මිස කවයකට අයත් වැඩක් නොවීම. මේ පුද්ගලයින් පත් නොවීම ගැන මාර්තව් සහෝදරයා එතරම් විශාල සැලකිල්ලක් දක්වන්නේ නම්, මේ හැම කරුණක් ගැනම ගැඹුරු ලෙස කල්පනා කොට, ඉන් එකක් හෝ නිෂ්ප්‍රභා කළාවේ.

** එම සැසිවාරයේදී සරෝකින් සහෝදරයා දෙයිච් සහෝදරයාගේ වචන වටහා ගත්තේ එම ආකාරයටය. (''ඔර්ලොව් සමග ඇති කරගත් තියුණු බහින් බස්වීම'', 324 පිටුව). තමා එවැනි දෙයක් නොකී බව දෙයිච් සහෝදරයා විස්තර කළේය (351 පිටුව). එහෙත් ඒ අතර ඒ සමගම ඔහු එයට බොහොසෙයින්ම ''සමාන යමක්'' කී බවද පිළිගත්තේය. ''කවුද එඩිතර'' යන වචන මම නොකීවෙමි, යි දෙයිච් සහෝදරයා විස්තර කළේය: ''එඩිතර මිනිසුන්ව දැක ගැනීමට මම කැමති වෙමි'' යි කී බව ඔහු පවසයි. (sic!) මෙතැනදී දෙයිච් සහෝදරයා කබලෙන් ලිපිට වැටී ඇත). ''තුන්දෙනෙකුගෙන් යුත් මණ්ඩලයක් තෝරාපත් කිරීමට තරම් සපරාධී (sic!) යොජනාවකට ආධාර දීමට ඉදිරිපත් වන පුද්ගලයින්ව'' (351 පිටුව). දෙයිච් සහෝදරයා සරෝකින් සහෝදරයාගේ වචන නිෂ්ප්‍රභ කළා නොව, ඒවා ස්ථිර කළේය. සරෝකින් සහෝදරයා ඉදිරිපත් කළ ''මෙහි සියලු සංකල්ප ව්‍යාකූල කර තිබේ ය'' (හයදෙනෙකුට පක්ෂව අල්පතරයේ තර්ක) යන දෝෂාරෝපනයේ සත්‍යතාවය දෙයිච් සහෝදරයා ස්ථිර කළේය. ''අප පක්ෂයේ සාමාජිකයින්ය, එබැවින් විශේෂයෙන්ම දේශපා-



කර්තෘ මණ්ඩලය පිළිබඳව ඇති වූ විවාදයේ ප්‍රතිඵල දැන් අපි පිඩු කර බලමු. තිදෙනෙකු තෝරාපත් කිරීම පිළිබඳ සැලැස්ම, සමුළුවේ ආරම්භයේදීත්, සමුළුවට පෙර සිටත් නියෝජිතයින් දැන සිටි බවත්, ඒ අනුව මෙම සැලැස්ම, සමුළුවේදී ඇතිවූ සිද්ධීන්ට සහ විවාදවලට කොහෙත්ම සම්බන්ධ නැති මත සහ සාධක මත පදනම් වී ඇති බවත් කියන බහුතරයේ බොහෝ ප්‍රකාශන නිෂ්ප්‍රභ කිරීමට (යටත් පිරිසෙයින් ඒවා නිෂ්ප්‍රභ කිරීමට වැයම කිරීමකට පවා) අල්පතරය ඉදිරිපත් නොවීය. හයදෙනකුගේ මණ්ඩලයට පක්ෂපාත වීමේදී, අල්පතරය වැරදි සහ මූලධර්ම වශයෙන් වැරදි සහ ඉඩදිය නොහැකි, අවරසිකවාදී අදහස් මත පදනම් වුණු ප්‍රතිපත්තියක් අනුගමනය කර ඇත. නිලධාරීන් තෝරාපත් කිරීමේදී දක්විය යුතු පාක්ෂික ආකල්පය ගැන අල්පතරය පූර්ණ අමතක කිරීමක් කර ඇත. ඒ ඒ පදවිවලට ඉදිරිපත් වන අපේක්ෂකයින් ගැන සහ ඒ ඒ පදවියට අයත් කාර්යයන් අනුව අපේක්ෂකයාගේ සුදුසු නුසුදුසුකම් ගැන තක්සේරු කිරීමට පවා අල්පතරය වැයම් කර නැත. ප්‍රශ්නය හරය අනුව සාකච්ඡා කිරීමට ඉදිරිපත් නොවූ අල්පතරය, සුප්‍රසිද්ධ සංගතිය ගැන කථා කළේය. ''කඳුලු සළමින්'' ''අනුකම්පා උපදවන'' කථා කළේය. (ලාන්ගෙගේ කතාව 327 පිටුව). එය ''යම් කිසිවකු මරා දැමීමට'' යන්නාක් වැනි හැඟීමක් ඇති කළේය. අල්පතරය සිය ''ස්නායු කිපීමේ'' (325 පිටුව) තත්ත්වය තුළින්, ''පෞද්ගලික මට්ටමට වැටීමටත්'', තෝරාපත් කිරීම ''සාපරාධී'' යැයි කියා කෑගැසීමටත්, සහ තවත් එවැනිම අනවසර දේවල් කිරීමටත් පවා යොමු විය.

සමුළුවේ තිස්වැනි සැසි වාරයේදී හයදෙනා සහ තුන්දෙනා අතර සටන අවරසික (පිලිස්ටීන) වාදය සහ පක්ෂ ජීවගුණය අතර සටනක් විය, එය ඉතා පහත් ගණයට අයත් ''පුද්ගලයින්'' සහ දේශපාලනමය කරුණු අතරත්, ''දීන වචන'' සහ විප්ලවවාදී යුතුකම් පිළිබඳව, ඉතා මූලික සංකල්ප අතරත් සටනක් විය.

සමුළුවේ 31 වැනි සැසි වාරයේදී පැරණි කර්තෘ මණ්ඩලය සමස්තයක් වශයෙන් තෝරාපත් කිරීමේ යෝජනාවට විරුද්ධව චන්ද 19 ක්ද, පක්ෂව චන්ද 17 ක්ද මධ්‍යස්ථව 3 ක්ද ලැබීමෙන් එය නිෂ්ප්‍රභ විය (330 පිටුව සහ නිවැරදි කිරීම් බලන්න). හිටපු කර්තෘවරුන් ශාලාවට ඇතුළු වූ විට, මාර්තව් සහෝදරයා හිටපු කර්තෘ මණ්ඩලයේ බහුතරය වෙනුවෙන් සිය

---

ලනමය සළකා බැලීම් අනුව අප මෙහෙයැවිය යුතුයැ'' යි සරෝකින් සහෝදරයා මතක් කළේය. මෙම මතක් කිරීමට සම්බන්ධ මූලික සත්‍යය දෙයිච් සහෝදරයා විසින් ස්ථිර කළා පමණකි. තෝරාපත් කිරීම සාපරාධී ක්‍රියාවක් යැයි කියමින් බෙරිහන් දීම, අවරසිකවාදයට ඇද වැටීමක් පමණක් නොව, අමු අමුවේ නින්දිත ලෙස හැසිරීමක්ද වන්නේය!

ප්‍රකාශය කරමින් (330—331 පිටු), දේශපාලන තත්ත්වයේ සහ දේශපාලන සංකල්ප පිළිබඳ වැනෙන සුලු භාවය සහ අස්ථිරභාවය තවත් වැඩියෙන් පෙන්වා ලීය. ඔහුගේ සාමූහික ප්‍රකාශනයේ සහ මගේ පිළිතුරේ එක් එක් කොටස වෙන වෙනම ගෙන සවිස්තර ලෙස පිරික්සා බලමු.

පැරණි කර්තෘ මණ්ඩලය අනුමත නොවූ විට, මාර්තව් සහෝදරයා මෙසේ පැවසීය: ''මෙතැන් සිට, පැරණි ''ඉස්ක්‍රා'' පුවත්පත නොපවතී. එබැවින් එහි නම වෙනස් කිරීම වඩාත් සුදුසුය. කෙසේ වුවද, සමුළුවේ මුල් රැස්වීම් වාරයකදී ''ඉස්ක්‍රාව'' කෙරෙහි විශ්වාසය තිබෙන බවට සම්මත වූ යෝජනාව, සමුළුව විසින් සම්මත කරන ලද නව යෝජනාවෙන් සෑහෙන තරම් සීමාකර තිබෙන අපි දකිමු.''

මාර්තව් සහෝදරයා සහ ඔහුගේ සගයෝ බොහෝ කරුණු අනුව ඉතා වැදගත් දේශපාලන ස්ථිරතාවය නැමැති ප්‍රශ්නය ඉදිරිපත් කළහ. ''ඉස්ක්‍රාව''ට අනුමැතිය දෙන විට, හැම දෙනම පැවසූ කරුණු උපුටා දක්වමින් මම මෙයට දැනටමත් පිළිතුරු සපයා ඇත්තෙමි (වාර්තා 349 පිටුව) අප මෙතැනදී දකින්නේ දේශපාලනමය අස්ථිරතාවය පිළිබඳ දරුණු අවස්ථාවකි. එහෙත් මෙය සමුළුවේ බහුතරය විසින්ද නැතිනම් පැරණි කර්තෘ මණ්ඩලයේ බහුතරය විසින්ද යන්න විනිශ්චය කිරීම පාඨකයාට බාර කරමු. මාර්තව් සහ ඔහුගේ සගයින් විසින් ඉතා උචිත ලෙස නගන ලද ප්‍රශ්න දෙකක්ද පාඨකයාගේ තීරණය සඳහා අපි ඉදිරිපත් කරමු: 1) ප්‍රධාන පුවත්පතේ කර්තෘ මණ්ඩලයට නිලධාරීන් තෝරාපත් කිරීමේ සමුළුවේ තීරණය තුළ, ඉස්ක්‍රාවට විශ්වාසය පළ කිරීමේ යෝ-ජනාව සීමා කිරීමේ අභිප්‍රායක් දැකීමෙන් පෙනෙන්නේ, අවරසිකවාදී ආකල්පයක්ද නැතිනම් පක්ෂ ආකල්පයක්ද? 2) පැරණි ඉස්ක්‍රාවේ අභාවය වූයේ අංක 46 සිටද, අප දෙදෙනා, එනම් ප්ලෙහානව් සහ මා එම පුවත්පත ගෙනයාමට පටන් ගත් ද සිටද නැතිනම්, අංක 53 සිටද, පැරණි කර්තෘ මණ්ඩලයේ බහුතරය වැඩ කටයුතු සිය අතට ගත් ද සිටද? පළමුවැන්න ඉතා වැදගත් මූලධර්මයක් පිළිබඳ ප්‍රශ්නයක් නම්, දෙවැන්න ඉතා වැදගත් සත්‍ය කරුණක් පිළිබඳ ප්‍රශ්නයකි.

මාර්තව් සහෝදරයා මෙසේද පැවසීය: ''තුන්දෙනෙකුගෙන් යුත් කර්තෘ මණ්ඩලයක් තෝරාපත් කිරීමට දැන් තීරණය කර තිබෙන නිසා, මා වෙනුවෙන් සහ මගේ අනික් සගයින් තිදෙනා වෙනුවෙන් අපි එකෙකුවත් මේ කර්තෘ මණ්ඩලයට සහභාගි වීමට සූදනම් නැති බව දන්වා සිටිමු. මා වෙනුවෙන් පෞද්ගලිකව මෙසේ පවසමි. මේ ''තිදෙනාගේ'' මණ්ඩලයට මගේ නම ඇතුළු කිරීමට සමහර සහෝදරවරුන් කැමති වූ බව සත්‍යයක් නම්, එය මම අවමානයක් හැටියට සළකමි, එවැන්නකට භාජනය කිරීමට තරම් මා කිසිවක් කර නැත (sic). කර්තෘ මණ්ඩලය



වෙනස් කිරීමට තීරණය කර තිබෙන තත්ත්වයන් නිසා මම එලෙස ප්‍රකාශ කරමි. මේ තීරණය ගෙන ඇත්තේ, පැරණි කර්තෘ මණ්ඩලයේ අකාර්යක්ෂම භාවය නිසා හටගත් යම්කිසි ඝර්ෂණයක්* හේතු කොටගෙනය. එපමණක් නොව, සමුළුව මේ ඝර්ණයට හේතු කර්තෘ මණ්ඩලයෙන් නොවිමසා, එම අකාර්යක්ෂමතාවයට හේතු සෙවීම පිණිස යටත් පිරිසෙයින් කොමිසන් සභාවක් වත් පත් නොකර, නිශ්චිත ක්‍රියාමාර්ගයක් අනුව තීරණය ගෙන ඇත''... (මෙහිදී පුදුමයට හේතුවක් නම්, අල්පතරයේ එකම සාමාජිකයකුටවත්, සමුළුවට කර්තෘ මණ්ඩලය පිළිබඳ යෝජනාවක් කිරීමට හෝ කොමිසන් සභාවක් පත්කරන ලෙස ඉල්ලා සිටීමට හෝ අමතක වීමය! ''ඉස්ක්‍රා'' සංවිධානයේ භේදවීම නිසා මෙවැන්නකින් ප්‍රයෝජනයක් නැතැයි සිතුනු නිසාද? මාර්තව් සහ ස්තාරවේර් සහෝදරවරුන් ලියා සඳහන් කළ සාකච්ඡා බිඳ වැටීම නිසාද?)... ''මෙවැනි තත්ත්වයන් යටතේ, එලෙස ප්‍රතිසංස්කරණය කරනු ලැබූ කර්තෘ මණ්ඩලයේ මා වැඩකරතියි සමහර සහෝදරවරුන් විසින් කරන ලද නිගමනය මගේ දේශපාලන කීර්තියට කැළලක් ලෙස මවිසින් සැළකිය යුතුය...''**

---

* මාර්තව් සහෝදරයා සමහර විට පසඩෝව්ස්කි සහෝදරයාගේ 'නොගැලපීම' පිළිබඳ ප්‍රකාශනය ගැන සඳහන් කරනවා විය හැකිය. ඉන් පසඩෝව්ස්කි අදහස් කළේ කුමක්දැයි ඔහු සමුළුවට නොකී බව මම යළිත් පවසමි. ඔහු මෙන්ම මුරවියොව් සහෝදරයාද එම වචනය භාවිතා කළද, සමුළුවේ විවාද වලදී හෙළි වූ පරිදි එය මූලධර්ම පිළිබඳ නොගැලපීමක් ලෙස ඔහු හැඳින්වීය. කර්තෘවරුන් සතරදෙනා (ප්ලෙහානව්, මාර්තව්, අක්සල්රොඩ් සහ මා) සහභාගි වූ මූලධර්ම පිළිබඳ එකම විවාදය රීති මාලාවේ පළමුවැනි කොටස වටා ඇති වූ විවාදය බව පාඨකයාට මතක ඇතැයි සිතමි. කර්තෘ මණ්ඩලය වෙනස් කිරීමට එක් තර්කයක් ලෙස මාර්තව් සහ ස්ටාරවේර් සහෝදරවරු ''අවස්ථාවාදී ව්‍යාජ චෝදනාවක්'' පිළිබඳ ලිඛිත දුක්ගැනවිල්ලක් ඉදිරිපත් කළහ. අවස්ථාවාදය සහ කර්තෘ මණ්ඩලය වෙනස් කිරීමේ සැලැස්ම අතර පැහැදිලි සම්බන්ධතාවයක් එම ලිපියෙන් මාර්තව් සහෝදරයා දකී. එහෙත් සමුළුවේදී ඔහු යම්කිසි ඝර්ෂණයක් ගැන කියමින්, අපැහැදිලි ඉඟි පමණක් කළේය. ''අවස්ථාවාදී ව්‍යාජ චෝදනාව'' ගැන එවිටමත් අමතක වී තිබිණි.

** මාර්තව් සහෝදරයා වැඩි දුරටත් මෙසේ පැවසීම: ''එවැනි කාර්යයකට රියසානව් එකඟ වනු ඇත. එහෙත් මාර්තව්ගේ වැඩ අනුව ඔබ හඳුණන (ඔහු) මාර්තව් එයට එකඟ නොවනු ඇත.'' මේ ප්‍රකාශනය රියසානව්ට පෞද්ගලික පහර ගැසීමක් වූයෙන් මාර්තව් එය ඉල්ලා අස්කර ගත්තේය. එහෙත් රියසානව්ගේ පෞද්ගලික ගතිගුණ (ඒවා ගැන මෙහිදී මතක් කිරීම උචිත නොවේ) නිසා ඔහුගේ නම සමුළුවේ

පාඨකයාට නිදර්ශකයක් හඳුනා දීම පිණිස සමුළුවෙන් අනතුරුව ඉමහත් වේගයකින් වර්ධනය වුණු දෙයක ආරම්භය සහ කුලල් කා ගැනීමක් වශයෙන් හැර අන් කවර විදිහකින් හෝ හැඳින්විය නොහැකි මෙම තර්කය මම සම්පූර්ණයෙන්ම සහ වුවමනාවෙන්ම ගෙනහැර දක්වීමි. කර්තෘ වරයාගේ අමනාපය ගැන පවා නොතකමින් මම කර්තෘට ලියුම් මගින් මෙම අදහස ඉදිරිපත් කළෙමි. මෙම අදහසේ නිරවද්‍යතාවය තර්ක කළ නොහැකි බැවින් මට එය අනුකරණය කිරීමට සිදුවී ඇත. ''අධම චේතනා'' විසින් කුලල් කා ගැනීමට පූර්ව තත්ත්වයන් ඇති කරතියි යනු වැරදි හැඟීමකි (නව ''ඉස්ක්‍රාවේ'' කතුවරු මෙසේ පවසති): පිටරටවල පදිංචි අපේ අයගේ කුඩා ජනපද සහ දේශපාලන හේතූන් නිසා විදේශ ගත වූ අය ගැන දන්නා ඕනෑම විප්ලවවාදියකු, ඔවුන් අතර ඇති වන ඉමක් නැති කුලල් කා ගැනීම්, මේවා වලදී ඉදිරිපත් කරන අමන චෝදනා, සැක කිරීම්, ස්වයං චෝදනා, ''පෞද්ගලිකත්වය'' ආදිය දුක ඇතැයි සිතමි. මේවා හටගන්නේ ''ස්නායු කිපීම'' අවප්‍රමාණ, එක තැන පල්වුණු ජීවන තත්ත්වයන් නිසාය. මේවායේ ප්‍රකාශන කෙතරම් අධම වුවද, සිහි බුද්ධිය ඇති කෙනෙකු මේවායේ අධම චේතනා සෙවීමට ඉදිරිපත් නොවේ. මවිසින් ඉහත උපුටා දක්වන ලද මාර්තව් සහෝදරයාගේ කතාවේ සඳහන් මෝඩකම් පිළිබඳ අවුල් කැරැල්ලද, පෞද්ගලිකත්වයන්ද, මනස් සෘෂ්ටික භයංකරත්වයද, සිතින් මවාගත් අමනාපයන්ද, අපහාසයන්ද යන මේ සියල්ලට හේතු වශයෙන් දක්විය හැක්කේ 'ස්නායු කිපීම'පමණකි. එක තැන පල්වුණු ජීවන තත්ත්වය විසින් එවැනි දේ සිය ගණනින් මවා-පායි. රෝගය නිර්දය ලෙස හඳුන්වාදීමට සහ එය සුවකිරීමට සුදුසු ප්‍රතිකාර සෙවීමට තරම් දේශපාලන පක්ෂයකට ධෛර්‍යයක් නැතිනම්, එය නිසි ගෞරවය ලැබීමට සුදුසු නොවන්නේය.

---

ආප්ත වචනයක් බවට පත්විය. ඒ බරිබා කණ්ඩායමේ දේශපාලන පැහැය, එහි දේශපාලන වැරදි නිසාය. සැබෑ හෝ සැබෑ ලෙස පෙනෙන පෞද්ගලික ප්‍රහාරයන් ඉල්ලා අස් කර ගැනීමෙන් මාර්තව් සහෝදරයා කළේ අගනා වැඩකි. එසේ වුවද, පක්ෂයට පාඩමක් හැටියට පිළිගත හැකි දේශපාලන වැරදි අප අමතක නොකළ යුතුය. ''සංවිධානාත්මක ව්‍යාකූලතාවයක්'' සහ ''කිසිදු මූලධර්මයක් අනුව සාධාරණ නොවන භේද කිරීමක්'' ඇති කිරීම ගැන බරිබා කණ්ඩායම සමුළුවේදී චෝදනා ලැබීය. (මාර්තව්ගේ කතාව 38 පිටුව). එවැනි දේශපාලනමය හැසිරීමක් දෝෂ දර්ශනයට භාජනය විය යුත්තේ, පක්ෂ සමුළුවට පෙර, සාමාන්‍ය ව්‍යාකූලතාවය පවතින අවධියේදී කුඩා කාණ්ඩ වශයෙන් පෙනුනු විට පමණක් නොවේ; පක්ෂ සමුළුවට ඉක්බිතිව, ආකූලත්වය නැති කර දැමූ විටද, ඉස්ක්‍රාවේ කර්තෘ මණ්ඩලයේ බහුතරය සහ ශ්‍රම විමුක්ති කණ්ඩායමේ බහුතරයද එලෙස හැසුරුණු විටද එලෙසම දෝෂ දර්ශනයට භාජනය විය යුතුය.



මේ සියලු අවුල් කැරැල්ලෙන්, මූලධර්මවලට සම්බන්ධ වුණු කිසිවක් තෝරා ගැනීමට පුළුවන් නම්, දේශපාලන කීර්තියට අපහාස කිරීමට තෝරාපත් කිරීම සම්බන්ධ නැති බවත්, අළුත් තෝරාපත් කිරීම් පැවැ-ත්වීමටත්, ඕනෑම වර්ශයක අළුත් නිල ඇති කිරීමටත්, අධිකාරී මණ්ඩලවල සංයුතිය වෙනස් කිරීමටත් සමුළුවට ඇති බලය ප්‍රතික්ෂේප කිරීම ප්‍රශ්නය ව්‍යාකූල කිරීමක් හැටියට, කෙනෙකුට අනිවාර්ය වශයෙන් නිගමනය කිරීමට සිදු වන්නේය. පැරණි මණ්ඩලයෙන් කොටසක් තෝරාපත් කිරීමේ යෝග්‍යතාවය ගැන මාර්තව් සහෝදරයාගේ මතය දේශපාලන අදහස් සම්පූර්ණයෙන්ම (මවිසින් සමුළුවේදී ප්‍රකාශ කළ පරිදි) ව්‍යාකූල කිරීමකි'' (332 පිටුව).*

තුන්දෙනාගේ සමුළුවේ මූලිකයා කවුද යන්න, ගැන මාර්තව් සහෝ-දරයා කළ පෞද්ගලික ''ඇනුම් පදය'' මම අමතක කරමි. පැරණි කර්තෘ මණ්ඩලය සම්මත නොකිරීම ගැන ඔහු ඉදිරිපත් කළ දේශපාලන ස්වරූ-පයේ වැදගත් කම ගැන අවධානය යොමු කරමි. ''සමුළුවේ දෙවන භාග-යේදී ඇවිලුණු අරගලයේ අවසාන ජවනිකාව දැන් වේදිකා ගත වී ඇත''... (සම්පූර්ණයෙන්ම නිවැරදිය! සමුළුවේ මේ දෙවන භාගය ආරම්භ වූයේ, ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටසේදී අකීමව් සහෝදරයාගේ ග්‍රහණයට මාර්තව් සහෝදරයා හසුවීමත් සමගමය.)... ''මේ ප්‍රතිසංස්කරණය ''කාර්යසාධක භාවය'' පිළිබඳ ප්‍රශ්නයක් නොව, මධ්‍යම කාරක සභාව කෙරෙහි බලපෑම පිළිබඳව අරගලයක් බව, හැම දෙනෙක්ම දන්නා රහසකි''... (ප්‍රථමයෙන්ම, මෙය කාර්යසාධක භාවය පිළිබඳවත්, මධ්‍යම කාරක සභාවේ පුද්ගලයින්ගේ සංයුතිය ගැන මතභේදය පිළිබඳවත් ප්‍රශ්නයක් වූ බව හැම දෙනෙකුම දන්නා රහසකි. මන්දයත් ප්‍රතිසංස්-කරණය පිළිබඳ සැලැස්ම ඉදිරිපත් කළේ, මතභේදයක සේයාවක් පවා නොතිබුණු අවධියක සහ කර්තෘ මණ්ඩලයේ හත්වැනි සාමාජිකයා හැටියට පව්ලෝවිච් සහෝදරයාව තෝරාපත් කිරීමට මාර්තව් සහෝ-දරයාද අප සමග එක් වූ විට බැවිනි! දෙවනුව, අප ලියවිලි වලින් ඔප්පු කළ පරිදි, එය මධ්‍යම කාරක සභාවට පුද්ගලයින් තෝරා පත් කිරීම පිළිබඳව ප්‍රශ්නයක් බවත්, එය නාම ලේඛන පිළිබඳ මතභේදයක් දක්වා වූ a la fin des fins** ප්‍රශ්නයක් බවත්ය: ග්ලේබව් — ට්‍රවින්ස්කි — පපෝව්ද නැතිනම් ග්ලේබව් — ට්‍රොට්ස්කි — පපෝව්ද.)... ''මධ්‍යම කාරක සභාව, කර්තෘ මණ්ඩලයේ අත කොලුවක් බවට පරිවර්තනය

---

* කෘතීන් එකතුව, පස්වැනි මුද්‍රණය, 7 වෙළුම, 305 පිටුව; 4 මුද්‍රණය, 6 වෙළුම, 460 පිටුව. — සංස්කාරක

** අවසානයේ අවසානය. — සංස්කරක

නොවිය යුතුයයි කර්තෘ මණ්ඩලයේ වැඩිදෙනෙක් පෙන්වා දුන්හ''... (මෙතැනදී අකීමව් තම සින්දුව පටන් ගත්තේය: ඕනෑම සහ සෑම පක්ෂ සමුළුවකදීම බහුතරය, තමාට ඇති බලපෑම මධ්‍යම සංවිධාන මත ශක්තිමත් කිරීම සඳහා සටන් කරයි, මෙය අවස්ථාවාදී අවලාද නැමැති ක්ෂේත්‍රයට ගෙනයන ලදී. මාර්තව් සහෝදරයා විසින් පසුකලෙක කී පරිදි, බහුතරයේ මෙම ක්‍රියාකලාපය කර්තෘ මණ්ඩලයේ අත කොළුවක් හැටියටද, කර්තෘ මණ්ඩලයේ 'අකර්මණ්‍ය මෙවලමක්' හැටියටද හඳුන්වන ලදී 334 පිටුව)... ''කර්තෘ මණ්ඩලයේ සාමාජිකයින්ගේ සංඛ්‍යාව අඩු කිරීමේ අවශ්‍යතාවයක් ඇති වූයේ එබැවිනි (!!) එවැනි කර්තෘ මණ්ඩලයකට මට බැඳීමට නොහැකි වී ඇත්තේද එබැවිනි''... (මේ ''එබැවිනි'' නැමැති වචනය අපි මඳක් සැලකිල්ලෙන් පරීක්ෂා කර බලමු. කර්තෘ මණ්ඩලයට මධ්‍යම කාරක සභාව මෙවලමක් හැටියට හෝ අත කොළුවක් හැටියට හෝ පරිවර්තනය කළ හැක්කේ කෙසේද? එයට මණ්ඩලයේ ඡන්ද තුනක් තිබුනොත් සහ එහි ආධිපත්‍යය වැරදි විධියට පාවිච්චි කළොත් පමණකි. මෙය පැහැදිලි නැතිද? මාර්තව් සහෝදරයා තෙවැනි සාමාජිකයා ලෙස පත්වීමෙන්, එවැනි අනිසි ක්‍රමයක් වළක්වා ලීමටත්, තම ඡන්දය මගින්ම මණ්ඩලය තුළ කර්තෘ මණ්ඩලයට ඇති සියලු ආධිපත්‍යය විනාශ කර දැමීමටත් පුළුවන් බව එලෙසම පැහැදිලි නොවන්නේද? මේ අනුව ප්‍රශ්නයේ හරය මධ්‍යම කාරක සභාවේ පෞද්ගලික සංයුතිය දක්වා සරල වේ. අතකොළුවක් සහ මෙවලමක් ගැන කතා කිරීම අපවාදයක් බව එකවර පැහැදිලිව පෙනේ)... ''පැරණි කර්තෘ මණ්ඩලයේ බහුතරයත් සමග සමුළුව පක්ෂයේ මෙම ''වැටලීමේ තත්ත්වය'' අවසන් කොට පක්ෂය තුළ සාමාන්‍ය තත්ත්වයක් ඇති කරතියි මම සිතීමි. එහෙත් ඇත්ත වශයෙන්ම සමහර කණ්ඩායම් වලට විරුද්ධව පනවා ඇති හදිසි නීති සහිත වටලනු ලැබූ තත්ත්වය තවමත් පවතී. එපමණක් නොව එය වඩාත් උග්‍ර වී ඇත. ව්‍යවස්ථාව විසින් කර්තෘ මණ්ඩලය වෙත පවරා ඇති අයිතිවාසිකම්, පක්ෂයට හානිවන සේ ක්‍රියාවේ නොයොදවන බවට සහතිකයක් දිය හැක්කේ පැරණි කර්තෘ මණ්ඩලය එලෙසම තිබුණොත් පමණකි''...

''වැටලීමේ තත්ත්වය'' නැමති සිය අපකීර්තියත් රණ ඝෝෂාව පළමුවැනි වරට පතුරුවා හරිමින් මාර්තව් සහෝදරයා විසින් කරන ලද කතාවේ ප්‍රස්තුත කොටස එසේය. ඔහුට මවිසින් දුන් පිළිතුර මෙසේ විය:

...''තිදෙනෙකු බැගින් යුත් මණ්ඩල දෙකක සැලැස්මේ පෞද්ගලික ස්වරූපය පිළිබඳව මාර්තව් සහෝදරයා විසින් කරන ලද ප්‍රකාශනය නිවැරදි කරන අතර, පැරණි කර්තෘ මණ්ඩලය සම්මත නොකිරීමෙන් අප ගත් පියවරෙහි, මාර්තව් විසින් පෙන්වා දෙන ලද දේශපාලනමය වැදගත්කම ප්‍රතික්ෂේප කිරීමට මම බලාපොරොත්තු නොවෙමි. එහෙත් එයට විලෝම වශයෙන්, මෙම පියවර දේශපාලනමය වශයෙන් ඉතා වැදගත් බව මම මාර්තව් සමග එකඟ වෙමි. එසේවුවද එය මාර්තව් සහෝදරයා පෙන්වා දෙන වැදගත්කම නොවේ. එය රුසියාව තුළ මධ්‍යම කාරක සභාව කෙරෙහි බලපෑම සඳහා කරන අරගලයේ එක් ක්‍රියාවක් බව ඔහු පවසා ඇත. මම එයටත් එහා යමි. වෙන්වූ කණ්ඩායමක් වශයෙන් ''ඉස්ක්‍රාවේ'' මුළු මහත් ක්‍රියාකලාපය මේ දක්වා බලපෑම සඳහා වූ අරගලයකි. එහෙත් දැන් එය එයටත් වඩා වැඩි දෙයක් බවට පත්වී ඇත. එනම්, බලපෑම සඳහා අරගලය පමණක් නොව, එය සංවිධානාත්මක ලෙස තහවුරු කර ගැනීමද වන්නේය. මෙම ප්‍රශ්නය ගැන මාර්තව් සහෝදරයාත් මාත් අතර කොතරම් ගැඹුරු දේශපාලන මතභේදයක් ඇති වී තිබේදයත්, මධ්‍යම කාරක සභාවට බලපෑමේ මගේ අභිප්‍රායයට ඔහු දෙස් පවරන අතර මා එය ප්‍රසංශනීය වශයෙන් සැලකීමෙන් පෙනේ. මෙම බලපෑම සංවිධානාත්මක මාධ්‍යයන් මගින් තහවුරු කිරීමට මම පරිශ්‍රම දැරීමි, ඉදිරියටත් එසේ කරමි. අප දෙදෙනා වෙනත් භාෂා වලින් කතා කිරීමක් පවා පෙනෙන්නට තිබේ. පූර්ණ බලපෑමක් ඇති කිරීමට සහ එය තහවුරු කර ගැනීමට අප සමත් නොවෙති නම්, අපේ සියලු වැඩ සහ සියලු පරිශ්‍රමයන් බලපෑමේ පැරණි අරගලයට පමණක් සීමා වන්නේ නම්, එහි ඇති තේරුම කුමක්ද? එසේය, මාර්තව් සහෝදරයා සම්පූර්ණයෙන්ම නිවැරදිය: අප විසින් ගෙන තිබෙන පියවර නිසැක ලෙසම අප පක්ෂයේ අනාගත වැඩ කටයුතු සඳහා තෝරාගත්, එක් ප්‍රවණතාවයක් පෙන්වන ප්‍රධාන දේශපාලන පියවරකි. ''වැටලීමේ තත්ත්වයක්'' ගැන කියන වචනද ''තනි පුද්ගලයින් හා කණ්ඩායම් වලට විරුද්ධව හදිසි නීති පැනවීම'' ආදි දේ ගැන වචනද මා බිය ගැන්වීමට කොහෙත්ම සමත් නොවේ. අස්ථිර සහ වැනෙන සුලු පුද්ගලයින්ට විරුද්ධව ''වැටලීමේ තත්ත්වයක්'' ඇති කළ හැකිවා පමණක් නොව එවැන්නක් අප විසින් බිහි කළ යුතුය. අප පක්ෂයේ ව්‍යවස්ථාවද, පක්ෂ සමුළුව විසින් සම්මත කර මධ්‍යගතභාවයද, දේශපාලනමය නොපැහැදිලිතාවයේ විශාල සංඛ්‍යාවක් උල්පත්වලට විරුද්ධව එල්ලවී ඇති ''වැටලීමේ තත්ත්වයක්''මිස අන් කිසිවක් නොවේ. දේශපාලනමය නොපැහැදිලි භාවයට විරුද්ධව හදිසි නීති වුවද, විශේෂ නීති අවශ්‍ය වන්නේය. එවැනි නීති සම්මත කිරීමට සහ එවැව පියවරයන් ගැනීමට ස්ථිර පදනමක් ඇති කිරීමෙන් අප පක්ෂයේ සමුළුව ගත් පියවර දේශපාලන මාර්ගය නිවැරදි ලෙස සටහන් කළාය.''*

මාර්තව් සහෝදරයා ඔහුගේ ''වැටලීමේ තත්ත්වයක'' අමතක කිරීමට

* කෘතීන් එකතුව, 5 වැනි මුද්‍රණය, 7 වෙළුම, 307—308 පිටු.

කැමති වුණු වැකියක් සමුළුවේ මා කළ කතාවේ මේ සංක්ෂිප්තයෙහි අවධාරණය කර පෙන්වීමි (16 පිටුව). ඔහු මෙම වැකියට අකැමැති වූ අතර එහි පැහැදිලි තේරුම වටහා ගැනීමටද ඉදිරිපත් නොවීය.

මාර්තව් සහෝදරයා, ''භයානක වචන'' නැමැති ප්‍රකාශනයේ තේරුම කුමක්ද?

එය සමච්චල් කිරීමකි. කුඩා දේ වලට විශාල නම් තබන්නන් නොමනා උඩඟුකම් පාන වාග් පාඨ දෙසාබාමින් සරල ප්‍රශ්න ව්‍යාකූල කරන්නන් සමච්චලයට භාජනය කිරීමකි.

මාර්තව් සහෝදරයාගේ ''ස්නායු කිපීමට'' හේතු වූයේ එක් කුඩා සහ සරළ සත්‍යයකි. එය සැබැවින්ම එවැන්නක් කළේය. එය අන් කිසිවක් නොව, මධ්‍යම මණ්ඩලවලට පත් කරන අය පිළිබඳ ප්‍රශ්නයේදී ඔහු ලැබූ පරාජයය. බහුතරය පක්ෂ සමුළුවේදී ජයග්‍රහණය ලබාගෙන, පක්ෂ නායකත්වයේ බහුතරයක් ඇති කොට, ඔවුන්ගේ බලපෑම තහවුරු කර ගැනීමත්, බහුතරය විසින් දේශපාලනමය වශයෙන් අස්ථිර, වැනෙන සුලු සහ අපැහැදිලි* ලෙස කල්පනා කරනු ලබන කොටස්වලට විරුද්ධව සටන් කිරීම සඳහා පක්ෂයේ ව්‍යවස්ථාවේ ආධාරය ඇතිව සංවිධානාත්මක පදනමක් බිහි කිරීමත්, මෙම සරළ සත්‍යයේ දේශපාලනමය වැදගත්කම වන්නේය. බියගත් නෙත්වලින් යුතුව, 'බලපෑම සඳහා අරගලයක්' ගැන කතා කිරීමටත්, 'වැටලීමේ තත්ත්වය' ගැන දුක්ගැනවිලි ඉදිරිපත් කිරීමටත් මෙය අවස්ථාවක් කර ගැනීම අන් කිසිවක් නොව, උඩඟු වාග්පාඨ සහ බියජනක වචන ඇද බෑමක් පමණකි.

මාර්තව් සහෝදරයා මෙය සමග එකඟ නොවන්නේද? 1) මධ්‍යම මණ්ඩලවල බහුතරයක් දිනාගනිමින් සහ 2) වැනෙන සුලු බවටත්, අස්ථිරතාවයට සහ අපැහැදිලි භාවයටත් විරුද්ධව තමන්ට ලැබුණු බලය පාවිච්චි කරමින්ද සිය බලපෑම ස්ථිර නොකරගත්, බහුතරයක් සහිත පක්ෂ සමුළුවක් පැවැති බවත්, නැතිනම් එවැන්නක් සාමාන්‍යයෙන්

---

* ඉස්ක්‍රාවාදී අල්පතරයේ අස්ථිරතාවය, වැනෙන සුලු භාවය සහ අපැහැදිලිතාවය ප්‍රකාශ වූයේ කෙසේද? ප්‍රථමයෙන්ම ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටසට විරුද්ධව ඔවුන් අවස්ථාවාදී වාග්පාඨ දෙඩවීමය. දෙවනුව, ඔවුන් අකීමව් සහ ලිබෙර් සහෝදරවරුන් සමග සහාගයකට එළඹීමය: සමුළුවේ දෙවන භාගය වන විට මෙය ඉක්මනින් වැඩෙන්නට විය. තෙවනුව, මධ්‍යම මණ්ඩලවලට නියෝජිතයින් තෝරාපත් කිරීමේ ප්‍රශ්නය අවරසිකවාදය, දීන වචන දක්වා සහ පිට අයගේ අධ්‍යාත්මයට කාවැදීමට තරම් වුවද පහත් කිරීමට ඔවුන් සූදනම් වීම. සමුළුවෙන් අනතුරුව මේ සියලු ගුණයන් පොහොට්ටු අවධියේ සිට මල් සහ පලතුරු දක්වා මෝරා වැඩෙන්නට විය.



සිතාගත හැකි බවත් ඔප්පු කිරීමට සමහර විට ඔහු වෑයම් කරනවා විය යුතුය.

ප්‍රධාන පුවත්පතේ සහ මධ්‍යම කාරක සභාවේ චන්ද වලින් තුනෙන් පංගුවක් පක්ෂයේ බහුතරයට දෙනවාද නැතිනම් පක්ෂයේ අල්පතරයට දෙනවාද යන්න තෝරාපත් කිරීම්වලට පෙර, අපේ සමුළුවට තීරණය කිරීමට සිදුවිය. හයදෙනෙකුගේ මණ්ඩලය සහ මාර්තව් සහෝදරයාගේ ලැයිස්තුවේ තේරුම නම් අපට තුනෙන් කොටසකුත් ඔහුගේ අනුගාමිකයින්ට තුනෙන් දෙකොටසකුත් දීමය. මාර්තව් සහෝදරයා අප සමග එකඟතාවයකට පැමිණීමට හෝ අපට ඉඩදීමට හෝ කැමති නොවීය. සමුළුවේදී සටන් කිරීම සඳහා ඔහු අපට ලියවිල්ලක් මගින් අභියෝගයක් කළේය. සමුළුවේදී පරාජයට පත්වූ ඔහු වැළපෙන්නට සහ ''වැටලීමේ තත්ත්වය'' ගැන දුක්ගැනවිලි ඉදිරිපත් කිරීමට පටන් ගත්තේය! මෙය කලහ කිරීමක් නොවේද? මෙය බුද්ධිමතකුගේ දියාරු ගතිය ප්‍රකාශ කිරීමක් නොවන්නේද?

මෙහිදී ගුණය පිළිබඳව මෑතකදී කාල් කෞට්ස්කි විසින් කරන ලද මාහැඟි සමාජ සහ සමාජ විද්‍යාත්මක විස්තරය මතක් නොකර බැරිය. විවිධ රටවල සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂ නිතර පාහේ දූන්, එවැනි රෝගවලින් පෙළෙති. වැඩි අත්දැකීම් ඇති සහෝදරවරුන්ගෙන් නිවැරදි රෝග විනිශ්චය සහ නිවැරදි ප්‍රතිකාර ගැන දැන ඉගෙනගැනීම අපට ඉතා ප්‍රයෝජනවත්ය. සමහර බුද්ධිමතුන් පිළිබඳව කාල් කෞට්ස්කිගේ විස්තරය එබැවින් අපේ මාතෘකාවෙන් පිටපැනීමක් වන්නේ පෙනීමෙන් පමණකි.

...''අද අප අති විශාල සැලකිල්ලක් දක්වන ප්‍රශ්නය නම්, බුද්ධිමත් පංතිය* සහ නිර්ධන පංතිය අතර ඇති විරුද්ධතාවයය. මෙම විරුද්ධතාවය මා පිළිගැනීම නිසා (කෞට්ස්කි බුද්ධිමතෙකි, ලේඛකයෙකි, කතුවරයෙකි) මගේ සගයින් ඉමහත් ලෙස කෝපවනු ඇත. එහෙත් එය ඇත්ත වශයෙන්ම පවතී. අනිකුත් ප්‍රශ්නවලදී මෙන්ම, මෙතැනදීද එවැන්නක් නැතැයි කීම නුවණට හුරු නොවේ. ප්‍රතිවිරුද්ධතාවය පංතිවලින් ප්‍රකාශ වන, සමාජයීය දෙයක් මිස එක් එක් පුද්ගලයින්ට සීමා වූවක් නොවේ.

---

* ජර්මන් බසෙහි Literat සහ Literatentum නැමැති වචන පරිවර්තනය කිරීම සඳහා මම බුද්ධිමතා සහ බුද්ධිමත් පංතිය යන වචන පාවිච්චි කළෙමි. මෙයට ලේඛකයින් පමණක් නොව, සියලු උගත් මිනිසුන්ද, ලිබරල්වාදී (ස්වාධීන) වෘත්තීන්වල යෙදී සිටින සියලු සාමාජිකයින්ද කය වෙහෙසා වැඩ කරන මිනිසුන්ගෙන් වෙනස් වන, ඉංග්‍රීසින් හඳුන්වන මොළය වෙහෙසා වැඩකරන (brain workers) අයද මෙයට අයත් වේ.

එක් තනි බුද්ධිමතෙක් එක් තනි ධනපතියකු මෙන්ම පංති සටනේදී නිර්ධන පංතියේ පැත්ත ගැනීමට ඉඩ ඇත. ඔහු එසේ කරන විට ඔහුගේ ස්වරූපයද වෙනස් කර ගනී. තව දුරටත් අප කතා කරන්නේ සිය පංතියේ අමුතු විශේෂතාවයක් හැටියට සැලකෙන එම බුද්ධිමතා ගැන නොවේ. විශේෂයෙන් සඳහන් නොකරන්නේ නම්, බුද්ධිමතා යන වචනයෙන් මා හඟින්නේ ධනපති සමාජය තුළ ස්ථානයක් දරන්නා වූ සහ බුද්ධිමත් පංතියට ආවේණික වූ සාමාන්‍ය බුද්ධිමතාවය. මෙම පංතිය සැහෙන දුරකට නිර්ධන පංතියට ප්‍රතිවිරෝධී වන්නේය.

''කෙසේවුවද මේ විරෝධීතාවය ශ්‍රමය හා ප්‍රාග්ධනය අතර ඇති විරෝධීතාවයට වඩා වෙනස්ය. බුද්ධිමතා ධනපතියෙක් නොවේ. එහෙත් ඔහුගේ ජීවන තත්ත්වය ධනවාදීය, දිළින්දගේ තත්ත්වයට නොවැටීම පිණිස ඔහු එම ධනවාදී තත්ත්වය ආරක්ෂා කළ යුතුය. එහෙත් ඒ අතරම ඔහුට ඔහුගේ ශ්‍රම ශක්තිය විකිණීමට සිදුවී ඇත. නිතර පාහේ ඔහුගේ ශ්‍රම ශක්තියද, ඔහු පෞද්ගලිකවද ධනපතියාගේ සූරාකෑමට සහ අවඥාවට ලක් වේ. ඒ අනුව බුද්ධිමතා නිර්ධනයට ආර්ථික අතින් විරුද්ධතාවයක් නොවන්නේය. එසේවුවද ඔහුගේ ජීවන තත්ත්වය සහ ශ්‍රම තත්ත්වයන් නිර්ධන පංතික නොවේ. මේ හේතුව එක්තරා දුරකට මනෝභාවය හා අදහස්වල යම් විරෝධීතාවයක් ඇති කරයි.

''වෙන්වූ පුද්ගලයකු හැටියට නිර්ධනයා බලවතෙක් නොවේ. ඔහුගේ මුළු මහත් ශක්තියත්, මුළු මහත් ප්‍රගතියත්, ඔහුගේ මුළු මහත් බලාපොරොත්තු සහ අභිප්‍රායයත් ඔහු ලබා ගන්නේ සංවිධානයෙනි. තම පංතියේ අනිකුත් සහෝදරයින් සමග එකට එක්වී ගෙනයන ක්‍රමානුකූල ක්‍රියාකාරීත්වයෙනි. ඔහු විශාල සහ ශක්තිමත් ජීව වස්තුවක කොටසක් බවට පත්වූ විට, ඔහු විශාල සහ ශක්තිමත් කෙනෙකු ලෙස ඔහුට දැනේ. ඔහුට ප්‍රධාන දෙය මේ සංවිධානාත්මක ජීව වස්තුවය. මෙය සමග සසඳා බලන විට පුද්ගලයාගේ ඇති වැදගත්කම ඉතා අල්පය. නිර්නාමික ස්කන්ධයේ කොටසක් හැටියට, පෞද්ගලික වාසිලබා ගැනීමෙන් තොරව, පෞද්ගලික කීර්තියෙන් තොරව, ඔහුගේ සියලු හැඟීම්වලට කාවදින ස්වේච්ඡානුගත විනයක් සහිතව ඔහුට භාරකරන ඕනෑම නිලයක් උසුලමින් ඔහු සිය යුතුකම් සපුරාලමින් ඉතා දැඩි භක්තියකින් යුතුව නිර්ධනයා සටන් කරයි.

''බුද්ධිමතාගේ තත්ත්වය මීට හාත්පසින්ම වෙනස්ය. ඔහු සටන් කරන්නේ බලය නැමති මාධ්‍යයෙන් නොව, තර්කයෙනි. ඔහුගේ දැනීමත්, ඔහුගේ දක්ෂතාවයත්, ඔහුගේ පෞද්ගලික වැටහීමත් ඔහු සතු අවි වන්නේය. ඔහුට යම්කිසි තත්ත්වයක් ලබා ගත හැක්කේ, ඔහුගේ පෞද්ගලික ගුණයන් නිසා පමණකි. එම නිසා සාර්ථක ලෙස සිය කටයුතු සපුරාලීම සඳහා ඇති විය යුතු ප්‍රධානතම කොන්දේසිය සිය පෞද්ගලිකත්වය ක්‍රියාත්මක වීමට පූර්ණ නිදහසක් ඇතිවීමය. සමස්තයක කොටසක් වශයෙන් එයට යටවීම ඔහු පිළිගන්නේ ඉතා අමාරුවෙනි. එයට වුවද ඔහු කැමති වන්නේ අවශ්‍යතාවය නිසා මිස උපන් හැඟීමක් නිසා නොවේ. පොදු ජනතාවට විනය අවශ්‍ය අතර ප්‍රමුඛ පුද්ගලයින්ට එය අවශ්‍ය නැති බව ඔහුගේ පිළිගැනීමය. ඔහු සිය පුද්ගලත්වය ප්‍රමුඛ මිනිසුන් ගොඩට ලා ගිණීම සවාභාවිකය...

''...මහා පුරුෂයා ඇදහීම සහිත නීචෙගේ දර්ශනවාදය සිය පෞද්-



ගලිකත්වය වර්ධනය කර ගැනීම සඳහා හැම දෙයක්ම කිරීම ප්‍රධානතම ස්ථානයෙහි ලයි. ඒ අනුව මේ පෞද්ගලිකත්වය ශ්‍රෙෂ්ඨ සමාජයීය කාර්යයක් සඳහා යට කිරීම ග්‍රාම්‍ය සහ අධම ක්‍රියාවකි. මෙය බුද්ධිමතාගේ සැබෑ දර්ශනවාදයය. බුද්ධිමතා නිර්ධන පංතික සටන් අරගලවලට සහභාගිවීමට හැම අතින්ම නුසුදුස්සකු කරන්නේ මේ දර්ශනවාදය විසිනි.

නීචෙ ළඟට, බුද්ධිමත් පංතියේ භාව හැඟීම් අනුව යන දර්ශනවාදයක සම්භාවනීය නියෝජිතයා ඉබ්සන්ය. ඔහුගේ ආචාර්ය ෂ්ටොක්මාන් (ජනතා ද්‍රෝහියා නැමැති නාට්‍යයේ) බොහෝ දෙනෙකු සිතූ පරිදි, සමාජවාදියකු නොවේ. ඔහු නිර්ධන පංතික ව්‍යාපාරය සමග හෝ වෙනත් යම්කිසි ජනතා ව්‍යාපාරයක් සමග හෝ එක්වී කටයුතු කිරීමට පටන් ගත් විගසම, ඒවා සමග සට්ටනය වනු නියතය. මන්දයත් හැම ප්‍රජාතන්ත්‍රවාදී* ව්‍යාපාරයක මෙන්ම නිර්ධන පංතික ව්‍යාපාරයේත් පදනම බහුතරයේ තීරණයට ගරුකිරීම වන බැවිනි. එහෙත් ස්ටොක්මාන් වැනි බුද්ධිමත්හු 'සුසංහිත බහුතරය' භයානක දූවැන්තයකු ලෙස සළකා එය පෙරළා දැමිය යුතු බව කියා සිටිති...

''...නිර්ධන පංතික හැඟීම් සම්පූර්ණයෙන්ම උකහා ගත්, ඉතා අගනා ලේඛකයකු වුවද, බුද්ධිමතකුගේ මනෝභාවය නැතිකරගත්, සාමාන්‍ය පිරිස සමග උරෙනුර ගැටී ප්‍රීතියෙන් යුතුව ගමන් ගත්, තමාට භාර දුන් ඕනෑම කාර්යයක වැඩකළ, අපේ ශ්‍රෙෂ්ඨ ව්‍යාපාරයට ඉත සිතින් යටත් වූ, — අල්පතරයට වැටුණු විගසම පුහුණුව ලැබූ බුද්ධිමතුන් මෙන් පෞද්ගලිකත්වය පාගා දමන්නේ යැයි දුබල ලෙස කෙඳිරි ගෑමට (weichliches Gewinsel) ඉබ්සන් සහ නීචෙ දක්වූ පුරුද්ද නින්දවක් ලෙස සැළකූ, සමාජවාදී ව්‍යාපාරයට අවශ්‍ය බුද්ධිමතුන්ගේ අගනා ආදර්ශයක් වන්නේ ලීබ්ක්නෙහ්ට්ය. මෙහිදී කාල් මාක්ස් ගැනද සඳහන් කළ හැකිය. ඔහු කිසිදිනෙක ඉස්සරහට පැනීමට උත්සාහ ගත්තේ නැත. ජාත්‍යන්තරයේදී ඔහු නිතර පාහේ අල්පතරයේ සිටියද ඔහුගේ පක්ෂ විනය අගනා ආදර්ශයක් විය.''**

පැරණි කවය සම්මත නොකිරීම නිසා මාර්තව් සහ ඔහුගේ සහයින් නිල තනතුරු භාර ගැනීමට ප්‍රතික්ෂේප කිරීම, අල්පතරයට වැටුණු

* අකීමව් වෙතටත් උචිත නොවන ප්‍රජාතන්ත්‍රවාදයකටත් මාර්තව්වාදීන් නැඹුරු වුවද, සියලු සංවිධානාත්මක ප්‍රශ්න පිළිබඳව ඔවුන් ඇති කළ ව්‍යාකූලත්වය විශේෂ ලක්ෂණයක් වන්නේය. හැම දෙනෙකු විසින්ම කල් ඇතිව සැළසුම් කළ පරිදි, සමුළුවේදී ප්‍රජාතන්ත්‍රවාදී වන්දයකින්, කර්තෘ මණ්ඩලය ප්‍රජාතන්ත්‍රවාදී ලෙස තෝරා ගැනීම එක වරම ඔවුන්ගේ කෝපයට භාජන විය. සමහර විට එය නුඹලාගේ ප්‍රතිපත්තිය විය හැකිනේද?

** Karl Kautsky: "Franz Mehring", "Neue Zeit", XXII, I, S. 99—101, 1903, №4 (කාල් කෞට්ස්කි: ''ප්‍රාන්ස් මේරින්ග්'', ''නූතන කාලය'', XXII, 1, 99—101 පිටු, 1903, № 4. — සංස්කාරක).

බුද්ධිමතුන්ගේ දුබල කෙඳිරිගෑමක් මිස අන් කිසිවක් නොවේ. වටලනු ලැබූ තත්ත්වයක් ගැන සහ සමහර කණ්ඩායම්වලට විරුද්ධව "හදිසි නීති" පැනවීම ගැන ඔවුන්ගේ දුක්ගැනවිලිද එයම මිස අන් කිසිවක් නොවේ. "යූෂ්නි රබෝචි" සහ "රබෝචිය දියල" කණ්ඩායම් විසුරුවා හරින විට එවැනි දුක්ගැනවිලි ඉදිරිපත් නොකළ මාර්තව්, තම කණ්ඩායම විසුරුවා හැරිය විට පමණක් සැලකිලිමත් වීමට පටන් ගත්තේය.

අල්පතරයට ඇද වැටෙන බුද්ධිමතුන්ගේ එවැනි දුබල කෙඳිරිගෑම් නිසා "සුසංහිත බහුතරය" පිළිබඳව ඉමක් නැති දුක්ගැනවිලිද, දෙස්පැවරීම්ද, ඇනුම්පදද, චෝදනාද, අවලාදයන් සහ වක්‍රෝක්තියෙන් වරද පැටවීමද ඇතිවේ. මෙය මාර්තව් විසින් පටන් ගත් අතර අප පක්ෂ සමුළුවේදී* එය ගඟක් මෙන් ගලා ගියේය (සමුළුවට පසුව මෙය තවත් වැඩි විය).

බහුතරය පෞද්ගලික රැස්වීම් තැබූ බව කියමින් අල්පතරය ඉතා කටුක ලෙස දුක්ගැනවිලි ඉදිරිපත් කළේය. අල්පතරයද තම පෞද්ගලික රැස්වීම්වලට නියෝජිතයින්ට ආරාධනය කළ නමුදු ඔවුන් නොපැමිණි නිසා එම අසතුටුදායක සත්‍යය සඟවනු වස් යමක් කිරීමට ඔවුනට සිදුවිය. තම රැස්වීමට කැමැත්තෙන්ම පැමිණිය හැකි වූ අයට (යෙගෝරව්ලාට, මාහව්ලාට සහ බ්රූකර්ලාට) අල්පතරයට ආරාධනා කිරීමට නොහැකිවිය. මන්දයත් ඔවුන් සමඟ සමුළුවේදී අල්පතරය ගැටුණු බැවිනි.

"අවස්ථාවාදය පිළිබඳව ව්‍යාජ චෝදනාවක්" ගැන අල්පතරය දැඩි ලෙස චෝදනා කළේය. ඉස්ක්‍රාවිරෝධීන් පිටුපසින් ගිය වැඩි දෙනා අවස්ථාවාදීන් වීම නැමැති අප්‍රිය ජනක සත්‍යය සැඟවීමට අල්පතරයට අවශ්‍ය විය. සුසංහිත අල්පතරය සැදුණේද අඩ වශයෙන් මේ ඉස්ක්‍රාවිරෝධීන් ගෙනි. පක්ෂ ආයතනවලදී කවවාදී හැඟීමක් ඇතිව බඳගෙන එය ඔසවාගැනීමද, තර්කවලදී අවස්ථාවාදය අනුගමනය කිරීමද, පක්ෂ කටයුතුවලදී අවරසිකවාදයක් අනුගමනය කිරීමද, බුද්ධිමතුන්ගේ අස්ථිරතාවය සහ වැනෙන සුලු භාවය පෙන්වීමද ඔවුන්ගේ ගති විය.

සමුළුවේ අවසානයේදී "සුසංහිත බහුතරයක්" ඇතිවීයැයි කියන වැදගත් දේශපාලනමය සත්‍යය පිළිබඳ විස්තරයද, අල්පතරය පිහිටුවීමේ හේතු සහ එහි ඉතිහාසය පිළිබඳ ප්‍රශ්නය සියලු අභියෝග ගැන නොතකා ඉතා දැඩි ලෙස මහහරින්නේ මන්ද යන්න ගැනද අපි මීළඟ ඡේදයෙන් හෙළි කරමු. එහෙත් අපි පළමුවෙන් සමුළුවේ විවාද පිළිබඳව විශ්ලේෂණය සම්පූර්ණ කරමු.

මධ්‍යම කාරක සභාවට ඡන්දය විමසීමේදී, මාර්තව් සහෝදරයා ඉතා

* සමුළුවේ වාර්තා කියවන්න. පිටු 337, 338, 340, 342.



විශේෂ යෝජනාවක් ඉදිරිපත් කළේය (336 පිටුව). මේ යෝජනාවේ ප්‍රධාන ලක්ෂණ තුන 'පියවරයන් තුනකින් යටත් කිරීම හැටියට' මීට කලින් මවිසින් නම් කර ඇත. ඒවා මෙසේය: 1) මධ්‍යම කාරක සභාවට අපේක්ෂකයින්ගේ නම් ලැයිස්තු මිස, වෙන වෙනම අපේක්ෂකයින් ඉදිරිපත් නොකිරීම; 2) අපේක්ෂකයින්ගේ නාම ලැයිස්තු කියවීමෙන් පසුව, රැස්වීම් වාර දෙකක් පැවැත්වීමට ඉඩ හැරීම (ඒ ගැන සාකච්ඡා කිරීම සඳහා විය යුතුය); 3) නිරපේක්ෂ බහුතරයක් නොතිබිණි නම්, දෙවැනි වර ඡන්දය අවසාන ඡන්දය හැටියට පිළිගැනීම. මෙම යෝජනාව කලින් කල්පනා කරන ලද ඉතා අගනා උපාය මාර්ගයකි. (ප්‍රතිමල්ලවයාගේ දක්ෂතාවය ගැන පැසසිය යුතුය!) මේ යෝජනාවට යෙගෝරව් සහෝදරයා කැමති නොවීය (337 පිටුව). එහෙත් බුන්ඩ් හි නියෝජිතයින් සත්දෙනාත්, "රබෝචිය දියල" කණ්ඩායමේ නියෝජිතයිනුත් සමුළුවෙන් පිටවී නොගියාහු නම්, මාර්තව්ට පූර්ණ ජයග්‍රහණයක් ලැබීම ස්ථිර වනු ඇත. මෙම උපාය මාර්ගයට හේතුව නම් ඉස්ක්‍රාවාදී අල්පතරයට බුන්ඩ් සහ බ්රූකර් සමග පමණක් නොව, යෙගෝරව්ලා සහ මාහව්ලා සමග වුවද 'සෘජු ගිවිසුමක්' (ඉස්ක්‍රාවේ බහුතරය අතර ඇතිවූවාක් මෙන්) නොතිබීමය, එවැන්නක් ඇතිකර ගැනීමට අපොහොසත් වීමය.

තමා සහ බුන්ඩය අතර සෘජු ගිවිසුමක් ඇතැයි නිගමනය කරමින් අවස්ථාවාදය පිළිබඳ ව්‍යාජ චෝදනා ඉදිරිපත් කළේයැයි කියමින් මාර්තව් සහෝදරයා ලීග් සමුළුවේදී මැසිවිලි කී සැටි ඔබට මතක ඇතැයි සිතමි. බිය නිසාම මාර්තව් සහෝදරයාට එලෙස හැඟුණු බව මම යළිත් කියමි. නාම ලේඛන වලට ඡන්දය දීමට යෙගෝරව් සහෝදරයා ප්‍රතික්ෂේප කිරීමේ මෙම සත්‍යය (යෙගෝරව් සහෝදරයාට "සිය මූලධර්ම අමතක වී නැත" — ප්‍රජාතන්ත්‍රවාදී සහතික පිළිබඳව නිරපේක්ෂ වැදගත්කමක් තක්සේරු කරමින් ගෝල්ඩ්බ්ලාට් සමග සිය බලමුළු එක් කරවීමට තුඩු දුන් මූලධර්ම) නිසාම, යෙගෝරව් සමග පවා "සෘජු ගිවිසුමක්" ඇති කර ගැනීමට පවා නොහැකි වීමේ ඉතා වැදගත් සත්‍යය යස රහට පෙනෙයි. එහෙත් මේ අය අතර සභාගයක් තිබිය හැකිය. එය යෙගෝරව් සහ බ්රූකර්ද අයත් සභාගයකි. මාර්තව්වාදීන් සහ අප අතර බැරෑරුම් සට්ටනයක් ඇතිවූ විගසම, ඔවුන්ට යෙගෝරව්ලාගේ සහ බ්රූකර්ලාගේ සහාය ලැබෙනු ඇත. අකීමව් සහ ඔහුගේ මිතුරෝ මේ දෙකෙන් වඩාත් අඩු හානියක් ගෙනදෙන සතුරා තෝරා ගනු ඇත්තාහ. ප්‍රධාන පුවත්පතට හයදෙනාගේ යෝජනාවට සහ මධ්‍යම කාරක සභාවට මාර්තව්ගේ ලැයිස්තුවට පක්ෂව අකීමව් සහ ලීබෙර් සහෝදරවරුන් ඡන්දය දෙනවාට කිසිදු සැකයක් නැත, මෙය ඔවුන් හිතන හැටියට අඩු හානියක් කරන සතුරාය, ඉස්ක්‍රාවේ අරමුණු අතා අඩුවෙන් සපුරාලන විධියද එය වන බැවිනි (පළමුවැනි

කාණ්ඩය පිළිබඳ අකීමව්ගේ කතාව සහ ඔහු මාර්තව් මත තැබූ ''බලාපොරොත්තුව'' බලන්න) පළමුවෙන් ලැයිස්තුවලට චන්දය දීමද ඉන් අනතුරුව රැස්වීම් වාරයන් දෙකක් පැවැත්වීමද යළිත් චන්දය දීමද ඉල්ලා සිටියේ ඍජු එකඟවීමකින් තොරව එම ප්‍රතිඵලය යාන්ත්‍රික ස්ථිරතාවයකින් ලබා ගනු පිණිසය.

අපේ සුසංහිත බහුතරය, සුසංහිත බහුතරයක් ලෙස පැවති නිසා මාර්තව්ගේ අංශමය පහරදීම නිසා පමාවීමක් පමණක් වන්නට තිබිණි. අප එය ප්‍රතික්ෂේප කරනවා ස්ථිරය. මේ පිළිබඳව අල්පතරය සිය දුක්ගැනවිලි ලියවිල්ලක් මගින් ඉදිරිපත් කළ (341 පිටුව) අතර ''මධ්‍යම කාරක සභාව තෝරාපත් කිරීම පැවැති තත්ත්වයන් අනුව එහිදී'' චන්දය දීම ප්‍රතික්ෂේප කරන බව, මර්තිනව්ගේ සහ අකීමව්ගේ නිදසුන අනුගමනය කරමින් ප්‍රකාශ කළහ. සමුළුවට පසුව තෝරාපත් කිරීම පැවැති අසාමාන්‍ය තත්ත්වයන් ගැන (වටලනු ලැබූ තත්ත්වය, 31 පිටුව) දුක්ගැනවිලි සහ චෝදනා පක්ෂය පිළිබඳ කටකතාකාරයන්ගේ කථාවලට දිගට හරහට එකතු කිරීමට පටන් ගෙන තිබේ. එහෙත් මේ අසාමාන්‍ය තත්ත්වයන් යනු කුමක්ද? එය සමුළුවේ ස්ථාවර පනත් වලින් කලින්ම සඳහන් කළ රහස් චන්දයද? (වාර්තාවේ 6 කොටස, 11 පිටුව). මෙහි කපටි කමක් හෝ අසාධාරණයක් හෝ සෙවීම විකාරයකි. එම තත්ත්වය පැවතියේ දඩිබිඩි බුද්ධිමතුන්ට එක්තරා විධියක භයානක දෑවැන්තයෙක් ලෙසට පෙනුණු තිබෙන සුසංහිත බහුතරයේද? නැතහොත් තමන් සියලු මැතිවරණ (සමුළුවේ පනත්, 18 කොටස, 380 පිටුව) පිළිගන්නා බවට සමුළුව ඉදිරියේ දිවුරා පොරොන්දු වීම, උල්ලංඝණය කිරීමට මේ වටිනා බුද්ධිමතුන් තුළ ඇති අභිප්‍රායයේද?

සමුළුවේදී චන්දය විමසන දවසේදී මේ ගැන කෙළින්ම ප්‍රශ්න කළ පපෝව් සහෝදරයා එම අභිප්‍රායය ගැන සියුම් ලෙස ඉඟියක් කළේය: ''සහභාගි වන්නන්ගෙන් හරි අඩක් චන්දය දීම ප්‍රතික්ෂේප කරන්නේ නම්, සමුළුවේ තීරණය නීති සහගත බවට බියුරෝව සහතික කරන්නේද?''* එය සහතික කරන බවට බියුරෝව පිළිතුරු දුන්නේය. අකීමව් සහ මර්ටිනව් සහෝදරවරුන්ගේ සිද්ධියද එය මතක් කළේය. මාර්තව් සහෝදරයා බියුරෝව සමග එකඟ වී, පපෝව් සහෝදරයාට වැරදී තිබෙන බවත්, සමුළුවේ තීරණ නීත්‍යානුකූල බවත්, එක එල්ලේම පැවසීය (343 පිටුව). උසස් තත්ත්වයෙකැයි කිව යුතු දේශපාලනමය ස්ථිරතාවය පිළිබඳ පක්ෂය ඉදිරියේදී කරන ලද එම ප්‍රකාශනය, සමුළුවට පසුව ඔහුගේ 'වැටලීමේ තත්ත්වය' මගින් කරන ලද ''පක්ෂයේ සමුළුවේදී පක්ෂයේ හරි අඩක් විසින් පටන්ගත් කැරැල්ල'' පිළිබඳ වාග්පාඨය සමග සසඳා බැලීමේදී ඇති වූ හෙළිවීම ගැන පාඨකයා ස්වකීය මතයක් ඇති කර ගත්තාවේ. අකීමව් සහෝදරයා මාර්තව් සහෝදරයා ගැන ඇතිකර ගත් බලාපොරොත්තු මාර්තව් සහෝදරයාගේ කල් නොපවත්නා සුහද හැඟීම් මැඩ නැඟී සිටියේය.

අකීමව් සහෝදරය, ''ඔබ ජය ගත්තෙහිය''!

''වැටලීමේ තත්ත්වය'' නැමැති සුප්‍රසිද්ධ වාග්පාඨය සමුළුව අවසානයේදීත්, චන්ද විමසීම් වලින් පසුවත් කෙතරම් භයානක වදනක් වීදයත් එය දූන් ශෝකාභාස්‍ය තේරුමක් සදහටම ගෙන ඇත. මෙහි සමහර ලක්ෂණ නොවැදගත් සේ පෙනුණද, සැබවින්ම ඉතා වැදගත්ය. මේ ශෝකාභාස්‍ය 'වැටලීමේ තත්ත්වය' සමග මාර්තව් සහෝදරයා විශාල ක්‍රීඩාවක් කරයි; ඔහු විසින් මවා ඇති මේ අවතාරය බහුතරය විසින් අල්පතරය ''වදහිංසාවලට භාජනය කිරීමක්,'' ''ලුහුබැඳීමක්'', ''තර්ජනය කිරීමක්'' අදහස් වන බව තමාටත් තම පාඨකයින්ටත් බැරෑරුම් ලෙස කියා සිටී. සමුළුවට පසුව ඇතිවූ තත්ත්වය ගැන අපි දූන් සොයා බලමු. සමුළුව අවසානයේදී, තෝරාපත් කිරීම්වලින් පසුව, මාර්තව්වාදීන් කියන පරිදි, ඔවුන් බියකර, ඔවුන්ට අයහපත් ලෙස සලකා, ඔවුන්ව මස් මඩුවට ගෙනයාමක් නොවූ අතර, සුසංහිත බහුතරය ඔවුන්ට (ල්‍යාදව්ගේ මාර්ගයෙන්) වාර්තා කමිටුවේ ආසන තුනෙන් දෙකක් දීමට ඉදිරිපත් විය (354 පිටුව). උපාය සහ වෙනත් ප්‍රශ්න පිළිබඳ යෝජනා බලන්න (354 පිටුව), මේ යෝජනා ඒවායේ සුදුසුකම් අනුව, ඒවා කාර්ය පරවශ ලෙස සාකච්ඡාවට භාජනය කරන ලදී. මේ යෝජනාවලට අත්සන් කරන ලද අය අතර භයානක දෑවැන්තයෙක් බඳු ''සුසංහිත අධිකතරයේ'' නියෝජිතයෝද ''උපහාසයට සහ නින්දවට භාජන කරන ලද'' අල්පතරයේ නියෝජිතයෝද වූහ. (වාර්තා, 355, 357, 363, 365 සහ 367 පිටු). මෙය පොදුවේ ''රැකියාවෙන් නෙරපීමක්'', ''බියකිරීමක්'' හැටියට පෙනෙන බව සත්‍යයක් නොද?

වැදගත් වුවද අවසනාවකට මෙන් ඉතා කෙටි විවාදයක් වූ එකම විවාදය පැන නැංගේ ස්ටාරවේර් ලිබරල්වාදීන් ගැන ඉදිරිපත් කළ යෝජනාව වටාය. එයට අත්සන් තැබූ අය අනුව පෙනෙන පරිදි (357 සහ 358 පිටු), එය සමුළුව විසින් සම්මත කරන ලද්දේ බහුතරයේ ආධාර කරුවන් තිදෙනෙක් (බ්‍රවුන්, ඔර්ලොව් සහ ඕසිපව්) එය සහ ප්ලෙහානව්ගේ යෝජනාව, මේ දෙක අතර තිබෙන විසඳිය නොහැකි පරස්පර විරෝධීතාවය

* 342 පිටුව. මණ්ඩලයට පස්වැනි සාමාජිකයා තෝරාපත් කිරීම ගැනය. චන්ද විසිහතරක් (චන්ද හතළිස් හතරක් වූ මුළු සංඛ්‍යාවෙන්) දෙන ලදී. මින් චන්ද දෙකක් සලකුණු කොට නොතිබිණි.

ගැන කල්පනා නොකර ඒ දෙකටම වන්දය දුන් නිසාය. බැලූ බැල්මට නම් මේ දෙක අතර නොවිසඳිය හැකි ප්‍රතිවිරුද්ධතාවයක් පෙනෙන්නට නැත. මන්දයත් ප්ලෙහානව්ගේ යෝජනාව, රුසියාවේ ධනපති ලිබරල්වාදය පිළිබඳව පොදු ප්‍රතිපත්තියක් ඉදිරිපත් කොට, මූලධර්ම සහ උපාය මාර්ග පිළිබඳව නියත ආකල්පයක් ඉදිරිපත් කරයි. එහෙත් ස්ටාරවේර්ගේ යෝජනාව ලිබරල් සහ ලිබරල්-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රවණතාවයන් සමග ''තාවකාලික ගිවිසුම්'' ඇති කර ගැනීමට හැකිවන ස්ථිර තත්ත්වයන් විග්‍රහ කිරීමට ප්‍රයත්නයක් දරයි. මේ යෝජනා දෙකේ විෂයයන් එකිනෙකට වෙනස්ය. එහෙත් ස්ටාරවේර්ගේ යෝජනාව දේශපාලනමය නොපැහැදිලි තාවයකින් පෙළෙයි. ඒ නිසාම එය සුළු සහ පටුය. එය රුසියානු ලිබරල්වාදයේ පංතිමය හරය විග්‍රහ නොකරයි. මෙය ප්‍රකාශ කෙරෙන නියත දේශපාලනමය ප්‍රවණතාවයන් එය විග්‍රහ නොකරයි. මේ නියත ප්‍රවණතාවලට සම්බන්ධව ප්‍රචාරයේ හා උද්ඝෝෂණයේ ප්‍රධාන කාර්යයන් නිර්ධන පංතියට විස්තර නොකරයි. විවිධ දේවල් වන ශිෂ්‍ය ව්‍යාපාරය සහ ''අස්වබෂ්දේනිය''[30] එම යෝජනාව ආකූල ව්‍යාකූල (එහි ඇති නොපැහැදිලිතාවය නිසා) කරයි. තාවකාලික එකඟතාවයන් ඇති කර ගත හැකි ස්ථිර තත්ත්වයන් තුනක් ගැන එම යෝජනාව බොරු තර්ක සහිතවත්, පටු ලෙසත් පෙන්වා දෙයි. මෙහිදි ද අනික් බොහෝ තැන්වල මෙන්ම දේශපාලනමය නොපැහැදිලිතාවය බොරු තර්කයට මග හෙළිකරයි. පොදු මූලධර්මයක් රහිත වීමද, කොන්දේසි පැටවීමට ප්‍රයත්න දැරීමද නිසා, මේ තත්ත්වයන් පිළිබඳව නොවැදගත් වූද, එසේම, ස්ථිර ලෙස කියන්නේ නම්, සාවද්‍ය වූද විස්තර කිරීම් පැන නගී. ස්ටාරවේර්ගේ කොන්දේසි තුන පරීක්ෂා කර බලන්න: 1) ''ලිබරල් හෝ ලිබරල්-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රවණතා ඒකාධිපත්‍යයට විරුද්ධව ගෙනයන සටන්වලදී ඔවුන් ස්ථිර ලෙසම රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට පක්ෂපාත වන බව, පැහැදිලි ලෙසත් අනේකාර්ථවලින් තොරවත් ප්‍රකාශ කළ'' යුතුය. ලිබරල් සහ ලිබරල්-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රවණතාවයන්ගේ වෙනස කුමක්ද? යෝජනාව මේ ප්‍රශ්නයට පිළිතුරු සැපයීමට අවශ්‍ය කරුණු ඉදිරිපත් නොකරයි. ලිබරල්වාදී ප්‍රවණතාවයන් ධනපති පංතියේ දේශපාලන වශයෙන් ඉතා අඩු ප්‍රගතිශීලී කොටස් වෙනුවෙන් මත ප්‍රකාශ කරන අතර ලිබරල් ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රවණතාවය ධනපති පංතියේ සහ සුළු ධනවාදී කොටස්වල වඩාත් දියුණු ප්‍රගතිශීලී මත ප්‍රකාශ කරනවා නොවේද? මෙය මෙසේ නම්, ඉතා අඩු ප්‍රගතිශීලී ධනපති කොටස් (කෙසේ වුවද, ඔවුන් ප්‍රගතිශීලීන්ය, නැතිනම් ඔවුන් ලිබරල්වාදීන් විය නොහැකිය) තීරණාත්මක ලෙස සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට පක්ෂව නැඟී සිටිතියි, ස්ටාරවේර් සහෝදරයා සිතන්නේද? එම ප්‍රවණතාවයේ නියෝජිතයෙකු



පැහැදිලි ලෙසත්, අනේකාර්ථයෙන් තොරවත් එවැනි ප්‍රකාශයන් කළද එය හාස්‍ය ජනකය, (මෙවැනි උපකල්පනයන් කොහෙත්ම පිළිගත නොහැකිය) නිර්ධන පංතියේ දේශපාලන පක්ෂය වන අප එවැනි ප්‍රකාශයක් විශ්වාස නොකිරීමට බැඳී සිටී. ලිබරල්වාදියකු වී සිටීමත් සමගම ස්ථිර ලෙසම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ පැත්ත ගැනීම කොහෙත්ම කළ හැකි දෙයක් නොවේ. එකක් අනිකට විරුද්ධ බැවිනි.

''ලිබරල් හෝ ලිබරල්-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රවණතා'' ඒකාධිපත්‍යයට විරුද්ධව ගෙනයන සටනේදී පැහැදිලි ලෙසත්, අනේකාර්ථයෙන් තොරවත්, ස්ථිර ලෙසම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ පැත්ත ගත්හයි සිතමු. එවැනි දෙයක් කරුණු රහිත වුවද සත්‍යයක් ලෙස උපකල්පනය කිරීමට ඇති ඉඩ කඩ (සමාජවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රවණතාවයේ ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී ස්වරූපය නිසා) ස්ටාරවේර් සහෝදරයාගේ උපකල්පනය තරම් නොසිදුවිය හැක්කක් නොවේ. ඔහුගේ යෝජනාවේ ඇති නොපැහැදිලිතාවය සහ බොරු තර්ක නිසා මෙවැනි තත්ත්වයන් යටතේදී, එවැනි ලිබරල්වාදීන් සමග තාවකාලික ගිවිසුම් ඇතිකර ගැනීමට කොහෙත්ම අවසර නැතිවාසේ පෙනේ. ස්ටාරවේර් සහෝදරයාගේ යෝජනාවෙන් නොවැළැක්විය හැකිසේ පැනනගින මෙම නිගමනය සම්පූර්ණ ව්‍යාජ එකකි. සමාජවාදී විප්ලවවාදීන් සමගද, (මේ ගැන සමුළුවේ යෝජනාව බලන්න) ඒ අනුව සමාජවාදී විප්ලවවාදීන්ට පක්ෂපාත වන ලිබරල්වාදීන් සමගද තාවකාලික ගිවිසුම් ඇති කර ගැනීමට අවසර ඇත්තේය.

දෙවැනි කොන්දේසිය: මේ ප්‍රවණතාවයන් ''තම වැඩ පිළිවෙළවල්වල, කම්කරු පංතියේ අයිතිවාසිකම් වලට හෝ පොදුවේ ප්‍රජාතන්ත්‍රවාදයට හෝ පටහැණි වන ඉල්ලීම් ඉදිරිපත් නොකිරීමද නැතිනම් එයින් ඔවුන්ගේ (නිර්ධන පංතියේ) දේශපාලනමය විඥානය ඇඳිරි නොකිරීමද අවශ්‍ය ය.'' මෙතැනදී අපි එම වරද යළිත් දකිමු. කම්කරු පංතියේ ඉල්ලීම් වලට පටහැණි සහ එම පංතියේ (නිර්ධන පංතියේ) දේශපාලනමය විඥානය ඇඳිරි කරන ඉල්ලීම් අඩංගු වැඩ පිළිවෙළවල් ඉදිරිපත් නොකරන ලිබරල් ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රවණතාවයක් තිබිය නොහැක. එවැන්නක් කිසිකලෙක තිබුණේද නැත. අපේ ලිබරල්-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රවණතාවයේ ඉතාම ප්‍රජාතන්ත්‍රවාදී කොටසක් වන සමාජවාදී-විප්ලවවාදීන් පවා අන් සියලු ලිබරල්වාදී වැඩ පිළිවෙළවල් මෙන්ම ව්‍යාකූල ලෙස සිය වැඩ පිළිවෙළ මගින් කම්කරු පංතියේ අයිතිවාසිකම් වලට පටහැණි, එහි දේශපාලනමය විඥානය ඇඳිරි කරන ඉල්ලීම් ඉදිරිපත් කරයි. මෙම සත්‍ය කරුණ අනුව අප කළ යුතු නිගමනය නම්, ''ධනවාදී විමුක්ති ව්‍යාපාරයේ ඇති සීමා සහිත භාවය හා නොසෑහෙනකම හෙළිදරව් කිරීම'' අවශ්‍ය බවය. එහෙත් තාවකාලික ගිවිසුම් ඇති කැර ගැනීමට මින් තහනමක් නැත.

අවසාන වශයෙන්, ස්ටාරවේර් සහෝදරයාගේ තුන්වැනි කොන්දේසිය, එය ඉදිරිපත් කර තිබෙන පොදු ආකාරය අනුව, (එනම් සර්වජන, සමාන, රහස් සහ සෘජු චන්ද බලය ලබාදීම ලිබරල් ප්‍රජාතන්ත්‍රවාදීන් සිය සටන් පාඨය කරගත යුතුය) එමෙන්ම වැරදිය; සීමා සහිත චන්ද බලය ඇති ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාවක් හෝ සීමාසහිත ව්‍යවස්ථාවක් හෝ සඳහා පොදුවේ උද්යෝග පාඨ ඉදිරිපත් කරන ලිබරල් ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රවණතා සමග තාවකාලික හා අර්ධ ගිවිසුම් ඇතිකර ගැනීම සියලුම අවස්ථාවලදී තහනම් යැයි ප්‍රකාශ කිරීමද නුවණට හුරු නැත. ''අස්වබෂ්දේනිය'' කණ්ඩායමේ ප්‍රවණතාවය මෙකී වර්ගයට අයත් වේ. එහෙත් ඉතාම බියසුලු ලිබරල්වාදීන් සමග වුවද තාවකාලික ගිවිසුම් ඇතිකැරගැනීමේදී, කල් ඇතිව කෙනෙකුගේ අත් බැඳ තැබීම, මාක්ස්වාදී මූලධර්මයන් සමග නොගැළපෙන දේශපාලනමය අදූරදර්ශීභාවයක් වන්නේය.

මෙසේ සම්පිණ්ඩනය කරමු: මාර්තව් සහ අක්සල්රොඩ් සහෝදරවරුන් විසින් අත්සන් කරන ලද ස්ටාරවේර් සහෝදරයාගේ යෝජනාව වැරදි සහගතය. මෙම යෝජනාව නිෂ්ප්‍රභ කළොත් පක්ෂයේ තෙවැනි සමුළුව නැණවත් ක්‍රියාවක් ඉටු කරනු ඇත. එය න්‍යායික වශයෙන් හා එහි උපායික තත්ත්වය අනුව එය දේශපාලනමය අපැහැදිලි තාවයකින් පෙළෙයි. එය ඉදිරිපත් කරන ප්‍රායෝගික ''තත්ත්වයන්'' අනුව එය බොරු තර්කවලට යටවී ඇත. එම යෝජනාව ප්‍රශ්න දෙකක් පටලවා ගනී: 1) සියලු ලිබරල් ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රවණතාවයන්ගේ විප්ලව විරෝධී සහ නිර්ධන පංතික විරෝධී ලක්ෂණයන් හෙළිදරව් කිරීම සහ මෙම අංග ලක්ෂණවලට විරුද්ධව සටන් කිරීමේ අවශ්‍යතාවය; 2) මේ සියලු ප්‍රවණතාවයන් ඕනෑම එකක් සමග තාවකාලික හෝ අර්ධ ගිවිසුම් ඇතිකර ගැනීමට අදල කොන්දේසිය. එම යෝජනාව කිය යුතු දේ (ලිබරල්වාදයේ පංති හරය පිළිබඳ විශ්ලේෂණයක්) නොකියයි. ඒ අතරම නොකිය යුතු දේ (කොන්දේසි සටහන් කිරීමක්) එය කියයි. ඇති විය හැකි එවැනි ගිවිසුම් සඳහා ස්ථිර කොටස් කරුවකු පවා නැති අවධියකදී, පක්ෂ සමුළුවකදී තාවකාලික ගිවිසුම් ඇතිකර ගැනීම සඳහා පොදුවේ සවිස්තර කොන්දේසි ඉදිරිපත් කිරීම අමන ක්‍රියාවකි. එවැනි ස්ථිර කොටස් කරුවකු සිටියද, තාවකාලික ගිවිසුමක් සඳහා කොන්දේසි විග්‍රහ කිරීම පක්ෂයේ මධ්‍යම ආයතන වලට භාර කිරීම සියක් වාරයකින් හේතු යුක්ති වන්නේය. සමාජවාදී-විප්ලවවාදී ''ප්‍රවණතාවය'' පිළිබඳව සමුළුව ගත් තීරණය මෙනි. (අක්සල්රොඩ් සහෝදරයාගේ යෝජනාවේ අගට ප්ලෙහානව් සහෝදරයා ඉදිරිපත් කළ සංශෝධනය බලන්න. වාර්තාවල 362 සහ 15 වැනි පිටුව).

ප්ලෙහානව්ගේ යෝජනාවට 'අල්පතරය' ඉදිරිපත් කළ 'විරුද්ධවීම්'



ගැන, මාර්තව් සහෝදරයාගේ එකම තර්කය මෙසේ විය: ප්ලෙහානව්ගේ යෝජනාව ''අවසන් වන්නේ එක්තරා ලේඛකයකු හෙළිදරවු කළ යුතුය යන නොවැදගත් නිගමනයෙනි. මෙය, මැස්සකු මැරීමට මෝල්ගහක් පාවිච්චි කිරීම වැනි වැඩක් නොවේද?'' (358 පිටුව). මෙම තර්කයේ හිස්බව කදිම වාග්පාඨයකින් වසා ඇත්තේය. ''නොවැදගත් නිගමනය'' — පුරාජේරු වාග්පාඨ දෙඩවීමේ නවතම නිදසුනකි. ප්‍රථමයෙන්ම, ප්ලෙහානව්ගේ යෝජනාව, ධනවාදී විමුක්ති ව්‍යාපාරවල සීමාසහිත භාවය සහ නොසෑහෙනකම මෙවැනි සීමාසහිතකම් සහ නොසෑහෙනකම් ඇතිවන හැම වාරයකදීම, නිර්ධන පංතික ව්‍යාපාරය ඉදිරිපිට ඒවා හෙළිදරවු කිරීම ගැන විස්තර කරයි. ඒ අනුව මාර්තව් සහෝදරයාගේ ප්‍රකාශනය (ලීග් සමුළුවේ වාර්තා, 88 පිටුව) සියලු අවධානය ස්ට්රුවේ වෙත පමණක්, එකම ලිබරල්වාදියකු වෙත පමණක් එල්ල කළ යුතු යැයි කීම, අමූලික බොරුවකි. දෙවනුව, රුසියානු ලිබරල්වාදීන් සමග තාවකාලික එකඟතාවයක් ඇතිකැරගැනීමේ හැකියාවක් තිබියදී, ස්ට්රුවේ මහතාව මැස්සකුට සමාන කිරීම, මූලික දේශපාලන සත්‍යයක් කදිම වාග්පාඨයක් සඳහා බිල්ලට දීමකි. ස්ට්රුවේ මහතා මැස්සකු නොව, දේශපාලන වැදගත්කමක් සහිත කෙනෙකි. ඔහු එසේ වන්නේ ඔහුගේ ශාරීරික විශාලත්වය නිසා නොවේ, නීති විරෝධී ලෝකයේ සියලු ක්‍රියාශීලී සහ සංවිධානාත්මක ලිබරල්වාදීන් අතුරෙන්, රුසියානු ලිබරල්වාදයේ එකම නියෝජිතයා හැටියට ඔහුගේ තත්ත්වයේ දේශපාලනමය වැදගත්කම නිසාය. ස්ට්රුවේ මහත සහ ''අස්වබෂ්දේනිය'' රහිතව රුසියන් ලිබරල්වාදීන් ගැනත්, අප පක්ෂය ඔවුන් කෙරෙහි දක්වන ආකල්පය ගැනත් කතා කිරීම කිසිවක් සඳහන් නොකරමින් කරන දෙඩවීමකට සමානය. එසේ නැතිනම්, ''අස්වබෂ්දේනිය'' ප්‍රවණතාවය සමග අද යම්තමින්වත් සංසන්දනය කළ හැකි, ලිබරල් හෝ ලිබරල්-ප්‍රජාතන්ත්‍රවාදී එකද ප්‍රවණතාවයක්වත් පෙන්වීමට මාර්තව් සහෝදරයාට පුළුවන්ද? ඔහු වෑයම් කරන සැටි බැලීම වටී!*

* ප්ලෙහානව් සහෝදරයාගේ යෝජනාවට විරුද්ධව ලීග් සමුළුවේදී මාර්තව් සහෝදරයා මෙවැනි තර්කයකුත් ඉදිරිපත් කළේය: ''මෙයට ඇති ප්‍රධාන විරුද්ධත්වය, මේ යෝජනාවේ තිබෙන ප්‍රධාන අඩු පාඩුව, ඒකාධිපත්‍යයට විරුද්ධව අප ගෙනයන සටනේදී, ලිබරල් ප්‍රජාතන්ත්‍රවාදී කොටස් සමග සන්ධාන ඇති කර ගැනීමටත් වැළකී නොසිටීම අපේ යුතුකම බව එය සම්පූර්ණයෙන්ම නොතකා හැරීමය. ලෙනින් සහෝදරයා මෙවැනි ප්‍රවණතාවයක් මර්ටීනව්වාදී ලෙස හඳුන්වනු ඇත. නව ''ඉස්ක්‍රාවෙන්'' මෙම ප්‍රවණතාවය දැනටමත් ප්‍රකාශ වී ඇත'' (88 පිටුව).

මේ කොටසේ ඇති මැණික් වල වටිනාකම අනුව නම් එය විරලය. 1) ලිබරල්වාදීන් සමග සන්ධාන ඇති කර ගැනීම පිළිබඳ වාග්පාඨය

"ස්ට්රුවේගේ නම කම්කරුවන් නොදනිති" යි මාර්තව් සහෝදරයාගේ සභායට පැමිණි කස්ට්‍රොව් සහෝදරයා පැවසීය. කස්ට්‍රොව් සහ මාර්තව් සහෝදරවරුන් අමනාප නොවෙතියි මම බලාපොරොත්තු වෙමි. එහෙත් මේ තර්කය අකීමව්ගේ ශෛලියක් බව කිව යුතුය. නිර්ධන පංතියේ සම්බන්ධ විභක්තිය පිළිබඳ තර්කයට මෙය සමානය.[31]

ස්ට්රුවේගේ නම (ප්ලෙහානව් සහෝදරයාගේ යෝජනාවේ ස්ට්රුවේ මහතාගේ නම අසලින්ම "අස්වබෂ්දේනිය" නම ද සඳහන් වී ඇත) නොදන්නා කම්කරුවෝ කවරහුද? ඔවුහු රුසියාවේ ලිබරල් සහ ලිබරල්-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රවණතාවයන් ගැන ඉතා අල්ප වශයෙන් දනිති, නැතිනම් ඒ ගැන කොහෙත්ම නොදනිති. එවැනි කම්කරුවන් වෙත අප පක්ෂයේ සමුළුව දක්විය යුතු ආකල්පය කුමක්ද යන්න සමහරු ප්‍රශ්න කරති. රුසියාවේ එකම නියත ලිබරල්වාදී ප්‍රවණතාව ගැන මේ කම්කරුවන්ට පක්ෂයේ සාමාජිකයින් කියා දිය යුතුද? නැතිනම් කම්කරුවන් දේශපාලනය ගැන දන්නා තරම අල්ප නිසා එක් නමක් ගැන සඳහන් කිරීමෙන් වැළකී සිටිය යුතුද? අකීමව් සහෝදරයාගේ මග ඔස්සේ එක් පියවරක් තබා ඇති කස්ට්‍රොව් සහෝදරයාට තවත් එක් පියවරක් එම මග ඔස්සේම තැබීමට අකමැතිනම් ඔහු එම ප්‍රශ්නයට පිළිතුරු සපයන්නේ මුලින් කී මතය අනුවය. මුලින් කී මතය අනුව ඔහු එම ප්‍රශ්නයට පිළිතුරු සපයන්නේ නම්, ඔහුගේ තර්කය පදනම් විරහිත බව ඔහුටම වැටහෙනු ඇත. කෙසේවුවද, ප්ලෙහානව්ගේ යෝජනාවේ සඳහන්, 'ස්ට්රුවේ' සහ "අස්වබෂ්දේනිය" යන වචන, ස්ටාරවේර්ගේ යෝජනාවේ "ලිබරල් සහ ලිබරල්-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රවණතා" යන

---

ව්‍යාකූලයකි. මාර්තව් සහෝදරය, කිසිවෙක් සන්ධාන ගැන කියා නැත. තාවකාලික නැතිනම් අර්ධ එකඟතාවයන් ගැන පමණකි. මෙය සම්පූර්ණයෙන්ම වෙනස් දෙයකි. 2) ප්ලෙහානව්ගේ යෝජනාව විශ්වාස නොකළැකි "සන්ධානයක්" ගැන සඳහන් නොකරන්නේ නම්, පොදුවේ ආධාර ගැන පමණක් කියන්නේ නම්, එය යෝජනාවේ සුදුසුකමක් මිස නුසුදුසුකමක් නොවේ. 3) මර්ටීනව්ට ප්‍රවණතා කුමක්ද යන්න විස්තර කර දීමට මාර්තව් සහෝදරයා ඉදිරිපත් වන්නේ නම් එය යහපත් දෙයක් නොවේද? සමහර විට ඔහු අපට අවස්ථාවාදය සහ මෙම ප්‍රවණතා අතර ඇති සම්බන්ධකම් මොනවාදැයි විස්තර කරනු ඇති නොවේද? ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටසට මේ ප්‍රවණතාවයන්ගේ ඇති සම්බන්ධකම් මොනවාදැයි සමහර විට ඔහු කියනවා ඇති නේද? 4) නව "ඉස්ක්‍රාව" මගින් මර්ටීනව් ප්‍රවණතාවයන් ප්‍රකාශ වුණේ කෙසේදැයි මාර්තව් සහෝදරයාගෙන් විස්තර අසා දැනගැනීමට මම ඉමහත් ආශාවකින් පසුවෙමි. මාර්තව් සහෝදරය, කරුණාකර මා බලාපොරොත්තුව සිටීම නැමැති මේ වධබන්ධනයෙන් මුදවා ලන්න.



වචනවලට වඩා කම්කරුවන්ට කීපවාරයක් වැඩියෙන් වටිනා විය හැකිය.

"අස්වබෂ්දේනිය" හැරුණු විට, අපේ ලිබරල්වාදයේ දේශපාලන ප්‍රවණතාවයන් විවෘත ලෙස හා ප්‍රායෝගික ලෙස වත්මන් රුසියන් කම්කරුවාට දැනගැනීමට වෙනත් මාර්ගයක් නැත. නීත්‍යානුකූල ලිබරල් සාහිත්‍යයේ නොපැහැදිලිතාවය නිසා එය මේ කාර්‍යයට සුදුසු නැත. "අස්වබෂ්දේනිය" මහත්වරුන්ට විරුද්ධව සිය විවේචනාත්මක අවිය මෙහෙයැවීම සඳහා (කම්කරුවන්ගේ ඉතා පුළුල් කොටස් අතර) අප හැකිතරම් දුරට අනලස්ව ක්‍රියා කළ යුතුය. අනාගතයේදී විප්ලවයක් ඇතිවූ විට, එම විප්ලවයේ ප්‍රජාතන්ත්‍රවාදී ස්වරූපය සීමා කිරීමට "අස්වබෂ්දේනිය" මහත්වරුන්ගේ අනිවාර්ය ප්‍රයත්නය ක්‍රියා විරහිත කිරීම සඳහා අවි මගින් කෙරෙන සැබෑ විවේචනය රුසියානු නිර්ධන පංතියට ප්‍රයෝජනවත් වනු ඇත.

---

විරුද්ධ පක්ෂයේ විප්ලවවාදී ව්‍යාපාරයට අප "ආධාර කිරීම" පිළිබඳව ඉහත සටහන් ප්‍රශ්නය ගැන යෙගෝරව් සහෝදරයාගේ "විමතිය" හැරුණු විට, යෝජනා වටා ඇතිවූ විවාද එතරම් වැදගත් නොවීය, ඇත්ත වශයෙන්ම ඒවා වටා විවාදයන් ඇතිනොවූ තරම්ය.

---

සමුළුවේ සියලු තීරණවලින් පක්ෂයේ සියලු සාමාජිකයින් එකසේ අනිවාර්ය ලෙස බැඳී සිටින බවට, සමුළුවේ සභාපතිවරයාගේ කෙටි මතක් කිරීමෙන් අනතුරුව, පක්ෂ සමුළුව අවසන් විය.

## 14. සමුළුවේ අරගලය පිළිබඳ පොදු චිත්‍රය. පක්ෂයේ විප්ලවවාදී සහ අවස්ථාවාදී අංශ

පක්ෂ සමුළුවේ විවාද හා ඡන්දය විමසීම පිළිබඳ විශ්ලේෂණය අවසන් කොට, සමුළුවේ සියලු කරුණු සහ ලියවිලි පදනම් කරගෙන පහත සටහන් ප්‍රශ්නයට පිළිතුරු සැපයීම සඳහා සියලු ප්‍රතිඵල ගොනු කළ යුතුය: ඡන්ද විමසීමේදී අප දුටු, අප පක්ෂයේ ප්‍රධාන බෙදීම් හැටියට කලකට පවතින අවසාන බහුතරය සහ අල්පතරය ඇතිවීම සඳහා එකට එක්වුණු කොටස්, කණ්ඩායම් සහ අනු කොටස් මොනවාද? සමුළුවේ වාර්තා විසින් ඉතා බහුල වශයෙන් සපයාදෙන, මූලධර්ම, න්‍යායික උපාය මාර්ග වලට

සම්බන්ධ සියලු කරුණු පිළිබඳ සම්පිණ්ඩනයක් කළ යුතුය. පොදු සම්පිණ්ඩනයකින් තොරව, ඒකකයක් වශයෙන් සමුළුවේ පොදු චිත්‍රයකින් තොරව, චන්ද විමසීම්වලදී ඇතිවූ ප්‍රධාන කාණ්ඩ ගැසීම් වලින් තොරව, මෙම කරුණු ඉතා අසම්බන්ධිත, එකිනෙකට නොගැළපෙන, බැලූ බැල්මට එක් එක් කාණ්ඩ ගැසීම් අහම්බෙන් සිදුවූවක් ලෙස පෙනෙන, ඒවා ලෙස පෙනේ. සමුළුවේ වාර්තා ස්වාධීන සහ සම්පූර්ණ ලෙස අධ්‍යයන කිරීමට සෑහෙන පරිශ්‍රමයක් නොදරන කෙනෙකුට විශේෂයෙන්ම මෙය එලෙස පෙනෙනු ඇත (මෙවැනි පරිශ්‍රමයක් දරා ඇත්තේ කී දෙනෙකු විසින්ද?).

ඉංග්‍රීසි පාර්ලිමේන්තු වාර්තාවල අප නිතර division — බෙදීම නැමැති වචනය දකිමු. මන්ත්‍රණ සභාව බහුතරය සහ අල්පතරය හැටියට බෙදිණි. මෙසේ කියන්නේ කිසියම් ප්‍රශ්නයකට චන්දය දුන් ඉක්බිතිවය. සමුළුවේදී සාකච්ඡාවට භාජනය කරන ලද විවිධ ප්‍රශ්න පිළිබඳව, අපේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මන්ත්‍රණ සභාවේ "බෙදීම" සිය වර්ගය අනුව ඉතා විශේෂ සහ නිවැරදිතාවය හා සම්පූර්ණතාවය අනුව අසමසම, පක්ෂ අභ්‍යන්තර අරගලය පිළිබඳ චිත්‍රයක්ද, ඒවායේ විවිධ මත සහ කණ්ඩායම් පිළිබඳ චිත්‍රයක්ද ලබාදෙයි. මෙම චිත්‍රය වඩාත් පැහැදිලි ලෙස වටහා ගත හැකිවීම සඳහා, එකිනෙකට නොගැළපෙන, අසම්බන්ධිත කොන්වූ, වෙන්වූ සත්‍ය කරුණු සහ සිද්ධීන් වෙනුවට සැබෑ චිත්‍රයක් ඉදිරිපත් කිරීම සඳහා, එක් විශේෂ චන්ද විමසීමක් ගැන ඉමක් නැති සහ තේරුමක් නැති තර්ක ඉදිරිපත් කිරීම නැවැත්වීම සඳහා (කවුරුන් කාට චන්දය දුන්නේද, කවුරුන් කාට උදව් කළේද?) අප පක්ෂ සමුළුවේ ඇතිවූ මූලික බෙදීම්වල සියලු වර්ග පෙන්වන රේඛා චිත්‍රයක් ඇඳීමට තැත්කිරීමට මම තීරණය කළෙමි. මෙය බොහෝ දෙනෙක් පුදුමයක් ලෙස සළකනු ඇත්තාහ. ප්‍රතිඵල ඉතා සම්පූර්ණ ලෙසත්, හැකිතරම් නිවැරදි ලෙසත්, පොදු කොට පෙන්වීමට සහ සම්පිණ්ඩනය කිරීමට වෙනත් ක්‍රමයක් ඇත්දැයි මම සැක කරමි. නාම ලේඛණය අනුව, නම් අඬගැසීමකින් චන්දය විමසී නම් එක් එක් නියෝජිතයා චන්දය දුන් සැටි ස්ථිර ලෙස දැනගත හැකිය. සමහර අවස්ථාවලදී වැදගත් ප්‍රශ්නයකට චන්දය විමසීමේදී නම් අඬගැසීමක් නොකෙරුණද, වාර්තා අනුව ඒ ගැන සෑහෙන තරම් නිවැරදි නිගමනයක් කළ හැකිය. මෙය සෑහෙන තරම් සත්‍යයට ළඟාවීමටද ඉඩ ඇත්තේය. නාම ලේඛණ අනුව චන්ද විමසීම් සහ අනිකුත් වැදගත් (ඇතිවූ විවාදවල සම්පූර්ණතාවය සහ ඒවායේ උණුසුම්තාවය අනුව) සියලු ප්‍රශ්නවලදී චන්ද විමසීම් අනුව, අප ළඟ ඇති ලියවිලි, වාර්තා වලින් ඉඩ සලසා දෙන පරිදි අපේ පක්ෂයේ අභ්‍යන්තර අරගලය පිළිබඳව, ඉතා වාස්තවික චිත්‍රයක් අපට ලබාගත හැකිය. මෙසේ කිරීමේදී, ඡායාරූපයක්



වෙනුවට, එනම් එක් එක් චන්ද විමසීමක් වෙන වෙනම ඉදිරිපත් කරනවා වෙනුවට, අපි චිත්‍රයක් එනම්, කරුණු ව්‍යාකූල කිරීමට හේතු විය හැකි සාපේක්ෂ වශයෙන් නොවැදගත් කරුණු සහ ආන්තරයන් අමතක කර දමා, චන්ද විමසීම්වල සියලු ප්‍රධාන වර්ග ඉදිරිපත් කිරීමට උත්සාහ ගනිමු. කෙසේවුවද ඕනෑම කෙනෙකුට, පක්ෂ සමුළුවේ වාර්තා අනුව, අපේ චිත්‍රයේ ඕනෑම කොටසක් පිරික්සා බැලිය හැකි වන්නේය, කිසිවකුට තමන් කැමති චන්ද විමසීමක් විස්තර කළ හැකි වන්නේය. කෙටියෙන් කියතොත්, තර්ක කිරීමෙන්, සැක ප්‍රකාශ කිරීමෙන් සහ වෙන්වූ සිද්ධීන් පිළිබඳ ප්‍රකාශන කිරීම් මගින් පමණක් නොව, මේ කරුණු පදනම් කරගෙන වෙනත් චිත්‍රයක් ඇඳ පෙන්වීම මගින් විවේචනය කිරීමට පවා කෙනෙකුට පුළුවන.

## පක්ෂ සමුළුවේ අරගලය පිළිබඳ පොදු චිත්‍රය




කිසියම් ප්‍රශ්නයකට පක්ෂව සහ විරුද්ධව චන්දය දීම + සහ — ලකුණු-වලින් සටහන් කර ඇත. රේඛා චිත්‍රවලට යටින් ඇති අංක, කාණ්ඩ හතරෙන් ඒ ඒ කණ්ඩායම් දුන් චන්ද සංඛ්‍යාව පෙන්වා දෙයි. "A" සිට "E" දක්වා ඇති චන්ද විමසීම්වල ස්වරූපය පොතේ පාඨයෙන් විස්තර වේ.

කාණ්ඩවල නාමය
- බහුතරයේ ඉස්ක්‍රාවාදීන්
- අල්පතරයේ ඉස්ක්‍රාවාදීන්
- මධ්‍යස්ථ පිරිස
- ඉස්ක්‍රාවිරෝධීන්

චන්දය දීමට සහභාගිවූ හැම නියෝජිතයකුම රේඛා චිත්‍රයේ සටහන් කරමින්, මුළු මහත් සමුළුවේ විවාද මුළුල්ලේම අප විසින් වෙන්කොට හඳුනා ගන්නා ලද ප්‍රධාන කණ්ඩායම් හතර වෙන්, වෙන් සලකුනු වලින් සටහන් කරමු. එනම්: 1) බහුතරයේ ඉස්ක්‍රාවාදීන්; 2) අල්පතරයේ ඉස්ක්‍රාවාදීන්; 3) මධ්‍යස්ථ පිරිස; 4) ඉස්ක්‍රාවිරෝධීන්. බොහෝ නිදසුන් වලදී මේ කණ්ඩායම් අතර මූලධර්ම පිළිබඳ විවිධ මති මාත්‍ර වෙනස්කම් අපි දැක ඇත්තෙමු. කිසිවකු මේ කණ්ඩායම්වල නම්වලට අකැමැති නම්, ඉස්ක්‍රාවේ සංවිධානය ගැන සහ ඉස්ක්‍රාවේ ප්‍රවණතාවය ගැන වටවංගු ලෝලයින්ට එය බොහෝ දේ මතක් කරවන්නේ නම්, නම එතරම් වැදගත් කමක් නොදරන බව කීමට අපි කැමැත්තෙමු. සමුළුවේදී ඇතිවූ සියලු විවාද මගින් අප සියලු මති මාත්‍ර ගැන සොයාගෙන තිබෙන නිසා, දැනටමත් ස්ථිරවී තිබෙන සහ පුරුදුව තිබෙන පක්ෂ නාමයන් (මේවා සමහරුන්ට අමිහිරි ශ්‍රවණයක් ලබා දුන්නද) වෙනුවට, ඒ ඒ කණ්ඩායම් අතර මති මාත්‍ර වෙනස වෙන්කර පෙන්වන වෙනත් නම් යෙදිය හැකිය. මෙලෙස නම් වෙනස් කළ පසුව, එම කණ්ඩායම්වල නම් මෙසේ වන්නේය: 1) ස්ථිර විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්; 2) සුළු අවස්ථාවාදීන්; 3) මධ්‍යම ප්‍රමාණයේ අවස්ථාවාදීන්; 4) ලොකු අවස්ථාවාදීන් (මේ ලොකු කම අපේ රුසියන් ප්‍රමාණය අනුවය). ඉස්ක්‍රාවාදියාය යනු ''කවයක්'' මිස ප්‍රවණතාවයක් නොවේයැයි කියමින් තමාටත් අනික් අයටත් ඒත්තු ගැන්වීමට හදන පුද්ගලයින්ට මේ නම් වඩාත් අඩු විමතියක් ගෙනදෙතියි අපි විශ්වාස කරමු.

මේ රේඛා චිත්‍රයේ සටහන් කර තිබෙන චන්ද වර්ග අපි දැන් සවිස්තර ලෙස විස්තර කරමු (පක්ෂ සමුළුවේ අරගලය පිළිබඳ පොදු චිත්‍රය පෙන්වන රේඛා චිත්‍රය බලන්න).

පළමුවැනි චන්ද විමසීම් වර්ගය (A) ඉස්ක්‍රාවිරෝධීන්ට විරුද්ධව හෝ ඔවුන්ගෙන් කොටසකට විරුද්ධව මධ්‍යස්ථ පිරිස ඉස්ක්‍රාවාදීන් සමග එකතු වූ අවස්ථා පෙන්වයි. වැඩ පිළිවෙළ ඒකකයක් වශයෙන් ගෙන එයට චන්දය විමසීමද (අකීමව් සහෝදරයා මධ්‍යස්ථව සිටි අතර අන් සිය සියලු දෙනා එයට පක්ෂව චන්දය දුන්හ); ඒකාබද්ධ වීම මූලධර්ම වශයෙන් හෙළාදැකීමේ යෝජනාවට චන්දය විමසීමද (බුන්ඩ්වාදීන් පස්දෙනා හැරුණු විට අන් සියලු දෙනා එයට පක්ෂව චන්දය දුන්හ); බුන්ඩ් ව්‍යවස්ථා මාලාවේ දෙවැනි කොටසට චන්දය දීමද, (බුන්ඩ්වාදීන් පස්දෙනා අපට විරුද්ධව චන්දය දුන්හ. පස්දෙනෙක් මධ්‍යස්ථව සිටියහ. පස්දෙනෙක් එනම්, මර්ටිනව්, අකීමව්, බ්‍රූකර් සහ චන්ද දෙකක් ඇති මාහව්ද මධ්‍යස්ථව සිටියහ); A රේඛා චිත්‍රයේ නියෝජනය වී ඇත්තේ මේ චන්ද විමසීමය. තවදුරටත්, පක්ෂයේ ප්‍රධාන පුවත්පත හැටියට ඉස්ක්‍රාව සම්මත කිරීමේ ප්‍රශ්නයේදී ඇතිවූ චන්ද විමසීම් තුනද මේ වර්ගයට අයත්ය. කර්තෘවරු (චන්ද පහකි) මධ්‍යස්ථ වූහ, අවස්ථා තුනේදීම චන්ද දෙකක් (අකීමව් සහ බ්‍රූකර්) විරුද්ධව ලැබිණි. එයට අමතරව ඉස්ක්‍රාවට අනුමැතිය දීමේ චේතනා චන්දයට දැමීමේදී බුන්ඩ්වාදීන් පස්දෙනා සහ මර්ටිනව් චන්දය දීමෙන් වැළකුණහ.*

මෙවැනි වර්ගයේ චන්ද විමසීම් ඉතා ප්‍රයෝජනවත් මෙන්ම ඉතා වැදගත් ප්‍රශ්නයකට එනම්, සමුළුවේ මධ්‍යස්ථ පිරිස ඉස්ක්‍රාව සමග එක්වී චන්දය දුන්නේ කවදාද යන ප්‍රශ්නයට පිළිතුරු සපයනු ඇත. එක්කෝ ඉස්ක්‍රා විරෝධීන් පවා අප සමග එක්වූ විටදීය, විශේෂ සිද්ධීන් කීපයක් හැරුණු විට (වැඩ පිළිවෙළ පිළිගැනීම,චේතනා සඳහන් නොකර ඉස්ක්‍රාවට අනුමැතිය දීම), එසේත් නැතිනම් ස්ථිර දේශපාලන තත්ත්වයකට කෙළින්ම නොබැඳෙන ප්‍රකාශයක් වැනි ප්‍රශ්නයක් පැන නැඟි විටදීය (''ඉස්ක්‍රාවේ'' සංවිධාන වැඩ පිළිගැනීම, විශේෂ කණ්ඩායම් සම්බන්ධයෙන් එම පුවත්පතේ සංවිධානාත්මක ප්‍රතිපත්ති ක්‍රියාවේ යෙදවීම පිළිගැනීමක් නොවන්නේය. මාහව් සහෝදරයාගේ නිදසුනෙන් පෙනෙන පරිදි, ඒකාබද්ධවීම ප්‍රතික්ෂේප කිරීම, ඒකාබද්ධවීම පිළිබඳ නිශ්චිත කෙටුම්පතක් පිළිබඳ ප්‍රශ්නයේදී මධ්‍යස්ථව සිටීමට බාධාවක් නොවන්නේය). සමුළුවේදී පොදුවේ කාණ්ඩ ගැසීමේ වැදගත් කම ගැන කතා කරන විට, ''ඉස්ක්‍රාවේ'' නිල වාර්තාවේ මේ ගැන කොතරම් ව්‍යාජ ලෙස කතා කරන්නේද යන්න දැනටමත් අපි දැක ඇත්තෙමු. මෙය (මාර්තව් සහෝදරයාගේ මුවින්), ඉස්ක්‍රාවිරෝධීන් පවා අප සමග එක්වී චන්දය දුන් අවස්ථා පෙන්වමින් ඉස්ක්‍රාවාදීන් සහ මධ්‍යස්ථ පිරිස අතරද, ස්ථිර විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සහ අවස්ථාවාදීන් අතරද ඇති භේදය මකාදැමීමක් සහ තුනී කිරීමක් කරයි! වැඩ පිළිවෙළ සමස්තයක් වශයෙන් පිළිගැනීම වැනි කරුණුවලදී ජර්මන් සහ ප්‍රංශ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂවල අති දක්ෂිණාංශික අවස්ථාවාදීහු පවා විරුද්ධව චන්දය නොදෙති.

චන්ද විමසීම්වල දෙවැනි වර්ගය (B) ස්ථිර සහ අස්ථිර ඉස්කාවාදීන්

* බුන්ඩ් ව්‍යවස්ථාවේ දෙවැනි කොටස චන්දයට දැමීම රේඛා චිත්‍රයේ සටහන් කළේ කුමන හේතුවක් නිසාද? ''ඉස්ක්‍රා පුවත්පතට අනුමැතිය දීමේ මේ චන්දය එතරම් සම්පූර්ණ නැති අතර වැඩ පිළිවෙළ පිළිබඳව සහ සම්මේලනය පිළිබඳ ප්‍රශ්නය වඩාත් අඩු නියත සහ විශේෂ ලක්ෂණ ඇති දේශපාලන තීරණවලට අදාළ බැවිනි. පොදුවේ කියන්නේ නම්, එකම වර්ගයකට අයත් චන්ද විමසීම් සංඛ්‍යාවකින් එකක් හෝ තව එකක් තෝරා ගැනීම, අදාළ වෙනක් කිරීම් වලින් අනතුරුව, හැම කෙනෙකුටම ලෙහෙසියෙන් වටහාගත හැකි පරිදි, චිත්‍රයේ ප්‍රධාන ලක්ෂණවලට කොහෙත්ම බලපාන්නේ නැත.

ඉස්ක්‍රා විරෝධීන්ට සහ මුළු 'මධ්‍යස්ථ පිරිසට' විරුද්ධව ඡන්දය දුන් අවස්ථා පෙන්වයි. ඉස්ක්‍රාවේ ප්‍රතිපත්තියේ නියත සහ ස්ථිර සැලැස්ම ක්‍රියාවට යෙදවීමේද, එනම් වචනයෙන් පමණක් නොව, ක්‍රියාවෙන් ඉස්ක්‍රාවට අනුමැතිය දීමේද, අවස්ථා ප්‍රධාන වශයෙන් මෙයට අයත් වේ. එයට සංවිධාන කමිටුවේ සිද්ධිය*, බුන්ඩ්හි තත්ත්වය පිළිබඳ ප්‍රශ්නයට පක්ෂයේ න්‍යාය පත්‍රයේ පළමුවැනි ස්ථානය දීම, යූෂ්නි රබෝචි කණ්ඩායම විසුරුවා හැරීම, කෘෂක වැඩපිළිවෙළ පිළිබඳව ඡන්ද විමසීම් දෙකක්, හයවෙනුව සහ අවසාන වශයෙන්, විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංගමයට ("රබෝචිය දියල") විරුද්ධව ඡන්දය, එනම් විදේශගත එකම පක්ෂ සංවිධානය හැටියට ලීගය පිළිගැනීම අයත්වේ. මෙහිදී ප්‍රාග්-පාක්ෂික, කවවාදී හැඟීම්, මාක්ස්වාදයේ පටු සංකල්පය විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ඉතා ස්ථිර සහ මූලධර්ම සහිත ප්‍රතිපත්තිවලට විරුද්ධව සටන් කළේය. එවකට, අල්පතරයේ ඉස්ක්‍රාවාදීහු අවස්ථා කීපයකදීම, ඉතා වැදගත් ඡන්ද විමසීම් කීපයකදීම (සංවිධායක කමිටුවේ, යූෂ්නි රබෝචියේ, සහ "රබෝචිය දියල"හි මතය අනුව වැදගත්) අප සමග එක්වූහ... ඔවුන්ගේ කවවාදී හැඟීම් සහ ඔවුන්ගේ අස්ථිරතාවය ගැන ප්‍රශ්නය මතු වන තුරු මෙසේ විය. අපේ මූලධර්ම ප්‍රායෝගික ලෙස ක්‍රියාවට යෙදවීමේ ප්‍රශ්න කීපයකදීම සුවිත්‍රිත පැහැදිලිතාවයකින් මේ වර්ගයේ බෙදීම් පෙන්වා දෙයි, මධ්‍යස්ථ පිරිස අපට වඩා කුළුපග භාවයකින් ඉස්ක්‍රා විරෝධීන් සමග එකතුවිය. ප්‍රායෝගික වැඩකටයුතු වලදී ඔවුහු සමාජ-ප්‍රජාතන්වාදයේ විප්ලවවාදී අංශයට වඩා අවස්ථාවාදීන්ට හේත්තු වූහ. නමින් ඉස්ක්‍රාවාදීන් වූ නමුදු එහෙත් ඉස්ක්‍රාවාදීන් වීමට ලජ්ජා වූ අය සිය නියම ස්වරූපය හෙළි කළහ. නොවැළැ-

---

* B රේඛා චිත්‍රයේ සටහන් කර ඇත්තේ මේ ඡන්ද විමසීමය. ඉස්ක්‍රා යෝජනාවට ඡන්ද තිස් දෙකක්ද, බුන්ඩ් යෝජනාවට ඡන්ද දහසයක්ද ලැබිණි. මෙවැනි වර්ගයේ යෝජනාවලට නාම ලේඛණය අනුව ඡන්ද විමසීමක් නොකරන ලදී. එක් එක් නියෝජිතයකු ඡන්දය දුන් ආකාරය ස්ථිර කළ හැක්කේ — සෑහෙන තරම් දුරකට අනුමාන වශයෙන් — කාණ්ඩ දෙකක සාක්ෂ්‍ය අනුවය: 1) විවාදයේදී ඉස්ක්‍රාවාදීන්ගේ කණ්ඩායම් දෙකම පක්ෂවීම; ඉස්ක්‍රා විරෝධීන් සහ මධ්‍යස්ථ පිරිස විරුද්ධවීම. 2) පක්ෂව ලැබුණු ඡන්ද සංඛ්‍යාව නිතරම තිස්තුනකට ඉතා ආසන්න වීම, අවස්ථා කීපයකදීම "මධ්‍යස්ථ පිරිස" අපට විරුද්ධව, ඉස්ක්‍රා විරෝධීන්ට (අවස්ථාවාදීන්ට) පක්ෂව ක්‍රියාකොට තිබෙන බව, ඡන්දය දීමට පිටස්තරව, සමුළුවේ විවාද විශ්ලේෂණය කිරීමේදී අප පෙන්වා දුන් බව අමතක නොකළ යුතුය. ප්‍රජාතන්ත්‍රවාදී ඉල්ලීම්වල නිරපේක්ෂ වටිනාකම, විරුද්ධවාදී කොටස්වලට අප ආධාර කළ යුතුද, මධ්‍යගතවාදය සීමාකිරීම ආදී ප්‍රශ්න මීන් සමහරක් විය.



ක්විය හැකි සටන විසින් කටුක බවක් ඇති කළේය. මෙය එම අරගලයෙන් හෙළි වූ මූලධර්ම පිළිබඳ සියුම් වෙනස් කම් වල වැදගත් කම කල්පනාකාරීත්වයෙන් අඩු හා ඉක්මණින් හැඟීම් ඇවිස්සෙන අයට අවබෝධ නොවී තිබීමට හේතුවක් විය. දැන් අරගලයේ තාපය මඳක් බැසගිය ඉක්බිතිව, උණුසුම් සටන්වල අනුරාගික නොවන වාස්තවික හරය හැටියට වාර්තා පමණක් ඉතිරිවූ ඉක්බිතිව, මාහවිලා සහ යෙගෝරවිලා, අකීමවිලා සහ ලීබෙර්ලා සමග එකතුවීම අහම්බෙන් සිදු නොවූ බවත්, එය ආකස්මික ලෙස සිදු නොවිය හැකි බවත් නොපෙනෙන්නේ දෙනෙත් වුවමනාවෙන්ම වසාගත් අයට පමණකි. මාර්තව්ට සහ අක්සල්රොඩ්ට කළ හැකි එකම දෙයනම් වාර්තා සම්පූර්ණ ලෙසත්, ස්ථිර ලෙසත් විශ්ලේෂණය කිරීමෙන් වැළකී සිටීමය, නැතිනම් සමුළුවේදී ඔවුන්ගේ හැසිරීම ගැන නොයෙකුත් විධියේ කනගාටුව ප්‍රකාශ කිරීම් මගින්, දැනටමත් පමාවී ඇති අද දවසේදී හෝ, වරද නිවරද කිරීමය. කනගාටුව ප්‍රකාශ කිරීම මගින් මතභේද සහ ප්‍රතිපත්ති පිළිබඳ භේදයන් නැති කළ හැකිද! මුළු මහත් සමුළුව පැවති කාලය තුළදී ඉස්ක්‍රාවාදීන් විසින් ඉස්ක්‍රා විරෝධීන්ට විරුද්ධව ගෙනගිය අරගලය දෙවැනි සමුළුව විසින් පුනරුත්ථාපනය කරන ලද අප පක්ෂයට අමතක කරවීමට මාර්තව් සහ අක්සල්රොඩ්, අකීමව්, බ්රුකර් සහ මර්තිනව් සමග ඇතිකැරගෙන තිබෙන වර්තමාන සන්ධානය සමත් වෙතිද!

රේඛා චිත්‍රයේ ඉතිරි කොටස් තුන විසින් (C,D,E) සටහන් කර ඇති සමුළුවේ ඡන්ද විමසීම්වල තෙවැනි වර්ගයේ විශේෂ ලක්ෂණය නම්, ඉස්ක්‍රාවාදීන්ගෙන් කුඩා කොටසක්, කැඩී ගොස් ඉස්ක්‍රා විරෝධීන්ට එකතු වීමය. ඒ අනුව ඉස්ක්‍රා විරෝධීන් (සමුළුවේ රැඳී සිටින තුරු) ජයග්‍රහණය ලැබීය. ඉස්ක්‍රාවාදී අල්පතරය ඉස්ක්‍රාවිරෝධීන් සමග මෙලෙස සුප්‍රසිද්ධ සභාගය හුදෙක් මතක් කිරීමෙන් පමණක් මාර්තව් විසින් සමුළුවට මායාරෝගී ලෙස සන්දේශ එවූ හේතු වූ අතර, එය ඇති කැරගැනීමේ සිද්ධිය ගැන ඉතා නිවැරදි ලෙස සොයා බැලීම සඳහා, මෙම වර්ගයට අයත් නාම ලේඛන අනුව ඡන්දයදීමේ ප්‍රධාන වර්ග තුන අපි විසින් ඉදිරිපත් කර ඇත්තෙමු. C යනු භාෂා සමතාවය පිළිබඳ ඡන්ද විමසීමය. (ඉතාම සම්පූර්ණ ඡන්ද විමසීම හැටියට, නාම ලේඛනය අනුව පැවැත්වූ ඡන්ද විමසීම් තුනෙන් ගත් අවසාන එකය) ඉස්ක්‍රා විරෝධීන් සියලු දෙනාත් මුළු මධ්‍යස්ථ පිරිසත් අපට විරුද්ධව දැඩිලෙස නැගී සිටියහ. ඉස්ක්‍රාවාදීන් අතරින් කොටසක් බහුතරය හැටියටත් අනික් කොටස අල්පතරය හැටියටත් කැඩිණි. සමුළුවේ අවස්ථාවාදී දක්ෂිණාංශය සමග ස්ථිර සහ කල් පවත්නා සභාගයක් ඇති කර ගැනීමට සමත් වන්නේ ඉස්ක්‍රාවාදීන්ගෙන් කිනම් කොටසද යන්න තවමත් පැහැදිලි නැත.

ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටස පිළිබඳව ඡන්දය විමසීම D වර්ගයට අයත් වේ. (මේ ඡන්ද විමසීම් දෙකින් වඩාත් පැහැදිලි ඡන්ද විමසීම, එනම් මධ්‍යස්ථව ඡන්දය නොදුන් වාරය මේ සඳහා තෝරා ගත්තෙමු). සභාගය වඩාත් කැපී පෙනෙන අතර එය වඩාත් ස්ථිර හැඩයක් ගැනීමට පටන් ගෙන ඇත.* "ඉස්ක්‍රාවේ" අල්පතරයට අයත් හැම දෙනෙක්ම පාහේ දැන් අකීමව්ගේ සහ ලීබෙර්ගේ පැත්ත ගෙන සිටිති. එහෙත් ඒ ඉස්ක්‍රාවේ බහුතරයෙන් ඉතා සුළු කොටසකි. අප පැත්ත ගත් මධ්‍යස්ථ තිදෙනාගේ සහ ඉස්ක්‍රා විරෝධියාගේ බලපෑම මෙයින් සම බර කර තිබේ. අනියම් ලෙස සහ තාවකාලිකව පැති මාරු කරන්නේ කිනම් කොටස්ද, අකීමව්ලා සමග ස්ථිර සභාගයන් සඳහා ඉමහත් බලයකින් යුතුව ඉදිරියට ගියේ කවුද දැනගැනීමට රේඛා චිත්‍රය දෙස බැලීම පමණක් ප්‍රමාණවත්ය. බහුතරය සහ අල්පතරය හැටියට අවසාන වශයෙන් බෙදුණු අවසාන ඡන්ද විමසීම (E — ප්‍රධාන පුවත්පතට, මධ්‍යම කාරක සභාවට සහ පක්ෂයේ මණ්ඩලයට නියෝජිතයින් තෝරාපත් කිරීම), මුළු මහත් මධ්‍යස්ථ පිරිස සහ ඉස්ක්‍රා විරෝධීන්ගේ නටබුන් සමග ඉස්ක්‍රාවාදීන්ගේ අල්පතරය සම්පූර්ණ ලෙස ඒකාබද්ධ වීම පැහැදිලි ලෙස පෙන්වා දෙයි. මේ වන විට, ඉස්ක්‍රා විරෝධීන් අටදෙනාගෙන් ඉතිරිව සිටියේ බ්රූකර් සහෝදරයා පමණකි. (අකීමව් සහෝදරයා ඔහුට ඔහුගේ වරද විස්තර කර දුන් අතර ඔහු (බ්රූකර්) මාර්තව්වාදීන් අතර ඔහුට අයත් නියම ස්ථානය ගත්තේය). අවස්ථාවාදීන්ගෙන් අති "දක්ෂිණාංශයේ" හත්දෙනා සමුළුවෙන් පිටවී ගියෙන් තෝරාපත් කිරීම් පිළිබඳ ප්‍රශ්නය විසඳන ලද්දේ මාර්තව්ට විරුද්ධවය.**

* සියලු කරුණු අනුව, ව්‍යවස්ථා මාලාව පිළිබඳ ඡන්ද විමසීම් හතර එකම වර්ගයකට අයත්ය. 278 පිටුව, 27 දෙනෙක් ෆොමීන්ට පක්ෂව. 21 අපට පක්ෂව. 279 පිටුව, මාර්තව්ට පක්ෂව 26 ක්. අපට පක්ෂව 24 ක්. 280 පිටුව, මට විරුද්ධව 27 යි, පක්ෂව 22 යි. එම පිටුවේම මාර්තව්ට පක්ෂව 24, අපට පක්ෂව 23 යි. මවිසින් විස්තර කරන ලද මධ්‍යම මණ්ඩවලට සාමාජිකයින් එකතු කර ගැනීම පිළිබඳව ඡන්දය දෙන ලද සැටි එසේය. නාම ලේඛනය අනුව එක් වරක් ඡන්දය දෙන ලදී (මෙය වාර්තා කළද, එම වාර්තාව නැතිවෙලාය). පෙනෙන හැටියට බුන්ඩ්වරු (සම්පූර්ණයෙන් හෝ අර්ධ වශයෙන්) මාර්තව් බේරා ගත්හ. මේ ඡන්ද විමසීම් පිළිබඳව මාර්තව්ගේ සාවද්‍ය ප්‍රකාශන (ලීගයේදී කරන ලද) ඉහත සටහන් ලෙස නිරවද්‍ය කර ඇත.

** දෙවැනි සමුළුවෙන් ඉවත ගිය අවස්ථාවාදීන් හත්දෙනා නම්, බුන්ඩ්වාදීන් පස්දෙනා සහ (ඒකාබද්ධවීමේ මූලධර්මය දෙවැනි සමුළුව ප්‍රතික්ෂේප කිරීමෙන් ඉක්බිතිව බුන්ඩ් සමුළුවෙන් පිටවිය) "රබෝචිය දියල" සංවිධානයේ සහෝදරවරුන් වන මර්තිනව් සහ අකීමව්ය. ඉස්ක්‍රාවාදී ලීගය පිටරටවල එකම පක්ෂ සංවිධානය ලෙස පිළිගැනීමෙන් අනතුරුව, එනම් "රබෝචිය දියල" විදේශීය රටවල සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානය විසුරුවා හැරීමෙන් අනතුරුව අකීමව් සමුළුවෙන් පිට විය (1907 දී සංස්කරණයට කර්තෘගේ සටහනකි).



දැන් සියලු වර්ගවලට අයත් ඡන්ද විමසීම්වල ආධාරය ඇතිව සමුළුවේ ප්‍රතිඵල සම්පිණ්ඩනය කර බලමු.

අප සමුළුවේ බහුතරය අහම්බෙන් ඇතිවූ දෙයක් ලෙස බොහෝ දෙනා කතා කරන තත්ත්වයක් ඇති විය. සිය, 'අල්පතරය ගැන නැවත වරක්' නැමැති කෘතිය මගින් මාර්තව් සහෝදරයා සිත සනසා ගත්තේද මේ එකම හේතුව හුවා දක්වමිනි. බහුතරය ආකස්මිකයක් ලෙස පෙන්වාදිය හැක්කේ එකම එක හේතුවක් අනුව, එනම් "දක්ෂිණාංශයේ" ඉතාම අවස්ථාවාදී නියෝජිතයින් හත්දෙනා සමුළුවෙන් ඉවත්ව යාම අහම්බෙන් සිදුවූ දෙයක් ලෙස සැලකීමෙන් පමණක්ය යන හේතුව අනුව බව රේඛා චිත්‍රය පැහැදිලි කරයි. සමුළුවෙන් පිටවීයාම අහම්බෙන් සිදුවූ තාක් දුරට, අපේ බහුතරයද අහම්බෙන් සිදුවූවකි (එයට වඩා වැඩියෙන් නොවේ). මේ හත්දෙනා කාගේ පැත්ත ගනිත්ද, කිනම් පැත්තක් ගැනීමට බැඳී සිටිත්ද*** යන්න ඕනෑම දීර්ඝ තර්කයකට වඩා හොඳට අපේ රේඛා චිත්‍රය පෙන්වා දෙයි. එහෙත් මේ හත්දෙනාගේ ඉල්ලා අස්වීම කොතරම් දුරට අහම්බෙන් සිදුවූ දෙයක්ද? යන්න ප්‍රශ්නයකි. බහුතරයේ ආකස්මික ස්වරූපය ගැන බොහෝ නිදහස් ලෙස කතා කරන උදවිය තමන්ගෙන්ම මේ ගැන ඇසීමට නොකැමති වන ප්‍රශ්නයකි. ඔවුනට නම් මෙය අප්‍රියජනක ප්‍රශ්නයකි. අප පක්ෂයේ වාමාංශය නොව, අන්ත දක්ෂිණාංශය, එනම් අවස්ථාවාදීන් පිටවීයාම අහම්බෙන් සිදුවූ දෙයක්ද? "අහම්බෙන් සිදුවූ" මේ ඉල්ලා අස්වීම සහ අවස්ථාවාදී අංශයට විරුද්ධව, සමුළුව පැවැති කාලය තිස්සේ ගෙනගිය, අපේ රේඛා චිත්‍රයෙන් පැහැදිලිව පෙනෙන මෙම අරගලය අතර සම්බන්ධකමක් නැතිද?

බහුතරයේ ආකස්මිකය පිළිබඳව, කතාබහෙන් සඟවන්නට අදහස් කරන්නේ කුමක්ද යන්න විස්තර වශයෙන් දැනගැනීම සඳහා අල්පතරයට අප්‍රිය වී ඇති මේ ප්‍රශ්න ඉදිරිපත් කිරීම පමණක් සෑහේ. එය — අවස්ථා-වාදය දෙසට ඇදී ගිය අපේ පක්ෂයේ සාමාජිකයින් විසින් අල්පතරය බිහි කරන ලදැයි යන විවාද රහිත, සැකරහිත සත්‍යය වන්නේය. න්‍යායික වශයෙන් ඉතා අඩු ස්ථිරත්වයක් ඇති, මූලධර්ම පිළිබඳ කරුණුවලදී ඉතා අඩු ස්ථායිතාවයක් ඇති අප පක්ෂයේ කොටස්වලින් අල්පතරය සෑදී

*** අකීමව් සහෝදරයාට ඉතාම කිට්ටු වොරෝනෙෂ් කමිටුව සහ අකීමව් සහෝදරයා සමුළුවට අනතුරුව සිය හිතවත්භාවය අල්පතරයට ලැබෙන බව ස්ථිර ලෙස ප්‍රකාශ කර තිබෙන බව අපි පසුව දකිමු.

ඇත. පක්ෂයේ දක්ෂිණාංශයෙන් අල්පතරය සෑදී ඇත. බහුතරය සහ අල්පතරය හැටියට බෙදීම, විප්ලවවාදී සහ අවස්ථාවාදී අංශවලට බෙදීමේත්, කන්ද සහ ජිරෝන්ඩ[32] හැටියට බෙදීමේත් ඍජු සහ නොවැළැක්විය හැකි අවිච්ඡින්නය වන්නේය. මෙම බෙදීම අද-ඊයේ ඇතිවූවක් හෝ, රුසියානු කම්කරු පක්ෂයට පමණක් සීමාවූවක් හෝ නොවේ. එය හෙට වන විට අතුරු දහන් වන්නක්ද නොවන බව නිසැක ය.

අපේ මතභේදවලට හේතු සහ ඒවායේ විවිධ අවධි විස්තර කිරීම සඳහා මෙම සත්‍යය ප්‍රධාන වැදගත්කමක් දරයි. යම් කිසිවෙක් සමුළුවේ අරගලය සහ එම අරගලය විසින් හෙළිකරන ලද මූලධර්ම වෙනස්කම් නොපිළිගනිමින් හා නොතකා හරිමින් මෙම සත්‍යය ඉවතලයි නම් එය ඔහුගේ බුද්ධිමය හා දේශපාලනමය දුගීභාවයේ පූර්ණ සාක්ෂ්‍යයක් වන්නේය. මෙම සත්‍යය නිෂ්ප්‍රභ කිරීම සඳහා මෙවැනි කරුණු ඉදිරිපත් කළ යුතුය: ප්‍රථමයෙන්ම අප පක්ෂ සමුළුවේ චන්ද විමසීම් සහ 'බෙදීම්' පිළිබඳ පොදු චිත්‍රය මා ඉදිරිපත් කළ චිත්‍රයට වඩා වෙනස් බව පෙන්වා දිය යුතුය. දෙවනුව රුසියාව තුළ ඉස්ක්‍රාවාදීන්* ලෙස පෙනී සිටින වඩාත් ස්ථිර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වැරදි බවත්, සමුළුව චන්ද විමසීමෙන් තීරණය කළ ඒ සියලු ප්‍රශ්නවලදී ඔවුන් ප්‍රධාන වශයෙන් 'වැරදි වූ' බවත් පෙන්වා දිය යුතුය. මහත්වරුනි! එය එසේ බව පෙන්වීමට උත්සාහ ගනිල්ලා.

අල්පතරය සෑදී ඇත්තේ ඉතාම අවස්ථාවාදී, ඉතාම අඩු ස්ථිරතා-

---

* මාර්තව් සහෝදරයාගේ ප්‍රයෝජනය සඳහා සටහනකි. ඉස්ක්‍රාවාදියා යනු ප්‍රවණතාවයක් අනුගමනය කරන්නා මිස, කවයක සාමාජිකයෙක් නොවන බව මාර්තව් සහෝදරයාට අමතක වී තිබෙ නම්, මේ කරුණ ගැන ට්‍රොට්ස්කි සහෝදරයා විසින් අකීමව් සහෝදරයාට දුන් විස්තරය කියවන ලෙස අපි ඔහුට උපදෙස් දෙමු. පක්ෂ සමුළුවේදී ඉස්ක්‍රාවාදී කව තුනක් (පක්ෂයට ඇති සම්බන්ධකම් අනුව බලන විට) තිබිණි: ශ්‍රම විමුක්ති කණ්ඩායම, ඉස්ක්‍රාවේ කර්තෘ මණ්ඩලය සහ ඉස්ක්‍රා සංවිධානයය. මේ කවයන් තුනෙන් දෙකක්ම සිය කැමැත්තෙන්ම විසුරුවා හැරීමට තරම් නුවණැත්තෝ වූහ. තෙවැනි කවයට එතරම් පාක්ෂික හැඟීමක් නොතිබුණෙන්, පක්ෂ සමුළුවට එය විසුරුවා හැරීමට සිදුවිය. ඉස්ක්‍රා කවයන්ගෙන් පුළුල්තම ඉස්ක්‍රා සංවිධානයේ (මෙයට කර්තෘ මණ්ඩලය සහ ශ්‍රම විමුක්ති කණ්ඩායම අයත්ය) සාමාජිකයෝ දහසය දෙනෙක් සමුළුවට සහභාගී වූහ. මින් 11 දෙනෙකුට චන්ද බලය තිබිණි. එහෙත් අනිත් අතට ප්‍රවණතාවය අනුව මිස, කිසියම් "ඉස්ක්‍රා" සංවිධානයක සාමාජිකයින් නොවන ඉස්ක්‍රාවාදීන්ගේ නොවන අයගේ සංඛ්‍යාව, මගේ ගණන් හිලව් අනුව 27 කි. මේ අය සතු චන්ද සංඛ්‍යාව 33 ක් විය. ඒ අනුව සමුළුවට සහභාගී වූ ඉස්ක්‍රාවාදීන්ගෙන් කවවල සාමාජිකයින් වූවන්ගේ සංඛ්‍යාව හරි අඩකටත් වඩා අඩුවිය.



වයකින් සහ අචපලතාවයකින් යුත් කොටස්වලින්ය යන සත්‍යය, කරුණු ගැන සෑහෙන දැනීමක් නැති පුද්ගලයින් නැතිනම් ඒ ගැන සෑහෙන තරම් කල්පනා නොකළ පුද්ගලයින්. විසින් ඉදිරිපත් කරන විශාල සංඛ්‍යාවක් විරුද්ධවීම්වලට සහ සැක කිරීමේ ප්‍රකාශවලට පිළිතුරු සපයයි. මතභේදයට හේතු වශයෙන් මාර්තව් සහෝදරයා සහ අක්සල්රොඩ් සහෝදරයා විසින් කරන ලද ඉතා සුළු වරදක් පෙන්වීම අල්ප ක්‍රියාවක් නොවේද? එලෙස අපෙන් අසති. ඔව් මහත්වරුනි, මාර්තව් සහෝදරයාගේ වරද සුළු එකකි (අරගලයේ උණුසුම් අවස්ථාවකදී, සමුළුවේදී මම එලෙස කියුවෙමි). එහෙත් මේ සුළු වරදට විශාල හානියක් කළ හැකි විය (එය එලෙසම කළේය). මන්දයත්, පිට පිට වැරදි කීපයක්ම කළ, ප්‍රශ්න කීපයකදීම අවස්ථාවාදය වෙත නැඹුරු වූ, මූලධර්මවලදී චපල ගති පෙන්වූ නියෝජිතයින්ගේ ගොඩට මාර්තව් සහෝදරයාව ඇද ගැනීමට පුළුවන් වූ බැවිනි. පුද්ගලයින් පිළිබඳව නම්, මාර්තව් සහෝදරයා සහ අක්සල්රොඩ් සහෝදරයා විසින් අස්ථිරතාවයක් පෙන්වීම වැදගත් සිද්ධියක් නොවේ, කෙසේවුවද එය පෞද්ගලික කරුණක් නොවේ, එය පක්ෂයේ කරුණකි, ස්ථිර තාවය අතින් ඉතාම අඩු සියලු කොටස්වලින්ද, එක්කෝ "ඉස්ක්‍රාවේ" ප්‍රවණතාවය ප්‍රතික්ෂේප කළ නැතිනම්, එයට විවෘත ලෙස විරුද්ධ අයගෙන්ද, නැතිනම් ඉස්ක්‍රාවේ ප්‍රවණතාවයට වචනයෙන් පමණක් පක්ෂවී, වරින් වර ඉස්ක්‍රා විරෝධීන්ට පක්ෂපාත වුණු අයගෙන්ද සැදුම්ලත් සෑහෙන තරමක අල්පතරයක් ගොඩනැගීම එහෙම පිටින්ම නොවැදගත් සිද්ධියක් නොවේ.

මතභේදයට හේතු වශයෙන්, "ඉස්ක්‍රාවේ" පැරණි කර්තෘ මණ්ඩලයේ කුඩා කවයේ මුල් බැසගත් කවවාදී හැඟීම් සහ විප්ලවීය අවරසිකවාදය ඉදිරිපත් කිරීම හාස්‍ය ජනක නොවන්නේද? නැත. එය හාස්‍ය ජනක නොවේ, මන්දයත් මුළු මහත් සමුළුව පැවති කාලයේ නොයෙක් විධියේ කවයන් සඳහා සටන් කළ අයද, විප්ලවවාදී අවරසිකවාදයට වඩා ඉහළට නැගීමට පොදුවේ අසමත් වූ අයද, මෙම නපුර සාධාරණ බව පෙන්වීම **සඳහාත්**,එය ආරක්ෂා කිරීම සඳහාත් අවරසික සහ කවවාදී හැඟීමේ"ඓතිහාසික" ස්වරූපය ගැන කතා කළ සියලු දෙනාමද, මෙම විශේෂ කවයට පක්ෂපාතව නැගී සිටි බැවිනි.ඉස්ක්‍රා කර්තෘ මණ්ඩලයේ එක් කුඩා කවයක පක්ෂයේ වුවමනාවන්ට වඩා, ඉහළින් පටු කවවාදී වුවමනාවන් ඇතිවීම සමහර විට අහම්බෙන් සිදුවූවක් ලෙස සැලකිය හැකිය;එහෙත් මෙම කවයට පක්ෂව අකීමව්ලා සහ බ්‍රෑකර්ලා ඉතා දැඩි ලෙස නැගී සිටීම අහම්බෙන් සිදුවූවක් නොවේ. මේ පුද්ගලයෝ කීර්තිමත් වොරෝනෙෂ් කමිටුවේ සහ පිටර්ස්බර්ගයේ අපකීර්තිමත් "කම්කරු සංවිධානයේ"[33] ඓතිහාසික අවිච්ඡින්නයට නොඅඩු (නැතිනම් වඩාත් වැඩි) වටිනාකමක් එකතු

කළහ. පැරණි කර්තෘ මණ්ඩලය 'මරාදැමීම' නිසා දුක්වූ යෙගෝරව්ලා 'රබෝචිය දියල' කණ්ඩායම මරාදැමීම නිසා එතරම්ම (නැතිනම් ඊටත් වැඩියෙන්) දුක්වූහ. මාතව් සහ සෙසු සහෝදරවරුද එලෙසම නැඟී සිටියහ. 'ඔබේ මිතුරන් කවුරුන්දැයි මට කියන්න, එවිට ඔබ කවුදැයි මම ඔබට කියන්නම්' යනු පැරණි ආප්ත පදයකි. ඔබේ දේශපාලන හවුල් කරුවන් කවුරුන්දැයි මට කියන්න, ඔබට චන්දය දෙන්නේ කවුරුන්දැයි මට කියන්න, එවිට ඔබේ දේශපාලන මුහුණුවර මම ඔබට කියන්නම්.

මාර්තව් සහෝදරයා සහ අක්සල්රොඩ් සහෝදරයා විසින් කරන ලද සුළු වරද, ඔවුන් සහ අප පක්ෂයේ මුළු මහත් අවස්ථාවාදී අංශය අතර ශක්තිමත් සන්ධානයක් ආරම්භ වීමේ පුදුමාකාර මූලපිරීමක් වන තුරු, මෙම මිත්‍ර හවුලේ ප්‍රතිඵලයක් වශයෙන් අවස්ථාවාදයේ අභිනව ව්‍යාප්තියක් දක්වාත්, ඉස්ක්‍රාවේ සටන්වලට ලක්වූ සියලු පුද්ගලයින්ගේත්, විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ස්ථිර අනුගාමිකයින්ට සිතපුරා පහරදීමට ඉමහත් සතුටකින් ඉදිරිපත් වූවන්ගේත් පිළිගැනීමක් දක්වා මගපාදන තුරු එයට සුළු වරදක් ලෙස පැවතීමට ඉඩ තිබුණා විය හැකිය. පශ්චාත් සමුළුවේ සිද්ධීන්ගේ ප්‍රතිඵලයක් වශයෙන්, නව ඉස්ක්‍රාවේ අවස්ථාවාදයේ අභිනව ව්‍යාප්තියක්ද, අකීමව්ලාගේ සහ බ්‍රැකර්ලාගේ පිළිගැනීමක්ද (වොරෝනෙෂ් කමිටුව මගින් නිකුත් කරන ලද පත්‍රිකාව බලන්න), මර්තීනව්ලාගේ ඉමහත් සතුටක්ද අපි දකිමු. තමා විසින් වෛර කරන ලද ඉස්ක්‍රාවට අන්තිමේදී (අන්තිමේදී!) ඇතුළුවීමට මර්තීනව්ට ඉඩ ලැබිණි. සෑම පැරණි අමනාපයකටම වෛර කරන ලද "සතුරාට" පා පහරක් බැගින් දීමට දැන් ඔහුට අවස්ථාවක් ලැබී ඇත. ඉස්ක්‍රාවේ "අවිච්ඡින්නතාවය" ආරක්ෂා කිරීම සඳහා "ඉස්ක්‍රාවේ පැරණි කර්තෘ මණ්ඩලය පුනරුත්ථාපනය කිරීමේ" අවශ්‍යතාවය මෙය පැහැදිලි ලෙස පෙන්වා දී ඇත... (1903 නොවැම්බර් මස 3 ද ස්තරවේර් සහෝදරයාගේ අවසාන නිවේදනයෙන් අපි උපුටා දැක්වීමු).

සමුළුව (සහ පක්ෂය) වමාංශය සහ දක්ෂිණාංශය හැටියටත්, විප්ලවවාදී සහ අවස්ථාවාදී අංශ හැටියටත්, බෙදීම කරුණක් හැටියට ගත් විට එහි බියජනක, උග්‍ර හෝ අසාමාන්‍ය කිසිවක් නැත. අනිත් අතට, පසුගිය දශකය තුළදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ රුසියානු ඉතිහාසය (රුසියානු පමණක් නොවේ) එවැනි බෙදීමක් සඳහා නොවැළැක්විය හැකි ලෙසත්, ස්ථිර ලෙසත් ඉදිරියට ගොස් ඇත. දක්ෂිණාංශයේ (සාපේක්ෂ වශයෙන්) ඉතා නොවැදගත් මතභේදයන් කීපයක් (මතුපිටින් පමණක් නිරීක්ෂණය කරන්නාට සහ අවරසික බුද්ධියක් ඇත්තාට බලවත් පුදුමයක් සේ පෙනෙන) උඩ ඇතිවූ බෙදීම අප පක්ෂයට විශාල ඉදිරි පියවරක් සනිටුහන් කළේය. සමහර ප්‍රශ්නවලදී පක්ෂය දෙකට කැඩීයාමට



පවා තරම් වී යයි කිව හැකි ප්‍රධාන ප්‍රශ්නයන් උඩ කලින් අප අතර මතභේද ඇති විය. දැන් අපි ප්‍රධාන සහ වැදගත් කරුණු උඩ එකඟතාවයකට පැමිණ සිටිමු. අප විසින් තර්ක කළ හැකි සහ තර්ක කළ යුතු මතිමාත්‍ර ගැන පමණක් බෙදී සිටිමු. එහෙත් මේවා පදනම් කරගෙන වෙන්වීම හාස්‍යජනක මෙන්ම ළාමකද වන්නේය ('නොකළ යුත්තේ මොනවාද' යන ඉතා සිත්ගන්නා ලිපියක් මගින් ඉතා නිවැරදි ලෙස ප්ලෙහානව් සහෝදරයා පෙන්වා දුන් පරිදිය. අපි මෙය වෙත නැවත හැරී එමු). දැන්, පක්ෂ සමුළු-වෙන් ඉක්බිතිව අල්පතරයේ අරාජිකවාදී හැසිරීම නිසා, පක්ෂය භේදභින්න වීමට තරම් තත්ත්වයක් පැන නැග තිබියදී, සමහර බොරු පණ්ඩිතයින් මෙසේ කියනු ඇසේ: සංවිධායක කමිටුවේ සිද්ධිය, "යූෂ්නි රබෝචි" කණ්ඩායම හෝ "රබෝචිය දියල" විසුරුවා හැරීම, නැතිනම් රීති මාලාවේ පළමුවැනි කොටස, එසේත් නැතිනම් පැරණි කර්තෘ මණ්ඩලය විසුරුවා හැරීම ආදී නොවැදගත් ප්‍රශ්න ගැන සමුළුවේදී සටන් කිරීමට තරම් වටිනා කාර්යයන් වීද? මෙලෙස* තර්ක කරන අය පක්ෂ කටයුතුවලට කවචාදී මත ඇතුළු කරති. පක්ෂය තුළ මත පිළිබඳ සියුම් වෙනස්කම් ගැන අරගලයක් කිරීම, එය අරාජිකවාදයට සහ පක්ෂ භේදයකට තුඩු නොදී, සියලු සහෝදරවරුන්ගේ හා පක්ෂ සාමාජිකයින්ගේ පොදු මතය විසින් පිළිගත් සීමා තුළ එය පවතින තුරු, අත්‍යාවශ්‍යය; එමෙන්ම නොවැළැක්විය හැකිය. සමුළුවේදී පක්ෂයේ දක්ෂිණාංශයට විරුද්ධව, අකීමව් සහ අක්සල්රොඩ්ටද, මර්තීනව් සහ මාර්තව්ටද විරුද්ධව අප ගෙනගිය මෙම අරගලය, කොහෙත්ම එම සීමාවලින් ඔබ්බට ගොස්

---

* මේ ප්‍රශ්නයේදී, සමුළුවට සහභාගී වූ "මධ්‍යස්ථ" නියෝජිතයකු සමග මා කළ සාකච්ඡාවක් මට මතක් නොකර සිටිය නොහැක. "අප සමුළුවේ තත්ත්වය කොතරම් බරපතළද!" ඔහු මට දුක්ගැනවිල්ලක් ඉදිරිපත් කළේය. "එකිනෙකට විරුද්ධව කටුක සටන්, උද්ඝෝෂණ, මේ තියුණු මතභේද, සහෝදරාත්මක නොවන ආකල්ප!.." ඔහු පැවසීය. "අපේ පක්ෂ සමුළුව කෙතරම් අගනා දෙයක්ද!" මම ඔහුට පිළිතුරු වශයෙන් පැවසීමි. "නිදහස් හා විවෘත අරගලයකි. මත ප්‍රකාශ කර ඇත. විවිධ පැහැයයන් හෙළිදරවු වී තිබේ. කාණ්ඩ හැඩගැසී ඇත. අත් ඔසවා ඇත. තීරණයන් ගෙන තිබේ. එක් අවධියක් අපි පසුකළෙමු. ඉදිරියට යමු! මෙය මට වැටහේ. මෙය ජීවිතයයි! බුද්ධිමතුන් වැනි නුඹලාගේ වචන ඇද බාන ඉමක් නැති කතා මඩුවගේ නොවේ. මේ කතා මඩු නවතින්නේ ප්‍රශ්නයක් නිරාකරණය කරගත් නිසා නොව, දිගටම කතා කිරීමට තරම් ශක්තියක් නොමැතිව විඩා පත්වූ නිසායි..."

"මධ්‍යස්ථ" සහෝදරයා මා දෙස විමතියෙන් බලා දෙවුර සෙළවීය. අප දෙදෙනා විවිධ භාෂාවලින් කථා කර ඇත.

නැත. මෙය විතර්කයට ඉඩ නොතබා ඔප්පු කිරීම සඳහා කරුණු දෙකක් පමණක් ඉදිරිපත් කිරීම ප්‍රමාණවත්ය. 1) මර්තිනව් සහ අකිමව් සහෝදරවරුන් සමුළුවෙන් පිටවී යාමට සූදනම් වන විට, ''අපහාස කිරීම'' පිළිබඳ අදහසක් ඉවත ලනු පිණිස කළ හැකි හැම දෙයක්ම අපි කළෙමු. කරන ලද ප්‍රකාශන්ය සතුටුදයක ලෙස පිළිගෙන තම ඉල්ලීම් අස්කර ගන්නා ලෙස මෙම සහෝදරවරුන්ගෙන් ඉල්ලා සිටින ට්‍රොට්ස්කි සහෝදරයාගේ යෝජනාව අපි (චන්ද 32 කින්) සම්මත කළෙමු; 2) මධ්‍යම මණ්ඩලවලට නියෝජිතයින් තෝරාපත් කැරගැනීමේදී සමුළුවේ අල්පතරයට (නැතිනම් අවස්ථාවාදී අංශයට) මධ්‍යම මණ්ඩල දෙක තුළම අල්පතර සංඛ්‍යාවක් නියෝජිතයින් පත්කිරීමට අපි කැමති වුණෙමු: මාර්තව් ප්‍රධාන පුවත්පතටත්, පපෝව් මධ්‍යම කාරක සභාවටත් තෝරා ගැනීමට කැමති වීමු. පක්ෂයේ දෘෂ්ටි කෝණය අනුව වෙනත් විදිහකින් අපට ක්‍රියාකළ නොහැකිය. සමුළුවටත් පෙර සිටම තිදෙනෙකු බැගින් යුත් මණ්ඩල දෙකක් තෝරාපත් කිරීමට අප තීරණය කළ බැවිනි. සමුළුවේදී හෙළිවූ මති මාත්‍ර බරපතල නොවීනම්, මේවා අතර අරගලයෙන් අප විසින් එළඹිය යුතු ප්‍රායෝගික නිගමනයත් එමෙන්ම බරපතල නොවීය. එවිට නිගමනය මෙසේ වනු ඇත: මණ්ඩල දෙකේම ආසන තුනෙන් දෙකක් බැගින්, පක්ෂ සමුළුවේදී බහුතරයට ලබා දිය යුතුය.

පක්ෂ සමුළුවේ අල්පතරය, මධ්‍යම මණ්ඩලවලද අල්පතරය වීමට ප්‍රතික්ෂේප කිරීම නිසා, පළමුවෙන් පරාජයට පත් බුද්ධිමතුන්ගේ දුබල කෙඳිරිගෑමක් ඇතිවිය. ඉන් ඉක්බිතිව අරාජික වාග්පාය ඇදබැමක් සහ අරාජික ක්‍රියා ඇති විය.

අවසාන වශයෙන්, මධ්‍යම මණ්ඩලවල සංයුතිය පිළිබඳ දෘෂ්ටි කෝණය අනුව, අපි නැවත වරක් රේඛා චිත්‍රය දෙස බලමු. ස්වභාවයෙන්ම සියුම් වෙනස්කම් පිළිබඳ මේ ප්‍රශ්නයට අමතරව, නියෝජිතයින් තෝරාපත් කරන විට, එක් එක් අපේක්ෂකයකුගේ සුදුසුකම සහ දක්ෂතාවය ආදිය ගැනද නියෝජිතවරු සලකා බැලූහ. මේ ප්‍රශ්න දෙක මිශ්‍ර කිරීමට දූන් අල්පතරය ඕනෑකමින් ක්‍රියා කරයි. එහෙත් මේ ප්‍රශ්න දෙක එකිනෙකට වෙනස් බව පැහැදිලිව පෙනේ. මේ බව එක් සරල සත්‍යයකින් පෙනේ, එනම් ප්‍රධාන පුවත්පතට තිදෙනෙකුගෙන් යුත් මණ්ඩලයක් තෝරාපත් කිරීම; සමුළුවටත් පෙර සිටම, මාර්තව් සහ අක්සල්රොඩ් මර්තිනව් සහ අකිමව් සමග සන්ධානයක් ඇති කර ගැනීම ගැන කිසිවකු කල් ඇතිව දූකීමට නොහැකි අවධියක සැලැස්මානුගත කර තිබීමය. විවිධ ප්‍රශ්නවලට පිළිතුරු ලබාගත යුත්තේද විවිධාකාරයෙනි. මතයන්ගේ විවිධ සියුම් වෙනස්කම් පිළිබඳ ප්‍රශ්නයට පිළිතුරු ලබාගත යුත්තේ පක්ෂ සමුළුවේ



වාර්තාවෙනි, විවෘත සාකච්ඡාවෙන් සහ එක්, එක් ප්‍රශ්නයකට ලැබුණු චන්දයෙනි. පුද්ගලයින්ගේ සුදුසුකම පිළිබඳ ප්‍රශ්නයේදී එය රහස් චන්දයෙන් තීරණය කළ යුතු බව සමුළුවේ හැම දෙනෙක්ම තීරණය කළහ. මුළු මහත් සමුළුව ඒකමතිකව එවැනි තීරණයක් ගත්තේ කවර හේතුවක් නිසාද? මෙය කෙතරම් මූලික ප්‍රශ්නයක්ද යත් ඒ ගැන විස්තර කිරීම පවා නුහුරු කරුණක් වනු ඇත. එහෙත් අල්පතරය (චන්ද විමසීමේදී ලැබූ පරාජයෙන් අනතුරුව) මූලික කරුණු ගැන පවා අමතක කිරීමට පටන් ගෙන ඇත. පැරණි කර්තෘ මණ්ඩලය ආරක්ෂා කරමින්, උණුසුම්, හැඟීම් අවුසස්න සුලු, වගකීම් රහිත භාවයක් දක්වා වූ උණුසුමක් ඇති කරන කතා අපි ඇසීමු.හයදෙනෙකුගෙන් හෝ තිදෙනෙකුගෙන් යුත් කර්තෘ මණ්ඩලයක් වටා ඇති වූ අරගලයට සම්බන්ධ වෙනස්කම් පිළිබඳව අපි සමුළුවේදී කිසිදු කතාවක් නොඇසීමු. මධ්‍යම කාරක සභාවට තෝරාපත්වූ පුද්ගලයින්ගේ අක්‍රියාශීලීත්වය ගැනත්, නුසුදුසුකම් ගැනත්, නපුරු චේතනා ගැනත් හැම අතින්ම අපට කටකතා ඇසේ. එහෙත් මධ්‍යම කාරක සභාවේ වැඩි බලයක් ලබාගැනීම සඳහා සටන් කළ මත පිළිබඳ වෙනස්කම් ගැන අපට කිසිවක් කොහෙත්ම ඇසෙන්නේ නැත. පුද්ගලයින්ගේ ගුණයන් සහ ක්‍රියා ගැන සමුළුවෙන් පිටත කටකතා කීම නරක සහ නුසුදුසු ක්‍රියාවක් ලෙස මට හැඟෙයි (මන්දයත්, මේ ක්‍රියාවලින් සියයට අනූවක්ම සංවිධානාත්මක රහස් බැවින්, මේවා හෙළිකළ හැක්කේ පක්ෂයේ උත්තරීතර අධිකාරය ඉදිරියේ පමණක් බැවිනි). මෙවැනි කටකතා මගින් සමුළුවෙන් බාහිරව සටන් කිරීම මගේ මතයේ හැටියට අපවාද පැතිරවීමකි. මේ සියලු කතාවලට මවිසින් දිය හැකි ප්‍රසිද්ධ පිළිතුර පක්ෂ සමුළුවේදී හටගත් අරගලය පෙන්වා දීමය; අප මධ්‍යම කාරක සභාව තෝරාගත්තේ පටු බහුතර චන්ද සංඛ්‍යාවකිනියි ඔබ කියති. එය සත්‍යයකි. එහෙත් ඉස්ක්‍රාවේ සැළැස්මයන් ක්‍රියාවේ යෙදවීම සඳහා වචනයෙන් නොව ක්‍රියාවෙන් ස්ථිර ලෙස සටන් කළ පුද්ගලයින්ගෙන් මේ පටු බහුතරය සමන්විත වී ඇත. ඒ අනුව, මෙම බහුතරයේ අධ්‍යාත්මික ගෞරවය එහි බාහිර ගෞරවයට වඩා උසස් විය යුතුය. එක් ඉස්ක්‍රා කවයක අවිච්ඡින්නයට වඩා ඉහළින්, ඉස්ක්‍රා ප්‍රවණතාවයේ අවිච්ඡින්නය අගය කරන්නන් ඉදිරියේ එසේම නොමිණිය හැකිසේ උසස් විය. ඉස්ක්‍රා ප්‍රතිපත්තිය ක්‍රියාවට යෙදවිය හැකි ඉතාම සුදුසු පුද්ගලයින් කවුද යන්න තීරණය කරන්නේ කවුද? එම ප්‍රතිපත්තිය සඳහා සමුළුවේදී සටන් කළ පුද්ගලයින්ද, නැතිනම්, බොහෝ අවස්ථාවන්වලදී එයට විරුද්ධව සටන් කළ, නොදියුණු හැම දෙයක්ම ආරක්ෂා කළ, හැම වර්ගයකම කසල ගොඩවල්ද, හැම වර්ගයකම කවවාදී හැඟීම්ද ආරක්ෂා කළ පුද්ගලයින්ද?

## 15. සමුළුවෙන් ඉක්බිතිව. අරගලයේ විධි දෙකක්

අවසන් වූ සමුළුවේ විවාදවල සහ චන්ද විමසීම්වල විශ්ලේෂණය, සමුළුවෙන් ඉක්බිතිව, සිදුවූ හැම දෙයක්ම සැබවින්ම in nuce (කලල රූප වශයෙන්) විස්තර කරයි. අප පක්ෂයේ අර්බුදයේ ඊළඟ අවධි සටහන් කිරීමේදී අපට සංක්ෂිප්ත විස්තරයක් ඉදිරිපත් කළ හැකිය.

මාර්තව් සහ පපෝව් චන්ද විමසීමට සහභාගීවීම ප්‍රතික්ෂේප කිරීම, විවිධ පැහැයන් අතර පක්ෂ අරගලයට දබරකිරීමේ ස්වභවයක් ක්ෂණිකව එකතු කළේය. ග්ලේබව් සහෝදරයා, තෝරාපත් නොවූ කර්තෘවරුන් අකීමව් සහ මර්ටිනව් වෙතට යාමට බැරෑරුම් ලෙස තීරණය කිරීම විශ්වාස නොකළැකි දෙයක් ලෙස කල්පනා කරමින්, මේ සියලු දේට හේතු ස්නායු කිපීම බව පවසමින්, මේ කරුණ හැකිතරම් දුරට සාමකාමී ලෙස විසඳිය යුතු බවත්, මණ්ඩලය තුළ කතු මඩුල්ල නියම ලෙස නියෝජනය කිරීමේ කොන්දේසිය උඩ, හතර දෙනාම කතු මඬුල්ලට 'එකතු කර ගත යුතු' යැයි ප්ලෙහානව්ට සහ මට දන්වා සිටියේය (කර්තෘ මණ්ඩලයේ නියෝජිතයින් දෙදෙනෙකුගෙන් එක් කෙනෙක් පක්ෂ බහුතරයේ නියෝජිතයකු විය යුතුය). මේ කොන්දේසිය ප්ලෙහානව්ට සහ මට හේතු යුක්ති ලෙස පෙනිණි. මන්දයත්, එයින් සම්මේලනයේදී කළ වරදක් නිහඬව පිළිගැනීමක්ද, යුද්ධය වෙනුවට සාමය සඳහා අභිප්‍රායයක්ද අකීමව්ට, මර්ටිනව්ට, යෙගෝරව්ට සහ මාහව්ට වඩා ප්ලෙහානව්ට සහ මට ළංවීමට කැමැත්තක්ද දන්වා සිටි බැවිනි. එකතු කර ගැනීම පිළිබඳ වාසිදීම, පුද්ගලික වාසිදීම පිළිබඳ ප්‍රශ්නයක් විය. නොසන්සුන් ගතිය පහකොට, සාමය ගොඩනැඟීමට තත්ත්වයක් ඇතිවන බැවින් පෞද්ගලික වාසිදීමක් ප්‍රතික්ෂේප කිරීම නුවණට හරු නොවේ. ප්ලෙහානව් සහ මම කැමතිවීමු. එහෙත් කර්තෘ මණ්ඩලයේ බහුතරය මේ කොන්දේසිය ප්‍රතික්ෂේප කළේය. ග්ලේබව් පිටවිය. මීළඟට සිදුවන්නේ මොනවාදැයි අපි බලා සිටියෙමු: මාර්තව් (මධ්‍යස්ථ පිරිසේ නියෝජිතයා වන පපෝව් සහෝදරයාට විරුද්ධව) සමුළුවට ලැදිව ගත් පියවර අනුව ක්‍රියා කරන්නේද නැතිනම් භේදය ඇති කිරීම වෙත නැඹුරු වූ අස්ථිර, එසේම, ඔහු අනුගමනය කළ කොටස් බලවත් වන්නේද යන්න ගැන අපි විමසිලිමත්ව සිටියෙමු.

අප මුහුණ පෑ ප්‍රශ්නය මෙය විය: මාර්තව් සහෝදරයා සමුළුවේදී ඇති කරගත් ''සභාගය'' කොන්වූ දේශපාලන කරුණක් හැටියට නිගමනය කිරීමට කැමති වන්නේද (1895 දී ජෙපාල්මාර් සමග බෙබෙල් ඇතිකරගත් සහභාගය මෙන් — si licet parva componere magnis*) නැතිනම් ඔහු මේ සභාගය ශක්තිමත් කිරීමට කැමති වන්නේද, ඒ අනුව සමුළුවේදී වැරදි කළේ ප්ලෙහානව් සහ මා යැයි ඔප්පු කිරීමට වෑර දරන්නේද,එමෙන්ම ඔහු අප පක්ෂයේ අවස්ථාවාදී අංශයේ නායකයා වන්නේද? මේ ප්‍රශ්නය වෙනත් වචනවලින්ද ඉදිරිපත් කළ හැකිය: දබරයක්ද නැතිනම් දේශපාලන පක්ෂයක අරගලයක්ද? මධ්‍යම සංවිධානවලට තෝරාපත් වුණු සාමාජිකයින් අතුරෙන් සමුළුවට පසුදින ඉතිරි වූයේ තිදෙනෙකු පමණකි. පළමුවැනි තීරණයට වැඩි කැමැත්තක් දක්වූ ග්ලේබව් තරහවුණු ළමයින් සමාදන කිරීම් වස්, විශාල පරිශ්‍රමයක් දැරීය. දෙවැනි තීරණයට වැඩි කැමැත්තක් දක්වූ ප්ලෙහානව්, 'හිටියත් එකයි, ගියත් එකයි' කියන්නාක් මෙන් හැසුරුණේය. මේ අවස්ථාවේදී ''මධ්‍යස්ථ අය'' හෙවත් ''මඩගොහොරුව''හැටියට හැසුරුණු අයට මම කරුණු වටහාදී දිනා ගැනීමට උත්සාහ දැරීමි. කතා කිරීම මගින් කරුණු වටහාදීමට ගත් උත්සාහය දැන් මතකයට නගා ගැනීම ඉතා අසීරුය, එය බලාපොරොත්තු රහිත හිස් වැඩක් වනු ඇත. මාර්තව් සහෝදරයාගේ සහ ප්ලෙහානව් සහෝදරයාගේ අයහපත් ආදර්ශය අනුව ක්‍රියා නොකිරීමට මම ඉටාගතිමි. එහෙත් මවිසින්, අල්පතරයේ එක් ඉස්ක්‍රාවාදියකුට කරුණු වටහාදීමට උත්සාහ ගනිමින් යවන ලද ලිපියකින් සමහර කොටස් මෙහිදී උපුටා දැක්වීම අවශ්‍ය යැයි සිතමි:

''...කර්තෘ මණ්ඩලයේ සේවය කිරීමට මාර්තව් සහෝදරයා ප්‍රතික්ෂේප කිරීමද, ඔහු සහ අනිකුත් පාක්ෂික ලේඛකයින් සහයෝගිතාවය දීමට ප්‍රතික්ෂේප කිරීමද, මධ්‍යම කාරක සභාවේ සේවය කිරීමට කීප දෙනෙකුම ප්‍රතික්ෂේප කිරීමද, වර්ජනය කිරීම නැතිනම්, නිහඬ විරෝධිතාවයක් ගෙනයාම නිසා මාර්තව් සහ ඔහුගේ මිතුරන්ගේ මතයට විරුද්ධව වුවද පක්ෂය දෙකට කැඩෙනු නියතය. මාර්තව් සිය ලැදියාවට පක්ෂව නැඟී සිටියද (සමුළුවේදී ඔහු මෙම ප්‍රතිපත්තිය ඉතා දැඩිලෙස අනුගමනය කළේය), අනිත් අය එසේ නොකරනු ඇත. මා යට සඳහන් කළ ප්‍රතිඵලය නොවැළැක්විය හැකි වනු ඇත...

''මම මෙලෙස මගෙන්ම ප්‍රශ්න කර ගනිමි: අප ඇත්ත වශයෙන්ම වෙන්වී යන්නේ කවර හේතුවක් උඩද?.. සමුළුවේ ඇතිවූ සියලු සිද්ධීන් සහ හැඟීම් මම යළිත් සිහියට නගා ගනිමි. බියගත් නොසන්සුන් තාවයකින්, 'බොහෝ කලබල සහිතව' නිතර පාහේ හැසුරුණු බව මම පිළිගනිමි. මෙය වරදක් ලෙස ගිණිය හැකිනම්, එම වරද ඕනෑම කෙනෙකු ඉදිරියේ පිළිගැනීමට මා සූදනම්ය. එය එහි පැවැති වාතාවරණයේත්, ප්‍රතික්‍රියාවලත්, කතාබහවලත්, අරගල ආදියෙහිත් ස්වාභාවික ප්‍රතිඵලයකි. එහෙත් දැන් කලබලයෙන් තොරව මේ ගැන සලකා බලන විට, ලබාගත් ප්‍රතිඵලවලත්, වියරු අරගලවල ප්‍රතිඵලවලත්, පක්ෂයට හානිවන කිසිවක්

---

* — කුඩා දේ විශාල දේවලට සමාන කළ හැකි නම්. — සංස්කාරක

සොයා ගැනීමට මට නුපුළුවන. එමෙන්ම අල්පතරයට අමනාප විය හැකි හෝ ඔවුන් අපකීර්තියට භාජනය කරන කිසිවක් එහි කොහෙත්ම නැත.

''යම්කිසිවකු අල්පතරයට අයත්වීම අමනාපයට හේතුවක් වීම සත්‍යයකි. එහෙත් අප කිසිවකු 'අපහාසයට' භාජනය කළේය යන අදහසට විරුද්ධවත්, කිසිවකු නින්දවට සහ අපකීර්තියට පත් කිරීමට අප කැමති වී යයි යන අදහසට විරුද්ධවත් මම ඉතා දැඩි ලෙස නැඟී සිටිමි.එවැන්නක් කිසිසේත් සිදු වූයේ නැත. දේශපාලනමය යතභේදයන් නිසා, එකිනෙකාට විරුද්ධව දූෂ්ටකම්, වංචාවන්, කුමන්ත්‍රණ පිළිබඳ චෝදනා එල්ල කරමින් සිද්ධීන් විස්තර කිරීමට ඉඩ නොදිය යුතුය. භේදයක් ඇතිවීමේ අවදානම වැඩෙමින් පවතින මේ මොහොතේදී මෙවැනි චෝදනා සහ වෙනත් ලස්සන කතා අපට වඩාත් වැඩියෙන් ඇසෙන්නට පටන්ගෙන ඇත. මෙවැනි දේවලට ඉඩ නොතැබිය යුතුය. මන්දයත් එය අවමය වශයෙන් කියතොත් nec plus ultra* අතාර්කික ය.

''මාර්තව් සහ මාත් අතර දේශපාලන (සහ සංවිධානාත්මක) මත භේදයක් හටගෙන ඇත. මීට පෙරද අප දෙදෙනා අතර මෙවැනි මතභේද කීපවාරයක්ම ඇතිවිය. ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටසේදී පරාජයට පත්වූ මා, මට (සහ පක්ෂ සමුළුවට) ඉතිරිවූ දේ ආරක්ෂා කිරීම සඳහා දැඩි අධිෂ්ඨානයකින් සටන් කිරීමට සිදුවිය. එක් අතකින්, ඉතා දැඩි ඉස්ක්‍රාවාදී මධ්‍යම කාරක සභාවක් සඳහාත්, අනිත් අතින් කර්තෘ මණ්ඩලයට තුන්දෙනෙකු පත්කිරීම සඳහාත් සටන් නොකර සිටීමට මට බැරිවිය... කළ පව්වලට සමාවදීම සහ මන්දෝත්සාහිත්වය මත පදනම් කරගත් මණ්ඩලයක් වෙනුවට, තුන්දෙනෙකුගේ මණ්ඩලයට පමණක් නිල ආයතනයක් විය හැකි බව මම විශ්වාස කරමි. එකම සැබෑ මධ්‍යස්ථානය වන මෙහි සෑම සාමාජිකයකුම පක්ෂයේ මතය ප්‍රකාශ කොට එය ආරක්ෂා කරනු ඇත. මෙයට බීදකුදු වැඩියෙන් නොවේ. එසේ කළ යුත්තේ සියලු පෞද්ගලික හේතූන් සහ අමනාපවීම්ද, ඉල්ලා අස්වීම් ආදිය ගැනද නොබියව හා නොතකමිනි.

''සමුළුවේදී ඇතිවූ සිද්ධීන්වලට අනතුරුව, මෙම තිදෙනාගේ මණ්ඩලය යනු එක් අතකින් දේශපාලන සහ සංවිධානාත්මක ප්‍රතිපත්තියක් නිසැක ලෙසම නීත්‍යානුකූල කිරීමක් විය. අනිත් අතින්, එය මාර්ටව්ට විරුද්ධව එල්ල කරන ලද්දක් විය. නිසැකලෙසම එසේය. ඒ නිසා භේදයක් ඇති කළ යුතුද? ඒ නිසා පක්ෂය භේද කර දැමිය යුතුද?? පෙළපාලි පිළිබඳ ප්‍රශ්නයේදී මාර්තව් සහ ප්ලෙහානව් මට විරුද්ධ නොවූවෝද?

* — උච්ච අවස්ථාව දක්වා. — සංස්කාරක



වැඩ පිළිවෙළ පිළිබඳ ප්‍රශ්නයේදී මාර්තව් සහ මා ප්ලෙහානව්ට විරුද්ධ නොවූවෝද? ත්‍රික්වයක දෙදෙනෙකුට නිතරම විරුද්ධ වන්නේ එක් පැත්තක් නොවේද? ඉස්ක්‍රාවාදීන්ගේ බහුතරය, ''ඉස්ක්‍රා'' සංවිධානයේදී සහ සමුළුවේදී මාර්ටගේ විශේෂ මතය සංවිධානාත්මක සහ දේශපාලනමය වශයෙන් සාවද්‍ය බව පිළිගත්තේ නම්, එය රහස් කුමන්ත්‍රණ, උසිගැන්වීම් ආදිය නිසා සිදුවීයැයි පෙන්වා සිටීමට දරන ප්‍රයත්නය විස්සු විකාරයක් නොවන්නේද? මේ සත්‍යය වසන් කිරීම සඳහා බහුතරයට බැණ වැදීම සහ එය ''වැඩකට නැතියවුන්'' ලෙස හැඳින්වීම පිස්සු විකාරයක් නොවන්නේද?

''මම යළිත් මෙසේ පවසමි: සමුළුවේ ඉස්ක්‍රාවාදීන්ගේ බහුතරය මෙන්ම මමද, මාර්තව් ගත් ප්‍රතිපත්තිය වැරදි බවත්, ඔහු නිවැරදි කළ යුතු බවත් තරයේ විශ්වාස කරමි. මෙම නිවැරදි කිරීම නිසා අමනාපවීමද, එය අපකීර්තියක් ලෙස සැලකීමද ආදිය හේතු යුක්ත නොවේ.අපි කිසිකෙනෙකු අපකීර්තියට භාජනය නොකළෙමු, නොකරන්නෙමු. වැඩවලින් කිසිවකු වැලැක්වීමටද අපි ක්‍රියා නොකරමු. යම් කිසිවකු මධ්‍යම මණ්ඩලයට තෝරානොගත් හේතුව නිසා පක්ෂය භේද කිරීමට ක්‍රියා කිරීම සිතා ගැනීමට පවා බැරි අනුවණ ක්‍රියාවක් සේ පෙනේ.''*

මගේ ලිඛිත ප්‍රකාශනයන් ගැන මතක් කිරීම අවශ්‍ය බව මම දැන් කල්පනා කළෙමි. මන්දයත් විය හැකි (උණුසුම් අරගලයක්දී නොවැලැක්විය හැකි) පෞද්ගලික දුක් ගැනවිලි සහ තියුණු ''උමතු'' පහරදීම්වලදී සිදුවිය හැකි පෞද්ගලික කුපිතවීම් අතර ස්ථිර සීමාවක් ඇති කිරීමට බහුතරයට වුවමනා වූ බව එක් අතකින් ඒවා නියත ලෙසම පෙන්වාදෙන බැවිනි. අනිත් අතින්, එය නියත දේශපාලන වරදක්, නියත දේශපාලන ප්‍රතිපත්තියක් (දක්ෂිණාංශය සමග සභාගය) පෙන්වා දෙන බැවිනි.

පක්ෂ සමුළුවෙන් ඉක්බිතිව අල්පතරය ක්ෂණිකව නිහඬ විරෝධය පටන්ගත් බව සහ මෙය පක්ෂය භේද කිරීම සඳහා ඉදිරියට ගත් පියවරක්

* මෙම ලියුම 1903 අගෝස්තු 31 (සැප්. 13) ලියන ලද්දකි. (වී. අයි. ලෙනින්. කෘතීන් එකතුව, පස්වැනි රුසියානු මුද්‍රණය, 46 වෙළුම, පිටු 297—300; නැතිනම් 4 වැනි රුසියානු මුද්‍රණය, 34 වෙළුම, 137—139 පිටු බලන්න. — සංස්කාරක). එම ලියුමෙන් මෙම ප්‍රශ්නයට අදාළ නොවන කොටස් පමණක් අතහැර දැමීමි. ලියුම ලබන්නා වැදගත් කිසිවක් අමතක කර ඇතැයි සිතන්නේ නම්, ඔහුට එම අඩුව ලෙහෙසියෙන් පිරිමසා ගත හැකිය. මගේ පෞද්ගලික ලියුම්වලින් ප්‍රයෝජනයක් ඇති වෙතියි මගේ විරුද්ධවාදීන් සිතන්නේ නම්, ඔවුනට ඒවා ප්‍රසිද්ධ කළ හැකි බව දන්වා සිටීමට මම මෙය අවස්ථාවක් කර ගනිමි.

බව අප විසින් අනතුරු හඟවන ලද බව ද මෙම ප්‍රකාශවලින් ඔප්පු වේ. එසේම මෙය සමුළුවේදී කරන ලද ලැදිකම පිළිබඳ ප්‍රකාශනයන්ට හාත්පසින්ම විරුද්ධ වන බවත්, පක්ෂයේ භේදවීම ඇතිවන්නේ හුදෙක්ම මධ්‍යම ආයතනවලට තෝරා නොගැනීම නිසා (එනම් ඔවුන් තෝරා නොගැනීම) බවත් පෙන්වන අනතුරු හැඟවීම් අපි කළෙමු. මන්දයත්, කිසිම පක්ෂ සාමාජිකයකු පක්ෂයේ වැඩවලින් ඉවත්කර තැබීමට කිසිවෙක් කල්පනා නොකළ බැවිනි. අපේ දේශපාලන මතභේදයන් (සමුළුවේදී වැරදි ප්‍රතිපත්තියක් අනුගමනය කළේ මාර්තව්ද නැතිනම් අපද යන්න තවමත් පැහැදිලි කර නැති බැවින් සහ තීරණය කර නැති බැවින්, මෙය නොවැළැක්විය හැකිය). දබරයක් දක්වා වඩාත් විකෘති කොට, ඊට බැණ වැදීම්, සැක කිරීම් ආදි දේ එයට එකතු කර ඇති බවද පෙන්වා දුන්නෙමු.

එහෙත් අපේ අනතුරු ඇඟවීම් ඵල රහිත විය. අල්පතරයේ ඉතා අස්ථිර, පක්ෂය ඉතා අඩුවෙන් අගය කරන පුද්ගලයින්, එය තුළ වැඩි බලයක් ලබාගනිමින් සිටින බව අල්පතරයේ හැසිරීම විසින් පෙන්වා දෙන ලදී. මේ හේතුන් නිසා ප්ලෙහානව් සහ මා මුලදී ග්ලෙබව්ගේ යෝජනාවට පක්ෂවූවද පසුව අපි එය ඉල්ලා අස්කර ගත්තෙමු. ඇත්ත වශයෙන්ම, අල්පතරය සිය දේශපාලනමය අස්ථිරත්ව ප්‍රකාශ කරන්නේ මූලධර්මය සම්බන්ධයෙන් පමණක් නොවේ මූලික පාක්ෂික ලැදිකම සම්බන්ධයෙන්ද එම අස්ථිරත්වය ප්‍රකාශ කරයි. එසේ වූ කල සුප්‍රසිද්ධ ''අවිච්ඡින්නතාවය'' පිළිබඳ ඔවුන්ගේ කතා අගය කළ හැක්කේ කෙසේද? අලුත් සහ වැඩිවන මතභේදයන් එළිපිටම ප්‍රකාශ කරන පුද්ගලයින් වැඩිදෙනෙකු පක්ෂයේ කර්තෘ මණ්ඩලයට ''සම්බන්ධ කර ගන්නා'' ලෙසට කරන ඉල්ලීමේ හාස්‍යජනකභාවය ප්ලෙහානව් තරම් අන් කිසිවෙක් විසින් දැඩි උපහාසයට භාජනය නොකරන ලදී! සිය අදහස් හා මතභේදයන් පුවත්පත් මගින් පක්ෂය ඉදිරිපිට ප්‍රසිද්ධියේ සාකච්ඡා නොකර, පක්ෂයක බහුතරයක් මධ්‍යම ආයතන තුළ ස්වේච්ඡානුගතව අල්පතරය දක්වා අඩුකරගත් අවස්ථාවක් ලෝකයේ කොතැනකවත් වීද? පළමුවෙන්ම සිය මතභේදයන් ප්‍රකාශ කළාවේ, මේ මතභේද කෙතරම් ගැඹුරුද, වැදගත්ද යන්න පක්ෂය තීරණය කළාවේ, එක් හෝ තවත් වරදක් කර තිබෙන බව ඔප්පු වූවොත්, දෙවැනි සමුළුවේදී, කරන ලද එවැනි වරදවල් පක්ෂය නිවැරදි කළාවේ! තවමත් අප්‍රසිද්ධ මතභේදයන් ඇතැයි යන්න පදනම් කර ගනිමින්, එවැනි ඉල්ලීමක් ඉදිරිපත් කිරීම, එය ඉදිරිපත් කළවුන්ගේ උපරිමය අස්ථිරතාවයත්, දේශපාලන මතභේදයන් දබරවල ගිල්වා දැමීමත්, සමස්තයක් වශයෙන් පක්ෂයටත්, තමාගේම දේශපාලන හැඟීම්වලටත් සම්පූර්ණයෙන් නිගරු කිරීමත් පැහැදිලිව පෙන්වා දෙයි. තමන්ගේ මතය කරා ගෙන ඒමට අදහස් කරනු ලබන ආයතනවල



බහුතරය (පෞද්ගලිකව) දිනාගැනීමට පෙර අනිත් අයට කරුණු ඒත්තු ගැන්වීම ප්‍රතික්ෂේප කරන, සිය මූලධර්ම ගැන දැඩි විශ්වාසයක් ඇති මිනිසුන් මීට පෙර සිටියේ නැත, ඉදිරියටද එසේම නොසිටිනු ඇත.

මෙම විකට තත්ත්වය කෙළවරක් කිරීම සඳහා තමා අවසාන ප්‍රයත්නයක් දරන බව, ප්ලෙහානව් සහෝදරයා ඔක්තෝබර් 4 ද ප්‍රකාශයක් කළේය. පැරණි කර්තෘ මණ්ඩලයේ සාමාජිකයින් හයදෙනාද මධ්‍යම කාරක සභාවේ අළුත් සාමාජිකයෙක්ද* මේ රැස්වීමට සහභාගි වූහ. අල්පතරයෙන් හතරදෙනෙකුද, බහුතරයෙන් දෙදෙනෙකුද 'තෝරාපත් කර ගැනීම' පිළිබඳ යෝජනාව කොතරම් හේතු රහිතද යන්න පෙන්වාදීම සඳහා ප්ලෙහානව් සහෝදරයා පැය තුනක්ම ගත කළේය. ඔහු අල්පතරයෙන් දෙදෙනෙකු එකතු කර ගැනීමට යෝජනාවක් ඉදිරිපත් කළේ එක් අතකින්, අප කිසිවකු ''බිය ගැන්වීමට'' පාගාදැමීමට, වටකිරීමට, ගෙල සිඳ දැමීමට නැතිනම් වළලා දැමීමට යතියි යන බිය සුන්කර දැමීමටත් අනිත් අතින් පක්ෂයේ බහුතරයේ අයිතිවාසිකම් සහ තත්ත්වය ආරක්ෂා කිරීමටත්ය. දෙදෙනෙකු එකතු කර ගැනීමද එමෙන්ම ප්‍රතික්ෂේප විය.

ඔක්තෝබර් මස 6 ද ප්ලෙහානව් සහ මම ''ඉස්ක්‍රා'' පුවත්පතේ පැරණි කර්තෘ මණ්ඩලයේ සියලු සාමාජිකයින්ට සහ එයට ලිපි සපයන අයෙක් වන ට්‍රොට්ස්කි සහෝදරයාටද පහත සටහන් ලිපිය යැවීමු:

''ප්‍රිය සහෝදරවරුනි! ''ඉස්ක්‍රාවේ'' සහ ''සර්යාවේ''[35] වැඩකටයුතුවලට සහභාගි වීමෙන් ඔබ ඉවත් වීම ගැන ප්‍රධාන පුවත්පතේ කර්තෘ මණ්ඩලය සිය කනගාටුව නිල වශයෙන් ප්‍රකාශ කිරීම යුතුකමක් සේ සලකයි. අප සමග එකතුවී වැඩවලට සහභාගිවන ලෙස පක්ෂයේ දෙවැනි සමුළුව සමාප්ත වීමත් සමගම සහ ඉන් අනතුරුව කීප වාරයක්ම අප ඔබට ආරාධනා කළ නමුදු ඔබ පුවත්පතට එකද ලියුමක්වත් ලියා නැත. ඔබ පුවත්පතට සහයෝගතාවය නොදැක්වීම, ප්‍රධාන පුවත්පතේ කතුවරන් කළ කිසිවක් හේතු නොවූ බව කර්තෘ මණ්ඩලය කල්පනා කරයි. පක්ෂයේ ප්‍රධාන පුවත්පතේ කරන වැඩවලට පෞද්ගලික නොරිස්සීම බාධාවක් නොවිය යුතුය. අනිත් අතින් ඔබ සහයෝගය නොදැක්වීමට හේතුව, අප සමග ඇති මතභේදයක් නම්, ඔබගේ මතභේදය සවිස්තර ලෙස ලියා දන්වීමෙන් ඔබ පක්ෂයට විශාල සේවයක් කරන බව, ඔබට දන්විය යුතුය. අපගේ කර්තෘත්වයෙන් ඇති පුවත්පත මගින් හැකි තරම් ඉක්මණින් මුළු පක්ෂයටම ඔබගේ මතභේදයන් විස්තර

* මධ්‍යම කාරක සභාවේ මෙම සාමාජිකයා[34] අල්පතරය සමග පෞද්ගලික සහ සාමූහික සාකච්ඡා කීපයක්ම සංවිධානය කළේය. මෙම රැස්වීම්වලදී ඔහු ඔවුන්ගේ අමූලික බොරු නිෂ්ප්‍රභ කළ අතර, පක්ෂයේ යුතුකම ගැන කල්පනා කරන ලෙසත් ඉල්ලා සිටියේය.

කිරීම ඒවායේ ස්වභාවය සහ ගැඹුර විස්තර කරදීම මැනවයි අපි වැඩිදුරටත් කලපනා කරමු''.*

පාඨකයාට පෙනෙන පරිදි, ''අල්පතරයේ'' ක්‍රියා කලාපය පෞද්ගලික නොරිස්සීම විසින් ප්‍රධාන වශයෙන් පාලනය කරන ලද්දේද නැතිනම් පක්ෂයේ ප්‍රධාන පුවත්පත (සහ පක්ෂය) වෙනත් මාර්ගයක් ඔස්සේ මෙහෙයැවීමට අදහස් කරන්නේද, එසේනම් එය කිනම් මගක් ඔස්සේද යන්න තවමත් ස්ථිර ලෙස පැහැදිලි නැත. ඔබ කැමති ඕනෑම සාහිත්‍ය සහ ලියවිලිවල ආධාරය ඇතිව, මෙම ප්‍රශ්නය පැහැදිලි කරන ලෙස බුද්ධිමතුන් හත්තෑ දෙනෙකුට භාර දුන්නද මෙම අවුල් ජාලය තෝරා-බේරා ගැනීමට නොහැකි බව මගේ විශ්වාසයය. දබරයක් නිරාකරණය කළ හැකිද යනු සැකයකි, එය කපා හැරිය යුතුය. නැතිනම් එය ඉවත දැමිය යුතුය.**

අක්සල්රොඩ්, සසූලිච්, ට්‍රොට්ස්කි සහ කල්ට්සොව් ඔක්තෝබර් 6 ද මෙම ලියුමට පිළිතුරු වශයෙන් ඉතා කෙටි ලියුමක් ඒවා තිබිණි. ''ඉස්-ක්‍රාව'' අළුත් කර්තෘ මණ්ඩලයට අතට පත් වූවාට පසුව එහි වැඩවලට පහත අත්සන් කරන අය සහභාගි නොවන බව එහි දන්වා තිබිණි. මාර්තව් සහෝදරයා වඩාත් දිග ලිපියක් එවමින් අපට ගරු කළේය:

''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ මධ්‍යම පුවත්පතේ කර්තෘ මණ්ඩලය වෙතට. ප්‍රිය සහෝදරවරුනි! ඔබ විසින් ඔක්තෝබර් 6 ද එවන ලද ලියුමට පිළිතුරු වශයෙන් මම මෙසේ සටහන් කිරීමට කැමැත්තෙමි. ඔක්තෝබර් 4 ද මධ්‍යම කාරක සභාවේ සාමාජිකයකුගේ සහභාගිත්වය ඇතිව අප එකම පුවත්පතක එකට වැඩ කිරීමේ සාකච්ඡාවේදී, ඔබ විසින් ඉදිරිපත් කරන ලද අදහස එනම් අක්සල්රොඩ්, සසූලිච්, ස්තරවේර් සහ මා අපේ නියෝජිතයා හැටියට මණ්ඩලයට ලෙනින් සහෝදරයා පත් කිරීමට දෙන පොරොන්දුවක් අනුව, අප හතරදෙනා කර්තෘ මණ්ඩලයට ඇතුළු කර ගැනීම ඉල්ලා අස්කර ගැනීමෙන් අනතුරුව, මේ ප්‍රශ්නය ගැන සියලු සාකච්ඡා අවසන් වී ඇති බව මගේ අදහසය. සාක්ෂ්‍යකරුවන් ඉදිරියේ ඔබ විසින්ම කරන ලද ප්‍රකාශන ඉහත සටහන් සාකච්ඡාවේදී ඉදිරිපත් කිරීමට ඔබ කීපවරක්ම අකමැතිවීමෙන් පසුව, දැනට පවතින තත්ත්වයන් යටතේ ඉස්ක්‍රාවේ වැඩ කිරීම ප්‍රතික්ෂේප කිරීම ගැන ලියුමක් මගින් විස්තර කළ යුතුයැයි මම නොසිතමි. අවශ්‍යතාවයක් ඇතිවූවොත් මුළු මහත් පක්ෂය ඉදිරියේ, සවිස්තර ලෙස මේ ගැන වාර්තා කරමි. කර්තෘ මණ්ඩලයේත්, ප්‍රධාන මණ්ඩලයේත් මා නියෝජිතත්වයන් දැරිය යුතුයැයි ඔබ යළිත් කරන යෝජනාව මා ප්‍රතික්ෂේප කළේ කුමන හේතුවක් නිසාද යන්න පක්ෂයේ දෙවැනි සමුළුවේ වාර්තාවලින් ඔවුනට දැනගැනීමට ඉඩ ලැබෙනු ඇත....*

එල්. මාර්තව්''

---

* මාර්තව් සහෝදරයාට යවන ලද ලිපියේ එක්තරා පොත් පිංචක් ගැන ද පහත සටහන් වැකියද අමතරව සටහන් කැරිණි: ''පක්ෂයේ උත්තරීතර ආයතනය ඉදිරියේ ඔබේ අදහස් ප්‍රකාශ කිරීමට සහ ඒවා ආරක්ෂා කිරීමට සෑම අවස්ථාවක්ම ඔබට ලබාදීම සඳහා ඔබ ප්‍රධාන පුවත්පතේ කර්තෘ මණ්ඩලයට පත්කර ගැනීමට අප සූදනම් බව, අවසාන වශයෙන් අපි ඔබට යළිත් වරක් දන්වා සිටිමු.'' (වී. අයි. ලෙනින්ගේ කෘතීන් එකතුව, 5 වැනි මුද්‍රණය, 46 වෙළුම, 306 වැනි පිටුව).

** ප්ලෙහානව් සහෝදරයා සමහර විට මෙසේ එකතු කරනු ඇත: ''නැතිනම් දබරයේ මූලිකයන්ගේ හැම ඉල්ලීමක්ම සපුරාලීම'' මෙය නොකළ හැක්කේ මන්ද යන්න අපි පසුව බලමු.



වර්ජනය කිරීම, අසංවිධානය කිරීම අරාජිකත්වය සහ පක්ෂය දෙකඩ කිරීම සඳහා සූදනම් වීම මාර්තව් සහෝදරයාගේ ''වැටලීමේ තත්ත්වය'' නැමැති සිය පොත් පිංචේ (හර්ෂාදී ලකුණුවලින් සහ තිත්පේළිවලින්) නිතරම මහ හැර ඇති පක්ෂයට ලැදි සහ නොලැදි අරගල විධි නැමැති ප්‍රශ්නය බව මෙම ලියුමත් එයට සම්බන්ධයට කියැවුණු ලියවිලිත් විසින් කිසිදු සැකයකින් තොරව පැහැදිලි කෙරෙයි.

සිය මතභේදයන් පැහැදිලි කරන ලෙස මාර්තව් සහ අනිකුත් සහෝ-දරවරුන්ට අපි ආරාධනා කළෙමු. මේ කරදරයට හෙතු මොනවාද, ඔවුන්ගේ අදහස් මොනවාද යන්න ගැන පැහැදිලි කරන ලෙස අපි ඉල්ලා සිටියෙමු. බුම්මාගෙන නොසිටින ලෙස අවවාද කළෙමු. ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටස පිළිබඳ වරද සන්සුන්ව විශ්ලේෂණය කරන ලෙස ඉල්ලා සිටියෙමු (ඔවුන් දක්ෂිණාංශයට නැඹුරුවීමේ වරද සමග මෙය ඉතා කිට්ටුවෙන් වෙළී පවතී) එහෙත් සහෝදර මාර්තව් සහ සමාගම කතා කිරීම ප්‍රතික්ෂේප කොට කෑගසති; ''අපට වටලා ඇත!'' ''අප බියකරති!'' ''බියජනක වචනවල'' සමච්චලය නිසා මේ හාස්‍යජනක කෑගැසීම් පිළිබඳ උනන්දුව අඩුවී නැත.

කෙනෙකු තවත් කෙනෙකු සමග එක්වී කටයුතු කිරීම ප්‍රතික්ෂේප කරන්නේ නම්, ඔහුට වටලන්නේ කෙසේදැයි? අපි මාර්තව් සහෝ-දරයාගෙන් ප්‍රශ්න කෙළෙමු. අල්පතරයක්වීමට ප්‍රතික්ෂේප කරන අල්ප-තරයක් අභයපත් සංග්‍රහයකට, ''බිය කිරීමකට'' භාජනය කරන්නේ කෙසේද? අල්පතරයක් සේ සිටීම නිසා අවශ්‍යයෙන්ම සහ නොවැළැක්විය හැකිසේ සමහර අවාසි වලට මූණපෑමට සිදුවේ. මේ අවාසි නම්, සමහර අවස්ථාවලදී, සමහර ප්‍රශ්න අනුව චන්දයේදී තමන් පරාජය කරන සමූහයකට අයත්වීමය, නැතිනම් ඔබ එම සමූහයෙන් ඈත්වී එයට

---

* එවකට ප්‍රසිද්ධ කර තිබුණු මාර්තව්ගේ කුඩා පොත සම්බන්ධයෙන් ඔහු දුන් පිළිතුර මම සටහන් නොකරමි.

පහරදීමය; එහි විපාකයක් වශයෙන් ඔබට හොඳින් සවි කළ කාලකුවක්කු වලින් ප්‍රතිප්‍රහාර ලැබෙනු ඇත.

"වටලනු ලැබූ තත්ත්වයක්" ගැන මාර්තව් සහෝදරයා කෑ ගසන විට, ඔහු අදහස් කළේ අල්පතරයේ සිටින පුද්ගලයින් සටනට භාජනය කිරීමක්ද, නැතිනම් අසාධාරණ ලෙස සහ ලැදිකමකින් තොරව ඔවුන් පාලනය කිරීමක්ද? (මාර්තව්ගේ ඇස් ඉදිරිපිට) යම්තමින් හෝ අර්ථවත් වන්නේ මෙවැනි කියමනක් පමණකි. මන්දයත්, අල්පතරයේ සිටීම නිසා අවශ්‍යයෙන්ම සහ නොවැළැක්විය හැකි සේ සමහර අවාසිවලට මුහුණපෑමට සිදුවන බැවිනියි මම යළිත් පවසමි. එහෙත් මෙහි හාස්‍යජනකත්වය නම්, මාර්තව් සහෝදරයා කතා කිරීමට පවා ප්‍රතික්ෂේප කරන තුරු ඔහු සමග සටන් කිරීමට කොහෙත්ම බැරිවීමය! අල්පතරය, අල්පතරයක්වීමට ප්‍රතික්ෂේප කරන තුරු එය කොහෙත්ම පාලනය කළ නොහැකිය!

ප්ලෙහානව් සහ මා ප්‍රධාන පුවත්පතේ කර්තෘ මණ්ඩලයේ සේවය කරද්දී එය සිය බලතල සීමාරහිත ලෙස පාවිච්චි කළ බව හෝ අනිසි ලෙස පාවිච්චි කළ බව හෝ පෙන්වන එකම සාධකයක්වත් ඉදිරිපත් කිරීමට මාර්තව් සහෝදරයාට නොපුළුවන. මධ්‍යම කාරක සභාව සම්බන්ධයෙන් අල්පතරයේ ප්‍රායෝගික කාරකවරුන්ටද එලෙසම එකද සාධකයක්වත් ඉදිරිපත් කළ නොහැකිය. මාර්තව් සහෝදරයා සිය "වැටලීමේ තත්ත්වය" මගින් කෙතරම් විකෘති කර පෙන්වීමට දඟලුවද, වටලනු ලැබූ තත්ත්වය ගැන කෑගැසීම අන් කිසිවක් නොව, දුබල කෙඳිරි ගෑමක් පමණක් බව බිඳලිය නොහැකි සත්‍යයකි.

පක්ෂයේ සමුළුව විසින් තෝරා පත් කරන ලද කර්තෘ මණ්ඩලයට විරුද්ධව සහෝදර මාර්තව් සහ සමාගම බුද්ධිමත් තර්ක ඉදිරිපත් කිරීමට කොතරම් අසමත් වී සිටිත්ද යන්න, ඔවුන්ගේ මෙම පාඨයෙන් ඒ බව ඉතා හොඳින් පෙනේ: "අපි ප්‍රවේණිදාසයෝ නොවමු!" ("වැටලීමේ තත්ත්වය", 34 පිටුව) තමා පොදු සංවිධාන සහ පොදු විනයට ඉහළින් සිටින "ප්‍රමුඛ බුද්ධිමතුන්ට" අයත් බව සිතන ධනවාදී බුද්ධිමතුන්ගේ මානසිකත්වය මෙතැනදී ඉතා පැහැදිලි ලෙස ප්‍රකාශ වී ඇත. තමන් "ප්‍රවේණිදාසයින් නොවෙති" යි කියමින් පක්ෂය තුළ වැඩ කිරීම ප්‍රතික්ෂේප කිරීමට හේතු ප්‍රකාශ කිරීම තමන් එහෙම පිටින්ම පාවාදීමක් කර ගැනීමකි, තම ක්‍රියාවන් සාධාරණ බව පෙන්වීමට තර්ක නැති බව පිළිගැනීමකි. සිය අසතුට ඔප්පු කිරීම සඳහා චේතනාවන් සහ සහේතුක තර්ක ඉදිරිපත් කිරීමට ඔවුන් සම්පූර්ණයෙන්ම අසමත් බව පෙන්වා දීමකි. ඔවුන්ගේ ප්‍රතික්ෂේප කිරීම අප විසින් කරන ලද කිසිවක් නිසා නොවන බව ප්ලෙහානව් සහ මා ප්‍රකාශ කළෙමු. ඔවුන්ගේ එකම පිළිතුර මෙසේ විය: "අපි ප්‍රවේණිදාසයෝ නොවමු." (මෙසේද එකතු කළහ: සම්බන්ධ කර ගැනීම පිළිබඳව අප තවම එකඟත්වයකට පැමිණ නැත).

ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටස වටා පැනනැගුණු විවාදයේදී අවස්ථාවාදී තර්ක ඉදිරිපත් කිරීමේ සහ අරාජික වාග්පාඨ දෙඩවීමේ ප්‍රවණතාවය හෙළිකරමින් කැපී පෙනුණු බුද්ධිමතුන්ගේ පෞද්ගලිකවාදයට සියලු නිර්ධන පංතික සංවිධානය සහ විනය ප්‍රවේණිදාසභාවය ලෙස පෙනේ. මේ "පක්ෂ සාමාජිකයින්ට" සහ පක්ෂ "නිලධාරීන්ට" අළුත් පක්ෂ සමුළුවක් පවා, "ප්‍රමුඛ බුද්ධිමතුන්ට" මෙන්ම භයානක සහ ඉසිළිය නොහැකි ප්‍රවේණිදාස ආයතනයක් වනු ඇතැයි පාඨක ලෝකයා ඉක්මනින්ම දැනගනු ඇත. පක්ෂයේ තත්ත්වය පාවිච්චි කිරීමට විරුද්ධ නොවන අයට මෙම "ආයතනය" සැබවින්ම භයානකය. එහෙත් මෙම තත්ත්වය පක්ෂයේ යහපතට සහ පක්ෂයේ අභිමතයට නොගැළපෙන බවද ඔවුහු හොඳින් දනිති.

නව "ඉස්ක්‍රා" පුවත්පතේ කතුවරයින්ට මවිසින් යවන ලද ලිපියේ සටහන් කළ, මාර්තව් සහෝදරයා සිය "වැටලීමේ තත්ත්වය" නැමැති පොත් පිංචෙහි සටහන් කළ කම්වූ යෝජනා අල්පතරයේ ක්‍රියා කලාපය, සමුළුව ගත් තීරණවලට ඉතා දැඩි ලෙසම අකීකරු වීමක්ද, සක්‍රීය ප්‍රායෝගික වැඩ අසංවිධාන කිරීමක්ද, වන බව කරුණු සහිතව පෙන්වා දෙයි. අවස්ථාවාදීන්ගෙන් සහ ඉස්ක්‍රාවට වෛර කළ මිනිසුන්ගෙන් සමන්විත, අල්පතරය, පක්ෂය දෙපළු කිරීමටත්, පක්ෂයේ වැඩවලට හානි කිරීමට හා ඒවා අසංවිධාන කිරීමටත්, සමුළුවේදී තමන් ලැබූ පරාජය නිසා පළිගැනීමටත් ක්‍රියා කරයි. පක්ෂයේ දෙවැනි සමුළුව විසින් ඔවුන්ට විරුද්ධව ඉදිරිපත් කරන ලද අවස්ථාවාදය සහ බුද්ධිමත් අස්ථිරතාවය නැමැති චෝදනා අසත්‍ය බව ඔප්පු කිරීම සඳහා අවංක සහ පක්ෂයට හිතවත් මාධ්‍යයන් (තම අදහස් පුවත්පත මගින් හෝ පක්ෂ සමුළුවකදී විස්තර කිරීම) මගින් අසමත් වන බව ඔවුනට හැඟිණි. පක්ෂයට ඒත්තු ගැන්වීමට ඔවුනට බැරි බව දැනගත් ඔවුහු පක්ෂය අසංවිධානය කොටැ එහි සියලු වැඩ කඩා කප්පල් කොටැ සිය අදහස මුදුන් පමුණුවා ගැනීමට වෑයම් කළහ. අපේ බඳුනේ පිපිරීමක් ඇති කිරීම නිසා (ඔවුන් සමුළුවේදී කළ වැරදි නිසා) ඔවුනට දෙස් පැවරිණි. මෙම දෙස් පැවරීමට පිළිතුරු වශයෙන් ඔවුහු මුළු මහත් වැර යොදා බඳුන සම්පූර්ණයෙන්ම කුඩු කර දැමීමට වෑයම් කළහ.

ඔවුන්ගේ අදහස් කෙතරම් විකෘති වීදයත්, වර්ජනය සහ වැඩකිරීම ප්‍රතික්ෂේප කිරීම අරගලයේ "අවංක* ක්‍රමයක්" ලෙස ඔවුහු ප්‍රකාශ කළහ.

* ආකාර යෝජනාව ("වැටලීමේ තත්ත්වය", 38 පිටුව).

මේ සියුම් ප්‍රශ්නය වටා මාර්තව් සහෝදරයා දඟලන්නට පටන් ගෙන ඇත. මාර්තව් සහෝදරයා කොතරම් දැඩිලෙස "ප්‍රතිපත්තිවලට ගරු කරන්නේදයත්," අල්පතරය වර්ජනය කරන විට, ඔහු එය ආරක්ෂා කරයි... ඔහුගේ අංශය බහුතරය බවට පත්වී, වර්ජනය ඔහුට තර්ජනය කරන විට, ඔහු එය හෙළා දකී!

මෙය දබරයක්ද නැතිනම් "මූලධර්ම පිළිබඳ මතභේදයක්ද" නැතිනම් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයක අවංක අරගල ක්‍රම මොනවාද යන ප්‍රශ්නය ගැන සළකා බැලීමට අවශ්‍යතාවයක් නැතැයි මම කල්පනා කරමි.

---

තෝරාපත් කිරීම පිළිබඳව ගෝට්ටියක් පටන් ගත් සහෝදරවරුන්ගෙන් පැහැදිලි කිරීමක් ඉල්ලා සිටීම සඳහා (ඔක්තෝබර් 4 සහ 6) දරු අසාර්ථක වෑයම්වලින් අනතුරුව, අරගලයේදී පක්ෂයට ලැදි ක්‍රම පාවිච්චි කරන බවට පොරොන්දු දෙමින් ඔවුන් කළ වාචික ප්‍රකාශනයට කුමක් වේදැයි බලා සිටීමට පමණක් මධ්‍යම ආයතනවලට සිදුවිය. ඔක්තෝබර් 10 ද ලීගයට චක්‍රලේඛ ලිපියක් යැවූ මධ්‍යම කාරක සභාව (ලීග් වාර්තා, 3—5 පිටු) ලීගය සඳහා කෙටුම්පත් ව්‍යවස්ථා මාලාවක් සකස් කරන බව, දන්වා එයට උදව් දෙන ලෙස ලීග් සාමාජිකයින්ගෙන් ඉල්ලීමක් කළේය. ලීගයේ පරිපාලක මණ්ඩලය එම සංවිධානයේ සමුළුවකට විරුද්ධ විය (ඡන්ද දෙකක් විරුද්ධව සහ එකක් පක්ෂව — ලීග් වාර්තා, 20 පිටුව). මේ චක්‍ර ලේඛයට අල්පතරයේ ආධාර කරුවන්ගෙන් ලැබුණ පිළිතුරු අනුව පෙනීගියේ පක්ෂ සමුළුවේ තීරණයන්ට ලැදිව කටයුතු කරන්නෙමුයි ඔවුන් දුන් පොරොන්දුව හුදු කතාවක් පමණක් බවය. අනිත් අතට ඇත්ත වශයෙන්ම, අල්පතරය ඒකාන්ත ලෙසම පක්ෂයේ මධ්‍යම ආයතනවල තීරණයන්ට යටත් නොවීමට ඉටාගෙන ඇත. පක්ෂ කටයුතුවලදී සහයෝගීව වැඩ කරන ලෙස ඉල්ලන එම ආයතනවල ආයාචනයන් මගහරිමින් ඔවුහු විතණ්ඩවාදී ලෙසද, අරාජිකවාදී ලෙස වාක්‍ය ඛණ්ඩ ඇද බැමෙන්ද පිරී ඇති පිළිතුරු දෙති. ලීගයේ පරිපාලන මණ්ඩලයේ සාමාජික දෙයිච් විසින් ලියන ලද විවෘත ලිපියට, (10 පිටුව) පිළිතුරු වශයෙන් ප්ලෙහානව්, මා සහ බහුතරයේ අනිකුත් සාමාජිකයෝද පිළිතුරු දෙමින්, පක්ෂ විනය ඉතා රළු ලෙස උල්ලංඝණය කිරීම ගැන බලවත් විරුද්ධත්වය ප්‍රකාශ කළහ. මෙය ලීගයේ නිලධාරියෙක් පක්ෂ ආයතනයක සංවිධානාත්මක වැඩවලට හානි කිරීමට ඉදිරිපත් වීමක් බවත්, ඔහු අනිත් අයටත් එලෙසම පක්ෂයේ විනය සහ ව්‍යවස්ථාව කඩ කිරීමට ආරාධනා කිරීමක් බවත් අපි පෙන්වා දුන්නෙමු.



"මධ්‍යම කාරක සභාවේ ආරාධනය පරිදි එවැනි වැඩවල යෙදීමට මට ඉඩක් ඇතැයි මම අදහස් නොකරමි", නැතිනම් "සහෝදරවරුනි, ලීගයට ව්‍යවස්ථා මාලාවක් කෙටුම්පත් කිරීමට එයට (මධ්‍යම කාරක සභාවට) කොහෙත්ම ඉඩදිය නොහැකිය" ආදි ප්‍රකාශන, පක්ෂය, සංවිධානය සහ පක්ෂ විනය ආදි වචනවල තේරුම පිළිබඳ ඉතාම සුළු සංකල්පයක් ඇති අය තුළ පවා පිළිකුලක් ඇතිකරවන උද්ඝෝෂණ විධි වන්නේය.මේ ක්‍රම වඩාත් අපකීර්තිමත් වන්නේ, මේවා අළුත පිහිටුවන ලද පක්ෂ ආයතනයකට විරුද්ධව පාවිච්චි කරන බැවිනි. මෙය පක්ෂ සහෝදරවරුන් අතර මෙම ආයතනය කෙරෙහි ඇති විශ්වාසය යටපත් කරවීම සඳහා කරන නිසැක ප්‍රයත්නයකි. එපමණක් නොව මෙවැනි වැඩ කරන්නේ මධ්‍යම කාරක සභාවට හොරෙන් ලීග් පරිපාලන සාමාජිකයකුගේ මුද්‍රාව යටතේය" (17 පිටුව).

මෙවැනි තත්ත්වයන් යටතේ ලීග් සමුළුව කලහයක් වන බවට නොඅනුමාන විය.

මාර්තව් සහෝදරයා මුල සිටම සිය සමුළු උපක්‍රමය පටන් ගත්තේ "පුද්ගලයට පහර ගැසීම" මගිනි. මේ වර ඔහු ප්ලෙහානව් සහෝදරයා සමග කළ පෞද්ගලික සාකච්ඡා විකෘති කරමින් සිය කාර්යය ඇරඹීය. ප්ලෙහානව් සහෝදරයා විරුද්ධත්වය ප්‍රකාශ කළ විට, ඔහු එම චෝදනා ඉල්ලා අස්කර ගත්තේය (ලීග් වාර්තා පිටු 39 සහ 134). මෙයින් වගකීම් රහිතභාවය නැතිනම් නොරිස්සුම ප්‍රකාශ විය.

වාර්තාව ඉදිරිපත් කිරීමේ කාලය එළඹිණි. පක්ෂ සමුළුවේ ලීගයේ නියෝජිතයා මා විය. පාඨකයා මගේ වාර්තාවේ සංක්ෂිප්තය දෙස බැලූ පමණකින් වුවද, මා මේ පොතෙහි සන්ධාරය කොටගත් ඡන්දයදීම පිළිබඳ දීර්ඝ විශ්ලේෂණයෙන් කෙටි සටහනක් ඉදිරිපත් කළ බව පෙනීයනු ඇත. මගේ වාර්තාවේ ප්‍රධාන ලක්ෂණය වූයේ මාර්තව් සහ නඩය කළ වැරදි නිසා ඔවුන් අප පක්ෂයේ අවස්ථාවාදී අංශයට වැටුණු බව ඔප්පුකර පෙන්වීමය. මේ වාර්තාවට සවන් දුන් පුද්ගලයින්ගෙන් වැඩි දෙනෙක් එයට බලවත් ලෙස විරුද්ධ වුවන්ගෙන් යුක්ත වුවද, පක්ෂ අරගලයේ සහ මතභේදයේ ලැදි ක්‍රමයන්ගෙන් එය බැහැර වී යැයි කීමට යමක් එයින් ඔවුන්ට සොයාගත නොහැකි විය.

මාර්තව්ගේ වාර්තාව මෙයට හාත්පසින්ම වෙනස් විය. මගේ වාර්තාවේ යම් නිශ්චිත කරුණු ගැන, 'නිවැරදි කිරීම' (මෙම නිවැරදි කිරීම්වල සාවද්‍යතාවයන් ගැන අප ඉහතදී පෙන්වා දුන්නෙමු) ඉදිරිපත් කිරීමක් එම වාර්තාවෙන් කළ අතර එහි සඳහන් අන් සියල්ලම ස්නායු ආබාධයන්ගේ ප්‍රතිඵලයකි.

මෙවැනි වාතාවරණයක් යටතේ බහුතරය සටන් අරගල කරගෙන

යාම ප්‍රතික්ෂේප කිරීම පුදුමයක් නොවේ. මෙම ''ජවනිකාව'' ගැන ජ්ලෙහානව් සහෝදරයා සිය විරුද්ධත්වය ප්‍රකාශ කළේ ය (68 පිටුව). සත්තකින්ම එය සැබෑ 'ජවනිකාවක්' විය. වාර්තාවේ හරය ගැන ඔහු විසින් පිළියෙළ කරන ලද විරුද්ධත්වයන් පවා ප්‍රකාශ නොකර ඔහු සමුළුවෙන් ඉවත් විය. බහුතරයේ ආධාර කරුවන් හැම දෙනෙක්ම පාහේ, මාර්ටව් සහෝදරයාගේ ''නොතරම් හැසිරීම'' ගැන ලිඛිත විරුද්ධත්වයක් ඉදිරිපත් කිරීමෙන් අනතුරුව සමුළුවෙන් පිටව ගියහ (ලීග් වාර්තා, 75 පිටුව).

අල්පතරය විසින් ඉදිරිපත් කරන ලද සටන් ක්‍රමය හැම දෙනෙකුටම ඉතා පැහැදිලි විය. අල්පතරය සමුළුවේදී අවස්ථාවාදයට නැඹුරුවීමක්, බුන්ඩවරුන්, අකීමව්ලා, බ්රූකර්ලා, යෙගෝරව්ලා සහ මාහව්ලා සමග සභාගයක් ඇතිකර ගැනීමෙන් දේශපාලනමය වරදක් කළ බවත් පෙන්වා දෙමින් අපි චෝදනා කළෙමු. අල්පතරය සමුළුවේදී පරාජයට පත් විය. අල්පතරය දැන් සිය ඉමක් නැති විවිධ ඕපාදූප, කතන්දර, පහරදීම්, ආක්‍රමණ, ආදිය පාවිච්චි කරමින් අරගල විධි දෙකක් 'ඉදිරිපත් කොට' ඇත.

පළමුවැනි විධිය — පක්ෂයේ සියලු ක්‍රියාකාරීත්වය අසංවිධානය කිරීම, වැඩ සියල්ල කඩාකප්පල් කිරීම, 'හේතු ඉදිරිපත් නොකර සෑම සියලු දෙයටමත් බාධා කිරීම.

දෙවැනි විධිය: — විවිධ ''ජවනිකා'' සහ තවත් නොයෙකුත් දේ මවා පෑම.*

මෙම 'සටන් අරගලවල දෙවැනි විධිය'' ලීගයේ සුප්‍රසිද්ධ මූලධර්ම පිළිබඳ යෝජනාවලින්ද පෙනීයයි. මෙම යෝජනාව සාකච්ඡා කිරීමේදී ''බහුතරය'' කොහෙත්ම සහභාගී නොවීය. මාර්තව් සහෝදරයා සිය ''වැටලීමේ තත්ත්වය'' මගින් ප්‍රසිද්ධ කොට ඇති මෙම යෝජනා අපි පිරික්සා බලමු.

ට්‍රොට්ස්කි, ෆේපාමීන්, දෙයිච් සහ අනිකුත් සහෝදරවරුන් විසින් අත්සන් කර ඇති යෝජනාවේ පක්ෂයේ ''බහුතරයට'' විරුද්ධව තීසිසසන්

* දේශපාලන හේතූන් උඩ පිටරටවල පදිංචි වී සිටින්නන් සහ ඔවුන්ගේ ජනපද වල ඇතිවන පරිචිත දබරවල ඉතා නීච ප්‍රකාශනයන් වුවද නීච චේතනාවන් හැටියට සැළකීම නුවණට හුරු නොවන බව මම මීට ඉහතදී පෙන්වා දුනිමි. අසාමාන්‍ය ජීවන තත්ත්වයත් ස්නායු ආබාධ, ආදිය විසින් ඇතිකරන ලද බෝවන රෝගයක් විසින් මෙය ඇති කරන ලදී. මාර්තව් සහෝදරයා සිය ''වැටලීමේ තත්ත්වය'' මගින් සිය සටන් ක්‍රමය යළිත් පූර්ණ ලෙස පුනරුත්ථාපනය කර තිබෙන බැවින්, මෙම සටන් ක්‍රමය ගැන සැබෑ චිත්‍රයක් ඉදිරිපත් කිරීමට මට සිදුවිය.



දෙකක් ඉදිරිපත් කර ඇත: 1) ''ඉස්ක්‍රාවේ'' පැරණි ප්‍රතිපත්තියට මූලික වශයෙන් ප්‍රතිවිරුද්ධ ප්‍රවණතාවයන් සමුළුවේදී ප්‍රකාශවීම නිසා, මධ්‍යම කාරක සභාවේ නිදහස සහ අධිකාරීත්වය සෑහෙන තරම් ආරක්ෂා කරමින් පක්ෂයේ ව්‍යවස්ථා මාලාව සකස් කිරීමේදී සෑහෙන සැළකිල්ලක් නොගත් බැවින් ලීගය සිය ගැඹුරු සංවේගය ප්‍රකාශ කරයි (ලීග් වාර්තා, 83 පිටුව).

අප ඉහත දුටු පරිදි, ''මූලධර්මය'' පිළිබඳ මේ තීසිසය අකීමව්ගේ වාග්පාය දෙඩවීම හැර අන් කිසිවක් නොවේ. මෙහි ඇති අවස්ථාවාදී ස්වරූපය පපෝව් සහෝදරයා විසින් පවා පක්ෂ සමුළුවේදී හෙළිදරව් කරන ලදී. ඇත්ත වශයෙන්ම මධ්‍යම කාරක සභාවේ නිදහස සහ අධිකාරය ආරක්ෂා කිරීමට ''බහුතරය'' ක්‍රියා නොකළහයි කියාසිටීම ඕපාදූප පතුරුවා හැරීමක් මිස අන් කිසිවක් නොවේ. ජ්ලෙහානව් සහ මා කර්තෘ මණ්ඩලයේ සිටිද්දී, මධ්‍යම කාරක සභාව කෙරෙහි ප්‍රධාන පුවත්පත පාන වැඩි බලයක් මණ්ඩලය තුළ නොතිබුණු බවත්, එහෙත් මාර්තව්වාදීන් කර්තෘ මණ්ඩලයට බැඳුණු විගස මධ්‍යම කාරක සභාව කෙරෙහි ප්‍රධාන පුවත්පත පාන වැඩි බලයක් මණ්ඩලය තුළ ඇතිවූ බවත් සැබෑ කරුණක් ලෙස අවධාරණය කළ යුතුය. අප කර්තෘ මණ්ඩලයේ සිටිද්දී පිටරටවල වාසය කරන ලේඛකයින්ට වඩා රුසියාව තුළ පක්ෂයේ ප්‍රායෝගික වැඩ කරන අයගේ වැඩි බලයක් මණ්ඩලය තුළ තිබිණි. මාර්තව්වාදීන් කර්තෘ මණ්ඩලය අල්ලාගත් පසුව තත්ත්වය අනික් අතට පෙරළිණි. අප කර්තෘ මණ්ඩලයේ සිටිද්දී කිසිම ප්‍රායෝගික කාර්යයකදී මණ්ඩලය වැඩවලට අත පෙවීමට කිසිදු වෑයමක් නොකළේය. එහෙත් ඒකච්ඡන්දයෙන් සාමාජිකයින් සම්බන්ධකර ගැනීමෙන් අනතුරුව, එවැනි අතපෙවීම් පටන් ගැනිණි. නුදුරු අනාගතයේදී පාඨක පොදු ජනතාවට මේ ගැන විස්තර දැනගැනීමට ලැබෙනු ඇත.

අපේ පිරික්සුමට භාජනය කරන මීළඟ යෝජනාවේ තීසිසය මෙසේය: ''...පක්ෂ සමුළුව පක්ෂයේ නිල මධ්‍යම සංවිධාන පිහිටුවන විට, සැබවින්ම පවතින මධ්‍යම සංවිධානවල අවිච්ඡින්නතාවය රැකගැනීම ගැන නොසළකා හැරීමය...''

මෙම තීසිසය අන් කිසිවක් ගැන නොව මධ්‍යම සංවිධානවල පුද්ගල සංයුතියට පමණක් සීමා වූවකි. පැරණි සංවිධානවල නුසුදුසුතාවය සමුළුවේදී ඔප්පු වූ බවත් එමෙන්ම ඒවා වැරදි කීපයක් කළ බවත් අමතක කිරීමට ''අල්පතරය'' කැමතිය. එහෙත් ඒවා අතරින් ඉතාම හාස්‍යජනක සංවිධායක කමිටුවේ අවිච්ඡින්නතාවය ගැන කරන ප්‍රකාශනයය. පක්ෂ සමුළුවේදී අප දුටු පරිදි, සංවිධායක කමිටුවේ සියලු සාමාජිකයින් එලෙසම සම්මත කරගත යුතු යැයි කිසිවකු ඉඟියකින් පවා අඟවා නැත. සාමාජිකයින් තිදෙනකුගෙන් යුත් සංවිධායක කමිටුව ඔහුට ඉමහත්

අපකීර්තියකියි මාර්තව් සහෝදරයා වියරුවකින් කෑගැසීය. සමුළුවේදී සංවිධායක කමිටුවට ''අල්පතරය'' විසින් ඉදිරිපත් කරන ලද අවසාන ලැයිස්තුවේ තිබුණේ සංවිධාන කමිටුවේ එක් සාමාජිකයකුගේ නම පමණකි (පපෝව්, ග්ලේබව් නැතිනම් ෆේපාමින් සහ ට්‍රොට්ස්කි). එහෙත් බහුතරය සම්මත කළ ලැයිස්තුවේ සංවිධායක කමිටුවේ සාමාජිකයින් දෙදෙනෙකුගේ නම් තිබිණි (ට්‍රවින්ස්කි, වසිලියව් සහ ග්ලේබව්). 'අවිච්ඡින්නතාවය' ගැන කරන මේ මතක්කිරීම මූලධර්ම පිළිබඳ වෙනසක් හැටියට සැබවින්ම කල්පනා කළ හැකිද? යි අපි ප්‍රශ්න කරමු.

අක්සල්රොඩ්ගේ නායකත්වයෙන් පැරණි කර්තෘ මණ්ඩලයේ සාමාජිකයින් හතර දෙනෙකු විසින් අත්සන් කරන ලද අනිත් යෝජනාව ගැන සළකා බලමු. බහුතරයට විරුද්ධව විශාල චෝදනා අපි මෙහිදී දකිමු. මේවා පසුකලෙක පුවත්පත් මගින් කීපවරක්ම ප්‍රකාශ කැරිණි. කර්තෘ කවයේ සාමාජිකයින් විසින් ඉදිරිපත් කරන ලද පරිදි ඒවා ඉතා පහසු ලෙස පරීක්ෂා කළ හැකිය. ''පක්ෂයේ පාලනයේ ඒකාධිපති සහ නිලධාරිවාදී ක්‍රමයට විරුද්ධවද'', නියම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මධ්‍යගත භාවයට වෙනස්වූ ''නිලධාරිවාදී මධ්‍යගත වාදයට විරුධවද'' ඉදිරිපත් කර ඇති චෝදනා මෙසේ විග්‍රහ කර ඇත: මෙය ''ඉදිරිපත් කරන්නේ අභ්‍යන්තරික සමගියක් නොව, ස්වාධීන සමාජයීය ක්‍රියාකාරීත්වය සහ පෞද්ගලික උනන්දුව ක්‍රමානුකූල ලෙස මර්දනය කරන, හුදු යාන්ත්‍රික මාධ්‍යයයන් මගින් ඇතිකරගත් බාහිර නාම මාත්‍ර සමගියක් පමණකි''; මේ හේතුව නිසා එය ''සමාජයේ සංයුක්ත මූලිකාංග ඓන්ද්‍රියමය ලෙස සම්බන්ධ කිරීමට ස්වභාවයෙන්ම අසමත් වී ඇත''.

මෙතැනදී අක්සල්රොඩ් සහෝදරයා සහ සමාගම සඳහන් කරන්නේ කිනම් ''සමාජයක්''ද යන්න දන්නෝ දෙවියෝ පමණකි. තමා කරන්නේ ආණ්ඩු ප්‍රතිසංස්කරණයක් ගැන තමන්ට රිසි යෝජනා සහිත සේම්ස්ත්වෝ ලිපියක් ඉදිරිපත් කිරීමද, නැතිනම් ''අල්පතරයේ'' දුක්ගැනවිලි ඉදිරිපත් කිරීමද යන්න අක්සල්රොඩ් සහෝදරයාට පවා පැහැදිලි නැති බව මින් පෙනේ. අසතුටට පත් කතුවරයින් කෑ ගසන, පක්ෂයේ මෙම ඒකාධිපත්‍යය යනුවෙන් අදහස් කරන්නේ කුමක්ද? ඒකාධිපත්‍යය උත්තරීතර, අසීමිත, කිසිවකු ඉදිරියේ වග නොකියන, තෝරාපත් නොකළ තනි පුද්ගලයකුගේ පාලනය වන්නේය. අල්පතරයේ සාහිත්‍යය අනුව, ඔවුන් ඒකාධිපති යනුවෙන් අදහස් කරන්නේ මා මිස අන් කිසිවකු නොවන බව පැහැදිලිය. ඔවුන් අදහස් කරන යෝජනාව කෙටුම්පත් කරන විටත්, සම්මත කර ගන්නා විටත්, ප්ලෙහානව් සහෝදරයා සමග මම මධ්‍යම පුවත්පතේ සිටියෙමි. ඒ අනුව, අක්සල්රොඩ් සහෝදරයා සහ සමාගම, ප්ලෙහානව් සහ මධ්‍යම කාරක සභාවේ සියලු සහෝදරවරුන් පක්ෂය



පාලනය කරන්නේ වැඩකටයුතු වලට ප්‍රයෝජනවත් ලෙස නොවේ, ඒකාධිපති ලෙනින්ගේ අභිමතයට ගැළපෙන පරිදි යැයි විශ්වාස කරයි. ඒකාධිපති ආණ්ඩුවක් පිළිබඳ මේ චෝදනාව, පාලක මණ්ඩලයේ සියලු සාමාජිකයින්, ඒකාධිපතියා හැරුණු විට, එකකුගේ අතකොළු බවටත්, තවත් කෙනෙකුගේ අභිමතය ඉටුකරන ඉත්තන් බවටත් පත්වී තිබෙන බව අවශ්‍ය ලෙසත් නොවැළැක්විය හැකි ලෙසත් තේරුම් කරයි. අති ගරු අක්සල්රොඩ් සහෝදරයාගේ අංශයෙන් බලන විට මෙය සැබවින්ම ''මූලධර්ම පිළිබඳ මතභේදයක්ද?'' අපි එම ප්‍රශ්නය යළි ඉදිරිපත් කරමු.

වැඩි දුරටත්, පක්ෂ සමුළුවේ තීරණ වලංගු බව ගම්භීර ලෙස පිළිගත් පක්ෂ සාමාජිකයින් පක්ෂ සමුළුවෙන් පසුව හැරී ආ හැටියේම, අල්පතරය මෙතැනදී කතා කරන බාහිර, විධිමත් සමගියේ තේරුම කුමක්ද? කිසියම් ශක්තිමත් පදනමක් මත සංවිධානය වුණු පක්ෂයක සමගිය ඇති කර ගැනීම සඳහා, පක්ෂ සමුළුව හැර වෙනත් කිසියම් මාධ්‍යයක් තිබේද? එවැනි වෙනත් ක්‍රමයක් තිබේනම්, පක්ෂයේ දෙවැනි සමුළුව නීත්‍යානුකූල නොවන බව අවංකව ප්‍රකාශ කිරීමට තරම් ඔවුනට ධෛර්‍යයක් නැත්තේ මන්ද? ඊනියා සංවිධානාත්මක පක්ෂයක සමගිය ඇතිකර ගන්නා අළුත් ක්‍රම ගැන අළුත් අදහස් ඔවුන් අපට නොකියන්නේ කිනම් හේතුවක් නිසාද?

තවදුරටත්. අපේ බුද්ධිමත් පෞද්ගල වාදීන් කතා කරන්නේ කිනම් 'පෞද්ගල උනන්දුවක් මර්දනය කිරීමක්' ගැනද? ඔවුන්ගේ මතභේදයන් ප්‍රකාශ කරන ලෙස මධ්‍යම පුවත්පත ඔවුන්ගෙන් ඉල්ලා සිටියාය. එහෙත් ඔවුහු එය විස්තර කරනවා වෙනුවට ''සම්බන්ධ කර ගැනීම'' පිළිබඳව හෙට්වූ කරන්නට වූහ. කෙසේවුවද අප සමග එකට වැඩකිරීම ප්‍රතික්ෂේප කළ මිනිසුන්ගේ උනන්දුව සහ ස්වාධීන ක්‍රියාකාරීත්වය ප්ලෙහානව් සහ මාත්, නැතිනම් මධ්‍යම කාරක සභාවත් පාගාදමන්නේ කෙසේද? කිසියම් සංවිධානයක කිසිදු කටයුත්තක් කිරීම ප්‍රතික්ෂේප කරන පුද්ගලයකු එම සංවිධානය විසින් පාගනු ලබන්නේ කෙසේද? තමන් පාලනය කිරීම ප්‍රතික්ෂේප කරන විට, තෝරාපත් නොවූ කර්තෘවරුන් ආණ්ඩුක්‍රමයක් ගැන දුක්ගැනවිලි ඉදිරිපත් කරන්නේ කෙසේද? මේ සහෝදරවරුන් අපේ මගපෙන්වීම යටතේ කොහෙත්ම ක්‍රියා නොකළ නිසා ඔවුන්ට මගපෙන්වීමේදී අපට කිසිදු වරදක් කිරීමට හැකියාවක් නො වීය.

මා හිතන හැටියට, සුප්‍රසිද්ධ නිලධාරිවාදයක් ගැන මෙම කෑගැසීම්, මධ්‍යම මණ්ඩල වලට තෝරා පත්වූ පුද්ගලයින් ගැන අසතුට ප්‍රකාශ කිරීමේ කඩතුරාවකි, සමුළුවේදී ගම්භීර ලෙස දෙන ලද පොරොන්දුව උල්ලංඝනය කිරීම වසාදැමීම සඳහා අටවාගත් තල් අත්තකි, ඒබව දැන් පැහැදිලිය. නුඹ නිලධාරියෙකි, මන්දයත් මගේ අභිප්‍රායයට පටහැණිව

එයට විරුද්ධව පක්ෂ සමුළුව ක්‍රම තෝරා පත් කළ නිසාය. නුඹ විධික්‍රම වාදියෙකි, මන්දයත්, මගේ කැමැත්ත නැතිව සමුළුව විසින් ගන්නා ලද විධිමත් තීරණයන්ට පක්ෂපාත නිසාය. නුඹ අතිශයින්ම යාන්ත්‍රික විදිහට ක්‍රියා කරයි, මන්දයත්, තෝරාපත් කර ගැනීමේ මගේ අභිප්‍රායය ගැන නොතකා පක්ෂ සමුළුවේ යාන්ත්‍රික බහුතරය හුවා දක්වන බැවිනි. නුඹ ඒකාධිපතියෙකි, මන්දයත් ස්වකීය කවවාදයේ අවිච්ඡින්නතාවය ඉල්ලා සිටින පැරණි උණුසුම් කුඩා කණ්ඩායමට බලය පවරා දීම ප්‍රතික්ෂේප කරන නිසාය, වැඩිවශයෙන්ම පක්ෂ සමුළුව විසින් කවවාදී හැඟීම් ඍජු ලෙසම ඉවත දැමූ හෙයින්ම එම කණ්ඩායමට බල නොදෙන නිසාය.

මා මුලින් සඳහන් කළ දේ* හැරුණු විට, මේ නිලධාරිවාදය පිළිබඳ කෑගැසීම් වලට වෙනත් සැබෑ හරයක් නැත. අරගලයේ මෙවැනි ක්‍රමයකී, අල්පතරයේ බුද්ධිවාදී අස්ථිරතාවය යළිත් වරක් ඔප්පු කරයි. මධ්‍යම මණ්ඩල තේරීමේ අවාසනාවත් බව පක්ෂයට ඒත්තු ගැන්වීමට ඔවුනට අවශ්‍ය වී ඇත. මෙය ඔවුන් කරන්නේ කෙසේද? ප්ලෙහානව් සහ මා ඉස්ක්‍රාව පවත්වා ගෙනයන ආකාරය විවේචනය කරමිනි. නැත. එවැන්නක් කිරීමට ඔවුනට ශක්තියක් නොමැත. ඔවුන් විසින් වෛර කරනු ලබන මධ්‍යම මණ්ඩලවල මගපෙන්වීම යටතේ පක්ෂයෙන් කොටසක් වැඩකිරීම ප්‍රතික්ෂේප කිරීම මගින් ඒත්තු ගැන්වීම ඔවුන්ගේ ක්‍රමය විය. නායකත්වය පිළිගැනීම ප්‍රතික්ෂේප කරන මිනිසුන් මෙහෙයැවීමට තරම් දක්ෂතාවයක් ඇතැයි ඔප්පු කිරීමට සමත් කිසිම පක්ෂයක කිසිම මධ්‍යම ආයතනයක් ලෝකයේ නැත. මධ්‍යම මණ්ඩලවල මග පෙන්වීම ප්‍රතික්ෂේප කිරීම, පක්ෂයේ තවත් දුර රැඳීසිටීම ප්‍රතික්ෂේප කිරීමකට සමානය, එය පක්ෂය කඩා කප්පල් කිරීමට සමානය, මෙය විනාශකිරීමේ මිස ඒත්තු ගැන්වීමේ ක්‍රමයක් නොවේ. ඒත්තු ගැන්වීම වෙනුවට විනාශ කිරීම සඳහා දරන මෙම ප්‍රයත්නයන් ඔවුනට ස්ථිර ප්‍රතිපත්ති නැති බවත්, ඔවුන්ගේම අදහස් ගැන ඔවුන් තුළ විශ්වාසයක් නැති බවත් පෙන්වයි.

ඔවුහු නිලධාරිවාදයක් ගැන කතා කරති. නිලධාරිවාදය නැමැති වචනය නිලය හා තත්ත්වය වටා සංකේන්ද්‍රණ ගත කිරීමක් හැටියට රුසියන් බසට පරිවර්තනය කළ හැකිය. නිලධාරිවාදය යනු පොදු වැඩවල වුවමනාවන් යම්කිසිවකුගේ වෘත්තීය වුවමනාවන් සඳහා යට කිරීමය. එහි තේරුම නිලය හා තත්ත්වය ගැන අවධාරණය කිරීමක් සහ වැඩ

* ප්ලෙහානව් සහෝදරයා හිතකාමී සම්බන්ධ කර ගැනීම සාර්ථක කළ පසු අල්පතරය ඉදිරියේ ඔහු තව දුරටත් නිලධාරිවාදී මධ්‍යගතවාදයේ ආධාරකරුවකු බවට පෙනී නොසිටින බව පෙන්වාදීම පමණක් ප්‍රමා-ණවත්ය.



කටයුතු අමතක කර දැමීමකි. එහි තේරුම අදහස් සඳහා සටන් කිරීම වෙනුවට තේරී පත්වීම සඳහා පොරකෑමකි. මෙවැනි නිලධාරිවාදයක් පක්ෂයට අහිතකරය, එමෙන්ම හානිකරය. මෙය ප්‍රශ්න නොකළ හැකි සත්‍යයකි. අප පක්ෂය තුළ තරහ කරන අංශ දෙකින් එවැනි නිලධාරිවා-දයකට වරදකරුවා කිනම් අංශයද යන්න තීරණය කිරීමට මම ඉතා සන්සුන් ලෙස පාඨකයාට භාර කරමි... සමගිය ඇතිකිරීමේ රළු යාන්ත්‍රික විධි ගැන ඔවුහු කතා කරති. රළු යාන්ත්‍රික විධි හානිකර බවට කිසිදු තර්කයක් නැත. යම්කිසි පුද්ගලයින්ගේ නව අදහස්වල නිවැරදිතාවය පිළිබඳව පක්ෂය ඒත්තු ගැනීමට පෙර, මෙම අදහස් පක්ෂයට ඉදිරිපත් කිරීමට පෙර එවැනි මිනිසුන් පක්ෂයේ සංවිධාන තුළට පැළපදියන් කිරීම පිණිස පැරණි ප්‍රවණතාවයකට විරුද්ධව නව ප්‍රවණතාවයක් සඳහා සටන් කිරීම තරම් රළු හා වඩාත් යාන්ත්‍රික ක්‍රමයක් ඇද්දැයි තීරණය කිරීම යළිත් මම පාඨකයාට භාර කරමි.

එහෙත් සමහර විට, අල්පතරයේ වාග්පාඨ මූලධර්ම පිළිබඳ යම්කිසි තේරුමක් ගෙන දෙන්නේද, දැන් අප ඉදිරියේ ඇති ප්‍රශ්නයේදී නිසැක ලෙසම ''වෙනස්වීමක්'' පටන්ගත් සුළු හා විශේෂ කාර්යය නොතකා ඒවා විශේෂ අදහස් සමූහයක් ප්‍රකාශ කරන්නේද? සමහර විට අප ''තෝරාපත් කිරීම'' පිළිබඳ කලහය පැත්තකට දැමුවොත් මේ වාග්පාඨ වෙනත් අදහස් පද්ධතියක් ප්‍රකාශ කරන බව වටහාගත හැකි වන්නේද?

අපි මේ ප්‍රශ්නය මෙම කෝණයෙන් සළකා බලමු. මෙසේ සළකා බැලීමට පෙර අප එක් කරුණක් වාර්තා කළ යුතුය. ප්ලෙහානව් සහෝ-දරයා එවැනි පරීක්ෂණයක් සඳහා ලීග් සමුළුවේදී පළමුවැනි ප්‍රයත්නය දැරීය. අල්පතරය අරාජිකවාදයට සහ අවස්ථාවාදයට නැඹුරුවී සිටින බව ඔහු පෙන්වා දුන්නේය. සිය 'වැටලීමේ තත්ත්වය' නැමැති පොත් පිංච මගින් මෙම පෙන්වාදීම සම්පූර්ණයෙන්ම අමතක කර දැමීමට මාර්තව් සහෝදරයා (ඔහුගේ මතභේදය ප්‍රතිපත්ති මූලක* එකක් බව පිළිගැනීමට හැම දෙනාම නොකැමැති නිසා ඔහු අමනාප වී සිටි) කැමැත්තක් දැක්වීය.

* මූලධර්ම පිළිබඳ මතභේද දැකීමෙහි සහ ඒවා නැතැයි කීමෙහි ලෙනින් යෙදෙතැ යි කියමින් නව ''ඉස්ක්‍රාව'' දුක්ගැනවිලි ඉදිරිපත් කිරීම තරම් හාස්‍යජනක සිද්ධියක් තවත් නැත. ඔබේ ආකල්පය මූලධර්ම මත පිහිටා තිබිණි නම්, ඔබ අවස්ථාවාදයට නැඹුරු වී ඇතැයි යළි යළිත් මවිසින් කළ ප්‍රකාශනය පරීක්ෂාකර බැලීමට ඔබ වඩාත් යුහුසුලු වීමට ඉඩ තිබිණි. ඔබේ තත්ත්වය වඩාත් මූලධර්ම මත පිහිටා තිබිණි නම්, දෘෂ්ටිය පිළිබඳ අරගලයක් පදවි සඳහා පොරකෑමක් දක්වා පහතට ඇද දැමීමට ඔබට නොහැකි වන්නට තිබිණි. මෙම තත්ත්වය නිසා ඔබ ඔබටම දෙස් පැවරිය යුතුය. මන්දයත්, ඔබ මූලධර්ම මත පිහිටා ක්‍රියා කරන

ලීගයක් හෝ කමිටුවක් විසින් තමන් සඳහා කෙටුම්පත් කරන රීති මාලාවක් හෝ ව්‍යවස්ථාවක්, මධ්‍යම කාරක සභාව එය සම්මත කිරීම ප්‍රතික්ෂේප කළද, මධ්‍යම කාරක සභාවේ සම්මතය නොමැතිවම, එය නීත්‍යානුකූල වන්නේදැයි යන පොදු ප්‍රශ්නය ලීග් සමුළුවේදී පැන නැගිණි. මෙතරම් පැහැදිලි ප්‍රශ්නයක් තවත් නැතැයි කෙනෙකුට සිතේ. ව්‍යවස්ථා මාලාවක් යනු සංවිධානයක් විධිමත් ලෙස ප්‍රකාශයට පත් කිරීමකි. අප පක්ෂයේ ව්‍යවස්ථා මාලාවේ හයවැනි වගන්තිය අනුව කමිටු සංවිධානය කිරීමේ බලය පැහැදිලි ලෙසම මධ්‍යම කාරක සභාව සතුව පවතී. කමිටුවක ස්වෛරීභාවයේ සීමා ව්‍යවස්ථා මගින් විග්‍රහ කර ඇත. මෙම සීමා විග්‍රහ කිරීමේදී තීරණාත්මක බලය ඇත්තේ මධ්‍යස්ථානයට මිස පක්ෂයේ ප්‍රාදේශීය ආයතනයන්ට නොවේ. මෙය මූලික දෙයකි. ''සංවිධානය කිරීම'' නිතරම ව්‍යවස්ථා මාලාවන් සම්මත කිරීමක් අභවන්නේ නැතැයි කියමින්, ගැඹුරු චින්තනයක් පෙන්වමින් තර්ක කිරීම හුදු ළාමක කමෙකි (විධිමත් ව්‍යවස්ථා පදනම් කරගනිමින් ලීගය සංවිධානය කළ යුතු බව මම ලීගයේම වුවමනාවෙන් ප්‍රකාශ නොකළාක් මෙනි). එහෙත් මාර්තව් සහෝදරයාට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ හෝඩිය අමතක වී ඇත (මෙය තාවකාලික යැයි අපි සිතමු). ඔහුගේ මතය අනුව, රීති සම්මත කළ යුතුයැයි ඉල්ලා සිටීම, 'ඉස්සර තිබූ විප්ලවවාදී ඉස්ක්‍රා මධ්‍යගතභාවය වෙනුවට, නිලධාරිවාදී මධ්‍යගත භාවයක් ඉදිරිපත් කිරීමකි (ලීග් වාර්තා, 95 පිටුව), මූලධර්ම මෙහිම රැඳී ඇතැයි (96 පිටුව) මාර්තව් සහෝදරයා සිය කතාවේදී සඳහන් කළේය. මේ මූලධර්මය ඔහු ඔහුගේ ''වැටලීමේ තත්ත්වය'' මගින් මතක් නොකිරීමට සම්පූර්ණයෙන්ම වගබලා ගත්තේය.

''නිලධාරිවාදය'' සහ ''උඩඟු නිලධාරියෝ'' වැනි වචන ''පක්ෂ සමුළුවේ ගෞරවයට කැළලක්''වන බැවින් එවැනි වචන පාවිච්චි නොකරන ලෙස ප්ලෙහානව් සහෝදරයා මාර්තව්ට ක්ෂණික පිළිතුරක් දුන්නේය (96 පිටුව). එවිට මාර්තව් සහෝදරයා සමග බහින් බස්වීමක් ඇතිවිය.

---

මිනිසුන් හැටියට පිළිගත නොහැකි වනසේ ඔබ හැම දෙයක්ම කර ඇත බැවිනි. නිදසුනක් වශයෙන් අපි මාර්තව් සහෝදරයා ගැන බලමු: සිය ''වැටලීමේ තත්ත්වය'' මගින් ඔහු ලීග් සමුළුව ගැන කතා කරන විට අරාජිකවාදය ගැන ප්ලෙහානව් සහෝදරයා සහ ඔහු අතර පැන නැගි මතභේදය ගැන කිසිවක් නොකියයි. එහෙත් ඒ වෙනුවට ඔහු අපට ලෙනින් අග්‍ර මධ්‍යස්ථානයක් බවත්, ලෙනින් ඉඟි කළ විගස මධ්‍යස්ථාන නියෝග නිකුත් කරන බවත්, මධ්‍යම කාරක සභාව ලීගය නොසලකා ක්‍රියා කර තිබෙන බවත්, ආදිය කියයි. මාර්තව් සහෝදරයා මේ විධියට සිය විෂයයන් තෝරා ගැනීමෙන් සිය පරමාදර්ශ හා මූලධර්මවල ගැඹුරුතාවය ගැන යසට ප්‍රදර්ශනය කළ බව මම නම් සැක නොකරමි.



මෙම ප්‍රකාශන විසින් එක් මූලධර්මය ප්‍රවණතාවයක ස්වරූපයක් පෙන්වන බව ඔහු දන්වා සිටියේය. එවකට ප්ලෙහානව් සහෝදරයා බහුතරයේ අන් සියලු ආධාරකරුවන් මෙන්ම මෙම ප්‍රකාශන ඒවායේ නියම වටිනාකම අනුව පිළිගත්තේය. මේවා තෝරාපත් කර ගැනීම ක්ෂේත්‍රයක් ලෙසට විස්තර කළ හැකිනම් මේවා එම ක්ෂේත්‍රයට මිස මූලධර්මවලට අයත් නොවන බව පැහැදිලි ලෙසම පිළිගැනිණි. එසේ වුවද මාර්තව්ලාගේ සහ දෙයිච්ලාගේ දැඩි ඉල්ලීමට ගරු කරමින්, (96—97 පිටු) මූලධර්ම පිළිබඳ දෘෂ්ටි කෝණය අනුව, ඔවුන්ගේ ඊනියා මූලධර්ම පරීක්ෂාකර බැලීමට ඔහු ඉදිරිපත් විය. ඔහු මෙසේ පැවසීය: ''එය එසේ නම්, (සිය සංවිධාන ගොඩනැගීමේදීත්, ව්‍යවස්ථා මාලා සකස්කර ගැනීමේදීත් කමිටු ස්වෛරී වන්නේ නම්) ඒවා මුළු සමස්තයටම, මුළු පක්ෂයටම සාපේක්ෂ වශයෙන් ස්වෛරී වනු ඇත. මෙය බුන්ඩ්වාදීන්ගේ මතයටත් වඩා වෙනස්ය. මෙය සම්පූර්ණ අරාජික මතයකි. අරාජිකයින් තර්ක කරන්නේ ඒ ආකාරයටය! පුද්ගලයින්ගේ අයිතිය සීමා රහිතය, ඔවුන් අතර සට්ටන ඇති විය හැකිය. අයිතීන් පිළිබඳ සීමාවන් තීරණය කරන්නේ ඒ ඒ පුද්ගලයා විසිනි. ස්වෛරීත්වයේ සීමාවන් තීරණය කළ යුත්තේ කණ්ඩායම් විසින් නොව, එම කණ්ඩායම අයත් සමස්තය විසිනි. මෙම මූලධර්මය උල්ලංඝනය කිරීමේ ඉතා කදිම නිදසුනකි, බුන්ඩ් සංවිධානය. ඒ අනුව, ස්වෛරීත්වයේ සීමා තීරණය කරන්නේ පක්ෂ සමුළුව විසිනි, නැතිනම් සමුළුව විසින් තෝරාපත් කරන උසස්තම සංවිධානය විසිනි. මධ්‍යම ආයතනයේ අධිකාරීත්වය අධ්‍යාත්මික හා බුද්ධිමය ගෞරවය මත රඳා පවතී. මෙතැනදී මම සත්තකින්ම එකඟ වෙමි. සංවිධානයේ හැම නියෝජිතයකුම, තම සංවිධානයේ අධ්‍යාත්මික ගෞරවය ගැන සැලකිලි දැක්විය යුතුය. එහෙත් ගෞරවය අවශ්‍ය අතර අධිකාරීත්වය අවශ්‍ය නැතැයි යන්න මින් අදහස් නොකෙරේ... අධිකාරීත්වයේ බලයට ප්‍රතිවිරුද්ධව අදහස් පිළිබඳ බලය ඉදිරිපත් කිරීම අරාජිකවාදී කතාවක් වන අතර ඒවාට මෙතැන ඉඩක් නොතැබිය යුතුය'' (98 පිටුව). මේවා ඉතා මූලික යෝජනා වන අතර ඇත්ත වශයෙන්ම ප්‍රත්‍යක්ෂ න්‍යායය වන්නේය. මේවා ඡන්දයට දැමීම පවා පුදුමයකි (102 පිටුව). මේවා ගැන සැක කර ඇත්තේ සංකල්ප ව්‍යාකූල කර ගෙන ඇති බැවිනි (එම පිටුව). එහෙත් අල්පතරයේ බුද්ධිවාදී පෞද්ගලවාදය නිසා ඔවුන් නොවැළැක්විය හැකිසේ සමුළුව කඩාකප්පල් කිරීමක් දක්වාත්, බහුතරයට යටත්වීම ප්‍රතික්ෂේප කිරීම දක්වාත් යොමු වී ඇත. මෙම අභිප්‍රාය සාධාරණ යැයි පෙන්විය හැක්කේ අන් කිසි විධියකින් නොව අරාජිකවාදී කතා මගින් පමණකි. ප්ලෙහානව්ගේ ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමට අපොහොසත්වූ අල්පතරය ඔහු අවස්ථාවාදය, අරාජිකවාදය, ආදී ප්‍රබල වචන භාවිතා කළහයි දුක්ගැනවිලි ඉදිරිපත් කිරීම

විහිළුවට කරුණකි. මේ දුක්ගැනවිලි සාධාරණ ලෙස හාස්‍යයට ලක්කළ ප්ලෙහානව් ජොරේස්වාදය සහ අරාජිකවාදය වැනි වචන භාවිතා කිරීම නුසුදුසු අතර lèse-majesté (මහරජ තුමාට අපහාස කිරීම) සහ උඩඟු නිලධාරිවාදය වැනි වචන සුදුසු මන්දැයි ප්‍රශ්න කළේය. මෙයට පිළිතුරු නොළැබිණි. මේ අරුම පුදුම qui pro quo* මාර්තව් සහ අක්සල්රොඩ් සහෝදරවරුන්ගේ සමාගමට නිතර සිදුවේ. ඔවුන්ගේ අළුත් වාග්පාය "උරණවීම" දක්වන සලකුණක් පැහැදිලි ලෙස ඇති කරයි. සත්‍ය කරුණු පෙන්වා දුනහොත් ඔවුහු අමනාප වෙති. ඔවුහු ප්‍රතිපත්ති ගරුක මිනිසුන් බව කියති. ප්‍රතිපත්ති අනුව කොටසක් වන ඔබ සමස්තයට යටත් නොවන්නේ නම් ඔබ අරාජිකවැදීන් වෙතියි ඔවුන්ට කියන විට ඔවුහු යළිත් අමනාප වෙති! එය සැර ප්‍රකාශනයක් බැවිනි! වෙනත් වචන වලින් කියතොත් ප්ලෙහානව්ට විරුද්ධව පහර ගැසීමට ඔවුන් සූදනම්ය, එහෙත් එක් කොන්දේසියක් අනුවය, ඔහු ඔවුන්ට තදබල ලෙස පහර නොගැසිය යුතුය.

මාර්තව් සහෝදරයා සහ අනිකුත් විවිධ 'මෙන්ෂෙවික්වරු'** පහත සටහන් "ප්‍රතිවිරෝධීතාවය" ඉදිරිපත්කර එසේම ළාමක ලෙස කිප වරක්ම මා වෙත වරද පැවරීමට උත්සාහ දරුහ: දෘෂ්ටිමය බලපෑම, බලපෑම සඳහා අරගලය ගැන සඳහන් කරන කළ යුත්තේ කුමක්ද? නැතිනම් සහෝදරයෙකුට ලියුමක් නැමැති කෘතීන් වලින් කොටසක් උපුටා දක්වමින් එය ව්‍යවස්ථා මාලාව මගින් බලපෑමේ නිලධාරිවාදී ක්‍රමයත්, අධිකාරය මත විශ්වාසය තැබීමේ "ඒකාධිපති" ප්‍රවණතාවයන් ආදී දේ සමග සන්සන්දනය කරති. ඔවුන් කොතරම් ළාමකද? ඉස්සර අපේ පක්ෂය විධිමත් ලෙස සංවිධානයවූ සමස්තයක්ව නොතිබුණු අතර එය වෙන්වූ කණ්ඩායම් කීපයකින් යුක්ත වූ බවත්, මේ හේතුව නිසා මේවා අතර දෘෂ්ටිමය බලපෑම් මිස වෙනත් සම්බන්ධකම් නොතිබුණු බවත් ඔවුන්ට දැනටමත් අමතක වී ඇත. දැන් අපි සංවිධානාත්මක දේශපාලන පක්ෂයක් බවට පත්වී සිටිමු. මෙය අධිකාරයක් පිහිටුවීම අදහස් කිරීමකි, අදහස් පිළිබඳ බලය, අධිකාරය පිළිබඳ බලයකට පරිවර්තනය කිරීමකි, පක්ෂයේ පහත් සංවිධාන උසස් සංවිධානවලට යටත් වීමකි. පැරණි සහෝදරවරුන්ට මෙවැනි මූලික කරුණු ගැන පැහැදිලි කිරීමට සිදුවීම පවා අසතුටට හේතුවකි. මෙය වඩාත් එසේ වන්නේ මේ සියලු කරුණු වලට හේතුව ඡන්දය විමසීමේදී අල්පතරය බහුතරයට යටවීමට ප්‍රතික්ෂේප කිරීම නිසාය! එහෙත් මූලධර්ම අනුව

* එකට එක ගැලපීම. — සංස්කාරක

** අල්පතරය මෙනමින් හැඳින්වේ. — සංස්කාරක



බලන විට, මෙය මගේ ප්‍රතිවිරෝධතාවයන් පිළිබඳව ඉමක් නැති මේ හෙළිදරව්කිරීම් අවසානයේදී අරාජිකවාදී වාග්පාය දෙඩවීමක් දක්වා පහතට වැටීමකි. නව "ඉස්ක්‍රාව" පක්ෂ ආයතනයක නිලය හා බලතල භුක්ති විඳීමට විරුද්ධ නැත. එහෙත් පක්ෂයේ බහුතරයට යටත් වීමට එය කැමති නැත.

නිලධාරිවාදය ගැන කතා කිරීම තුළ කිසියම් මූලධර්මයක් තිබේනම්, එය කොටසක් විසින් සමස්තයට යටත් වීම සිය යුතුකම ලෙස සැලකීම අරාජිකවාදී ලෙස ප්‍රතික්ෂේප කිරීමක් නොවේනම්, එවිට මෙතැන ඇත්තේ, නිර්ධන පංතියේ පක්ෂය කෙරෙහි පෞද්ගලික බුද්ධිමතුන්ගේ වගකීම අඩුකරන, මධ්‍යම ආයතනවල බලපෑම අඩුකිරීමට වැරදරන, පක්ෂය තුළ ඉතා අඩු ස්ථිරත්වයක් ඇති කොටස්වල ස්වෛරීභාවය විශාල කිරීමටද, සංවිධානාත්මක සම්බන්ධකම් හුදු භාවාත්මක හැඟීමක් බවට පත්කරන සහ ඒවා කට වචනයෙන් පමණක් පිළිගැනීමට යොමුවී ඇත්තාවූ අවස්ථාවාදී මූලධර්මයක් පමණකි. මාර්තව් සහ සමාගමේ කටවල්වලින් ඇද හැලෙන "බියජනක" මධ්‍යගතවාදය පිළිබඳ කතාවලට බොහෝ සමාන කතා අකීමව්ලා සහ ලිබෙර්ලා කියූ සැටි අප පක්ෂ සමුළුවේදී දුටිමු. මේ අවස්ථාවාදය ආකස්මිකයක් නොවන බවත්, මෙය ප්‍රකෘතියේ පවතින දෙයක් බවත්, රුසියාවේ පමණක් නොව, මුළු මහත් ලෝකයේම එය පවතින බවත්, මෙය මාර්තව්ගේ සහ අක්සල්රොඩ්ගේ සංවිධාන "මතවලට" යොමුවන බවත්, අක්සල්රොඩ් සහෝදරයා විසින් නව "ඉස්ක්‍රා" පුවත්පතට ලියන ලද ලිපිය පරීක්ෂාකර බැලීමේදී අපට පසුව දැකගැනීමට හැකිවනු ඇත.

## 16. විශාල සතුටක් වැලැක්වීමට සුළු අප්‍රසන්නතාවයන්ට ඉඩ නොදිය යුතුය

ලීගයේ ව්‍යවස්ථාවට මධ්‍යම කාරක සභාවේ අනුමැතිය තිබිය යුතුය යන යෝජනාව, ලීගය ප්‍රතික්ෂේප කිරීම (ලීග් වාර්තා 105 පිටුව) පක්ෂ සමුළුවේ බහුතරය විසින් ඒකමතිකව සටහන් කළ පරිදි "පක්ෂ ව්‍යවස්ථාව දැඩිලෙස උල්ලංඝණය කිරීමකි". ප්‍රතිපත්ති ගරුක මිනිසුන් විසින් කරනලද දෙයක් ලෙස මෙය සලකන්නේ නම්, මෙම උල්ලංඝණය කිරීම පූර්ණ අරාජිකවාදයකි. පක්ෂ සමුළුවට පසුව ඇතිවූ අරගල සහිත වාතාවරණයකදී මෙය පක්ෂයේ අල්පතරය විසින් බහුතරයට විරුද්ධව එදිරිවාදිකම් පිරිමැසීමට උත්සාහ දැරීමක්ය යන හැඟීමක් නොවැළැක්විය හැකිසේ ඇති කළේය (ලීග් වාර්තා, 112 පිටුව). මෙහි තේරුම ඔවුන් පක්ෂයට කීකරු වීමට හෝ පක්ෂය තුළ රැඳී සිටීමට හෝ අකමැති බවය.

ලීගයේ ව්‍යවස්ථා වෙනස් කළ යුතුයැයි ඉල්ලා සිටින මධ්‍යම කාරක සභාවේ යෝජනාවක් සම්මත කිරීම ලීගය ප්‍රතික්ෂේප කළ විට, (පිටු 124—125) පක්ෂ සංවිධානයක සභාවක් ලෙස ගණන් ගත යුතුයැයි ඉල්ලා සිටින මෙම රැස්වීම, ඒ සමගම පක්ෂයේ මධ්‍යම ආයතනයේ නියෝගයන් පිළිපැදීමට ප්‍රතික්ෂේප කරන නිසා, එය නීතිවිරෝධි රැස්වීමක් ලෙස ප්‍රකාශ කිරීමට නොවැළැක්විය හැකියේ සිදුවී ඇත්තේය. ඒ අනුව මෙම quasi-පාක්ෂික* රැස්වීමෙන් පක්ෂයේ බහුතරයේ අනුගාමිකයෝ වහාම ඉවත්වූහ. ඔවුන් එසේ කළේ මෙම කැත විහිළුවට සහභාගි නොවීම පිණිසය.

සංවිධානාත්මක සම්බන්ධකම් පිළිබඳ හැඟීමෙන් තොර පිළිගැනීමක් සහිත බුද්ධිමතාගේ පෞද්ගලිකවාදයේ වැනෙන සුලු බව ව්‍යවස්ථාවේ පළමුවැනි කොටස පිළිබඳ විවාදයේදී හෙළි විය. ඒ අනුව එය, පක්ෂ සමුළුවට මාස එකහමාරකට කලින්, සැප්තැම්බර් මාසයේදී මා පළකළ අනාවැකිය අනුව තර්කානුකූල අවසානයට එනම් පක්ෂ සංවිධානය කඩාකප්පල් කිරීම දක්වා පැමිණ ඇත. මෙම අවස්ථාවේදී, ලීග් සමුළුව අවසන් වූ ද සවස, පක්ෂ මධ්‍යම ආයතනයන් දෙකේ සිය සගයින්ට ප්‍රකාශයක් කළ ප්ලෙහානව් සහෝදරයා, "සහෝදරවරුන්ට වෙඩි තැබීමට" තමාට නොපුළුවන් බවත්, පක්ෂය භේද වී දෙකඩ වනවාට වඩා "සියදිවි හානි කර ගැනීම" හොඳ බවත් පැවසීය. වඩාත් විශාල හානියක් වළක්වාලනු පිණිස උපරිමය පෞද්ගලික වාසිදීමක් කළ යුතු බව ඔහු පෙන්වා දුන්නේය. මෙම විනාශකාරී අරගලය පටන්ගෙන ඇත්තේ (ව්‍යවස්ථාවේ පළමුවැනි කොටස පිළිබඳව වූ වැරදි සහිත තත්ත්වයෙන් පැහැදිලි ලෙස පෙනෙන මූලධර්මවලට වඩා බොහෝ සෙයින්ම) පෞද්ගලික හේතූන් නිසාය. එක්තරා පොදු පාක්ෂික වැදගත්කමක් දරූ ප්ලෙහානව්ගේ මෙම වෙනස්වීම පිළිබඳ වඩාත් නිවැරදි විස්තරයක් ඉදිරිපත් කිරීම සඳහා පෞද්ගලික සාකච්ඡා සහ පෞද්ගලික ලියුම් (නොකරම බැරි තත්ත්වයක් ඇතිවූවොත් මිස ප්‍රයෝජනයට නොගත යුතුයැයි මම කල්පනා කරමි. මුළු මහත් පක්ෂයේ කටයුතු ගැන ප්ලෙහානව් විසින් කරන ලද ප්‍රකාශනය, එනම් අංක 52 "ඉස්ක්‍රා" පත්‍රයට ඔහු විසින් ලියනලද "නොකළ යුත්තේ කුමක්ද?" ලිපිය ඒ සඳහා ප්‍රයෝජනයට ගනිමි. මෙය ලියා ඇත්තේ ලීග් සමුළුව අවසන් වූ විගසමය, මධ්‍යම පුවත්පතේ කර්තෘ මණ්ඩලයෙන් මා ඉල්ලා අස්වූ ඉක්බිතිවය (1903 නොවැම්බර් 1 ද), මාර්තව්වාදීන් සම්බන්ධ කර ගැනීමට පෙරය (1903 නොවැම්බර් 23 ද).

---

* — පාක්ෂික රැස්වීමක් සේ පෙනෙන.



"නොකළ යුත්තේ කුමක්ද" ලිපියෙහි ප්‍රධාන මතය දේශපාලනයෙහිදී උඩඟු නොවිය යුතු බවත්, වුවමනාවට වඩා දැඩි නොවිය යුතු බවත්, දරදඬු නොවිය යුතු බවත්ය. පක්ෂ භේදයක් වළක්වාලීම සඳහා සංශෝධනවාදීන්ට (අප වෙත ළංවන අය අතර සහ අස්ථිර අය අතර) පවා ඉඩදීම සහ අරාජිකවාදී පුද්ගලයින්ට ඉඩදීමද සමහර විට අවශ්‍ය වන්නේය. "ඉස්ක්‍රා" පාඨකයින් අතර මේ වියුක්ත පොදු නිගමනයන් නිසා විමතියක් ඇතිවීම ස්වාභාවිකය. ප්ලෙහානව් සහෝදරයාගේ (ඉන් අනතුරුව පළකළ ලිපි මගින්) අනර්ඝ සහ උඩඟු ප්‍රකාශන අනුව ඔහුව නිසිලෙස අවබෝධ කර ගෙන නැත්තේ දයලෙක්තික පිළිබඳ මඳ දැනීම සහ ඔහුගේ අදහස්වල නවතාවය නිසායැයි කියන විට කෙනෙකුට සිනා නොවී සිටිය නොහැකිය. ඇත්ත වශයෙන්ම "නොකළ යුත්තේ කුමක්ද" යන ලිපිය ලියූ වකවානුවේදී එය වටහාගත හැකි පුද්ගලයින්ගේ සංඛ්‍යාව දුසිමක් පමණ විය. මේ අය එකම මුල අකුරකින් පටන් ගන්නා ජිනිවා නගරාසන්න පෙදෙස් දෙකක වාසය කළහ.[36] ප්ලෙහානව් සහෝදරයාගේ අවාසනාව වූයේ අල්පතරයට විරුද්ධව පශ්චාත් සමුළු අරගලයෙහි සියලු අවස්ථාවල මුල සිටම යෙදීසිටි මිනිසුන් දුසිමකට එල්ල කළ ඇනුම්පද, දෝෂාරෝපණ, වීජ ගණිතමය සංඥා සහ තේරවිලි මහ ගොඩක් දස දහස් සංඛ්‍යාවක් වූ පාඨකයින් ඉදිරියේ තැබීමය. මේ අවාසනාව ප්ලෙහානව් සහෝදරයාගේ හිස මත කඩාවැදුනේ, ඔහු විසින් අවාසනාවන් ලෙස උපුටා දක්වූ දයලෙක්තිකවල මූලික ප්‍රතිපත්ති එනම්, වියුක්ත සත්‍යයක් නැත්තේය, සත්‍යය නිතරම සංයුක්තය යන මූලධර්මය ඔහු උල්ලංඝනය කළ බැවිනි. සමුළුවෙන් අනතුරුව මාර්තව්වාදීන්ට ඉඩදීම නැමැති සංයුක්ත අදහසින් වියුක්ත අදහසක් මවාපෑම ස්ථානයට නොගැළපුණේ මේ හේතුව නිසාය.

ප්ලෙහානව් සහෝදරයා විසින් අළුත් රණ ඝෝෂාවක් ලෙස ඉදිරිපත් කරන ලද ඉඩදී පසුබෑම නීත්‍යානුකූල සහ අවශ්‍යවන්නේ අවස්ථා දෙකකදීය: පසුබෑ යුතුයැයි ඉල්ලා සිටින අය නිවැරදි බව පසුබෑමට ඉදිරිපත් වන්නා විසින් ඒත්තු ගත් විටදීත් (මෙවැනි අවස්ථාවලදී අවංක දේශපාලන නායකයෝ ඍජු ලෙසත්, ප්‍රසිද්ධියේත් තම වරද පිළිගනිති), නැතිනම් වඩාත් විශාල හානියකින් බේරීම සඳහා අහේතුක හා හානිකර ඉල්ලීමකට ඉඩදී පසුබසින විටදීත්ය. අප සාකච්ඡාවට භාජනය කරන ලිපිය අනුව බලන විට, එහි කතුවරයා දෙවැනි අවස්ථාව ගැන සිතන බව පැහැදිලිය. සංශෝධනවාදීන්ට සහ අරාජික පුද්ගලවාදීන්ට ඉඩදී පසුබෑමක් ගැන ඔහු ඉතා සරළ ලෙස කතා කරයි (ලීග් වාර්තා අනුව පක්ෂයේ සෑම සාමාජිකයකුම දූන් දන්නා පරිදි එය මාර්තව්වාදීන්ට ඉඩදී පසුබැසීමකි). පක්ෂය භේදවීමක් වළක්වාලීම සඳහා මෙය අවශ්‍ය බව ඔහු පවසයි.

ප්ලෙහානව් සහෝදරයාගේ නව අදහස, එතරම් අළුත් නොවන පොදුජන බුද්ධිමත් ප්‍රස්ථාව පිරුළක් වෙත අප යොමුවෙයි: විශාල සතුටක් වැලැක්වීමට සුළු අප්‍රසන්නතාවයන්ට ඉඩ නොදිය යුතුය. අවස්ථාවාදී කුඩා වරදක් සහ කුඩා අරාජිකවාදී කතා පක්ෂයේ විශාල භේදයකට වඩා හොඳය, යනු මෙහි අදහසය. ප්ලෙහානව් සහෝදරයා මෙම ලිපිය ලියන විට, අල්පතරය අප පක්ෂයේ අවස්ථාවාදය නියෝජනය කරන බවත්, ඔවුන් අරාජිකවාදී අවි රැගෙන සටන් කරන බවත් ඔහු පැහැදිලි ලෙසම දැන සිටියේය. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් බර්න්ෂ්ටයින්ට විරුද්ධව සටන් කළ පරිදි (නැවතත් si licet parva componere magnis) ප්ලෙහානව් සහෝදරයා මෙම අල්පතරයට විරුද්ධව සටන් කිරීම සඳහා පෞද්ගලික වාසිදීමේ සැලැස්ම ඉදිරිපත් කළේය. වටපිටාවේ බලපෑමට බර්න්ෂ්ටයින් සහෝදරයා තරම් ලෙහෙසියෙන් යටත්වන කෙනෙකු තමා නොදන්නා බව සිය පක්ෂ සමුළුවේදී බේබෙල් ප්‍රසිද්ධියේම ප්‍රකාශ කළේය. (ඉස්සර ප්ලෙහානව් සහෝදරයා ආමන්ත්‍රණය කිරීමට ආශාකළ පරිදි බර්න්ෂ්ටයින් මහතා නොව සහෝදර බර්න්ෂ්ටයින්). ඔහුව අපේ වටපිටාවට ගනිමු, අපි ඔහු රයික්ස්ටාගයේ මන්ත්‍රීවරයකු බවට පත්කරමු, සංශෝධනවාදියා වෙත උචිත නොවන දැඩි බවක් (à la සබකේවිච්[37]-Parvus) දක්වමින් නොව, කරුණා මෛත්‍රියෙන් අපි ඔහු මරා දමමින් (kill with kindness) සංශෝධනවාදයට විරුද්ධව සටන් කරමු; ඉංග්‍රීසි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ රැස්වීමකදී ඇම්. බියර් (M. Beer) සහෝදරයා, ඉංග්‍රීසි ජාතික සබකේවිච් — හයින්ඩ්මන්ට විරුද්ධව සටන් කිරීමේදී ජර්මන් වාසිදීම, සමාදානකාමීත්වය මෘදු ගතිය, නම්‍යතාවය සහ සුපරීක්ෂාකාරීත්වය ආරක්ෂා කරමින් එසේ පැවසූ බවක් මට මතකය. මෙන්න මේ ආකාරයටම ප්ලෙහානව් සහෝදරයා, අක්සල්රොද් සහ මාර්තව් සහෝදරවරුන්ගේ කුඩා අරාජිකවාදයත්, කුඩා අවස්ථාවාදයත් ''කරුණා — මෛත්‍රියෙන් මරා දැමීමට'' ඉදිරිපත් වී ඇත. සැබැවකි, ප්ලෙහානව් සහෝදරයා 'අරාජික පෞද්ගලිකවාදය' ගැන ඉතා පැහැදිලි ලෙස ප්‍රකාශ කළද, ඔහු සංසෝධනවාදීන් ගැන වුවමනාවෙන්ම ඉතා නොපැහැදිලි ලෙස ප්‍රකාශ කළේය. ඔහු එම ප්‍රකාශනය කරන විට, අවස්ථාවාදයේ සිට ආධාන ග්‍රාහීත්වය දක්වා වැනෙමින් සිටි රබෝචිය ද්යල වාදීන් ගැන කියන බව ඇඟවීමට විශේෂ උත්සාහයක් දැරුවද, ආධාන ග්‍රාහීත්වයේ සිට අවස්ථාවාදය දක්වා වැනෙමින් සිටින අක්සල්රොඩ් සහ මාර්තව් ගැන කිසිදු සටහනක් නොකළේය. එහෙත් මෙය



නිර්දෝෂී මිලිටරි යුද්ධ උපායක්* පමණකි;පක්ෂ වෙඩි පහරට ඔරොත්තු නො දෙන දුර්වල බල පවුරක් පමණකි.

අප විසින් විස්තර කරනු ලබන දේශපාලන වකවානුවට අයත් සැබෑ කරුණු ගැන දන්නා ඕනෑම කෙනෙක්, ප්ලෙහානව් සහෝදරයාගේ බුද්ධියේ අභ්‍යන්තරයට කාවැදීමට සමත් ඕනෑම කෙනෙක්, මෙවැනි අවස්ථාවකදී මා ක්‍රියා කළ ආකාරයට වඩා වෙනස් ලෙසකට ක්‍රියා කිරීමට මට හැකියාවක් නොතිබුණු බව පිළිගනු ඇත. කර්තෘ මණ්ඩලය පාවාදීම ගැන මට දෙස් පවරන බහුතරයේ ආධාර කරුවන්ගේ ප්‍රයෝජනය පිණිස මම මෙලෙස ප්‍රකාශ කරමි. ලීග් සමුළුවෙන් පසු, බහුතරයේ ආධාර කරුවකුව සිට, සියලු තත්ත්වයන් යටතේ සමගි වීමේ ආධාර කරුවකු බවට ප්ලෙහානව් සහෝදරයා පත් වූ විට, ඒ පිළිබඳව ඉතාම හොඳ අර්ථ කථනයක් ඉදිරිපත් කිරීමට මට සිදුවිය. සමහරවිට, ප්ලෙහානව් සහෝදරයාට සිය ලිපිය මගින්, සුහද සහ අවංක සාමයක් සඳහා වැඩපිළිවෙලක් ඉදිරිපත් කිරීමට වුවමනා වීද? එවැනි වැඩ පිළිවෙලක් දෙපක්ෂයම කළ වැරදි අවංක ලෙස පිළි ගැනීමක් සඳහා යොමුවිය යුතුය. බහුතරය විසින් පිළිගතයුතු යැයි ප්ලෙහානව් පෙන්වා දෙන වැරදි මොනවාද? එය නම් සංශෝධනවාදීන් කෙරෙහි සබකේවිච් වැනි දැඩි ගතියක් නුසුදුසු ලෙස පෙන්වීමය. එවැනි දෙයකින් ප්ලෙහානොව් සහෝදරයා අදහස් කළේ කුමක් දැයි අපි නොදනිමු: බූරුවන් පිළිබඳ ඔහුගේ නර්මාලාපයෙන්ද

* පක්ෂ සමුළුවට පසු මර්තීනව්, අකීමව් සහ බ්රුකෙර්ට වාසිදීම පිළිබඳ ප්‍රශ්නයක් කොහෙත්ම නොවීය. ඔවුන්වත් පත් කර ගත යුතු යැයි ඉල්ලා සිටීමත් කළ බව මම නොදනිමි. ''පක්ෂයේ අඩක් වෙනුවෙන්'' ලියුම් සහ සටහන් එවන විට, ස්තාරොවේර් සහෝදරයා හෝ මාර්තව් සහෝදරයා හෝ බ්රුකෙර් සහෝදරයාගෙන් උපදෙස් ගත් බවක් පවා මම සැක කරමි. ලීග් සමුළුවේදී මාර්තව් සහෝදරයා නොසැලෙන දේශපාලන සෙනවියකු සේ ගැඹුරු කෝපයකින් යුතුව රියසානොව් හෝ මර්තීනව් සමග සංගමයක් ඇති කර ගැනීමේ අදහසද, ඔවුන් සමග ''ගනුදෙනු'' කිරීමේ හැකියාවද, නැතිනම් ''ඒකාබද්ධ පක්ෂ සේවාවක් වූවද'' (කර්තෘ වරයකු වශයෙන්. ලීග් වාර්තා 53 පිටුව) ප්‍රතික්ෂේප කළේය. ලීග් සමුළුවේදී මාර්තව් සහෝදරයා මර්තීනව්වාදී ප්‍රවණතාවයන් දැඩි ලෙසම හෙළා දුටුවේය (88 පිටුව). ''අකීමව්, මර්තීනව් සහ අනිත් සහෝදරවරුන්ට එක් රැස්වී ඔවුන් රිසි ව්‍යවස්ථා මාලාවක් සාදගැනීමට ඔවුනට අයිතියක් තිබෙන බව අක්සල්රොඩ් සහ මාර්තව් සහෝදරවරුන් කල්පනා කරති'' (99 පිටුව) ඕර්තොඩොක්ස් සහෝදරයා ඇඟ වූ විට, ක්‍රිස්තුස්වහන්සේව ප්‍රතික්ෂේප කළ පේදුරු තුමා මෙන්, මාර්තව් වාදීන්ද එය ප්‍රතික්ෂේප කළහ. (100 පිටුව, ''ඕතොඩොක්ස් සහෝදරයාගේ සැකය,'' ''අකීමව්, මර්තීනව් ආදීන් පිළිබඳව,'' ''පදනම් නැතිය.'')

නැතිනම් ඇක්සල්රොඩ් ඉදිරියේ අරාජිකවාදය සහ අවස්ථාවාදය ගැන අන්තවාදී නොසැලකිල්ලකින් කතා කිරීමෙන්ද ඔහු අදහස් කළේ කුමක්ද? ප්ලෙහානව් සහෝදරයා සිය අදහස් වියුක්ත ලෙස ප්‍රකාශ කිරීමට කැමති විය. ඒ අතරම ඔහු වෙනත් පුද්ගලයකු ගැන ඉඟි කළේය. සත්තකින්ම මෙය රුචිය පිළිබඳ ප්‍රශ්නයකි. එහෙත් මම මගේ පෞද්ගලික දැඩිකම ගැන ඉස්ක්‍රාවට ලියූ ලිපියක් මගින් සහ ලීග් සමුළුමේදී ද විවෘත ලෙස පිළිගතිමි. එවිට බහුතරය එවැනි ''වරදක්'' කළ බව පිළිගැනීම මා ප්‍රතික්ෂේප කරන්නේ කෙසේද? අල්පතරය පිළිබඳව නම්, ප්ලෙහානව් සහෝදරයා ඔවුන්ගේ අල්පතරයේ සංශෝධනවාදය සහ පක්ෂයේ භේදයකට පවා තුඩු දුන් අරාජිකවාදය ගැන පැහැදිලි ලෙසම පෙන්වා දී ඇත (පක්ෂ සමුළුවේදී අවස්ථාවාදය ගැනත්, ලීග් සමුළුවේදී ජොරේස්වාදය ගැනත් ඔහු කළ කතා සන්සන්දනය කරන්න). මේ වැරදි ඔවුන් ලවා කරන පිළිගැන්වීමකට සහ පෞද්ගලික වාසිදීම හා පොදුවේ "kindness" (''කරුණාව'') දැක්වීමකටද මට විරුද්ධ විය හැකිද? ප්ලෙහානව් සහෝදරයා සිය ''නොකළ යුත්තේ කුමක්ද?'' නැමැති ලිපිය මගින්, ''වැනෙන සුලු ප්‍රතිපත්ති'' නිසා සංශෝධනවාදීන් බවට පත්වූ සංශෝධනවාදීන් අතර විරුද්ධ කරුවන්ට සමාව දෙන ලෙස අපට සෘජු ලෙසම ආයාචනය කළ විට, එවැනි ප්‍රයත්නයකට මට විරුද්ධ විය හැකිද? මේ ප්‍රයත්නය කෙරෙහි මගේ විශ්වාසයක් නැතිනම්, ප්‍රධාන පුවත්පත සම්බන්ධයෙන් මවිසින් වාසිදීමක් කර, බහුතරයේ තත්ත්වය ආරක්ෂා කරනු පිණිස මධ්‍යම කාරක සභාවට* යාම හැර මවිසින් කළ හැක්කේ වෙන කුමක්ද? මෙවැනි ප්‍රයත්නයන්ගේ හැකිකම නිරපේක්ෂ ලෙස නැති

* මා avec arms et bagages (අවි සහ පෙට්ටි සහිතව — සංස්කාරක — ගියේ යැයි මාර්තව් සහෝදරයා කී විට ඔහු එය යෝග්‍ය ලෙස හැඳින් වීය. මිලිටරි උපමා හෙනහැර දක් වීමට මාර්තව් සහෝදරයා ඉතා කැමතිය: ලීගයට විරුද්ධව ව්‍යාපාරය, යුද්ධ කිරීම, සුව නොකළැකි තුවාල ආදිය ය. ඇත්ත කියන්නේ නම්, මිලිටරි වචන ඉදිරිපත් කිරීම සඳහා මා තුළද ඇත්තේ බලවත් ආශාවකි. විශේෂයෙන්ම ශාන්තිකර සාගරයේ පුවත් ඉතා ඕනෑකමකින් අසන විට එසේ වේ. එහෙත් මාර්තව් සහෝදරය, අප මිලිටරි භාෂාව පාවිච්චි කරන්නේ නම් කතාව මෙසේ වනු ඇත. පක්ෂ සමුළුවේදී අපි බලකොටු දෙකක් අල්ලා ගතිමු. ලීග් සමුළුවේදී ඔබ ඒවාට පහර ගැසීය. කෙටි වෙඩිතබාගැනීමකින් අනතුරුව මගේ සගයා, එක් බල කොටුවක අණදෙන නිලධාරියා, සතුරා ඉදිරියේ බල කොටුවේ දොර හැරියේය. එවිට මම ඉතිරිවී ඇති අනික් කුඩා කාලතුවක්කු ආදිය ගෙන අනික් බල කොටුවට වැදුනෙමි. මෙය කොහෙත්ම ආරක්ෂා කොට නැති තරම්ය. සංඛ්‍යාවෙන් වැඩි සතුරාගේ 'වැටලීමට විරුද්ධව'නැඟී සිටීම සඳහා මම එසේ කරමි. බලවේග දෙකකට



කර දැමීමට මට බැරි නිසාත්, භේදයක තර්ජනයේ වගකීම සම්පූර්ණයෙන් මා පිට පවරා ගැනීමට බැරි නිසාත්, ඔක්තෝබර් 6 ද මගේ ලිපියෙන් මම මේ සියල්ලටම හේතුව ''පෞද්ගලික නොරිස්සීම'' බව සඳහන් කළෙමි. එහෙත් බහුතරයේ තත්ත්වය ආරක්ෂා කිරීම, මගේ දේශපාලන යුතුකම බව මම විශ්වාස කළෙමි, දැනුදු එසේම විශ්වාස කරමි. මෙහිදී ප්ලෙහානව් සහෝදරයාගේ ආධාරය බලාපොරොත්තු වීම අසීරු මෙන්ම අනතුරු සහගතය.මන්දයත්,ඔහුගේ ''සිය යුද්ධමය හැඟීම් දේශපාලනමය සුභද බලාපොරොත්තු වලට පටහැනිව නැඟී සිටින විට, නිර්ධන පංතික නායකයකුට එවැනි හැඟීම්වලට යටවීමට අයිතියක් නැත,'' යන සිද්ධාන්තයෙන් මෙසේ කියැවෙන බව හැම දෙයකින්ම පෙනී ගිය බැවිනි: වෙඩිතැබීමට සිදුවන්නේ නම්, අරපරිස්සම් ඇතිව වෙඩි තැබිය යුතු බවත්, (නොවැම්බර් මාසයේ ජිනීවා නගරයේ දේශගුණය කල්පනාවට ගනිමිනි) බහුතරයට වෙඩි තැබිය යුතු බවත් දයලෙක්තික ලෙස පහදා දීමට ප්ලෙහානව් සහෝදරයා සූදනම්ව සිටියේය... බහුතරයේ ප්‍රතිපත්තිය ආරක්ෂා කිරීම අත්‍යාවශ්‍යය මන්දයත් විප්ලවවාදියකුගේ නිදහස් (?) අභිමතය පිළිබඳ ප්‍රශ්නය ගැන සලකා බලන විට, ප්ලෙහානව් සහෝදරයා — සංයුක්ත සහ අංග සම්පූර්ණ පරීක්ෂණයක් ඉල්ලා සිටින දයලෙක්තිකය උපහාසයට ලක් කරමින් — විප්ලවවාදියකු කෙරෙහි විශ්වාසය තැබීමේ ප්‍රශ්නයත්, පක්ෂයේ නියත අංශයකට නායකත්වය දෙන නිර්ධන පංතික නායකයකු කෙරෙහි දක්වන විශ්වාසය පිළිබඳ ප්‍රශ්නයත් වාම් ලෙස මග හැරිය බැවිනි. අරාජිකවාදී පෞද්ලිකවාදය ගැන කතා කරන විට සහ විනය උල්ලංඝණය කිරීම් වලට සමහර අවස්ථාවලදී ඇස් පියාගන්නා ලෙසත්, විප්ලවවාදී අදහස්වලට කොහෙත්ම කැප නොවූ හැඟීම් අනුව මුල්බැස තිබෙන බුද්ධිවාදී දුර්වල කම්වලට ''සමහර අවස්ථාවලදී'' ඉඩ දෙන ලෙසත්, ප්ලෙහානව් සහෝදරයා අපට කියන විට, පක්ෂයේ බහුතරයේ ස්වාධීන අභිමතයද අප පිළිගත යුතු බවත්, අරාජිකවාදී පුද්ගලයින්ට කොතරම් දුරට ඉඩ දෙනවාද යන ප්‍රශ්නය තීරණය කිරීම පක්ෂයේ ප්‍රායෝගික කාරකවරුන්ට භාරදිය යුතු බවත්, අපට පෙනෙන හැටියට ප්ලෙහානව් සහෝදරයාට අමතක වී ඇත. සාහිත්‍ය ක්ෂේත්‍රයේදී අරාජිකවාදී ළාමක විකාරයන්ට විරුද්ධව සටන් කිරීම

විරුද්ධව සටන් කිරීමට නොහැකි නිසා මම සමාදනයක් පවා යෝජනා කරමි. එහෙත් මගේ යෝජනාවට පිළිතුරු වශයෙන් අළුත් මිතුරෝ මගේ අවසාන බලකොටුවටද පහර දෙති. මම පෙරළා පහර දෙමි. එවිට මගේ පැරණි සගයා අණ දෙන නිලධාරියා ඉතා දැඩි කෝපයකින් කෑ ගසයි: සැදූහැවතුනි බලාපල්ලා! මේ චේම්බර්ලේන් සමාදනයට කොතරම් අකමැතිද!

ලෙහෙසි වුවද, අරාජිකවාදී පුද්ගලවාදියෙකු සමග එකම සංවිධානයක් තුළ ප්‍රායෝගික වැඩ කටයුතු කරගෙන යාම ඉතා අසීරුය. ප්‍රායෝගික ලෙස අරාජිකවාදයට ඉඩදීමේ ප්‍රමාණය ගැන තීරණය කිරීමේ කාර්යය භාරගන්නා ලේඛකයෙකු අධිකතර සහ සැබවින්ම දෘෂ්ටි නිවේශක ස්වභාවයේ වූ ස්වකීය සාහිත්‍ය අභිමානය පෙන්නුම් කරයි.පක්ෂයේ අළුත් භේදයක් ඇතිවුවොත් අප අවබෝධ කැරගැනීමට කම්කරුවන්ට බැරි වනු ඇතැයි ප්ලෙහානව් සහෝදරයා මහාමාන්‍ය ලෙස (බසාරව්[38] ප්‍රකාශ කළාක් මෙන් වැදගත්කම සඳහා) ප්‍රකාශ කළේය. එහෙත් ඒ සමගම ඔහු නව ඉස්ක්‍රාවේ සීමාවක් නැති ලිපි රාශියකට මුල පිරුවේය. මේවායේ සැබෑ සහ සංයුක්ත තේරුම වටහා ගැනීමට කම්කරුවන්ට පමණක් නොව, පොදුවේ ලෝකයාටද නොපුළුවන. මධ්‍යම කාරක සභාවේ සාමාජික-යෙක්, ''නොකළ යුත්තේ කුමක්ද?'' නැමැති ලිපියේ ශුද්ධි පිටපත කියවා, එක්තරා ප්‍රකාශනයක්, එක්තරා ප්‍රමාණයකින් අඩු කිරීමේ (පක්ෂ සමුළුවේ සහ ලීග් සමුළුවේ වාර්තා කෙටිකිරීම) සැලැස්ම අසාර්ථකවීමේ අන්තරය ගැන ප්ලෙහානව් සහෝදරයාට අවවාද කිරීම පුදුමයක් නොවේ. එම ලිපිය නිසා එම අරමුණ විනාශ වනු ඇත. එයින් කුතුහලය අවුස්සන, සාමාන්‍ය ජනතාවට කට භාරවන නමුදු වටහා නොගත හැකි දෙයක් විනිශ්චය* සඳහා ඉදිරිපත් කරනු ඇත. එයින් නොවැළැක්විය හැකි ලෙස අන්දමන්දවන ජනතාව මෙලෙස ප්‍රශ්න කරනු ඇත: ''මොනවා වෙලාද?'' ප්ලෙහානව් සහෝදරයාගේ මෙම ලිපියේ තර්කවල වියුක්ත භාවය සහ ඉඟිකිරීම්වල නොපැහැදිලිතාවය නිසා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ හතුරන් ප්‍රීතියෙන් උද්දම වීමද, ''රෙවලූත්සියොන්නය රසියා''[40] පුවත්පත කැන්කැන් නැටුමක යෙදීමද, ''අස්වබෂ්දේනිය'' පුවත්පත සංශෝ-ධනවාදීන්ට ඉමහත් ප්‍රමෝදයකින් ප්‍රසංශා කිරීමද පුදුමයක් නොවේ. මේ හාස්‍ය ජනක සහ කනගාටුදායක වැරදි වැටහීම්වල උල්පත — ප්ලෙහා-නොව් සහෝදරයා පසුව මේවායින් එතරම් හාස්‍යජනක ලෙසත් කනගා-

*අපි දෙරවල් වසන ලද ශාලාවක් තුළට වී,උණුසුම් ලෙසත්,උත්සුක්ත ලෙසත් තර්ක කළෙමු. අපෙන් එකෙක් නැගී සිට ජනේලයක් හැර දමයි. ඔහු සබකේව්චිලාට, අරාජිකවාදී පුද්ගලයින්ට, සංශෝධනවාදීන්ට ආදීන්ට විරුද්ධව කෑගසයි. පාරේ යන වැඩක් නැති අය එතැනට රොක් වීමත්, අපේ සතුරන් සතුටු වීමත් ස්වාභාවිකය. අනිත් අය කිසිවකු නොදන්නා දේ ගැන නොකියා විවාදයට භාජනය වී ඇති කරුණු ගැන විස්තර කිරීමට ඉදිරිපත් වෙති. සණ්ඩු දබර ගැන කතා කිරීම වැඩකට නැති දෙයකැයි පවසමින් එවිට ජනේල දොර වැසේ. (ඉස්ක්‍රා අංක 53, 8 පිටුව. දෙවැනි කොළම. 24 පෙළ) ''සණ්ඩුදබර'' ගැන සාකච්ඡාවක් ''ඉස්ක්‍රා'' වේ පටන් ගැනීම සුදුසු නැත, ප්ලෙහානව් සහෝදරය.[39] — එලෙස කීම සත්‍යයකි!



ටුදායක ලෙසත් මිදීමට තැත් කළේය — පවතින්නේ පැහැදිලි ලෙසම දයලෙක්තිකයේ මූලික ප්‍රතිපත්ති උල්ලංඝණය කිරීම තුළය: සංයුක්ත ප්‍රශ්න, ඒවාට අයත් සියලු සංයුක්ත කරුණු අනුව පරීක්ෂණයට භාජනය කළ යුතුය. විශේෂයෙන්ම ස්ට්රුවේ මහතාගේ ප්‍රීති ප්‍රමෝදය ස්වාභා-විකය: ප්ලෙහානව් සහෝදරයා අනුගමනය කළ (නමුදු මුදුන් පමුණුවා ගත නොහැකි වූණු) යහපත් පරමාර්ථ (kill with kindness) ගැන ඔහු මඳකුදු නොසැලකීය. දූත් හැම කෙනෙකුටම පැහැදිලි ලෙස පෙනෙන පරිදි, නව ඉස්ක්‍රාවෙන් ආරම්භ වූණු, අපේ පක්ෂය එහි අවස්ථාවාදී අංශයට නැඹුරුවීම ස්ට්රුවේ මහතා විසින් සාදරයෙන් පිළිගන්නා ලදී; ඔහුට එසේ නොකර සිටීමට නොහැකි විය. ඉතා සුළු හා ඉතා තාවකාලික වුවද, අවස්ථාවාදය වෙතට ඇතිවන සෑම නැඹුරුවීමක්ම, සාදරයෙන් පිළිගන්නේ රුසියානු ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන් පමණක් නොවේ. දක්ෂ හතුරකුගේ තක්සේරුව අන් සෑමටම වඩා වැරදි වැටහීමක් මත පදනම් වන්නේ ඉතා කලාතුරකිනි. ඔබට ප්‍රසංශා කරන්නේ කවුදැයි මට කියන්න, එවිට ඔබ කළ වරද කුමක්දැයි මම කියන්නම්. පක්ෂයේ වාමාංශයේ සිට දක්ෂිණාං-ශයට පැනයාමකට නොව, තෝරාපත් කර ගැනීමේ ප්‍රශ්නයේදී පෞ-ද්ගලික වාසිදීමකට බහුතරය කොන්දේසි විරහිතවම විරුද්ධ වී යැයි කියමින්, පාඨකයින්ගේ අනවධානය කෙරෙහි ප්ලෙහානොව් සහෝදරයා විශ්වාසය තැබීම නිෂ්ඵල දෙයකි. පක්ෂය භේදවීම වැළැක්වීම සඳහා ප්ලෙහානව් සහෝදරයා පෞද්ගලික වාසිදීම (මෙය ඉතා ප්‍රසංශා කටයුතුය) මෙතැනදී මතුවන ප්‍රශ්නය නොවේ; එහෙත් මතුවන්නේ අස්ථිර සංසෝධන වාදීන් සහ ආරාජිකවාදී පෞද්ගලවාදීන් සමග විවාද කිරීමේ අවශ්‍යතාවය ප්ලෙහානව් සහෝදරයා සම්පූර්ණයෙන්ම පිළිගත් නමුත් ඔහු අරාජිකවාදය ඉදිරියේ ප්‍රායෝගික වාසිදීමේ හැකියාවේ පරිමාණය පිළිබඳ ප්‍රශ්නයේදී බහුතරයෙන් ඈත් වී, එය සමග විවාද කිරීම මැනවයි පිළිගැනීමේ ප්‍රශ්නය ය. ප්ලෙහානව් කර්තෘ මණ්ඩලයේ සංයුතිය මෙතැනදී මතුවන ප්‍රශ්නය නොවේ, එහෙත් ඔහු විසින් ධනවාදයට සහ අරාජිකවා-දයට විරුද්ධවීමේ සිය ප්‍රතිපත්තිය වෙනස් කිරීමය, පක්ෂයේ ප්‍රධාන පුවත්පත මගින් එම ප්‍රතිෂ්ඨාව ආරක්ෂා කිරීමට ඔහු අසමත් වීමය.

ඒ කාලයේදී බහුතරයේ එකම සංවිධානාත්මක නියෝජිතයා වූ මධ්‍යම කාරක සභාවෙන්, ප්ලෙහානව් සහෝදරයා ඉවත්වූයේ විශේෂ-යෙන්ම අරාජිකවාදයට පෞද්ගලික වාසි දීමේ හැකියාවේ පරිමාණය පිළබඳ ප්‍රශ්නයේදීය. Kill with kindness නැමැති ප්‍රතිපත්තියට නිදහස දී මා ඉල්ලා අස්වූ නොවැම්බර් 1 ද සිට දැනට මසක් ගතවී ඇත. විවිධ සම්බන්ධකම් මගින් සිය ප්‍රතිපත්තියේ යෝග්‍යතාවය පරීක්ෂණයට යෙදීමට ප්ලෙහානව් සහෝදරයාට හැම අවස්ථාවක්ම තිබිණි. මේ කාල-

යේදී ප්ලෙහානව් සහෝදරයා ''නොකළ යුත්තේ කුමක්ද'' නැමැති සිය ලිපිය පළ කළේය. මාර්තව් වාදීන් කර්තෘ මණ්ඩලයට ඇතුළු කර ගැනීමේ එකම ප්‍රවේශ පත්‍රය මෙම ලිපිය විය, එය අදද එලෙසම පවතී. මෙම ප්‍රවේශ පත්‍රයේ සංශෝධනවාදය (මෙයට විරුද්ධව අප විවාද කළ වුවද ප්‍රතිමල්ලවයාට සමාව දිය යුතුය) සහ අරාජික පෞද්ගලිකවාදය (මෙය සමග හාදවී මෘදු ගුණයෙන් එය මරාදැමිය යුතුය) යන ආදර්ශ පාඨ ලොකු කළු අකුරින් මුද්‍රණය කොට ඇත. මහත්වරුනි, කරුණාකර ඇතුළු වන්න, මම මෘදු ගුණය පා නුඹලා මරා දමන්නෙමි — සිය ආරාධනා පත්‍රය මගින් ප්ලෙහානව් සහෝදරයා කර්තෘ මණ්ඩලයේ අළුත් සගයින්ට එලෙස ප්‍රකාශ කරයි. මධ්‍යම කාරක සභාවට කිරීමට ඉතිරිව තිබුණේ අරාජිකවාදී පෞද්ගලිකවාදයට ප්‍රායෝගික වාසිදීමේ පරිමාණය සිය මතයේ හැටියට කොපමණද යන්න ගැන අවසාන වචනයක් කීම (එනම් අවසාන නිවේදනය යන්නෙහි අර්ථය එයයි — ඇතිවිය හැකි සාමය පිළිබඳව අවසාන වචනය) පමණය. නුඹලාට සාමය වුවමනා නම් මෙන්න නුඹලාට ආසන කීපයක් — එය අපේ මෘදු භාවය ත්, සාමකාමී භාවයත්, වාසිදීමට අපේ ඇති සූදනමත් ආදිය ඔප්පු කරයි. (පක්ෂය තුළ සාමය සහතික කිරීමට නම් මීට වඩා වැඩි ආසන සංඛ්‍යාවක් දිය නොහැකිය. සාමය යනු විවාද රහිතවීම නොව, අරාජිකවාදී පෞද්ගලිකවාදයෙන් පක්ෂය විනාශ නොවීමය); මේ ආසන ගන්න. අනතුරුව ටිකෙන් ටික අකීමව්ගේ සිට ප්ලෙහානව් දක්වා හැරෙන්න. එසේත් නැතිනම් ඔබ ඔබේ අදහස් ස්ථිර කරගෙන ඒවා වර්ධනය කොට සම්පූර්ණයෙන්ම (සංවිධානාත්මක ක්ෂේත්‍රයේ ප්‍රශ්න පිළිබඳව පමණක් වුවද) අකීමව් වෙතට හැරී, ප්ලෙහානව් නොව ඔබ නිවැරදි යැයි පක්ෂයට ඒත්තු ගැන්වීමට යන්නෙහිය.එහෙනම් නුඹලා නුඹලාගේම ලේඛක කණ්ඩායමක් සංවිධාන කරගෙන, මීළඟ පක්ෂ සමුළුවේදී නියෝජිතත්වයක් ලබා ගෙන, අවංක අරගලයකින් විවෘත විවාදයකින් බහුතරයක් දිනා ගැනීමට කටයුතු කළ යුතුය. මෙම වෛකල්පිකය 1903 නොවැම්බර් 25 ද මධ්‍යම කාරක සභාව විසින් ඉතා පැහැදිලි ලෙස මාර්තව්වාදීන් ඉදිරියේ තබන ලදී.[41] (''වැටලීමේ තත්ත්වය'' සහ ''ලීග් වාර්තාවේ සමාලෝචනය'' බලන්න*). මෙය ප්ලෙහානව් සහ මවිසින් හිටපු කර්තෘවරුන්ට 1903 ඔක්තෝබර් මස 6 ද යැවූ ලිපිය සමග

* පෞද්ගලික සාකච්ඡා ආදී දේ උපුටා දක්වමින් මධ්‍යම කාරක සභාවේ අවසාන යෝජනාව වටා මාර්තව් ඇතික්ළ අවුල් ජාලය ලිහා දැමීමට මම ඉදිරිපත් නොවෙමි. මෙය අරගලයේ දෙවැනි ආකාරය බව මීට පෙර කොටසකදී මම ගෙනහැර දැක්වීමි. මේ අවුල් ජාලය ලිහා දැමීය හැකිය යන බලපොරොත්තුව තැබිය හැක්කේ ස්නායු රෝග පිළිබඳ විශේෂඥයකු මත පමණකි.;කතා බහ පිළිබඳ වාර්තා පළ නොකරන බවට



සම්පූර්ණයෙන් ගැළපෙයි. එක්කෝ මෙය පෞද්ගලික නොරිස්සීමකට හේතුවකි, (එසේනම් කොතරම් දුර්විපාක ලැබුණද අපි ඔවුන් 'සම්බන්ධ කර ගනිමු') නැතිනම් මූලධර්ම පිළිබඳ මත භේදයකි (එසේ නම් පළමු-වෙන්ම පක්ෂයට මෙම කරුණ ඒත්තු ගන්වා, ඉන් ඉක්බිතිව මධ්‍යම මණ්ඩලවල පුද්ගලයින්ගේ සංයුතිය වෙනස් කිරීම ගැන කථා කළ යුතුය). මේ මොහොතේදී මාර්තව් සහෝදරයා ඔහුගේ profession de foi** (යළිත් වරක් අල්පතරයේ) නැමති සිය කෘතිය මගින් මෙසේ ලියා ඇති නිසා පරිස්සමින් මැදිහත් විය යුතු මෙම ප්‍රශ්නය තීරණය කිරීම වඩාත් කැමැත්තෙන් මාර්තව්වාදීන්ට පවරා දීමට මධ්‍යම කාරක සභාවට පුළුවන:

''අල්පතරය එක් ගෞරවයකට පමණක් හිමිකම් කියයි,එනම්,කෙනෙකු 'පරාජයට' පත්වුවද තවමත් නව පක්ෂයක් ගොඩ නගා නැති බව, අප පක්ෂයේ ඉතිහාසයේ පළමුවැනි වරට පෙන්වා දීමය. පක්ෂයේ සංවිධා-නාත්මක වර්ධන පිළිබඳ සියලු මතවලින් අල්පතරයේ මෙම ප්‍රතිපත්තිය පැන නැගී ඇත. ඉස්සර පක්ෂය විසින් කරන ලද වැඩ සමග ඔවුන්ගේ

මධ්‍යම කාරක සභාව සමග ගිවිසුමක් තිබිණැයි මාර්තව් පවසයි. කොතරම් අනලස් ලෙස සෙවුවද තවමත් එවැනි ගිවිසුමක් සොයා ගැනීමට නොහැකි විය. මධ්‍යම කාරක සභාව වෙනුවෙන් සාකච්ඡා ගෙනගිය ත්‍රවින්ස්කි සහෝදරයා, මගේ ලිපි ''ඉස්ක්‍රා'' පුවත්පතින් පිටත ප්‍රසිද්ධ කිරීමට මට අයිතියක් තිබෙන බව ඔහු විශ්වාස කරන්නේ යැයි මට ලියුමකින් දන්වා එවා ඇත.

එහෙත් මාර්තව් සහෝදරයාගේ එක් වාක්‍ය ඛණ්ඩයකට මා විශේෂ-යෙන් කැමතියි. ''ඉතා නරක වර්ගයක බොනපාට්වාදය'' යනු එම වාක්‍ය ඛණ්ඩයය. මාර්තව් සහෝදරයා මේ පදර්ථය උචිත ලෙස ඉදිරිපත් කර ඇති බව මම සොයාගතිමි. උග්‍ර හැඟීම්වලින් තොරව අපි මේ සංකල්පය කුමක්දැයි සොයා බලමු. මගේ අදහසේ හැටියට මෙහි තේරුම විධිමත් නීත්‍යානුකූල මාධ්‍යයන් මගින් බලය අල්ලා ගැනීම නමුදු ජනතාවගේ (හෝ යම්කිසි පක්ෂයක හෝ) අභිප්‍රායයට පටහැණිවීමය. මාර්තව් සහෝ-දරය, එය එසේ නොවේද? මෙය මෙසේ නම්, ඉතා නරක වර්ගයක බෝ-නපාට්වාදයට වරද කරුවා කවුද යන්න ජනතාවට තීරණය කිරීම සඳහා මට සන්සුන් ලෙස භාරකළ හැකිය: ලෙනින් සහ සහෝදර ඉග්රෙක් ද, මාර්තව්වාදීන්ට ඉඩ නොදීමට තමන් සතු සියලු බාහිර බලය පාවිච්චි කිරීමේ අයිතියද, මෙහිදී පක්ෂයේ දෙවැනි සමුළුවේ අභිප්‍රායය මත පිහිටා සිටීමට බලය ද තිබුණත්, එය ප්‍රයෝජනයට නොගත් අයද? නැතිනම් කර්තෘ මණ්ඩලය විධිමත් නීත්‍යානුකූල ක්‍රමයන් මගින් (''ඒකෘතික එකතු කිරීමක්'') අල්ලාගත් නමුදු, මෙය පක්ෂයේ දෙවැනි සමුළුවේ අභිප්‍රායය නොවන අතර මෙම අභිප්‍රායය තෙවැනි සමුළුවේදී පරීක්ෂණයට යෙදවීමට බිය වී සිටින අයද?

** විශ්වාසයේ සංකේතය, වැඩ පිළිවෙළ, දෘෂ්ටිය ඉදිරිපත් කිරීම. — සංස්කාරක

ඇති දැඩි සම්බන්ධකම් පිළිබඳ විඥනය නිසා මෙය පැන නැගී ඇත. කඩදසි විප්ලවවල ගුළු බලය ගැන අල්පතරය විශ්වාස නොකරයි. පක්ෂය තුළ පිරිසුදු දෘෂ්ටිමය ප්‍රචාරයක් ගෙනයාම මගින්, අල්පතරය සිය සංවිධානාත්මක මූලධර්ම ජයග්‍රහණයට පත් කරනු ඇතැයි යන සහතිකය සිය ජීවන පරිශ්‍රම තුළ ගැඹුරු ලෙස මුල් බැස තිබෙන බව දකී. (යටි ඉරි ගැසීම මවිසිනි).

කෙතරම් ප්‍රෞඪ සහ අනර්ඝ වචනද! ව්‍යවහාරය විසින් ඔප්පු කර ඇති පරිදි මෙය හුදු වචන පමණක් වීම කෙතරම් කටුකද... මාර්තව් සහෝදරය, ඔබ මට සමාවෙතියි මම බලාපොරොත්තු වෙමි. එහෙත් ඔබ දිනා ගැනීමට අසමත් වූ එම ''ගෞරවය'' දන් මම බහුතරය වෙනුවෙන් ඉල්ලා සිටිමි. එය ලබා ගැනීම සඳහා සටන් කිරීමට තරම් වටනා ගෞරවයකි. මන්දයත් කවයන් විසින් භේදයන් පිළිබඳව සුවිශේෂ සැහැල්ලු ආකල්පයක සහ ''එක්කෝ දත් කැඩෙන්ට පහර දෙනු නැතිනම් අතට අත දී පිළිගනු'' නැමැති නියමය මහත් උනන්දුවකින් ක්‍රියාවට යෙදවීමේ සම්ප්‍රදායද අපට දී ඇති බැවිනි.

---

කුඩා අප්‍රසාදයන් (සම්බන්ධ කර ගැනීමේ ප්‍රශ්නය පිළිබඳව කලහ කිරීම) විශාල ප්‍රීතියක් (එක්සත් පක්ෂයක් තිබීම) විසින් යටපත් කළ යුතුය, එය එලෙසම යටපත් විය. මම මධ්‍යම කාරක සභාවෙන් ඉල්ලා අස්වීමි. ඉග්රෙක් සහෝදරයා (මධ්‍යම පුවත්පතේ කතෘ මණ්ඩලය වෙනුවෙන් ප්ලෙහානව් සහ මවිසින් තෝරාගනු ලැබූ සහෝදරයා) ප්‍රධාන මණ්ඩලයෙන් ඉල්ලා අස්විය. මධ්‍යම කාරක සභාවේ සාමය පිළිබඳ ප්‍රකාශනයට මාර්තව්වාදීන් පිළිතුරු දුන්නේ යුද්ධ ප්‍රකාශ කිරීමකට සමාන ලියුමක් එවීමෙනි. ඉන් ඉක්බිතිව පමණක් මම කර්තෘ මණ්ඩලයට (''ඉස්ක්‍රා'' අංක 53) ප්‍රසිද්ධිය පිළිබඳව ලිපියක් යැවීමි. සංශෝධනවාදය ගැන කතා කරන්නේ නම්, අස්ථිරතාවය ගැනත්, අරාජිකවාදී පෞද්ගලිකත්වය ගැනත්, විවිධ නායකයින්ගේ පරාජය ගැනත් කතා කරන්නේ නම්, එසේනම් මහත්වරුනි කිසිම දෙයක් සඟවන්නේ නැතිව ඇත්ත ඇති සැටියෙන්ම හෙළි කරමු — මගේ ලිපියේ හරය එසේවිය. කර්තෘ මණ්ඩලයට කෝපාන්විත ලෙස බැණවැදීමෙන් සහ අහංකාර ලීලාවෙන් අවවාද දෙමින් පිළිතුරු සැපයීය: ''කවවාදී ජීවිතයේ පටු බව සහ කලහකාරී බව'' අවුස්සන්ට තරම් නිර්භය නොවනු (''ඉස්ක්‍රා'' අංක 53) එය එසේය මම කල්පනා කළෙමි: ''කවවාදී ජීවිතයේ පටු බව සහ කලහකාරී බව''... es ist mir recht, මහත්වරුනි මම මෙතැනදී නුඹලා සමග එකඟ වෙමි.එහෙනම් තෝරා ගැනීම පිළිබඳ මේ සියලු කලබැගෑණිය



නුඹලා ඍජු ලෙසම කවවාදී කලහ කිරීමක් ලෙස හඳුන්වන්නහුය. එය සත්‍යයකි. මෙය කෙතරම් ලොකු අපස්වරයක්ද? එම කලාපයේ, අංක 53, එම කතු වැකියම (අප විසින් එසේ පිළිගත යුතු) නිලධාරිවාදය ගැනත්, හුදු විධිමාත්‍ර වාදය ගැනත්, වෙනත් දේ ගැනත්* කතා කරයි. ප්‍රධාන පුවත්පතට සම්බන්ධ කර ගැනීමේ සටන පිළිබඳ ප්‍රශ්නය ඉදිරිපත් නොකරනු, මන්දයත් එය කලහ කිරීමක් වන බැවිනි. එහෙත් අපි මධ්‍යම කාරක සභාවට තෝරා ගැනීමේ ප්‍රශ්නය ඉදිරිපත් කරමු, එය කලහ කිරීමක් නොවේ, එය විධිමාත්‍රවාදය පිළිබඳව මතභේදයක් පමණකි. නැත, ආදරනීය සෝවුරෙනි, ඔබට මෙහිදී අවසර නොදීමට මට අවසර දෙන්න. මගේ බලකොටුවට වෙඩි තැබීමට නුඹලා කැමතිය, එහෙත් ඒ අතරම නුඹලා මගේ කාල තුවක්කු ඉල්ලා සිටිති!නුඹලා කදිම විහිළුකරුවන් පිරිසකි. ඉතින් මේ හේතූන් නිසා කර්තෘවරුන්ට ලියුමක් (ඉස්ක්‍රාවේ කතෘ මණ්ඩලයෙන් මා ඉල්ලා අස්වූයේ මන්ද?) මම ලියා ''ඉස්ක්‍රා'' පත්‍රයෙන් පිටත එය පළකළෙමි. සිදුවූ දේ කෙටියෙන් එම ලියුමෙන් පෙන්වා දී පහත සටහන් බෙදීම අනුව සාමයක් ඇති නොකළ හැකි වී දැයි ප්‍රශ්න කළෙමි: නුඹලාට ප්‍රධාන පුවත්පත, අපට මධ්‍යම කාරක සභාව. එවිට පක්ෂයේ එකම අංශයකටවත් සිය පක්ෂය තුළ ''පිටස්තරයන්'' ලෙස නොදැනෙනු ඇත. අවස්ථාවාදයට නැඹුරුවීම පිළිබඳව පළමුවෙන් පුවත්පත මගින්ද ඉන් ඉක්බිතිව සමහර විට, පක්ෂයේ තෙවැනි සමුළුවේදීද අපි විවාද කරමු.

මෙයට පිළිතුරු සැපයීම වෙනුවට, සතුරා ප්‍රධාන මණ්ඩලය ඇතුළු සියලු බලමුළු යොදවා වෙඩි තැබීමට පටන් ගත්තේය. ඔවුන්ගේ ෂෙල්වෙඩි මා හිස මත පතිත විය. ඒකාධිපතියා, ෂ්වයිට්සර්, නිලධාරිවාදියා, විධිමාත්‍රවාදියා, උත්තර-මධ්‍යස්ථානය, එක් පැත්තකට බරවෙලා, ගොරහැඩියා, උද්දච්චයා, පටු බුද්ධිකයා, සැක කරන්නා, කලහ කාරියා ආදි නම් වලින් මට පහර දුන්හ... බොහොම හොඳයි මිත්‍රවරුනි! නුඹලා පහර දී අවසානද? නුඹලාට කියන්නට තවත් යමක් ඉතිරිවී නැතිද? නුඹලාගේ වෙඩි උණ්ඩ බොහොම බාලවර්ගයට අයත් බව මා කිව යුතුය...

දන් ඉතින් මගේ වාරයයි. සංවිධානය පිළිබඳ නව ඉස්ක්‍රාවේ නව

---

* පසු කලෙක මේ ''අපස්වරය'' ඉතා වාමලෙස පැහැදිලි කරන ලදී. එය ප්‍රධාන පුවත්පතේ කතුවරයින් අතර වූ අපස්වරයකි. ''කලහකිරීම'' ගැන ලියුවේ ප්ලෙහානව්ය. (''සංවේගාත්මක වැරදි හැඟීමක්'' නැමැති ඔහුගේ පිළිගැනීම බලන්න, අංක 57), ''අපේ සමුළුව'' නැමති කතුවැකිය ලියුවේ මාර්තව්ය(''වටලනු ලැබූ තත්ත්වය'', 84 පිටුව) මෙය එකෙක් කැලයටත් අනිකා දර කැඩීමටත් යාමකි.

අදහස්වල සන්ධාරය අපි දැන් පරීක්ෂණයට භාජනය **කරමු.** අප පක්ෂයේ 'බහුතරය' සහ 'අල්පතරය' වශයෙන් ඇතිවී තිබෙන භේදනයට මේ මතවල සම්බන්ධතාවය සහ පක්ෂයේ දෙවැනි සමුළුවේදී ඇතිවූ විවාද සහ චන්දය දීම පිළිබඳව අපේ විශ්ලේෂණය මගින් පෙන්වා දුන් ඒවායේ සැබෑ ස්වරූපයද අපි පිරික්සා බලමු.

## 17. නව ''ඉස්ක්‍රා''. සංවිධානය පිළිබඳ ප්‍රශ්නවලදී අවස්ථාවාදය

නව ''ඉස්ක්‍රා'' මූලධර්ම පිළිබඳ විශ්ලේෂණයක පදනම හැටියට විවාද රහිත ලෙසම අප විසින් අක්සල්රොඩ් සහෝදරයාගේ ලිපි දෙක* ගත යුතුය. ඔහුගේ ප්‍රියතම වාක්‍ය ඛණ්ඩවලින් සමහරක සංයුක්ත තේරුම මීට පෙර අප විසින් විස්තර සහිතව පෙන්වා දී ඇත. දැන් එහි සංයුක්ත තේරුමෙන් ඈත් වීමට වෑර දරමින්, අල්පතරයට වෙනත් උද්යෝග පාඨ නොව, මේ උද්යෝග පාඨ පාවිච්චි කිරීමට සිදුවූයේ (එක් හෝ තවත් කුඩා සහ අල්ප ප්‍රශ්නයකදී) කිනම් චින්තන ක්‍රියාදාමයක් නිසාද යන්න වටහා ගැනීමට වෑර දරමු. මේ උද්යෝග පාඨවල සම්භවය නොතකා, ''තෝරාපත් කර ගැනීම'' නොතකා මේවා පිටුපස ඇති ප්‍රතිපත්ති මූලික වැදගත්කම පරීක්ෂාකර බලමු. වාසිදීම අද එක්තරා මෝස්තරයක් බවට පත් වී ඇත. ඒ අනුව අපි අක්සල්රොඩ් සහෝදරයාට වාසිදීමක් කොට, ඔහුගේ ''න්‍යායය'' ''බැරෑරුම් දෙයක්'' ලෙස සලකමු.

අක්සල්රොඩ් සහෝදරයාගේ මූලික න්‍යායය වන්නේ (''ඉස්ක්‍රා'' අංක 57) ''අපේ ව්‍යාපාරයේ මූලාරම්භයේ සිට එකුළ එකිනෙකට විරුද්ධ ප්‍රවණතා දෙකක් තිබිණ, මේවායේ අන්‍යොන්‍ය ප්‍රතිවිරුද්ධතාවයට වර්ධනය නොවී, සිටීමට නොහැකි විය, එය ව්‍යාපාරයේ ස්වයං වර්ධනයක් සමගම සමාන්තර ලෙස පිළිබිඹු විය'' යනුයි. නිශ්චිත වශයෙන් ගත් කල මෙසේය: ''මූලධර්ම වශයෙන් (රුසියාවේ) නිර්ධන පංතික ව්‍යාපාරයේ අරමුණ බටහිර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අරමුණුමය''. එහෙත් අප රටේ කම්කරු පංතික පොදු ජන කොටස් කෙරෙහි, ඔවුන්ට පිටස්තර සමාජීය මූලිකාංගයක් බල පා ඇත. එනම් රැඩිකල් බුද්ධිමත් පංතිය ය. ඒ අනුව අක්සල්රොඩ් සහෝදරයා අප පක්ෂය තුළ නිර්ධන පංතික සහ රැඩිකල්

---

* '' ''ඉස්ක්‍රා'' වසර දෙකකදී'' නැමති එකතුවට මේ ලිපි දෙක ඇතුලත් විය. වෙළුම 2, 122 පිටුව (සාන්ක්ත්-පීටර්බුර්ග් 1906). (1907 මුද්‍රණයට කතුවරයාගේ සටහනක්. — සංස්කාරක)



බුද්ධිමතුන්ගේ ප්‍රවණතාවල ප්‍රතිවිරුද්ධතාවයක් තිබෙන බව පෙන්වා දෙයි.

මෙතැනදී අක්සල්රොඩ් සහෝදරයා නිසැක ලෙසම නිවැරදිය. එවැනි ප්‍රතිවිරුද්ධතාවයක් තිබීම (රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය තුළ පමණක් නොවේ) සැක නොකළැකි දෙයකි. එපමණක් නොව, වත්මන් කාලයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය විප්ලවවාදී (මෙය සාධර්මික ලෙසද හැඳින් වේ) සහ අවස්ථාවාදී (සංශෝධනවාදී, අමාත්‍යාංශවාදී[42], ප්‍රතිසංස්කරණවාදී) යන අංශ දෙකකට බෙදීම බොහෝ දුරට හේතුවී ඇත්තේ මේ ප්‍රතිවිරුද්ධතාවය ය. මෙය රුසියාවේ අපේ ව්‍යාපාරයේ පසුගිය දස වසර තුළදී ඉතා පැහැදිලි ලෙස පෙනෙන්නට පටන් ගෙන ඇත. ව්‍යාපාරයේ නිර්ධන පංතික ප්‍රවණතාවය සාධර්මික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයෙන් ප්‍රකාශ කැරෙන අතර ප්‍රජාතන්ත්‍රික බුද්ධිමතුන්ගේ ප්‍රවණතාවය අවස්ථාවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයෙන් ප්‍රකාශ වෙයි.

එහෙත් පොදුවේ දත් මේ කරුණ වෙතට බොහෝසේ සමීප වන අක්සල්රොඩ් සහෝදරයා බියගුලු ලෙස ඉන් ඈත් වීමට පටන් ගනී. ඔහු ලියන්නේ පක්ෂ සමුළුව ගැන වුවද, මේ භේදනය පොදුවේ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ඉතිහාසය තුළ සහ විශේෂයෙන් පක්ෂ සමුළුව තුළද ප්‍රකාශනය වීම විශ්ලේෂණය කිරීමට ඔහු මඳකුදු වෑයම් නොකරයි. නව ඉස්ක්‍රාවේ අනිකුත් කර්තෘවරුන් මෙන්ම ඔහු සමුළුවේ වාර්තා ගැන මරණීය බියක් දක්වයි. ඉහත සටහන් කළ සියලු කරුණු නිසා මෙය මවිතයට කරුණක් නොවේ. එහෙත් අපේ ව්‍යාපාරයේ විවිධ ප්‍රවණතා පිරික්සුමට භාජනය කරන්නේ යැයි කියන ''න්‍යායාචාර්යවරයකු'' සත්‍යයට භයවීම පුදුමයට කරුණකි. මේ රෝගය නිසාත්, අප ව්‍යාපාරයේ ප්‍රවණතා පිළිබඳ ඉතා නිවැරදි කරුණු නිසාත්, පසුබසින අක්සල්රොඩ් සහෝදරයා දවල් සිහින දැකීමේ ක්ෂේත්‍රයෙන් ගැළවීමක් ලබා ගැනීමට වෑයම් කරයි: ''අපේ ලිබරල්වාදීන්ට නීත්‍යානුකූල මාක්ස්වාදය හෝ අර්ධ මාක්ස්වාදය සාහිත්‍ය නායකයකු දී තිබෙනවා නොවේදැ? යි ඔහු අසයි. විප්ලවවාදී ධනපති ප්‍රජාතන්ත්‍රවාදයට සාධර්මික විප්ලවවාදී මාක්ස්වාදී නිකායෙන් නායකයකු බිහිකිරීමට කවට ඉතිහාසයට නොහැකි වන්නේ මන්ද?'' අක්සල්රොඩ් සහෝදරයාගේ මේ තරම් සුන්දර වන දහවල් සිහිනය ගැන අපට කිව හැක්කේ ඉතිහාසය සමහර විට සමච්චල් කළත් ඉතිහාසය විග්‍රහ කිරීමට ඉදිරිපත් වන මිනිසුන්ගේ චින්තන කවට කම්වලට එය හේතුවක් නොවිය යුතු බවය. අර්ධ මාක්ස්වාදයේ නායකයා නැමති ලෝගුව අස්සෙන් ලිබරල්වාදියා එබී බැලූ විට, ඔහුගේ ප්‍රවණතාවය දැක ගැනීමට සතුටු (එමෙන්ම සමත්) අය ඉතිහාසයේ කවට සිදුවීම් ඇතිවීමේ හැකියාව ගැන ඇහවීමක් නොකළ නමුදු එම නායකයාගේ

බුද්ධියේ සහ තර්කනයේ නිදසුන් සිය ගණනක්ද, ධනවාදී සාහිත්‍යයේ මාක්ස්වාදී පිළිබිඹුව පෑ ඔහුගේ සාහිත්‍යයමය මුහුණුවරෙහි[43] සියලු ලක්ෂණද පෙන්වා දුන්හ. අපේ ව්‍යාපාරයේ පොදු විප්ලවවාදී සහ නිර්ධන පංතික ප්‍රවණතාවයන් විශ්ලේෂණය කිරීමට අක්සල්රොඩ් සහෝදරයා ඉදිරිපත් වී සිටිත් නම්, ඔහු මෙතරම් වෛර කරන පක්ෂයේ සාධර්මික අංශයේ සමහර නියෝජිතයින් එක් හෝ තවත් ප්‍රවණතාවයක් පෙන්වන බව, යම්තමින් හෝ දක්වීමට ඔහු අසමත් වේ නම්, එය ඔහු සිය දුගීබව ගැන විධිමත් සහතිකයක් නිකුත් කිරීමට සමානය. අක්සල්රොඩ් සහෝ-දරයාට කළ හැකි එකම දෙය ඉතිහාසයේ දී කවට සිදුවීම් ඇතිවීමේ හැකියාව ගැන ඇඟවීම පමණක් නම් ඔහුගේ තර්කය ඉතා දුර්වල විය යුතුය.

ජැකොබින්වරුන් ගැන අක්සල්රොඩ් සහෝදරයා ඇඟවීම් කිරීමද තවත් කරුණු එළිදරවු කරන්නකි. සමකාලීන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය විප්ලවවාදී සහ අවස්ථාවාදී ලෙස, බොහෝ කාලයක සිට — රුසියාවේ පමණක් නොවේ — බෙදී තිබෙන බවත්, එය ''මහා ප්‍රංශ විප්ලවීය යුගයේ සමාන්තර ඓතිහාසික සිදුවීම් වලට''හේතු වී තිබෙන බවත් අක්සල්රොඩ් නොදන්නවා නොවේ. සමකාලීන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ජිරොන්ඩිස්ට්වරුන් තම විරුද්ධවාදීන් හඳුන්වා දීම පිණිස ''ජැකො-බින්වාදය'', ''බ්ලන්කීවාදය''[44] ආදි පද පාවිච්චි කරන බවත් අක්සල්-රොඩ් සහෝදරයා දන්නවා ඇත. අක්සල්රොඩ් සහෝදරයාගේ සත්‍ය භීතිකාව මෙහිදී අපි අනුකරණය නොකරමු. අපේ පක්ෂ සමුළුවේ වාර්තා අපි පිරික්සා බලමු. අප කල්පනා කරන ප්‍රවණතා සහ අප සාකච්ඡා කරන සමාන්තර තත්ත්වයන් විශ්ලේෂණය කිරීමට සහ පරීක්ෂණය කිරීමට ඒවායේ යම්කිසි කරුණු තිබේ දැයි බලමු.

පළමුවැනි නිදසුන: පක්ෂයේ වැඩ පිළිවෙළ පිළිබඳව පක්ෂ සමුළුවේ විවාදයේදී අකීමව් සහෝදරයා (මර්තීනව් සහෝදරයා සමග සම්පූර්ණ-යෙන් ''එකඟ වෙමින්'') මෙසේ පැවසීය: ''දේශපාලන බලය අල්ලා ගැනීම (නිර්ධන පංතික ආඥාදායකත්වයේ) පිළිබඳ වගන්තිය — ඉදිරිපත් කැරැ තිබෙන ආකාරය පිළිබඳව අර්ථ කථනයක් ඉදිරිපත් කළ හැක්කේ, සැබවින්ම ප්ලෙහානව් කර ඇති මෙන් එය අන් සියලු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂවල වැඩ පිළිවෙලවල් සමග සන්සන්දනය කර ඒ අනුවය. එනම් පංතියට නායකත්වය දෙන සංවිධානය, එම පංතිය පසුතලයට ඇද දමා පංතිය සංවිධානයෙන් වෙන් කර දැමීම ලෙසටය. මේ නයින්, අපේ දේශපාලන අරමුණු ඉදිරිපත් කිරීම නරෝද්නය වෝල්යා පක්ෂයේ අරමුණු වලට සම්පූර්ණයෙන් සමාන වන්නේය'' (වාර්තාව 124 පිටුව). ප්ලෙහානව් සහෝදරයා සහ අනිකුත් ඉස්ක්‍රා වාදීන් සමග එකතුව එම



ප්‍රශ්නය ඉදිරිපත් කරමින් අකීමව් සහෝදරයාට විරුද්ධ වෙමින් ඔහු අවස්ථාවාදියකු බව ප්‍රකාශ කළේය. මේ මතභේදය (ඉතිහාසයේ සිතින් මවාගත් සමච්චල් නොව සැබවින්ම) සමකාලීන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ප්‍රතිවිරුද්ධ තාවයක් හැටියටත්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සමකාලීන ජැකෝබින් වරුන් සහ සමකාලීන ජිරොන්ඩිස්ට් වරුන් අතරත් ඇති ප්‍රතිවිරුද්ධතාවයක් හැටියටත් අක්සල්රොඩ් සහෝදරයාට නොපෙනෙන්-නේද? සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ජිරොන්ඩිස්ට් වරුන්ගේ සමාගමයට අක්සල්රොඩ් සහෝදරයා වැටී සිටින (ඔහු කළ වැරදි වල ප්‍රතිඵලයක් වශයෙන්) නිසා ඔහු ජැකොබින් වරුන් ගැන කතා කිරීමට පටන් ගැනීම හේතු නොවීද?

දෙවැනි නිදසුන: ''ප්‍රජාතාන්ත්‍රික මූලධර්මයන්ගේ නිරපේක්ෂ වටිනාකම'' ගැන බැරෑරුම් මතභේදයක් තිබෙන බව පසදෝව්ස්කි පැවසීය (169 පිටුව). ප්ලෙහානව් සමග ඔහු ඒවායේ නිරපේක්ෂ වටිනාකම ප්‍රතික්ෂේප කරයි. මධ්‍යස්ථ අයගේ හෙවත් මඩගොහොරුවේ (යෙගෝරව්) සහ ඉස්ක්‍රා විරෝධීන්ගේ (ගෝල්ඩ්බ්ලාට්) නායකයෝ මේ මතයට දැඩිලෙස විරුද්ධත්වය පාමින් ''ධනවාදී උපක්‍රම අනුකරණය කරන්නේ යැයි'' කියමින් ප්ලෙහනාව්ට චෝදනා කරති. (170 පිටුව). සාධර්මතාවය සහ ධනපති ප්‍රවණතාවය අතර සම්බන්ධකමක් පිළිබඳව අක්සල්රොඩ් සහෝදරයාගේ මතය ස්ථිර ලෙසම මෙයය. වෙනසකට ඇත්තේ අක්සල්රොඩ් සහෝදරයා අපැහැදිලි ලෙස එය පෙන්වූ අතර ගෝල්ඩ්බ්ලාට් එය නිශ්චිත ප්‍රශ්න සමග සම්බන්ධ කිරීමය. අපි යළිත් ප්‍රශ්න කරමු: සමකාලීන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ජැකොබින්වරුන් සහ ජිරොන්ඩිස්ට්වරුන් අතර ඇති ප්‍රතිවිරෝධීතාවය, පක්ෂ සමුළුවේදී ඇති වූ විවාදයේදී අපේ ඇස්පනා පිට ප්‍රදර්ශනය වූ බව අක්සල්රොඩ් සහෝදරයා නොපිළිගන්නේද? අක්සල්රොඩ් සහෝදරයා ජැකොබින්වරුන්ට විරු-ද්ධව කෑ ගසන්නේ ඔහු ජිරොන්ඩිස්ට්වරුන්ගේ සමාගමයේ සිටින නිසා නොවේද?

තෙවැනි නිදසුන: ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටස පිළිබඳ විවාදයය. අපේ ව්‍යාපාරයේ නිර්ධන පංතික ප්‍රවණතාවය ආරක්ෂා කරන්නේ කවුද? කම්කරුවන් සංවිධාන වීමට බිය නැති බවත්, නිර්ධන පංතිය අරාජික වාදයට හිතවත් නොවන බවත්,'සංවිධානය වනු!'නැමැති උත්තේ-ජනය නිර්ධන පංතිය අගය කරන බවත් අවධාරණය කරන්නේ කවුද? එහෙම පිටින්ම අවස්ථාවාදයෙහි ගැලී සිටින ධනවාදී බුද්ධිමතුන්ගෙන් ආරක්ෂා වන ලෙස අපට දැනුම් දෙන්නේ කවුද?සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ජැකොබින්වරුන්ය. පක්ෂය තුළට රැඩිකල්වාදී බුද්ධිමතුන් ගෙනෙන්නේ කවුද? මහාචාර්යවරුන්, විද්‍යාල ශිෂ්‍යයින්, හුදකලා පුද්ගලයින්,

රැඩිකල්වාදී තරුණයින් ගැන තැවුල්වන්නේ කවුද? ජිරොන්ඩිස්ට්වාදී ලීබෙර් සමග ජිරොන්ඩිස්ට්වාදී අක්සල්රොඩ්ය.

''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායමේ වැඩිදෙනාට විරුද්ධව පක්ෂ සමුළුවේදී විවෘත ලෙසම එල්ල කළ ''අවස්ථාවාදයේ ව්‍යාජ චෝදනාවට'' විරුද්ධව අක්සල්රොඩ් සහෝදරයා තමා කෙතරම් අමන ආකාරයකින් ආරක්ෂා වෙතිද! ජැකොබින්වාදය සහ බලන්කීවාදය ආදිය ගැන බර්න්ස්ටීනියානු සින්දුවට තාලය අල්ලන අක්සල්රොඩ් කිනම් ආකාරයට ආරක්ෂා වන්නේදයත් එයින් චෝදනාව ස්ථිර වන්නේය. තමාගේම කතාව ගිල්වා දැමීම පිණිස ඔහු පක්ෂ සමුළුවේදී රැඩිකල් බුද්ධිමතුන්ගෙන් පක්ෂයට වන හානිය ගැන කෑගැසීය. එහෙත් කතාව බුද්ධිමතුන් ගැන පූර්ණ සැලකිල්ලක් දක්වයි.

ජැකොබින්වාදය සහ අනිත් දේ නැමැති මේ ''බියජනක වචන'' අවස්ථාවාදය හැර අන් කිසිවක් ප්‍රකාශ නො කරයි. නිර්ධන පංතික සංවිධානයක් සමග අඛණ්ඩ ලෙස වෙළී සිටින, නිර්ධන පංතික අයිතිවාසිකම් ගැන විඥත හැඟීම් ඇති ජැකොබින්වාදියා විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. මහාචාර්යවරුන් සහ විද්‍යාල ශිෂ්‍යයින් ගැන සිතමින් සුසුම් හෙළන, නිර්ධන පංතික ආඥාදායකත්වයට බියවන, ප්‍රජාතන්ත්‍රික ඉල්ලීම්වල නිරපේක්ෂ වටිනා කම් ගැන සිහින දකින ජිරොන්ඩිස්ට්වාදියා අවස්ථාවාදියෙකි. දේශපාලන අරගලය කුමන්ත්‍රණයට පමණක් සීමා කිරීම පුවත්පත් මගින් දහස්වාරයක් ප්‍රතික්ෂේප කර තිබෙන විට, ජීවිතයේ සියලු යථාර්ථයන් විසින් එය ප්‍රතික්ෂේප කොට අතු ගා දමා තිබෙන විට, බහුජන දේශපාලන උද්ඝෝෂණයේ ප්‍රධාන වැදගත්කම කන්දෙස්කිරියාවක් වන තරම් පැහැදිලි කොට, පුන පුනා කියා ඇති විට අද රහස් සංවිධානවල අවදානම දකින්නේ අවස්ථාවාදීන් පමණකි. රහස් වැඩවලට ඇති බියෙහිත්, බලන්කීවාදයට ඇති බියෙහිත් සැබෑ පදනම, ප්‍රායෝගික ව්‍යාපාරය තුළ දකින්නට ලැබෙන ලක්ෂණයක් නොවේ, (බර්න්ෂ්ටයින් සහ සමාගම බොහෝ කලක් තිස්සේ නිකරුණේ සෙවීමට තැත් කරන) එය සමකාලීන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතරින් නිතර පාහේ පැන නගින ධනවාදී බුද්ධියේ ජිරොන්ඩිස්ට් ඔතැනි ගතිය ය. හතළිස් ගණන්වල සහ හැට ගණන්වල ප්‍රංශ කුමන්ත්‍රණකාරී විප්ලවවාදීන්ගේ උපක්‍රම වලට විරුද්ධව (මීට පෙර සිය වාරයක් උච්චාරණය කරන ලද) අළුත් අනතුරු ඇඟවීමක් කිරීමට නව ඉස්ක්‍රාව දරන මේ පරිශ්‍රමය සහිත වෑයම තරම් හාස්‍යජනක වෙනත් දෙයක් නොමැත (අංක 62. කතු වැකිය).[45] සමකාලීන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ජිරොන්ඩිස්ට්වරු කිසිම සැකයක් නැතිව එක්දහස් අටසිය හතළිස් ගණන් වලදී ක්‍රියා කළ ප්‍රංශ කුමන්ත්‍රණකාරීන් කණ්ඩායමක් පිළිබඳව ''ඉස්ක්‍රා'' මගින් පෙන්වනු ඇත. මේ කණ්ඩායමට කම්කරු බහු ජනතාව අතර දේශපාලනමය උද්ඝෝෂණය ගෙනයාමේ වැදගත්කමද පක්ෂය පංතිය කෙරෙහි බලපාන ප්‍රධාන මාධ්‍යය වන කම්කරු පුවත්පතේ වැදගත් කමද ඔවුන් විසින් බොහෝ කලකට පෙර ඉගෙනගත් සහ ජීර්ණ කරගත් මූලික සත්‍යයක් වන්නේය.



කොයිහැටි වුවද, අළුතින් යමක් කියන්නා සේ අහවමින් මූලික සත්‍යයන් යළිත් කියමින් දේශපාලන හෝඩියට ආපසුයාමේ නව ඉස්ක්‍රා ප්‍රවණතාවය අහම්බෙන් සිදුවූවක් නොවේ; එය අක්සල්රොඩ් සහ මාර්තව් අප පක්ෂයේ අවස්ථාවාදී අංශයට ඇද වැටීම නිසා ඇති වූ තත්ත්වයෙන් පැන නැගී අනිවාර්ය ප්‍රති විපාකයක් වන්නේය. තත්වය විසින් එය ඉල්ලා සිටින ලදී. තම තත්ත්වය සාධාරණ යැයි පෙන්වීමට ඈත අතීතයෙන් කිසිවක් පෙන්වීම සඳහා ආපසු ගොස් අවස්ථාවාදී වාක්‍ය ඛණ්ඩ අනුකරණය කිරීමට ඔවුන්ට සිදුවී ඇත. පක්ෂ සමුළුවේ ඇති වූ අරගලය පිළිබඳ දෘෂ්ටි කෝණයෙන් සහ එහිදී පක්ෂය තුළ ඇති වූ වෙනස් මත සහ විභේදන අනුව මෙය නිදෙස් ලෙස සැළකිය නොහැකිය. ජැකොබින්වාදය සහ බලාන්කුයිස්ට්වාදය ගැන අකීමව්වාදී ගැඹුරු චින්තනයට, අක්සල්රොඩ් සහෝදරයා, ''ආර්ථිකවාදීන්'' පමණක් නොව, ''දේශපාලකයින්ද'' ''එක්පැත්තකට බරවූ'' උවමනාවට වඩා මුළු ප්‍රේමයෙන් මත්වී සිටිතියි ආදි දේ කියමින් අකීමව්වාදී පසුතැවිලි වදන් එකතු කරයි. ඒකාංශ ස්වභාවයෙන් හා මෝහනයෙන් තොරවී ඇතැයි ඉදිමුණු ගතියකින් කියන ''නව ඉස්ක්‍රාවේ'' මෙම විෂය ගැන ලියා ඇති අතිගාම්භීර නිබන්ධන කියවන විට අන්දමන්ද වෙමින් මෙවැනි ප්‍රශ්නයක් ඇසීමට සිතෙයි: ඔවුන් අඳින්නේ කාගේ රූපය ද? එවැනි කතා ඇසෙන්නේ කොහින්ද?[46] රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ආර්ථිකවාදීන් සහ දේශපාලනවාදීන් ලෙස බෙදීම බොහෝ කලෙක සිට යල්පැන ගිය බව නොදන්නේ කවුද? පක්ෂ සමුළුවට පෙර පසුගිය අවුරුදු දෙකක් පමණ කාලය තුළ ''ඉස්ක්‍රා'' ලිපිගොනු ගෙන බලන්න. ''ආර්ථිකවාදයට'' විරුද්ධ සටන තුනී වී ගොස් 1902 තරම් ඈත කාලයකදී එය අවසන් වුණු බව පෙනීයන්නේය. 1903 ජූලි මාසයේදී (අංක 43) ''ආර්ථිකවාදයේ සමෘධිමත් කාලය'' ස්ථිරලෙසම අවසන් වූ හැටියටත්, ''ආර්ථිකවාදයේ මියගිය සහ වළලා දැමූ'' දෙයක් හැටියටත් සඳහන් කර තිබෙන බව පෙනීයනු ඇත. ''ආර්ථිකවාදය'' දෙසට ඇදීයන දේශපාලනඥයින් ආපසු අතීතයට යන්නන් ලෙස ගණන් ගනු ලැබීය. එසේනම් ඉස්ක්‍රාවේ මේ නව කර්තෘවරුන් මියගිය සහ වළලනු ලැබූ විභේදනය යළි පණ ගන්වන්නේ මන්ද? අපි අකීමව්ලාට විරුද්ධව පක්ෂ සමුළුවේදී සටන් කළේ අවුරුදු දෙකකට පෙර ඔවුන් ''රබෝචිය දියල'' සංවිධානයේදී කළ වැරදි නිසාද? අපි එසේ කළෙමු නම්, පල්

මෝඩයෝ වෙමු. එහෙත් එය එසේ නොවන බව හැම කෙනෙක්ම දනිති. අප අකීමව් ලාට විරුද්ධව සමුළුවේදී සටන් කළේ, අවුරුදු දෙකකට ඉහතදී ඔවුන් ''රබෝචිය දියල'' සංවිධානයේදී කළ වැරදි නිසා නොවේ. එහෙත් සමුළුවේදී ඔවුන් සිය තර්ක මගින් සහ චන්දයදීම මගින් කළ අළුත් වැරදි වලට විරුද්ධවය, ඔවුන් ''රබොචිය දියල'' තුළින් ගෙනගිය ප්‍රතිපත්තියට විරුද්ධව නොව, ඔවුන් සමුළුවේදී ගෙනගිය ප්‍රතිපත්තියට විරුද්ධවය. සැබවින්ම අතීතයට අයත් වැරදි මොනවාද, තවමත් තර්ක විතර්කවලට හේතුවන ඔවුන්ගේ වැරදි මොනවාද යන්න අපි පක්ෂ සමුළු- වේදී තීරණය කළෙමු. පක්ෂ සමුළුව පවත්වන කාලය වන විට ''ආර්ථිකවාදීන්'' සහ දේශපාලනඥයින් වශයෙන් පැවැති විභේදනය මිය ගොසිනි. එහෙත් විවිධ අවස්ථාවාදී ප්‍රවණතාවයන් දිගටම පැවතිණි. ප්‍රශ්න කීපයක් වටා ඇති වූ විවාදවලදී සහ චන්දය දීමේදී මේ ප්‍රවණතා- වයන් ප්‍රකාශ විණි. අවසානයේදී එය පක්ෂයේ 'බහුතරය' සහ 'අල්පතරය' වශයෙන් බෙදීමකට මග හෙළිකළේය. පැහැදිලි හේතූන් නිසා මේ අළුත් බෙදීම සහ සමකාලීන අවස්ථාවාදය අතර ඇති සම්බන්ධකම් මකා දැමීමට ''ඉස්ක්‍රා'' නව කර්තෘවරුන් උත්සාහ ගැනීමත් මෙහි ප්‍රති විපාකයක් වශයෙන් අළුත් විභේදනයේ සිට පැරණි විභේදනය දක්වා ආපසු යාමකට සිදුවී තිබීමත් මෙහි ඇති හරය වන්නේය. අළුත් විභෙදනයේ දේශපාලන සම්භවය විස්තර කිරීමට ඔවුන් අසමත්වීම නිසා (එවැනි දෙයක් ඉදිරියේ පසුබැසීමටද, එම සම්භවය ඇඳිරි කිරීමට එය මත දූලක්* දැමීමේ ඔවුන්ගේ අභිලාෂය නිසා මීට බොහෝ කලකට පෙර යල්පැන ගිය විභේදනයක් ගැන පූන පූනා කීමට ඔවුන්ට සිදුවී ඇත. සංවිධානාත්මක මූලධර්මය කින් (ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටස) පටන් ගෙන අරාජික-

---

* අංක 53 ''ඉස්ක්‍රා'' පත්‍රයේ ආර්ථිකවාදය ගැන ප්ලෙහානව් ගේ ලිපිය බලන්න. එම ලිපියේ උප සිරස්තලයේ එක්තරා මුද්‍රණ දෝෂයකි. ''පක්ෂයේ දෙවැනි සමුළුව පිළිබඳ ප්‍රත්‍යාවේක්ෂණයක්'' වෙනුවට එය ''ලීග් සමුළුව ගැන'' නැතිනම් යටත් පිරිසෙයින්, ''එකතු කරගැනීම පිළිබඳව'' වශයෙන් වෙනස් විය යුතුය. සමහර අවස්ථාවලදී පෞද්ගලික ඉල්ලීම්වලට ඉඩදීම කොතරම් සැහෙන ක්‍රියාවක් වුණද, සාධර්මිකත්වයේ සිට අවස්ථාවාදය දක්වා යාමට පටන්ගෙන තිබෙන මාර්තව්ගේ සහ අක්සල්රොඩ්ගේ අළුත් වරද වෙනුවට මර්තීනව්ලාගේ සහ අකීමව්ලාගේ පරණ වැරදි (නව ඉස්ක්‍රා හැර වෙන කිසිවෙක් මේවා මතක් නොකරති) ආදේශ කිරීමට සහ පක්ෂය තුළ කැළඹීමක් ඇතිකර තිබෙන ප්‍රශ්න ව්‍යාකූල කිරීමට (පක්ෂයේ මිස අවරසික දෘෂ්ටි කෝණයෙන් නොවේ) කොහෙත්ම ඉඩදිය නොහැකිය. මර්තීනව්ලා සහ අකීමව්ලා වැඩ පිළිබඳ හා උපක්‍රම පිළිබඳ බොහෝ ප්‍රශ්නවලදී අවස්ථාවාදයේ සිට සාධර්මිකත්වය දක්වා යාමට දැන් සමහර විට සූදානම්ව සිටිනවා විය හැකිය.



වාදීන්ට තරම්වන ව්‍යවහාරයකින් අවසන් වුණු මත භේදය උඩ මෙම අළුත් විභේදනය පදනම් වී ඇති බව හැම දෙනෙක්ම දනිති. ආර්ථිකවාදීන් සහ දේශපාලනඥයින් හැටියට ඇති වූ විභේදනයේ පදනම ප්‍රධාන වශයෙන් උපක්‍රම අනුව ඇති වූ මතභේදයක් විය.

පක්ෂ ජීවිතයේ වඩාත් සංකීර්ණ, කාලෝචිත සහ දැවෙන ප්‍රශ්නවලින් පසුබැසීම සාධාරණයැයි පෙන්වීම සඳහා බොහෝ කලකට පෙර වළලා දමන ලද ප්‍රශ්න දැන් යළිත් වරක් කෘත්‍රිම ලෙස ගොඩගෙන තිබේ. හාස්‍ය ජනක ලෙස ගැඹුරු චින්තනයක් ප්‍රදර්ශනය කිරීමට දඟලන නව ඉස්ක්‍රා පත්‍රයේ මේ ක්‍රියාකලාපයට වල්ගවාදය යන්න හැර අන් නමක් නොමැත. හැඩයට වඩා සන්ධාරය වටින්නේ යැයිද, සංවිධානයට වඩා වැඩ පිළිවෙළ සහ උපක්‍රම වැදගත් යැයිද, සංවිධානයක් විසින් ව්‍යාපාරයට දෙනු ලබන සන්ධාරයේ පරිමාණය සහ වටිනාකම අනුව එම සංවිධානයේ ජීව — ශක්තිය රඳා පවතින්නේ යැයිද, මධ්‍යගතවාදය ''එකම අග්‍රඵලය'' නො- වන්නේ යයිද එය සියලු දේ රැක දෙන කවචයක් නොවන්නේ යැයිද ආදි ගැඹුරු අදහස් ''ඉස්ක්‍රා'' පත්‍රයේ සියලු ලියවිලි වල දක්නට ඇත. මේවා අක්සල්රොඩ් සහෝදරයා විසින් පටන්ගෙන රතු හූයක් සේ එම ලියවිලි වල විහිද ගොස් ඇති සැටි පෙනේ. මහා ගැඹුරු සත්‍යයන්ය! ඇත්ත වශයෙන්ම වැඩ පිළිවෙළ උපක්‍රමවලට වඩා වැදගත්ය, උපක්‍රම සංවිධානයට වඩා වැදගත්ය. හෝඩිය නිරුක්ති ශාස්ත්‍රයට වඩා වැදගත්ය, නිරුක්ති ශාස්ත්‍රය වාක්‍ය රචන රීති වලට වඩා වැදගත්ය. වාක්‍ය රචන රීති පිළිබඳ පරීක්ෂණයකින් අසමත් වූ අය ඉන් ඉක්බිතිව තමන් පහළ පංතියක තවත් අවුරුද්දක් තැබූහයි කියමින් වහසි බස් දොඩන විට, ඔවුන් ගැන මොනවා කියන්ටද? අක්සල්රොඩ් සහෝදරයා සංවිධානාත්මක මූලධර්ම ගැන අවස්ථාවාදියකු ලෙස (1 කොටස) තර්ක කළේය, සංවිධානය තුළ අරාජිකවාදියකු ලෙස (ලීග් සමුළුව) හැසිරී ඇත. දැන් ඔහු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය අරුත්සරු කිරීමට ඉදිරිපත් වී සිටී. මෙය තිත්ත මිදි ගැන කතාව සිහිපත් කරවයි! ඇත්ත වශයෙන් කියන්නේ නම්, සංවිධානය යනු කුමක්ද? එය ආකාරයක් පමණක් වන්නේය. මධ්‍ය- ගතවාදය යනු කුමක්ද? මෙය කොහෙත්ම කවචයක් නොවේ. වාක්‍ය රචන රීති යනු කුමක්ද? එය නිරුක්ති ශාස්ත්‍රයට වඩා අඩු වැදගත්කමක් දරන්නේ මන්ද? එය නිරුක්ති ශාස්ත්‍රයේ මූලිකාංග සංයෝජනය කරන ආකාරයක් පමණකි... ''ඉස්ක්‍රා'' පත්‍රයේ නව කතෘවරු ජයග්‍රාහී ලෙස මෙසේ අසන විට, ''පක්ෂයේ වැඩ මධ්‍යගත කිරීම සඳහා කොතරම් අංග සම්පූර්ණ වුවද (ව්‍යවස්ථා) මාලාව පිළිගත්තාට වඩා පක්ෂ වැඩ පිළිවෙළක් ඉදිරිපත් කිරීමෙන්, පක්ෂ සමුළුව වැඩි මෙහෙයක් ඉටු කළේයැයි අප කියන විට,අලෙක්සාන්ද්‍රව් සහෝදරයා අප සමග එකඟ නොවන්නේද?''

(අංක 56. අතිරේකය.) මිනිස් සංහතිය මෙන්ම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය තමාට කළ හැකි වැඩ පමණක් හැමදම නියම කරගන්නේ යැයි ක්‍රිචෙව්ස්කි සහෝදරයා විසින් කරනලද සුප්‍රසිද්ධ ප්‍රකාශය මෙන්ම වේ ශාස්ත්‍රීය ප්‍රකාශනයද නො අඩු පුළුල් සහ නො අඩු ඓතිහාසික කල්පවතින ප්‍රසිද්ධියක් ලබනු ඇතැයි බලාපොරොත්තු විය හැකිය. මන්දයත් නව ඉස්ක්‍රාවේ අළුත් ගැඹුරු චින්තනයත් එම අච්චුවටම අයත් බැවිනි. ක්‍රිචෙව්ස්කි සහෝදරයාගේ වාක්‍ය ඛණ්ඩය සමච්චලයට භාජනය වූයේ මන්ද? සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් කොටසක් උපක්‍රම පිළිබඳව කළ වැරදි-නිවැරදි දේශපාලන කර්තව්‍යයන් නියම කිරීමට ඔවුන්ගේ ඇති අදක්ෂ-තාවය සාධාරණ යැයි පෙන්වීමට ඔහු කවුරුත් දන්නා වැදගැම්මකට නැති දේ දර්ශනවාදයක් ලෙස ඉදිරිපත් කළ බැවිනි. එම ආකාරයටම, නව ඉස්ක්‍රාව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් කොටසකගේ සංවිධානාත්මක වැඩ පිළිබඳව වැරදීද, අරාජිකවාදී වාක්‍ය ඛණ්ඩ ඇදබැමේ තත්ත්වයට වැටී සිටින සමහර සහෝදරවරුන්ගේ බුද්ධිමය අස්ථිරතාවයද සාධාරණ යැයි පෙන්වීම සඳහා වැඩ පිළිවෙල ව්‍යවස්ථා මාලාවට වඩා වැදගත් යැයි කියමින්, වැඩ පිළිවෙළ පිළිබඳ ප්‍රශ්න ව්‍යවස්ථා මාලාව පිළිබඳ ප්‍රශ්නවලට වඩා වැදගත් යැයි කියමින් වැදගැම්මකට නැති දේ ඉදිරිපත් කරයි. මෙය වලිගවාදය හැර වෙන කුමක්ද? පහළ පංතියක වැඩිපුර අවුරුද්දක් ඉගෙන ගැනීමට සිදුවීම ගැන පුරසාරම් දෙඩීමත් හැර මෙය වෙන කුමක්ද?

වැඩ පිළිවෙළක් පිළිගැනීම ව්‍යවස්ථා මාලාවක් පිළිගැනීමට වඩා වැඩ මධ්‍යගත කිරීමට ආධාරවේ. දර්ශනවාදයක් ලෙස ඉදිරිපත් කර ඇති වැදගැම්මකට නැති මෙය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයට වඩා ධනපති දිරා-පත්වීමක් සමග වඩාත් සමීප රැඩිකල් බුද්ධිමතාගේ අධ්‍යාත්මයෙන් වහනය වෙයි! මේ ප්‍රසිද්ධ වාක්‍ය ඛණ්ඩයේ මධ්‍යගත කිරීම නැමැති වචනය යොදවා ඇත්තේ සංකේතාත්මකව මිස අන් කිසිවක් සඳහා නොවේ. මේ වාක්‍ය ඛණ්ඩයේ කතෘවරුන්ට කල්පනා කිරීමට බැරිනම් හෝ කල්පනා කිරීමට අකමැති නම්, බුන්ඩ් සංවිධානයේ සාමාජිකයින් සමග එකතු වී වැඩ පිළිවෙළක් පිළිගැනීම අපේ පොදු වැඩ මධ්‍යගත කරණය වෙත යොමු වනවාට වඩා අප භේද භින්නවීමෙන් ආරක්ෂා වීමක් පවා එයින් නො වුනු බව වත් ඔවුන් මතක් කළ යුතුය. වැඩ පිළිවෙල සහ උපක්‍රම පිළිබඳ ප්‍රශ්න ගැන සමගියක් අත්‍යාවශ්‍ය වුවද, පක්ෂයේ සමගිය සඳහාත්, පක්ෂයේ වැඩ මධ්‍යගත කිරීම සඳහාත්, (සියලු සංකල්ප ව්‍යාකූල කරගෙන තිබෙන මේ දවස්වලදී කොතරම් මූලික කරුණු යළිත් කියා පෑමට සිදුවී තිබේද!) එය කොහෙත්ම සෑහෙන කොන්දේසියක් නො-වන්නේය. පවුල් කවයක සීමාවලට වඩා ඈතට වර්ධනය වී ඇති පක්ෂයක පසුකී දෙයට වඩා අමතරව සංවිධානාත්මක සමගිය, ව්‍යවස්ථා මාලාවකින් තොරව, අල්පතරය බහුතරයටත්, කොටසක් සමස්තයටත් යටවීමකින් තොරව, ඇති වේ යයි සිතාගැනීමට පවා නොහැකිය. වැඩපිළිවෙළ සහ උපක්‍රම පිළිබඳව මූලික ප්‍රශ්නවලදී අප අතර සමගියක් නොතිබුණු කාල-යේදී අසමගිය සහිත කාල පරිච්ඡේදයක සහ වෙන්වූ කවවල වාසය කළ බව අපි ඍජු ලෙස පිළිගත්තෙමු. එක්සත්වීමට පෙර මායිම් සළකුණු කළ යුතු බව කියා සිටියෙමු. ඒකාබද්ධ සංවිධානයක හැඩයන් ගැන පවා අපි සාකච්ඡා නොකළෙමු. වැඩ පිළිවෙල සහ උපක්‍රම අනුව අවස්ථාවා-දයට විරුද්ධව සටන් කිරීමේ නව ප්‍රශ්න ගැන (ඒ කාලයේදී ඒවා සැබවින්ම නව ප්‍රශ්න විය) විශේෂයෙන් සාකච්ඡා කළෙමු. දැන් මෙම අරගලය, අප හැමදෙනම පිළිගන්නා පරිදි පක්ෂයේ වැඩ පිළිවෙලින් සහ උපක්‍රම පිළිබඳ පක්ෂයේ යෝජනාවලින් ඉදිරිපත් කර තිබෙන පරිදි, ප්‍රමාණවත් එක්සත් කමක් ඇති කර තිබේ. මීළඟ පියවර ගත යුතුව තිබිණි. පොදු අනුමැතිය අනුව අපි එම පියවර ගතිමු. සියලු කවයන් එකට එක් කරන එක්සත් සංවිධානයක ආකෘති අපි සාදගතිමු. එහෙත් දැන් ආකෘති අඩවශ-යෙන් විනාශ කොට, අප ආපස්සට ඇද ගෙන ගොස් ඇත. අරාජිකවාදී ක්‍රියා මාර්ගයකටත්, අරාජිකවාදී වාක්‍ය ඛණ්ඩ වලටත්, පක්ෂයේ කතෘ මණ්ඩලයක් වෙනුවට, කවයකට නවජීවනයක් ලබා දීමක් දක්වාත් අප ආපස්සට ඇදගෙන ගොස් ඇත. මෙලෙස ආපස්සට ගත් පියවර සාධාරණ යැයි පෙන්වන්නේ, වියරණ රීති අනුව කතා කිරීම සඳහා වාක්‍ය රචන පිළිබඳ රීතිවලට වඩා හෝඩිය වටනේයැයි කියමිනි!

උපක්‍රම පිළිබඳ ප්‍රශ්නවලදී මීට තුන් වසරකට පෙර සමෘධිමත් ලෙස වැඩුණු වලිගවාදී දර්ශනය අද සංවිධානය පිළිබඳ ප්‍රශ්නවලදී යළි පණගන්වා ඇත. අළුත් කර්තෘ වරුන් ඉදිරිපත් කරන මේ තර්කය පිරික්සා බලමු. ''පක්ෂයේ සටන්කාමී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය දිගටම ගෙන යා යුත්තේ දෘෂ්ටිමය අරගලයක් මගින් පමණක් නොව, සංවිධානයේ ස්ථිර ආකාරයන්ද මගිනි''යි අලෙක්සාන්දර් සහෝදරයා පවසයි. කර්තෘ මණ්ඩලය අපට මෙලෙස උපදෙස් දෙයි: ''දෘෂ්ටිමය අරගලයේ සහ සංවිධානයේ ආකාර සන්සන්දනය කිරීම අයහපත් වැඩක් නොවේ. දෘෂ්ටිමය අරගලය ක්‍රියාදමයකි, එහෙත් සංවිධානයේ ආකෘති... ආකෘති පමණකි'' (විශ්වාස කළත්, නොකළත් එලෙස මුද්‍රණය කර ඇත. අංක 56 අතිරේකය 4 පිටුව, පහළට 1 වැනි කොළම) ඒවා පක්ෂයේ ප්‍රායෝගික වැඩ වර්ධනය කිරීම — අවිනිශ්චිත සහ වර්ධනයවන සන්ධාරය සැරසීමට සකස්කර ඇති'' මෙය හරියට වෙඩි උණ්ඩය වෙඩි උණ්ඩයක්මය, බෝ-ම්බය, බෝම්බයක්ම යැයි කියන විහිළුවට සමානය. දෘෂ්ටිමය අරගලය ක්‍රියාදමයකි, සංවිධානාත්මක ආකෘති හරය සරසන ආකෘති පමණකි! අප ඉදිරියේ ඇති ප්‍රශ්නය නම්, අපේ දෘෂ්ටිමය අරගලය සැරසීමට තරම්

උසස් ආකෘති, සියලු දෙනා කෙරෙහි එකාකාර ලෙස බලපාන ආකෘති, එයට ලැබේද නැතිනම් පැරණි අසංවිධානයේ සහ පැරණි කවයන්ගේ ආකෘති එයට ලැබේද යන්නය. උසස් ආකෘතිවල සිට පහත් ආකෘති දක්වා අප ආපස්සට ඇදගෙන ගොස් තිබේ. මෙය සාධාරණයැයි පෙන්වා දෙන්නේ දෘෂ්ටිමය අරගලය ක්‍රියාදාමයක් යැයිද ආකෘති — ආකෘති පමණක්ම යැයි ද කියමිනි. මෙය හරියට, ඉහත දී ක්‍රිචේව්ස්කි සහෝදරයා සැලැස්ම වන උපක්‍රම සිට ක්‍රියාදාමය වන උපක්‍රම දක්වා අප ඇදගෙන ගියාක් මෙනි.

හැඩය මිස සන්ධාරය නොදකීමේ අවදානමට මුහුණ පා ඇති අය ගැන කරන ලද ''නිර්ධන පංතියේ ස්වයං පුහුණුව'' (අංක 58 කතු වැකිය) ගැන ''ඉස්ක්‍රා'' පත්‍රයේ පුරාජේරු කතාව ගෙන බලමු. මෙය අංක දෙකේ අකීමව්වාදයක් නොවේද? නිර්ධන පංතික අරගලයේ ''වඩාත් ගැඹුරු'' සන්ධාරය ගැනත් නිර්ධන පංතියේ ස්වයං පුහුණුව ගැනත් කතා කරමින්, උපක්‍රමීය කාර්යයන්හිදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී බුද්ධිමතුන්ගේ සමහර කොටසකගේ නොදියුණුකම අංක එකේ අකීමව්වාදය විසින් සාධාරණයැයි පෙන්වන ලදී. සංවිධානය හුදු හැඩයක් පමණකැයිද, නිර්ධන පංතියේ ස්වයං පුහුණුව වැදගත් යැයිද එලෙසම කියමින් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී බුද්ධිමතුන්ගේ සමහර කොටසකගේ න්‍යායික සහ සංවිධානයේ ප්‍රායෝගිකත්වය පිළිබඳ නොදියුණු කම සාධාරණ යැයි අංක දෙකේ අකීමව්වාදය පෙන්වා දෙයි. බාල සොහොයුරා ගැන, මහත් උනන්දුවක් දක්වන මහත්වරුනි, නිර්ධන පංතිය සංවිධානයට සහ විනයට බිය නැති බව මම නුඹලාට දැනුම් දෙමි! තමන්ට සංවිධානයක පාලනය යටතේ වැඩකිරීමට සිදුවන නිසා පක්ෂයේ සාමාජිකයින් හැටියට ගැනෙන සංවිධානයකට බැඳීමට අකැමැති මහාචාර්යවරුන්ගෙන් සහ විද්‍යාල ශිෂ්‍යයින්ගෙන් නිර්ධන පංතියට කිසිදු වැඩක් නැත. සිය ජීවිතය විසින් නිර්ධන පංතිය බුද්ධිමත් ආඩම්බරකාරයින්ට වඩා සංවිධානයට පුහුණු කර ඇත. අපේ වැඩ පිළිවෙළ සහ උපක්‍රම ගැන දැනීමක් ලබාගත් පසු නිර්ධන පංතිය ආකෘතිය සන්ධාරයට වඩා අඩු වැදගත් කමක් දක්වන්නේ යැයි තර්ක කරමින් සංවිධානයක නොදියුණු කම සාධාරණ යැයි පෙන්වීමට ඉදිරිපත් නොවනු ඇත. සංවිධානය සහ විනය අනුවත්, අරාජිකවාදී කතාවලට විරුද්ධත්වය සහ විරෝධය පෑම අනුවත් අඩු ස්වයං පුහුණුවක් ලබා නැත්තේ නිර්ධන පංතිය නොව, අප පක්ෂයේ සමහර බුද්ධිමතුන්ය. අංක එකේ අකීමව්වාදීන් නිර්ධන පංතිය දේශපාලන සටන් අරගලවලට මෝරා නැතැයි කියමින් අපහාස කළාක් මෙන්ම, අංක දෙකේ අකීමව්වාදීහු ද නිර්ධන පංතිය සංවිධානය සඳහා මෝරා නැතැයි කියමින් අපහාස කරති. පංති හැඟීමක් ඇති සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකු බවට පත්වූ නිර්ධන පංතිකයකු තමා



පක්ෂයේ සාමාජිකයකු යැයි සලකමින්, උපක්‍රම පිළිබඳව වල්ගවාදය පිළිකුල් සහගතව ප්‍රතික්ෂේප කළාක් මෙන්ම, සංවිධානය පිළිබඳ ප්‍රශ්නවලදී ද වල්ගවාදය ප්‍රතික්ෂේප කරනු ඇත.

අවසාන වශයෙන් නව ඉස්ක්‍රාවේ ''ප්‍රායෝගික කාරකයා'' ගේ ගැඹුරු චින්තනය පිරික්සා බලමු. ඔහු මෙසේ ලියයි: ''විප්ලවවාදීන්ගේ ක්‍රියාකාරීත්වය (අවධාරණය ගැඹුරු බව පෙන්වීමටය) සමගි කරන සහ මධ්‍යගත කරන ''සටන්කාමී'' මධ්‍යගත සංවිධානයක් පිළිබඳ චින්තනය එකවර ක්‍රියාවට පෙරළිය හැක්කේ එවැනි ක්‍රියාවක් තිබුණොත් පමණකි (අළුත්ය එමෙන්ම දක්ෂය!). ආකෘතියක් හැටියට සංවිධානය (මෙය සටහන් කරගන්න) එකවර (මේ වැකියේ සෑම අවධාරණයක්ම කතුවරයා විසිනි) වර්ධනය විය හැක්කේ එහි සන්ධාරය වන විප්ලවවාදී වැඩවල වැඩීමත් සමගය'' (57). අවමඟුල් පෙරහැරක් දුටු මිනිහෙක්, ''සුබ උපන් දිනයක් වේවා!'' කියමින් කෑගැසීයැයි කියන, ජනකතා චරිතයට මෙය බෙහෙවින් සමාන බව, මෙය මතක් නොකරන්නේද? පැහැදිලි ලෙසම අපේ ක්‍රියා කාරීත්වයේ (එනම් අපේ සංවිධානයේ) ආකෘතිය එහි සන්ධාරයට වඩා පිටුපසින්, බලාපොරොත්තු රහිත ලෙස ගාටන බවත්, මෙලෙස පසුපසින් ගාටන අය අමතා පෙළට පා තබව්! ඉදිරියට නොයව්!'' යැයි කෑගැසීමට ඉදිරිපත් විය හැක්කේ පක්ෂයේ සිටින නිවටයින්ට පමණක් බවත් වටහා නොගන්නා එකද ප්‍රායෝගික කාරක වරයෙකු වත් (මේ පදයේ සැබෑ අරුත අනුව) අප පක්ෂයේ නොමැති බව මට සහතිකය. අපේ පක්ෂය බුන්ඩ් සංවිධානය සමග සන්සන්දනය කරමු. අප පක්ෂයේ වැඩවල සන්ධාරය* බුන්ඩ් සංවිධානයට වඩා නොමිණිය හැකි තරම් පොහොසත්ය, වඩාත් විවිධාකාරය, පුළුල්ය, ගැඹුරුය. අපේ වැඩවල න්‍යායික පරිමාණය වඩාත් පුළුල්ය, අපේ වැඩ පිළිවෙළ වඩාත් දියුණුය, කම්කරු බහු ජන කොටස් (සංවිධානය වූ හස්ත කර්මාන්ත කරුවන් අතර පමණක් නොව) අතර අපේ බලපෑම පුළුල්ය; ගැඹුරුය, අපේ ප්‍රචාරය හා උද්ඝෝෂණය වඩාත් විවිධාකාරය, පක්ෂයේ නායකයින්ගේ සහ සාමාන්‍ය සාමාජිකයින්ගේ දේශපාලනමය ස්නායු වඩාත් ජීවදයි

* සටනක ප්‍රතිඵලයක් වශයෙන් විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ආස්වාදයකින් අප පක්ෂයේ සමුළුවේදී (වැඩ පිළිවෙළ ආදිය තුළින්) පක්ෂයේ වැඩ පිළිබඳ හරය සැලසුම් කළ බව මම මෙහිදී මතක් නොකරමි. එය ඉස්ක්‍රා විරෝධීන්ට විරුද්ධවත්, අපේ අල්පතරයේ සංඛ්‍යාත්මක වශයෙන් බලපාන මඩගොහොරුවේ නියෝජිතයින්ට විරුද්ධවත් කළ සටනක් විය. හරය පිළිබඳ මේ ප්‍රශ්නයේදී පැරණි ඉස්ක්‍රා පත්‍රයේ කලාප හයක් (46—51) සමග නව ඉස්ක්‍රා පත්‍රයේ කලාප දෙළහක් (52—63) සමග සසඳා බැලීම වටනේය. මෙය වෙනත් වාරයකට තබමු.

ශක්තියකින් පිරි ඇත. පෙළ පාලි සහ පොදු වැඩ වර්ජනවලදී පොදු ජන ව්‍යාපාරයන් වඩාත් වැඩි ක්‍රියාශීලීත්වයක් පෙන්වයි. නිර්ධන පංතික නොවන කොටස්වල අපේ වැඩ වඩාත් උනන්දුශීලීය. එහෙත් ''අකෘතිය''? බුන්ඩ් සංවිධානය වැඩවල ආකාරය සමග සසඳා බලන විට අපගේ වැඩ කිරීමේ ආකෘති පසුබැස ඇත. නොසැලකිලිමත් ලෙස පක්ෂය දෙස නොබලන සෑම කෙනෙකුගේම නෙත්වලට වේදනා ගෙනදෙන ලෙසත්, ලජ්ජාව නිසා කම්මුල් රතුවන ලෙසත් සමාව නොදිය හැකි ලෙස පසුබැස ඇත. සන්ධාරයට වඩා අපේ සංවිධානාත්මක වැඩ පසුබා සිටීම අපේ දුර්වල කමෙකි. සමුළුවට බොහෝ කලකට පෙර සිටත්, සංවිධාන කමිටුව සෑදීමට බොහෝ කලකට පෙර සිටත් එය අපේ දුර්වල ස්ථානය විය. ආකාරයේ ඌන වර්ධනය සහ දුර්වලත්වය නිසා සන්ධාරය තවත් දුර වර්ධනය කිරීම සඳහා බැරෑරුම් පියවරයන් ගැනීම නොකළැකි දෙයක් බවට පත්කොට තිබේ. එය ලජ්ජා සහගත ලෙස එකතැන පල්වීමකට හේතු වී ඇත. ශක්තිය අපතේ යැවීමකටද කතාව හා ක්‍රියාව අතර අසංගතියකටද හේතු වී ඇත. අපි හැම දෙනම මේ අසංගතිය නිසා විශාල පීඩාවකට පත්වීමු. එහෙත් අක්සල්රෝඩ්ලා සහ ''ප්‍රායෝගික කාරකවරු'' සිය ගැඹුරු චින්තන දේශනා සමග ඉදිරිපත් වෙති: ආකෘතිය ස්වාභාවික ලෙස, සන්ධාරය සමග එකවර පමණක් වර්ධනය විය යුතුය!

වැදගැම්මකට නැති දේවලට ගැඹුරු කමක් ආරූඪ කිරීමටද, අවස්ථාවාදී වාග්පාය දෙඩවීමකට දර්ශනික සාධාරණත්වයක් දීමටද ඉදිරිපත් වන්නේ නම්, සංවිධානය පිළිබඳ ප්‍රශ්නයේදී (1 කොටස) කුඩා වරදක් කිරීම නිසා ඇද වැටෙන්නේ එවැනි තත්වයකටය. වංගු සහිත පාරක් ඔස්සේ සෙමින් ගමන් කිරීමකි![47] මේ තාලය ඇල්ලීම උපක්‍රම පිළිබඳ ප්‍රශ්න සම්බන්ධයෙන් අපි අසා ඇත්තෙමු. සංවිධානය පිළිබඳ ප්‍රශ්න සම්බන්ධයෙන්ද දැන් අපි එය අසන්නෙමු. අරාජිකවාදී පුද්ගලිකවාදියෙක් සිය අරාජිකවාදී අපගමනයන් (මුලදී සමහර විට අහම්බෙන් වුවද) මතවාදී පද්ධතියක් දක්වාත්, මූලධර්ම පිළිබඳ විශේෂ විභේදනයන් දක්වාත් උසස් කිරීමට පටන් ගන්නා විට, සංවිධානය පිළිබඳ ප්‍රශ්නවලදී වලිගවාදය ඔහුගේ බුද්ධියේ ස්වාභාවික සහ නොවැළැක්විය හැකි නිෂ්පාදනයක් වන්නේය. ලීග් සමුළුවේදී මේ අරාජිකවාදයේ පටන් ගැන්මක් අපි දුටුවෙමු. එය මතපද්ධතියක් දක්වා උසස් කිරීමේ නව ''ඉස්ක්‍රාවේ'' ප්‍රයත්නයන් අපි දැන් දකිමින් සිටිමු. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයට ඇදෙන ධනවාදී බුද්ධිමතා සහ පංතිමය වුවමනා පිළිබඳව විඥත හැඟීමක් ඇති නිර්ධනයාත් අතර ඇති විවිධ මතභේදය ගැන පක්ෂ සමුළුවේදී කරනලද ප්‍රකාශන මේ ප්‍රයත්නයන් විසින් ඉතා අගනා ලෙස සනාථ කරනු ලැබේ. මධ්‍යම කාරක සභාව වැනි අධ්‍යක්ෂයකුගේ



නායකත්වය යටතේ පක්ෂය විශාල කම්හලක් හැටියට මා සිතන්නේ යැයි කියමින් නිදසුනක් වශයෙන් නව ඉස්ක්‍රාවේ එම ''ප්‍රායෝගික කාරකවරයා'' මා හෙළාදකී. (අංක 57 අතිරේකය) අපි ඔහුගේ ගැඹුරු චින්තනය ගැන දැනටමත් හොඳින් දනිමු. නිර්ධන පංතික සංවිධානයේ ව්‍යවහාරය හෝ න්‍යායය ගැන නොදන්නා ධනවාදී බුද්ධිමතාගේ බුද්ධිය මේ වචනය නිසා තමා විසින් එකවරම හෙළි කරන ලද බව ''ප්‍රායෝගිකයා'' අනුමාන නොකරයි. සමහරුන්ට බිල්ලකු සේ පෙනෙන මේ කම්හල ධනපති සහයෝගයේ උසස්තම ආකෘතිය නියෝජනය කරයි. එය නිර්ධන පංතිය එක්සත් කොට විනය ගරුක කළේය, සංවිධානය වීමට උගන්වාලීය, වැඩ කරන හා සූරාකනු ලැබීමට භාජනය වී සිටින සෙසු ජනතාවයේ නායකයා ලෙස නිර්ධන පංතිය පත් කළේය. ධනපති ක්‍රමය විසින් පුහුණු කරනු ලැබූ නිර්ධන පංතියේ දෘෂ්ටිය වන මාක්ස්වාදය කම්හල සූරාකෑමේ මාධ්‍යයක් වශයෙන්ද (බඩගින්න නැමැති බිය මත පදනම් වූ විනය) කම්හල සංවිධානය කිරීමේ මාධ්‍යයක් වශයෙන්ද (තාක්ෂණික වශයෙන් වඩාත් උසස් තත්ත්වයන් විසින් එක්සත් කරන ලද සාමූහික වැඩ මත පදනම් වූ විනය) යන මේ මාධ්‍යයන් දෙක අතර ඇති වෙනස වෙන්කර පසක් කර ගත යුතු බව, අස්ථිර බුද්ධිමතුන්ට අතීතයේදී මෙන්ම දැනුදු උගන්වයි. මේ කම්හලේදී ලබන. ''ඉගෙනීම'' නිසා නිර්ධනයා ධනවාදී බුද්ධිමතාට ඉතා අමාරු අසීරු විනය හා සංවිධානය ඉතා ලෙහෙසියෙන් දැන ගනී. මෙම ඉගෙනීම ඉදිරියේ ඇති මරණීය බිය සහ සංවිධානාත්මක සාධකයක් ලෙස එහි ඇති වැදගත් කම වටහා ගැනීමට සම්පූර්ණයෙන් අසමත් වීමද සුළු ධනවාදී ජීවන ක්‍රම පිළිබිඹු කිරීම සහ ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් විසින් Edelanarchismus වශයෙන් හඳුන්වනු ලබන, එනම් ''වංශක්කාර'' මහත්මයකුගේ අරාජිකවාදය, නැතිනම් මා නම් කරන පරිදි වංශාධිපති අරාජිකවාදය නැමැති අරාජිකවාදීය වර්ගයක් බිහිකිරීම මෙම චින්තන ක්‍රමයේ ආවේණික ලක්ෂණ වන්නේය. රුසියානු නාස්තික වාදියාට මෙවැනි වංශාධිපති අරාජිකවාදයක් විශේෂයෙන් ආවේණික වේ. පක්ෂ සංවිධානය දැවැන්තමය ''කම්හලක්'' සේ ඔහු කල්පනා කරයි, කොටසක් සමස්තයට යටත් වීමත්, අල්පතරය බහුතරයට යටත් වීමත්, ''ප්‍රවේණි දසත්වය'' හැටියට ඔහු සිතයි (අක්සල්රෝඩ්ගේ ලිපිය බලන්න); මධ්‍යස්ථානයේ මෙහෙයැවීම යටතේ ශ්‍රම විභජනය මිනිසුන් ''කුඩා රෝදවලට සහ ඉස්කුරුප්පු වලට'' පරිවර්තනය කරන්නේ යැයි කියමින් ඔහු ශෝකාභාසය ලෙස හඬ නගයි (මෙවැනි පරිවර්තනයක ඉතා බිහිසුණු විධියක් නම් කතුවරයින් ලිපි සපයන්නන් බවට වෙනස් කිරීමය); පක්ෂයේ සංවිධාන ව්‍යවස්ථා ගැන මතක් කිරීම අවඥ සහගත පුලුටු මුහුණක් සහ පිළිකුල දනවන වැකි

උපදවයි. රීති මාලාව නැතිව කෙනෙකුට යසට වැඩ කළ හැකි බව (විධික්‍රමවාදීන්ට එල්ල කරන ලද්දකි) ඉන් කියාපායි.

විශ්වාස නොකළැකි සේ පෙනුනද මෙය සත්‍යයකි: අංක 58 ''ඉස්ක්‍රාව'' මගින් මාර්තව් සහෝදරයා මට උපදෙස් දෙන ස්වභාවයක් පෙන්වමින්, වැඩි අවධාරණය සඳහා, ''සගයකුට ලිපියක්'' නැමැති මගේ ලිපියෙන්ම උපුටා දක්වමින් කීවේද මෙවැනිම වදනකි.

පක්ෂය පිළිබඳ යුගයේ කවවාදී හැඟීම සහ අරාජිකවාදය ආරක්ෂා කිරීම සහ වර්ණනා කිරීම සාධාරණ යැයි පෙන්වීම සඳහා අසමගිය පිළිබඳ යුගයෙන් නිදසුන් ගෙනහැර දැක්වීම ''වංශාධිපති අරාජිකවාදය'' සහ වලිගවාදය නොවේ නම් වෙන කුමක්ද?

ඉස්සර අපට ව්‍යවස්ථාවල අවශ්‍යතාවයක් ඇති නොවූයේ මන්ද? පක්ෂය වෙන්වූ කවයන් වශයෙන් පැවති නිසාත්, ඒවා අතර සංවිධානාත්මක සම්බන්ධකම් නොතිබුණු නිසාත්ය. එක් පුද්ගලයකුට එක් කවයක සිට තවත් කවයක් දක්වා තමන් සිතූ පරිදි යාමට ඉඩකඩ තිබිණි. මුළු සංවිධානයේ අභිප්‍රායය ප්‍රකාශ කරන කිසිවක් ඔහු ඉදිරියේ නොතිබිණි. කවයන් තුළ ආරාවුල් රීති අනුව විසඳා නැත, එහෙත් ඒ වෙනුවට ''සගයකුට ලිපියක්'' නැමැති කෘතියෙන් මා පෙන්වා දුන් පරිදි, ''සටන් කිරීමේ සහ ඉල්ලා අස්වීමේ තර්ජන ඉදිරිපත් කැරිණි.'' මම එම කෘතියෙන් පොදුවේ කවයන් කීපයක සහ විශේෂයෙන් හය දෙනෙකුගෙන් යුත් අපේ කර්තෘ මණ්ඩල කවයේ අත්දැකීම්ද සම්පිණ්ඩනය කළෙමි. කවවල යුගයේදී මෙය ස්වාභාවික මෙන්ම නොවැළැක්විය හැකි විය. එය වැණීමට කිසිවෙක් නොසිතූහ. එය පරමාදර්ශයක් ලෙස කිසිවෙක් පිළිනොගත්හ. මේ අසමගිය ගැන හැම දෙනෙක්ම දුක් ගැනවිලි ඉදිරිපත් කළහ. ඉන් හැම කෙනෙක්ම පීඩා වින්ද අතර වෙන්ව තිබුණු මේ කවයන් එකට එක්වී විධිමත් ලෙස පක්ෂයක් සෑදෙනවා දැකීමට යුහුසුලු වූහ. දැන් මේ එක්වීම ඉටු වී ඇත. එහෙත් දැන් අප ආපස්සට ඇද දමනු ලැබේ. උසස් සංවිධානාත්මක මතවල නාමයෙන් අපට අරාජිකවාදී වාග්පාඨවලින් සංග්‍රහ කරති! ඔබ්ලෝමොව්ගේ[48] ගෘහමය කවයේ නොගැලපෙන කබා සහ පාවහන් වලට පුරුදු අයට විධිමත් ව්‍යවස්ථා පටු, සීමාසහිත, පීඩාගෙනදෙන, කුමන්ත්‍රණකාරී, නිලධාරිවාදයකි, ප්‍රවේණිදසත්වයේ වහල් බැම්මකි, දෘෂ්ටිමය අරගලයේ ස්වාධීන ක්‍රියාදමයට බාධාවකි. පටු කවවාදී සම්බන්ධකම් වෙනුවට, පුළුල් පක්ෂික සම්බන්ධකම් ඇති කිරීම සඳහා විධිමත් ව්‍යවස්ථා අවශ්‍ය බව වංශාධිපති අරාජිකවාදයට වටහා ගැනීමට නොහැකිය. කවයක අභ්‍යන්තර සම්බන්ධකම් වලට හෝ කවයන් අතර සම්බන්ධකම් වලට හෝ විධිමත් හැඩයක් ලබාදීම අනවශ්‍ය මෙන්ම කළ නොහැකි දෙයකි. මන්දයත්, මේ සම්බන්ධකම් පදනම් වී ඇත්තේ



හේතු නොදැක්විය හැකි, පෞද්ගලික මිත්‍රත්වය හෝ සහජාසමය විශ්වාසයක් මත බැවිනි. පක්ෂ සම්බන්ධකම් මේවා මත පැවැතිය නොහැකිය, එසේ නොවිය යුතුය. එය විධිමත් ලෙසත්, ''නිලධාරීවාදී ලෙසත්'' ගලපාලූ (විනයක් නැති බුද්ධිමතුන්ගේ මතය අනුව නිලධාරීවාදී) ව්‍යවස්ථා මත පදනම් විය යුතුය. කවවලට ආවේණික හිතුවක්කාරකම් සහ චපල ගති වලින්ද, දෘෂ්ටිමය අරගලයේ ස්වාධීන ''ක්‍රියාදමයේ'' නාමයෙන් ගෙනයන අඬදබර වලින්ද අපට ආරක්ෂාවිය හැක්කේ එම ව්‍යවස්ථා දැඩි ලෙස පිළිපැදීමෙනි.

''විශ්වාසය සියුම් දෙයක් බවත්, එය මිනිසුන්ගේ හදවත්වලට සහ බුද්ධියට බලෙන් ඇතුළු නොකළැකි බවත්'' කියන උපදේශාත්මක අවවාදවලින් අලෙක්සාන්ද්‍රොව්ට විරුද්ධව කුරුම්පුවක් ගැසීමට නව ඉස්ක්‍රාවේ කතෘවරු වෑයම් කරති (අංක 56 අතිරේකය). විශ්වාසය, හුදු නිරුවත් විශ්වාසය ගැන කරන මේ කතාවෙන් ඔවුන් සිය වංශාධිපති අරාජිකවාදය සහ සංවිධානාත්මක වලිගවාදය එළිපිටම පෙන්වන බව කතෘවරු වටහා නොගනිති. මා කවයක සාමාජිකයකුව සිටි කාලයේදී, — එය කතෘ වරුන් හයදෙනාගේ කවය හෝ ඉස්ක්‍රා සංවිධානය හෝ වේවා — එක්ස් (X) සමග එකතු වී වැඩ කිරීම මා ප්‍රතික්ෂේප කිරීමට හේතු වශයෙන් යුක්ති යුක්තිය හෝ චේතනාව හෝ නොදක්වා අවිශ්වාසය පමණක් දක්වීම ප්‍රමාණවත් විය. එහෙත් දැන් මා පක්ෂයක සාමාජිකයකු වී සිටින බැවින්, පොදුවේ අවිශ්වාසය පමණක් ඉදිරිපත් කිරීමට මට අයිතියක් නැත. මන්දයත්, එය පැරණි කවවල විකාරවලට සහ හිතුවක්කාරකම් වලට පුළුල් ලෙස දොරවල් විවෘත කරන බැවිනි. මගේ විශ්වාසයට හෝ අවිශ්වාසයට විධිමත් හේතු එනම්, එය අපේ වැඩපිළිවෙළේ, උපක්‍රමවල හෝ ව්‍යවස්ථාවේ පිළිගත් එක් හෝ තවත් මූලධර්මයකට පටහැනි බව මවිසින් පෙන්වා දිය යුතුය. හේතු නොදක්වමින් මවිසින් මගේ විශ්වාසය හෝ අවිශ්වාසය ප්‍රකාශ නොකළ යුතුය, එහෙත් මගේ තීරණයන් — පොදුවේ පක්ෂයේ ඕනෑම කොටසක සියලු තීරණයන් — මුළු මහත් පක්ෂයටම වගකිව යුතු බව පිළිගත යුතුය; මගේ අවිශ්වාසයට හේතු ඉදිරිපත් කරන විට හෝ මෙම අවිශ්වාසය අනුව පැන නගින මත සහ අභිප්‍රායයන් පිළිගැන්වීමට වෑයම් කිරීමේදී හෝ විධිමත් ලෙස සටහන් කරන ලද ක්‍රියා පිළිවෙතක් මවිසින් අනුගමනය කළ යුතුය. කවවාදී දෘෂ්ටියකින් බලන විට, ''විශ්වාසය'' ගැන වගකීමක් නැති වුවද, ප්‍රකාශ කිරීමේ, වගකීමේ, සහ අපේ විශ්වාසය පරීක්ෂණයට භාජනය කිරීමේ විධිමත් ලෙස සටහන් කළ ක්‍රියා පිළිවෙතක් අනුගමනය කළ යුතු බව ඉල්ලා සිටින පාක්ෂික දෘෂ්ටියක් දක්වා අපි උසස් වී සිටිමු; එහෙත්

කතෘවරු අප ආපස්සට ඇද දැමීමටත්, ඔවුන්ගේ වලිගවාදය සංවිධානය පිළිබඳ අළුත් මත හැටියට පෙන්වීමටත් වෑයම් කරති!

කර්තෘ මණ්ඩලයේ නියෝජිතත්වයක් ඉල්ලා සිටිය හැකියැයි සිතන ලේඛක කණ්ඩායම් ගැන ඊනියා පක්ෂ පුවත්පතේ කතෘවරුන් කරන කතාවලට සවන් දෙන්න. "අපි කෝපයට පත්වී විනය ගරුක විය යුතුයැයි කෑ නොගසමු." විනය ගැන හැමදමත්, හැම තැනමත් පහත් කොට සලකන මේ "වංශාධිපති අරාජිකවාදීන්" විසින් අපට උපදෙස් දෙනු ලැබේ. එක්කෝ එය නුවණට හුරුනම් අපි කණ්ඩායම සමග "කාරණය බේරා ගනිමු" (sic!) නැතිනම් එම අල්ලීම් ගැන සිනාසෙමු.

පහත් "කම්හල්" විධික්‍රමවාදය කෙතරම් උසස් හා උදර ලෙස නිෂ්ප්‍රභා කිරීමක්ද! එහෙත් ඇත්ත වශයෙන්ම එය පැරණි කවවාදී වාක්‍ය ඛණ්ඩ දෙඩවීම, තමන් පක්ෂය ආයතනයක් නොවන පැරණි කවයේ ශේෂයන් බව හඟින කතෘ මණ්ඩලයක් විසින් සරසා පිළියෙළ කොට ඉදිරිපත් කිරීමකි. මෙම තත්වයේ නෛසර්ගික ව්‍යාජ භාවය හේතු කොට ගෙන, ඔවුන්, ගෙවී ගතවී ගිය දෙයක් වශයෙන් කෛරාටික ලෙසට විස්තර කරන අසමගිය, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානයේ ප්‍රතිපත්තියක් දක්වා උසස් කිරීමේ තත්ත්වයක් වෙතට අනිවාරණීය වශයෙන්ම මාර්ගය විවෘත වේ. උසස් සහ පහත් පක්ෂ සංවිධාන සහිත පක්ෂයේ අධිකාරි මණ්ඩලවලින් යුත් ධූරාවලියක් අවශ්‍ය නැත; වංශාධිපති අරාජිකවාදය එවැනි ධූරාවලියක් අමාත්‍යාංශවල සහ දෙපාර්තමේන්තු ආදියේ නිලධාරිවාදී සොයා ගැනීමක් ලෙස ගණන් ගනී (අක්සල්රෝඩ්ගේ උපාහාසාත්මක ලිපිය බලන්න); කොටසක් සමස්තයට යටත් වීමේ අවශ්‍යතාවයක් නැත. "කරුණු පිළියෙළ කිරීමේ" හෝ මතභේද වෙන්කර පෙන්වීමේ පාක්ෂික ක්‍රමයේ "විධිමත් නිලධාරිවාදී" විග්‍රහයක් කොහෙත්ම අවශ්‍ය නැත. "සැබවින්ම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී" සංවිධානාත්මක ක්‍රම පිළිබඳව පැරණි කවවාදී සණ්ඩු සරුවල් පුරාජේරු කතාවලින් ශුද්ධ වන්ත බවට පත්කරනු ලැබුවාවේ.

"කම්හල" නැමැති පාසලින් අභ්‍යාසය ලැබූ නිර්ධන පංතිය අරාජිකවාදී පෞද්ගලිකවාදයට පාඩමක් උගැන්විය යුත්තේත්, එයට එම පාඩම උගැන් විය හැක්කේත් මෙතැනදීය. බුද්ධිමතා ඉදිරියේ කුලෑටි ගතියක් දැක්වූ බිළිඳු අවධියෙන් පංති හැඟීම ඇති කම්කරුවා බොහෝ කලකට පෙර ඉවතට ගොස් සිටී. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී බුද්ධිමතුන් අතර ඇති පුළුල් දේශපාලන දැනීමට සහ පොහොසත් බුද්ධියට පංති හැඟීමෙන් යුත් කම්කරුවා ගරු කරයි, එය අගය කොට සලකයි. එහෙත් අප සැබෑ පක්ෂයක් ගොඩනැගීම සඳහා වැඩ කටයුතු කරගෙන යන විට, පංති හැඟීම ඇති කම්කරුවා, අරාජිකවාදී වාග්පාය දෙඩවන ධනවාදී බුද්ධිමතකුගේ



බුද්ධියේ සිට, නිර්ධන පංතික යුද්ධ හමුදවේ සෙබළකුගේ බුද්ධිය වෙන්කර හඳුණා ගැනීමට ඉගෙන ගත යුතුය. පක්ෂ සාමාජිකයකුගේ යුතුකම් ඉටුකළ යුත්තේ සාමාන්‍ය සාමාජිකයින් පමණක් නොව, "මුදුනේ සිටින මිනිසුන්ද" එය ඉටුකළ යුතුයැයි ඉල්ලා සිටීමට ඔහු ඉගෙන ගත යුතුය. ඉස්සර කාලේ උපක්‍රම පිළිබඳ වල්ගවාදයට සැලකූ ආකාරයටම, සංවිධානය පිළිබඳ වල්ගවාදයටද පිළිකුලකින් සැලකීමට ඔහු ඉගෙන ගත යුතුය!

නව ඉස්ක්‍රාවේ අවසාන ස්වාභාවික ලක්ෂණය වන සංවිධානාත්මක කරුණු කෙරෙහි දක්වන ආකල්පය එනම් මධ්‍යගතවාදයට විරුද්ධව ස්වතන්ත්‍රවාදය ආරක්ෂා කිරීම, ජිරොන්ඩිස්ට්වාදය සහ වංශාධිපති අරාජිකවාදය සමග අඛණ්ඩ ලෙස වෙළී පවතී. නිලධාරිවාදයට සහ ඒකාධිපත්‍යයට විරුද්ධව එය කෑ ගැසීමත්, "ඉස්ක්‍රාවාදීන් නොවන අය (මොවුහු සමුළුවේදී ස්වෛරීත්වයට පක්ෂ වූන) කෙරෙහි දක්වන ලද නොසැලකිල්ල" ගැන එහි කනගාටුවත්, "කොන්දේසි විරහිතව යටත්වීමක්" ඉල්ලාසිටීම පිළිබඳව ඔවුන්ගේ හාස්‍යජනක කෑගැසීමත්, "උඩඟු නිලධාරීන්" පිළිබඳ ඔවුන්ගේ කටුක දුක්ගැනවිලි ආදියත්, පිළිබඳවූ මූලධර්ම (මෙහි යම්කිසි තේරුමක් තිබේ නම්*) දෙන තේරුම මෙයය. වැඩපිළිවෙළෙහි, උපක්‍රමවල හෝ සංවිධානයෙහි නොදියුණුතාවය ඕනෑම පක්ෂයක අවස්ථාවාදී අංශය විසින් නිතරම ආරක්ෂා කිරීමත්, එය සාධාරණ යැයි පෙන්වීමත් කරනු ලැබේ. නව ඉස්ක්‍රා සංවිධානයේ නොදියුණු කම (එහි වලිගවාදය) ආරක්ෂා කිරීම ස්වතන්ත්‍රවාදය ආරක්ෂා කිරීමත් සමග සමීප ලෙස වෙළී පවතී. අවුරුදු තුනක් තිස්සේ පැරණි ඉස්ක්‍රාව ගෙනගිය ප්‍රචාරය නිසා පොදුවේ කතා කරන විට, ස්වතන්ත්‍රවාදය අධික ලෙස අපකීර්තියට පත්ව ඇති බව සත්‍යයකි. එයට ප්‍රසිද්ධියේ පක්ෂපාත වීමට නව ඉස්ක්‍රාව තවමත් කුලෑටි ගතියක් දක්වයි. මධ්‍යගතවාදයට පක්ෂපාත බව එය අපට තවමත් කියා සිටී, මධ්‍යගතවාදය නැමැති වචනය ලොකු අකුරින් මුද්‍රණය කර එය අපට පෙන්වයි, නව "ඉස්ක්‍රාවේ" quasi-මධ්‍යගතවාදයේ සැබැවින්ම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී (අරාජිකවාදී නොවේද?) මූලධර්ම යම්තමින් විවේචනය කළ විට, එහි ස්වතන්ත්‍රවාදී ප්‍රතිපත්තිය සෑම පියවරක් පාසාම හෙළිදරවු වේ. සංවිධානය පිළිබඳ විෂයෙහිදී අක්සල්රොද් සහ මාර්තව් අකීමව්ගේ පැත්ත ගෙන තිබෙන බව දැන් ලොකු කුඩා සෑම කෙනෙකුටම පැහැදිලිව නොපෙන්නේද? "ඉස්ක්‍රාවාදීන් නොවන අය නොලැබිය යුතු නොසැලකිල්ල" නැමැති

---

* මෙම කෑගැසීමේ ඇති තෝරාපත් කර ගැනීමේ තේරුම පොදුවේ මෙම කොටසින් මෙන්ම මෙහිදීද මම පිටතින් තැබීමි.

වැදගත් ප්‍රකාශනය කරමින් ඔවුන් විසින්ම එය ගම්භීර ලෙස පිළිනොගත්තේද? අකීමව් සහ ඔහුගේ මිතුරන් අප පක්ෂ සමුළුවේදී ආරක්ෂා කළේ ස්වෛරිවාදය හැර වෙන කුමක්ද?

කොටසක් සමස්තයට යටත් නොවිය යුතු යැයිද, කොටසක් සමස්තය සමග ඇති සම්බන්ධකම් තීරණය කිරීමේදී එය ස්වෛරියැයිද, මේ සම්බන්ධකම් යෙදුම්ගත කරන ලද ලීගයේ ව්‍යවස්ථා මාලාව පක්ෂයේ අභිප්‍රායයට පටහැනිව නැගී සිටීම නිවැරදි යැයිද, පක්ෂ මධ්‍යස්ථානයට විරුද්ධව නැගී සිටීම නිවැරදියැයිද කියමින් හාස්‍ය ජනක උද්යෝගයකින් යුතුව එය ආරක්ෂා කිරීමට ලීග් සමුළුවේදී වැර දැරුවේ ස්වතන්ත්‍රවාදයය (එසේත් නැතිනම් අරාජිකවාදයය). ප්‍රාදේශීය කමිටුවලට සාමාජිකයින් පත් කිරීමට මධ්‍යම කාරක සභාවට[49] ඇති අයිතිය පිළිබඳ ප්‍රශ්නයේදී නව ඉස්ක්‍රාවේ (අංක 60) තීරු මගින් මාර්තව් සහෝදරයා දැන් එළිපිටම ආරක්ෂා කරන්නේ ඒ ස්වතන්ත්‍රවාදයය. මාර්තව් සහෝදරයා ලීග් සමුළුවේදී ආරක්ෂා කළ, දනුදු නව ''ඉස්ක්‍රාව''* මගින් ආරක්ෂා කිරීම සඳහා භාවිතා කරන ළාමක විතණ්ඩවාදය ගැන මම මෙහිදී කතා නොකරමි. මධ්‍යගතවාදයට විරුද්ධව, සෛවරීවාදය ආරක්ෂා කිරීමේ ස්ථිර ප්‍රවණතාවය මෙහිදී සටහන් කිරීම වැදගත්ය. මෙය සංවිධානාත්මක කරුණුවලදී අවස්ථාවාදයට ආවේණික වූ මූලික ලක්ෂණයකි.

නව ''ඉස්ක්‍රා'' (අංක 53) මගින් ''විධිමත් ප්‍රජාතනත්‍රවාදයේ ආරම්භය'' (අවධාරණය කතු වරයා විසිනි) සහ විධිමත් නිලධාරිවාදය ''අතර ඇති වෙනස පෙන්වීම සමහර විට නිලධාරිවාදය පිළිබඳ සංකල්පය විශ්ලේෂණය කිරීමට දැරූ එකම ප්‍රයත්නය විය හැකිය. මෙම වෙනස (ඉස්ක්‍රාවාදීන් නොවන අය ගැන සටහන් කිරීම හැර කනගාටුවකට මෙන් ඉන් ඔබ්බට මෙය වර්ධනය නොකැරිණි, විස්තර නොකැරිණි) එක්තරා සත්‍යයකින් යුක්තය. නිලධාරිවාදය versus** ප්‍රජාතන්ත්‍රවාදය, වූකලී මධ්‍යගතවාදය versus ස්වතන්ත්‍රවාදය වන්නේය. එය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී අවස්ථාවාදීන්ගේ සංවිධානාත්මක මූලධර්මයට විරුද්ධව විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සංවිධානාත්මක මූලධර්මය වන්නේය. ප්‍රජාතන්ත්‍රවාදය පහළ සිට ඉහළ දක්වා නැගීමට උත්සාහ ගනී. පූළුවන්

---

* ව්‍යවස්ථා මාලාවේ විවිධ කොටස් වෙන්කොට පෙන්වූ මාර්තව් සහෝදරයා සමස්ත කොටස කෙරෙහි දක්වන ආකල්පය ''මධ්‍යම කාරක සභාව පක්ෂයේ බලවේග බෙද වෙන්කරයි'' පිළිබඳ කොටස අතහැර දැම්මේය. මිනිසුන් කමිටුවක සිට තවත් කමිටුවකට මාරු නොකර බල මුළු බෙදිය හැකිද? මෙවැනි මූලික කරුණු ගැන විස්තර කිරීම සැබවින්ම අපහසු වැඩකි.

** versus — විරුද්ධව, එදිරිව.



හැම තැනකදීමත්, හැම විටකදීමත් එය ස්වතන්ත්‍රවාදය සහ ''ප්‍රජාතන්ත්‍රවාදය'' ඉදිරිපත් කරමින්, (අධිඋද්යෝගයකින් යුතුව) අරාජිකවාදය දක්වා ගෙනයයි. නිලධාරිවාදය ඉහළ සිට පහළ දක්වා යාමට වෑයම් කරයි, කොටස් සම්බන්ධයෙන් මධ්‍යස්ථානයේ අයිතිය සහ බලය පුළුල් කිරීමක් ආරක්ෂා කරයි. අසමගිය සහ වෙන්වූ කවයන් පැවති අවධියේදී විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදය සංවිධානාත්මක වශයෙන් ඉදිරිපත් කිරීමට උත්සාහ කළ මෙම මුදුන වූයේ අනිවාර්ය ලෙසම ස්වකීය ක්‍රියාකාරිත්වය සහ විප්ලවවාදි ස්ථිරතාවය නිසා ඉතා විශාල බලපෑමක් ඇති කළ (අපේ නිදසුනේදී — ''ඉස්ක්‍රා'' සංවිධානය) එක් කවයක් වන්නේය. සැබෑ පක්ෂ සමගිය පුනරුත්ථාපනය කිරීමේ සහ මෙම සමගිය තුළ යල්පැන ගිය කවයන් දියකර හැරීමේ අවධියේදී මෙම මුදුන පක්ෂයේ උත්තරීතර සංවිධානය වන පක්ෂ සමුළුව වන්නේය. සියලු ක්‍රියාකාරී සංවිධානවල නියෝජිතයින්ගෙන් හැකිතරම් දුරට සංයුක්ත වන පක්ෂ සමුළුව, මධ්‍යම ආයතන තෝරාපත් කිරීමෙන් (පක්ෂයේ නොදියුණු කොටස්වලට වඩා දියුණු කොටස් සතුටු කරවීමේ සාමාජිකත්වයක් ඇති, පක්ෂයේ අවස්ථාවාදී අංශයට වඩා විප්ලවවාදි අංශය සතුටු කරවන) ඊළඟ සමුළුව වන තෙක් එය මුදුන බවට පත්කරවයි. කෙසේවූවද, යුරෝපීය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර තත්වය එසේය. එසේවූවද ප්‍රතිපත්තියක් වශයෙන් අරාජිකවාදීන්ගේ වෛරයට පාත්‍රවී ඇති මෙම සිරිත ටිකෙන් ටික ආසියාතික ස්වභාවයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතරද — අමාරු කම් වලින් තොරව නොවේ, ගැටීම් හා අරගලවලින් තොරව නොවේ — පැතිරීමට පටන්ගෙන ඇත.

සංවිධානය පිළිබඳ කරුණුවලදී අවස්ථාවාදී මූලික ස්වරූප (සෛවරිත්වවාදය, වංශාධිපති හෝ බුද්ධිමත් අරාජිකවාදය, වලිගවාදය සහ ජිරොන්ඩවාදය) mutatis mutandis (ගැළපෙන පරිදි වෙනස් කොට) විප්ලවවාදී සහ අවස්ථාවාදී අංශ වශයෙන් බෙදී ඇති ලෝකයේ සියලු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂවල (එය නැත්තේ කොහිද?) දක්නට තිබෙන බව සටහන් කිරීම ඉතා වැදගත්ය. ඉතා මෑතකදී ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය සැක්සනිහි විසිවැනි ඡන්ද කොට්ඨාශයේ මැතිවරණයේදී පරාජය වුණු විට (මෙය ග්යෝරේ* සිද්ධිය නමින් හැඳින් වේ) පක්ෂ

---

* 1903 ජූනි 16 ද ග්යෝරේ රයික්ස්ටාගයට සැක්සනිහි 15 වැනි ඡන්ද කොට්ඨාශයෙන් තෝරා පත් විය. එහෙත් ඩ්රෙස්ඩන්හි පැවැති පක්ෂ සමුළුවෙන්[60] අනතුරුව ඔහු එම අසුනෙන් ඉල්ලා අස්විය. රොසේනව්ගේ මරණින් පසු හිස්වූ 20 වැනි කොටසේ මන්ත්‍රීධුරාපේක්ෂකයා වශයෙන් ග්යෝරේ ඉදිරිපත් කරන ලෙස ඡන්ද දායකයෝ ඉල්ලා සිටියහ. පක්ෂයේ මධ්‍යම මණ්ඩලය සහ සැක්සනිහි ප්‍රාදේශීය මණ්ඩලයද මෙයට විරුද්ධ

සංවිධානය පිළිබඳ ප්‍රශ්නය ඉදිරියට පැන නැගිණි. මේ සිද්ධිය ප්‍රතිපත්ති මූලක ප්‍රශ්නයක් බවට පත්වූයේ, වැඩි වශයෙන් ජර්මන් අවස්ථාවාදීන්ගේ උනන්දුව නිසාය. ග්යෝරේ (හිටපු පාදිලි කෙනෙකි, සෑහෙන තරම් ප්‍රසිද්ධ "Drei Monate Fabrikarbeiter"** පොතේ කතු වරයාය. ඩ්රෙස්ඩන් සමුළුවේ එක් වීරයෙකි) අන්ත අවස්ථාවාදියෙකි. "Sozialistische Monatshefte" (''සමාජවාදී මාසිකය'')[51] ජර්මන් ස්ථිර අවස්ථාවාදීන්ගේ සඟරාව ඔහුට පක්ෂව වහාම සටන් ඇරඹීය.

වැඩපිළිවෙළේ අවස්ථාවාදය ස්වභාවයෙන්ම උපක්‍රමවල අවස්ථාවාදය සහ සංවිධානයේ අවස්ථාවාදය සමග ස්වාභාවික ලෙස වෙළී පවතී. ''අළුත්'' දෘෂ්ටි කෝණය පැහැදිලි කිරීමට වොල්ෆ්ජගන්ග් හයිනේ සහෝදරයා භාර ගත්තේය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයට බැඳෙන විට තමා සමග චින්තනයේ අවස්ථාවාදී පුරුද්දත් ගෙනා නියම බුද්ධිමතකු පිළිබඳ කිසියම් අදහසක් පාඨකයාට ලබාදීමට, වොල්ෆ්ගාන්ග් හයිනේ සහෝදරයා ජර්මන් අකීමව් කෙනෙකුට වඩා තරමක් අඩුබවත් ජර්මන් යෙගෝරව් කෙනෙකුට වඩා තරමක් වැඩි බවත් කීම ප්‍රමාණවත්ය.

අක්සල්රෝද් සහෝදරයා නව ''ඉස්ක්‍රාව''ට පාතැබූ ආකාරයට වඩා නො අඩු ගම්භීරත්වයකින් වී. හයිනේ සහෝදරයාද ''සමාජවාදී මාසික සඟරාව'' තුළින් සටන් බිමට පිවිසීය. ඔහුගේ ලිපියේ සිරස් තලය පවා අගය නොකළැකි තරම් වටනේය: ''ග්යොරේ සිද්ධිය පිළිබඳව ප්‍රජාතන්ත්‍රවාදී සටහන්'' (අංක 4 අප්‍රියෙල්, Sozialistische Monatshefte" එහි හරයද එලෙසම ගම්භීරය. චන්ද කොට්ඨාශයේ ස්වතන්ත්‍රය අයුතු ලෙස ආක්‍රමණය කිරීමට විරුද්ධවත්, ප්‍රජාතන්ත්‍රවාදී මූලධර්මයට පක්ෂවත් ඔහු රණ ගොස නගමින් නැගී සිටී. ''පත් කරනලද අධිකාරය'' (එනම් පක්ෂයේ මධ්‍යම ප්‍රධාන මණ්ඩලය) ජනතව විසින් නිදහස් ලෙස නියෝජිතයින් තෝරා පත් කර ගැනීමේදී අත පෙවීයැයි ඔහු විරුද්ධත්වය ප්‍රකාශ කරයි. මෙය අහම්බෙන් සිදුවූ දෙයක් නොවන බව කියමින් හෙයිනේ සහෝදරයා අපට ගුරු උපදෙස් දෙන අතර එය ''පක්ෂයේ නිලධාරිවාදය සහ මධ්‍යගතවාදයට යොමුවූ ප්‍රවණතාවයක්'' බවත්, මෙම ප්‍රවණතාවය මීට පෙර නිරීක්ෂණය කළ නමුදු දැන් එය වඩාත් භයානක වී තිබෙන බවත් පවසයි. පක්ෂයේ පළාත්බද සංවිධානයන් පක්ෂ ජීවිතයේ වාහනයන් බව ප්‍රතිපත්තියක් වශයෙන් පිළිගත යුතුය. (''අල්පතරයෙහි

---

විය. ග්යෝරේගේ නාමයෝජනා ඉදිරිපත් කිරීම තහනම් කිරීමට එයට බලයක් නොතිබුණු අතර ඔහු ලවා අපේක්ෂකත්වය ප්‍රතික්ෂේප කිරීමට ඒවා සමත් විය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු මැතිවරණයේදී පරාජය ලැබූහ.

** ''කම්හලක තෙමසක් කම්කරුවකු මෙන්.'' — සංස්කාරක



යළිත් වරක්'' නැමැති මාර්තව් සහෝදරයාගේ පොත් පිංචෙන් ගත් රචනා සොර කමකි). සියලු වැදගත් දේශපාලන තීරණයන් මධ්‍යස්ථානයෙන් ලබා ගැනීමට අප පුරුදු නොවිය යුතුය. ජීවිතය සමග සම්බන්ධකම් නැතිව යන න්‍යායවාදී ප්‍රතිපත්තියකට විරුද්ධව අප පක්ෂයට අනතුරු ඇඟවිය යුතුය. (''ජීවිතය, ජීවිතය විසින්ම ස්ථිර කරනු ඇතැ''යි පක්ෂ සමුළුවේදී මාර්තව් සහෝදරයා කළ කතාවෙන් උපුටා ගත්තකි.) තම තර්කය වඩාත් ගැඹුරු කරමින් හයිනේ සහෝදරයා මෙසේ පවසයි: ''...අනිත් හැම තැනකදී මෙන්ම මෙතැනදීද කුඩා නොවන ක්‍රියා කලාපයක් ඉටුකළ පෞද්ගලික ඝට්ටන පසෙක තබා අපි කාරණයේ මුලට ගොස් පිරික්සා බලමු නම්, සංශෝධනවාදීන්ට විරුද්ධව ඇති මේ මහත් දෙම්නස, (අවධාරණය කතුවරයා විසිනි, සටන්කාමී සංශෝධනවාදය සහ සටන්කාමී සංශෝධනවාදින් අතර වෙනසක් ඇති බවට කරනලද ඉඟියකි) පිටස්තර පුද්ගලයින් කෙරෙහි පක්ෂයේ නිලනායකයින්ගේ අවිශ්වාසය පළ කිරීමක් බව අපි ප්‍රධාන වශයෙන් දකිමු. (වටලනු ලැබූ තත්ත්වයට විරුද්ධව සටන් කිරීම පිළිබඳ පොත් පිංච වී. හයිනේ දැක නැති නිසා ඔහු ඉංග්‍රීසිවාදයට Outsidertum නැඹුරු විය: එහි ඇත්තේ අසමාන්‍ය දෙය තකා සම්ප්‍රදය අවිශ්වාස කිරීමේ සම්ප්‍රදයය, පෞද්ගලික හැම දෙයක්ම තකා අපුද්ගල ආයතනය අවිශ්වාස කිරීම (පෞද්ගලික උනන්දුව පාගාදැමීම සඳහා ලීග් සමුළුවේදී අක්ස්ල්රෝද් ඉදිරිදත් කළ යෝජනාව බලන්න) කෙටියෙන් කියතොත්, අප මීට පෙර මතක් කළ නිලධාරීවාදය සහ පක්ෂයේ මධ්‍යගතවාදය වෙතට යොමු වී ඇති ප්‍රවණතාවය බව දකින්නෙමු.

විනය පිළිබඳ සංකල්පය හයිනේ සහෝදරයාට, අක්සල්රෝද් සහෝදරයාට වඩා නො අඩු උදර පිළිකුලක් සහිත ආශ්වාදයක් ලබා දෙයි... ඔහු මෙසේ ලියයි: ''සමාජවාදී මාසික සඟරාවට ලිවීම නිසා සංශෝධනවාදීන්ට ලිහිල් විනයක් ඇති පුද්ගලයින් ලෙස චෝදනා කර ඇත. මේ සඟරාව පක්ෂය විසින් පාලනය නොකරන නිසා එහි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ස්වරූපය පවා පිළිගෙන නැත. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංකල්පය පටු කිරීමට දරන මේ ප්‍රයත්නය, සම්පූර්ණ නිදහස තිබිය යුතු දෘෂ්ටිමය නිෂ්පාදන ක්ෂේත්‍රයේ විනයක් ඉල්ලා සිටීම, (මතක් කරන්න: දෘෂ්ටිමය අරගලය ක්‍රියාදමයක් වන අතර සංවිධාන විධි යනු ආකෘති පමණකි) නිලධාරිවාදය කෙරෙහි යොමු වී ඇති ප්‍රවණතාවයක් පෙන්වන අතර පෞද්ගලිකත්වය යටපත් කර දමයි. ''හැකිතරම් මධ්‍යගත කරනලද, හැම දෙයක්ම බද අල්ලා ගන්නා වූද'', එක් උපක්‍රම මාලාවක් සහ එක් න්‍යායයක් බිහිකිරීමේ නින්දිත ප්‍රවණතාවයට විරුද්ධවද, ''පූර්ණ කීකරුවීමක්''ඉල්ලා සිටීමට විරුද්ධවද,''අන්ධ යටත්වීමට'' විරුද්ධවද,අපි සරළ

මධ්‍යගතවාදයට සහ තවත් නොයෙකුත් එවැනි දේවලට විරුද්ධවද හයිනේ මහ හඬින් තර්ජනය කරයි. අකුරටම ''අක්සල්රෝඩ් මෙනි.''

ප්‍රශ්නය යටපත් කර දැමීම සඳහා ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය තුළ එකතුකර ගැනීමක් පිළිබඳව සණ්ඩු කිරීම් නොතිබුණු නිසාත්, ජර්මන් අකීමව්ලා සිය මුහුණු පෙන්වන්නේ සමුළුවේදී පමණක් නොවන නිසාත්, ඔවුන් සතු සහරාවක් මගින් නිතරම එලෙස කරන නිසාත්, වී. හයිනේ පටන් ගත් විවාදය ඇවිල පැතිරිණි. සංවිධානය පිළිබඳ ප්‍රශ්නයේදී සාධර්මික සහ සංසෝධනවාදී මූලධර්ම ප්‍රවණතා විශ්ලේෂණයක් කිරීම දක්වා මෙම විවාදය තුනීවිය. විප්ලවවාදී ප්‍රවණතාවේ නියෝජිතයා හැටියට කාල් කෞට්ස්කි ("Neue Zeit", 1904, № 28, "Wahlkreis und Partei" — ''චන්ද කොට්ඨාශය සහ පක්ෂය'' මැයෙන් ලිපියක් පළ කළේය) ඉදිරිපත් විය (අපේ පක්ෂයේ මෙන්ම ආඥාදායකත්වය, අධර්ම මර්දනාධිකරණ ප්‍රවණතා සහ තව භයානක වචන එල්ල කරන ලදී). වී. හයිනේගේ ලිපිය ගැන ඔහු මෙසේ පැවැසීය: එය මුළු මහත් සංසෝධනවාදී උපනතියේ කල්පනා වලිය ප්‍රකාශ කරයි.'' ජර්මනියේ පමණක් නොව, ප්‍රංශයේ සහ ඉතාලියේද අවස්ථාවාදීහු, ස්වතන්ත්‍ර වාදයේ බලගතු ආධාර කරුවෝය, පක්ෂ විනය ලිහිල් කිරීමේ පුරෝගාමීයෝය; විනය සම්පූර්ණයෙන්ම නැති කර දැමීමක් ඔවුහු ඉල්ලා සිටිති, හැම තැනම ඔවුන්ගේ ප්‍රවණතාවයන් අසංවිධානය දක්වාත් ප්‍රජාතන්ත්‍රවාදී මූලධර්ම අරාජිකවාදය බවට පත්වන සේ විකෘති කිරීමටත් යොමු වී ඇත. ''ප්‍රජාතන්ත්‍රවාදය යනු අධිකාරය රහිතවීම නොවේ යැ''යි කාල් කෞට්ස්කි සංවිධානය පිළිබඳ අවස්ථාවාදීන්ට දන්වා සිටී. ''ප්‍රජාතන්ත්‍රවාදය යනු අරාජිකවාදය නොවේ, ජනතාවගේ සේවකයින් මෙන් ව්‍යාජ ලෙස පෙනී සිට සැබැවින්ම ජනතාවගේ හාම්පුතුන් වීමේ පාලන ක්‍රමයට වෙනස්ව ජනතා නියෝජිතයින් කෙරෙහි ජනතාව ක්‍රියාත්මක කරන පාලනයය''. සියලු රටවල අවස්ථාවාදී ස්වතන්ත්‍රවාදය ගෙනගිය කඩා කප්පල් කාරී ක්‍රියා කලාපය ගැන කෞට්ස්කි දීර්ඝ විස්තරයක් කරයි. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයට ''ධනවාදී කොටස්* විශාල සංඛ්‍යාවක් ඇතුළු වීම නිසා අවස්ථාවාදය සහ ස්වතන්ත්‍රවාදය ශක්තිමත් වන අතර පක්ෂ විනය උල්ලංඝණය කිරීමේ ප්‍රවණතාවයද ශක්තිමත් වේ. ''නිර්ධන පංතිය මුදවාලන අවිය සංවිධානය ''බවත්'', පංති සටනේදී නිර්ධන පංතියට

---

* නිදසුනක් වශයෙන් ඔහු ජොරේස් මතක් කරයි. මෙවැනි පුදගලයින් අවස්ථාවාදය වෙත වැඩියෙන් නැඹුරු වන තරමට ඔවුන්ගේ පෞද්ගලික නිදහසට පක්ෂයේ විනය නොවැළැක්විය හැකිසේ බලපාන බව ඔවුහු කල්පනා කරති.



ආවේණික අවිය සංවිධානය'' බවත් කෞට්ස්කි අපට යළිත් වරක් මතක් කරයි.

ප්‍රංශයට හෝ ඉතාලියට වඩා අවස්ථාවාදය දුර්වල ජර්මනියේ, ස්වතන්ත්‍රවාදී ප්‍රවණතාවයන් නිසා අඩු වැඩි වශයෙන් ඇති වූයේ ස්වතන්ත්‍රවාදී ප්‍රවණතාවයන් ආඥාදායකයින්ට සහ මහා අධර්ම මර්ධනාධිකාරින්ට විරුද්ධවද, පල්ලියෙන් අස්කර දැමීමට* විරුද්ධවද අදේව දෘෂ්ටිකයන් දඩයම් කිරීමට විරුද්ධවද, අනික් පැත්තෙන් පිළිතුරු දුන්නොත්, පමණක් ඇතිවන අවසානයක් නැති කලහ ඉමක් නැති බොරු චෝදනා සහ සණ්ඩු සරුවල්වලට විරුද්ධවද අනුරාගික ප්‍රකාශ පමණකි.

රුසියාවේ පක්ෂය තුළ අවස්ථාවාදය ජර්මනියටත් වඩා දුර්වල නිසා එහි ස්වතන්ත්‍රවාදී අදහස් වඩාත් අඩුවෙන් බිහිවූ අතර අනුරාගික ප්‍රකාශයන් සහ කලහ වඩාත් වැඩි වීම මවිතයට හේතුවක් නොවීය.

කෞට්ස්කි පහත සටහන් නිගමනයට එළඹීම පුදුමයට හේතුවක් නොවේ: ''සංඛ්‍යාව සහ පැහැය අතින් විවිධාකාර වුවද, සියලු රටවල සංශෝධනවාදීන් සංවිධානය පිළිබඳ ප්‍රශ්නවලදී තරම් සමානත්වයක් දරන වෙනත් ප්‍රශ්න නැති තරම්ය.'' නිලධාරිවාදයට versus (විරුද්ධව) ප්‍රජාතන්ත්‍රවාදය නැමැති ''භයානක වචන'' වල ආධාරය ඇතිව සාධර්මික සහ සංශෝධනවාදී මූලික උපනති කෞට්ස්කි විග්‍රහ කරයි. චන්දකොට්ඨාශ මගින් (පාර්ලිමේන්තුවට) අපේක්ෂකයින් ඉදිරිපත් කිරීමේ අයිතියට බලපෑමට පක්ෂ නායකත්වයට ඉඩදීම, සියලු දේශපාලන ක්‍රියා කාරීත්වය පහළ සිට ඉහළ දක්වා ජනතාවගේ උනන්දුව මත මිස ඉහළ සිට පහළ දක්වා නිලධාරිවාදී ක්‍රමයකට නොවේයැයි ඉල්ලා සිටින ප්‍රජාතන්ත්‍රවාදී මූලධර්මය ලජ්ජා විය යුතු ලෙස ආක්‍රමණය කිරීමකියි අපට කියතියි කෞට්ස්කි පවසයි... එහෙත් යම්කිසි ප්‍රජාතන්ත්‍රික මූලධර්මයක් තිබේනම්, එය අල්පතරයට වඩා බහුතරයට වැඩි බලයක් ලැබීම මිස එහි අනිත් පැත්ත නොවේ...'' යම්කිසි චන්ද කොට්ඨාශයකින් පාර්ලිමේන්තුවට මන්ත්‍රීවරයකු තෝරාපත් කිරීම සමස්තයක් වශයෙන් පක්ෂයට ඉතා වැදගත් දෙයකි. ''පක්ෂයේ නියෝජිතයින් (Vertrauensmänner) මගින් හෝ පක්ෂය අපේක්ෂකයින් ඉදිරිපත් කිරීම මත බලපෑමක් ඇති කළ යුතුය. මෙය අධි — නිලධාරිවාදී යැයිද නැතිනම් මධ්‍යගතවාදීයැයිද කෙනෙක් සිතති නම්, පක්ෂයේ සියලු සාමාජිකයින්ගේ චන්ද විමසීමක් මගින් අපේක්ෂකයින් තෝරා පත් කළ යුතු යැයි ඔහු යෝජනා කළාවේ

---

* Bannstrahl — පල්ලියෙන් අස්කර දැමීම. රුසියානු ''වැටලීමේ තත්ත්වයට''සහ හදිසි නීතිවලට සමාන ජර්මන් පදයය.ජර්මන් අවස්ථාවාදීන්ට මෙය ''භයානක වචනයකි.''

(sämtliche Parteigenossen). මෙය ක්‍රියාවේ යෙදවිය නොහැකි දෙයක් ලෙස ඔහු කල්පනා කරන්නේ නම්, සමස්තයක් වශයෙන් පක්ෂයට බලපාන අතිත් ප්‍රශ්නවලදී මෙන්ම මේ ප්‍රශ්නයේදීද පක්ෂයේ එක් සංවිධානයක් හෝ සංවිධාන කීපයක් මගින් එය සපුරාලීමට ඉදිරිපත් වන විට ඔහු ප්‍රජාතන්ත්‍රවාදයක් නැතැයි කියමින් දුක් ගැනවිලි ඉදිරිපත් නොකළ යුතුය.'' අපේක්ෂකයින් තෝරා පත් කිරීමේදී පක්ෂයේ නායකත්වය සමග ''සුහද අවබෝධයකට පැමිණීම'' ජර්මන් පක්ෂයේ බොහෝ කලක සිට පැවත එන පොදු නීතියකි. එහෙත් පක්ෂය අති විශාල ලෙස වැඩීම නිසා මේ නිහඬව පිළිගත් පොදු නීතිය තව දුරටත් ප්‍රමාණවත් නොවේ. පොදු නීතියක් සම්මතයෙන් පිළිගැනීම නැවතුණු විටත්, එහි නියමයන්ද, එහි පැවැත්මද පවා අභියෝග කළ විටත්, එය පොදු නීතියක් වශයෙන් පැවැත්ම අහෝසි වෙයි. එවිට විශේෂ නීතියක් සකස් කිරීමද, එය සංග්‍රහගත කිරීමද අවශ්‍ය වේ''... ඒ අනුව වඩාත් පැහැදිලි ව්‍යවස්ථානුකූල නිර්වචනයක්* (statutarische Festlegung) කිරීම සහ එයට සරිලන සේ සංවිධාන වඩාත් දැඩි කිරීමක් (größere Straffheit) අවශ්‍ය වේ.

ඒ අනුව, සංවිධානය පිළිබඳ ප්‍රශ්නය උඩ පක්ෂයේ විප්ලවවාදී සහ අවස්ථාවාදී අංශ අතරද, ස්වතන්ත්‍රවාදය සහ මධ්‍යගතවාදය අතරද, ප්‍රජාතන්ත්‍රවාදය සහ ''නිලධාරිවාදය අතරද, සංවිධානය සහ විනය ලිහිල් කිරීමේ හා දැඩි කිරීමේ ප්‍රවණතා අතරද අස්ථිර බුද්ධිමතාගේ සහ ස්ථිර නිර්ධනයාගේ මානසිකත්වය අතරද, බුද්ධිමත් පෞද්ගලිකත්වය සහ නිර්ධන පංතික සහයෝගතාවය අතරද වෙනත් පරිසරයෙක එම අරගලයම සිදුවනු ඔබට පෙනෙයි. මෙම මතබේදය කෙරෙහි ධනවාදී ප්‍රජාතන්ත්‍රවාදයේ, එනම් අක්සල්රෝඩ් සහෝදරයාට කවද හෝ පෞද්ගලිකව ප්‍රදර්ශනය කිරීමට කවට ඉතිහාසය පොරොන්දු වුණු ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ නොව අපේ අස්වබෂ්දේනියේ මහත්වරුන්ට වඩා අඩුවක් නැති කූට බුද්ධියක් සහ නිරීක්ෂාකාරිත්වයත් ඇති නියෝජිතයින් සහිත ජර්මනියේ පවතින සැබෑ සහ වාස්තවික ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ මෙම සට්ටනය ගැන කුමණ ආකල්පයක් දක්වන්නේද? අයෙක් ප්‍රශ්න කරති. මෙම විවාදයට සැනෙකින් පටලැවුණ ජර්මන් ධනපති ප්‍රජාතන්ත්‍රවාදය

* අපේ පක්ෂය පොදුවේද, කර්තෘ මණ්ඩලය විශේෂයෙන්ද පක්ෂ සමුළුවෙන් අනතුරුව මූණ පෑ මුළු ''වෙනස් වීම'' සමග නිහඬව පිළිගත් පොදු නීතිය විධිමත් ලෙස විග්‍රහ කරන ලද ව්‍යවස්ථානුකූල නීතියක් දක්වා වෙනස් කිරීම පිළිබඳව කෞට්ස්කිගේ ප්‍රකාශනය සන්සන්දනය කිරීම දැනීම උසස් ලෙස දියුණු කරවයි. වේරා සසුලිච්ගේ කතාව (ලීග් සමුළුවේ 66 පිටුව) බලන්න. මෙම වෙනස් වීමේ පූර්ණ වැදගත්කම ඇය පිළිගන්නේ නැති බවකි.



හැම තැනම සහ හැම විටම පවතින ධනපති ප්‍රජාතන්ත්‍රවාදය මෙන්ද, රුසියානු ධනපති ප්‍රජාතන්ත්‍රවාදය මෙන්ද ඉතා ස්ථිර ලෙස සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ අවස්ථාවාදී අංශයට පක්ෂ පාත විය. ''ප්‍රැන්ක්පර්ට් පුවත්පත''[52] — ජර්මන් ව්‍යාපාර පොළේ ප්‍රධාන පුවත්පත — හෙණ හඬක් වැනි කතු වැකියක් පළ කළේය ("Frankf. Ztg.", 1904, 7 Apr., №97, Abendblatt*. ක 97 හවස මුද්‍රණය). අක්සල්රෝද්ගෙන් රචනා සොරකම් කිරීම ලජ්ජා රහිත රෝගයක් සේ ජර්මන් පුවත්පත්වලට බෝවී ඇති බව මෙයින් පෙනියයි. ප්‍රැන්ක්පර්ට් ව්‍යාපාර පොළෙහි තදබල ප්‍රජාතන්ත්‍රවාදියෝ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ''නිරපේක්ෂවාදයට'' විරුද්ධවත්, පක්ෂයේ ආඥාදායකත්වයට සහ පක්ෂ අධිකාරින්ගේ ඒකාධිපති පාලනයට විරුද්ධවත්, ''මුළු මහත් සංශෝධනවාදයට දඬුවම් දීමට'' මෙන් පණවන තහනම්වලට (අවස්ථාවාදය ගැන ව්‍යාජ චෝදනාව මතක් කරන්න) විරුද්ධවත්, ''අන්ධලෙස කීකරුවීම'', ''මරණීය විනය'', ''දසයන්සේ යටත්වීම'' ඉල්ලා සිටීමට විරුද්ධවත්, පක්ෂයේ සාමාජිකයින් ''දේශපාලන මළ සිරුරු'' බවට පරිවර්තනය කිරීමට (මෙය ඉස්කුරුප්පු සහ රෝදවලට වඩා සැර කියමනකි) විරුද්ධවත් දැරුණු ලෙස පහර දුන්හ. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ ප්‍රජාතන්ත්‍ර විරෝධී පාලනය දකින ව්‍යාපාර පොළේ සෙනවිවරු කෝපයෙන් යුතුව මෙලෙස කෑ ගසති: ''පෞද්ගලිකත්වයේ සියලු සම්භාවනීයත්වයත්, සියලු පෞද්ගලිකත්වයත් බලවත් අප කීර්තියකට භාජනය කළ යුතුය, මන්දයත්, මෙම විෂය ගැන වචන බහුල වාර්තාවක් ඉදිරිපත් කළ සින්ඩර්මාන් කීවාක් මෙන් ඔවුන් විසින් ප්‍රංශ ක්‍රමයත්, ජොරේස්වාදයත් සහ මිලෙරාන්වාදයත් මෙහි ඇතිකරතියි යන තර්ජනයක් පැන නැගී ඇති බැවිනි.'' සැක්සන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂ සමුළුවේදී ඔහු මෙම වාර්තාව ඉදිරිපත් කළේය.

---

ඒ අනුව සංවිධානය පිළිබඳව නව ඉස්ක්‍රාවේ අළුත් වාක්‍ය ඛණ්ඩවල යම්කිසි ප්‍රතිපත්ති මූලක අදහසක් ඇත්තේද ඒවා අවස්ථාවාදී ප්‍රතිපත්ති බවට සැකයක් නැත. විප්ලවවාදී සහ අවස්ථාවාදී අංශවලට බෙදුණු අපේ පක්ෂ සමුළුව විසින්ද, සංවිධානයේ අවස්ථාවාදය තුළින් එම ප්‍රවණතාවයන්ද, එම චෝදනාද බොහෝ විට එම වාක්‍ය ඛණ්ඩද ප්‍රකාශවන සියලු යුරෝපීය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂවල නිදසුන විසින්ද කරන ලද විශ්ලේෂණයෙන් මේ නිගමනය සනාථ වී ඇත. සත්තකින්ම විවිධ පක්ෂවල ජාතික විශේෂතාවයන් විවිධ රටවල්වල ඇති විවිධ දේශපාලන

* ''ප්‍රැන්ක්පර්ට් පුවත්පත'', 1904, අප්‍රියෙල් 7, අංක 97, හවස මුද්‍රණය. — සංස්කාරක

තත්වයන් විවිධ සටහන් තබයි. එය ජර්මන් අවස්ථාවාදය ප්‍රංශ අවස්ථාවාදයට වෙනස් කරයි, ප්‍රංශ අවස්ථාවාදය ඉතාලි අවස්ථාවාදයට වඩා වෙනස් කරයි, ඉතාලි අවස්ථාවාදය රුසියන් අවස්ථාවාදයට වඩා වෙනස් කරයි. එහෙත් මේ සියලු පක්ෂ විප්ලවවාදී අංශයකට සහ අවස්ථාවාදී අංශයකට බෙදීමේ මූලික සමානතාවයද, සංවිධානය පිළිබඳ අවස්ථාවාදයේ චින්තන මාර්ගයේ සහ ප්‍රවණතාවයන්ගේ සමානතාවයද මේ සියලු තත්වයන්ගේ විවිධත්වය* නොතකා කැපී පෙනේ. රැඩිකල්වාදී බුද්ධිමතුන් විශාල සංඛ්‍යාවක් අපේ මාක්ස්වාදී සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාර වලට ඇතුළු වීමත් සමගම විවිධ ක්ෂේත්‍රවල සහ අති විවිධ ආකාර අනුව, ඔවුන්ගේ බුද්ධියෙන් නිපදවන ලද අවස්ථාවාදය නොවැලැක්විය හැකි ලෙස ඇති විය, ඉදිරියටද ඇතිවනු නියතය. අපේ ජගත් සංකල්පය පිළිබඳ මූලික ගැටළු වලදීද, අපේ වැඩපිළිවෙළ පිළිබඳ ප්‍රශ්නයේදීද, අපි අවස්ථාවාදයට විරුද්ධව සටන් කළෙමු. අරමුණ පිළිබඳ පූර්ණ අපසරණයක් ඇති වීම නිසා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතරත් අපේ නිත්‍යානුකූල මාක්ස්වාදය දූෂණය කළ ලිබරල්වාදීන් අතරත් නොපැස්සිය හැකි බිඳීමක් නොවැළැක්විය හැකි සේ ඇති විය. උපක්‍රම පිළිබඳ ප්‍රශ්නවලදී අපි අවස්ථාවාදයට විරුද්ධව සටන් කළෙමු. වැදගත්කමින් වඩාත් අඩු මෙවැනි ප්‍රශ්නවලදී ක්‍රිචෙව්ස්කි සහ අකීමව් සහෝදරවරුන් සමග ඇති අපේ භේදය ස්වාභාවික ලෙස තාවකාලික විය, එය විවිධ දේශපාලන පක්ෂ පිහිටුවීමකට මග හෙළිකළේ නැත. සංවිධානය පිළිබඳ ප්‍රශ්නවලදී මාර්තව් සහ අක්සල්රොඩ් සහෝදරවරුන්ගේ අවස්ථාවදයට විරුද්ධව දැන් අප සටන් කළ යුතුය,සත්තකින්ම මෙය වැඩපිළිවෙළ පිළිබඳ පමණක් නොව,උපක්‍රම

---

* උපක්‍රම පිළිබඳ ප්‍රශ්න වලදි ආර්ථිකවාදීන් සහ දේශපාලනවාදීන් හැටියට රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ පැරණි බෙදීම, මුළු මහත් ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරය අවස්ථාවාදීන් සහ විප්ලවවාදීන් හැටියට බෙදීමට සමාන බව කිසිවෙක් සැක නොකරති. එක් අතකින් මර්තිනව් සහ අකීමව් සහෝදරයින්ද, අනිත් අතින් ෆ්‍රොන්-ෆ්‍රොල්මර් සහ ෆ්‍රොන්-එල්ම් නැතිනම් ජොරේස් සහ මිලෙරාන්ද අතර ඇති වෙනස අති විශාල වුවද මෙය එසේය. දේශපාලනමය අයිතිය නැති සහ දේශපාලනය අතින් නිදහස් රටවල්වල තත්ත්වයන් අතර ඇති අති විශාල වෙනස නොතකා සංවිධානය පිළිබඳ ප්‍රශ්න වලදී ප්‍රධාන බෙදීම්වලදී සමාන තාවයක් තිබෙන බවට කිසිදු සැකයක් නැත. නව ඉස්ක්‍රාවේ උසස් ප්‍රතිපත්ති අනුගමනය කරන කර්තෘවරුන් කෞට්ස්කි සහ හයිනේ අතර හටගත් විවාදය ගැන ලුහුඬින් ලියුවද (අංක 64) සංවිධානාත්මක ප්‍රශ්න ගැන අවස්ථාවාදය සහ සාධර්මික තාවය දරන ප්‍රතිපත්ති මූලක ප්‍රවණතා බියසුලු ලෙස සාකච්ඡා නොකර ඉවත් දැමීම අවධානය යොමු කළ යුතු දෙයකි.



පිළිබඳ ප්‍රශ්න වලටත් වඩා අඩු මූලිකත්වයක් දරයි. එසේවුවද එය දැන් පක්ෂ ජීවිතයේ පෙරමුණට පැමිණ ඇත.

අවස්ථාවාදයට විරුද්ධව අප සටන් කිරීම ගැන කතා කරන විට, සමකාලීන අවස්ථාවාදයේ හැම ක්ෂේත්‍රයකම පවතින ආවේණික ලක්ෂණය, එනම් අපහැදිලිතාවය, අනියතාකාරය සහ රැවටිලි භාවය අමතක නොකළ යුතුය. අවස්ථාවාදියෙක් ඔහුගේ ස්වභාවය නිසාම නිතරම පැහැදිලි හා ස්ථිර තීරණයක් නොගනී, ඔහු නිතරම මැද පිළිවෙතක් සොයයි, එකිනෙකට වෙනස් මත අතර උරගයකු සේ රිංගා යන අවස්ථාවාදියා මත දෙකත් සමග ''එකඟවීමට'' සහ ඔහුගේ විරුද්ධත්වය කුඩා අතුරු යෝජනාවලට, සැකවලට, අවංක හා භක්තිමත් යෝජනා කිරීම් ආදියට සීමා කරයි. පක්ෂයේ වැඩපිළිවෙළ පිළිබඳ ප්‍රශ්න වලදී අවස්ථාවාදියකු වන එඩුවාර්ඩ් බර්න්ෂ්ටයින් පක්ෂයේ විප්ලවවාදී වැඩපිළිවෙළ ''හාත්පසින්ම සංශෝධනය කිරීමට'' නිසැක ලෙසම කැමති වුවද, එය සමග එකඟ වෙයි. එහෙත් ඔහු එසේ කිරීම කාලෝචිත නොවන බවත්, නුවණට හුරු නොවන බවත් ''විවේචනයේ'' (ධනපති ප්‍රජාතන්ත්‍රවාදයෙන් මූලධර්ම සහ වාග් පාඨ අවිචාරවත් ලෙස ණයට ගැනීම මේ විවේචනයේ ප්‍රධාන හරය වේ) ''පොදු මූලධර්ම'' පැහැදිලි කිරීම තරම් වැදගත් නොවන බවත් නිගමනය කරයි.උපක්‍රම පිළිබඳ ප්‍රශ්නවලදී අවස්ථාවාදියකු වන ෆ්‍රොන්-ෆ්‍රොල්මාර්ද විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ පැරණි උපක්‍රම සමග එකඟ වෙයි. නිශ්චිත ''ඇමති උපක්‍රම ඉදිරිපත් කරනවා වෙනුවට ඔහු ඝෝෂා කිරීම්වලට, නොවැදගත් අතුරු යෝජනාවලට, සහ උපහාසවලට සීමා වෙයි. සංවිධානය පිළිබඳ ප්‍රශ්නවලදී අවස්ථාවාදීන් වන මාර්තව් සහ අක්සල්රොඩ් සහෝදරවරු, ඔවුනට සෘජු ලෙසම අභියෝගයක් කළද, ''ව්‍යවස්ථාවක් මගින් ස්ථිර කළ හැකි'' මූලධර්ම පිළිබඳ නියත ප්‍රකාශයක් ඉදිපත් කිරීමට මෙතෙක් අපොහොසත් වූහ. සංවිධානය පිළිබඳ අපේ රීති මාලාව (ඉස්ක්‍රා අංක 58, දෙවැනි පිටුව, තෙවැනි කොළම) හාත්පසින්ම සංශෝධනය කිරීමට ඔවුන් කැමතිය, සත්තකින්ම ඔවුන් කැමතිය. එහෙත් ඔවුන් මුලදී ''සංවිධානය පිළිබඳ පොදු ගැටළුවලට'' (ව්‍යවස්ථා මාලාවේ I කොටස නොතකා අපේ මධ්‍යගතවාදී රීති, හාත්පසින්ම සංශෝධනය කිරීමට ඔවුහු කැමතියහ. මෙය නව ඉස්ක්‍රාවේ ප්‍රතිපත්තිය අනුව ගෙන ගියහොත් ස්වෛරිත්වවාදයට අනිවාර්යයෙන්ම මග පාදනු ඇත. මූලධර්ම වශයෙන් ස්වෛරිත්වවාදයක් කරා යාමට තමා කැමති බව මාර්තව් සහෝදරයා තමාටම හෝ පිළිගැනීමට සූදානම් නැත) පමණක් තම ක්‍රියාකාරීත්වය සීමා කිරීමට ඔවුහු කැමතියහ. එබැවින් සංවිධානය පිළිබඳ ඔවුන්ගේ මූලධර්ම දේ දූන්නේ සියලු වර්ණ නියෝජනය කරයි. මෙහි ප්‍රධාන කරුණු ඒකාධිපතිවාදයට

හා නිලධාරිවාදයට විරුදධවද, අන්ධ කීකරුවීමට සහ ඉස්කුරුප්පු සහ රෝදවලට විරුද්ධවද අහිංසක සහ අනුරාගික සෝෂාකාරී ප්‍රකාශනවලින් යුක්ත විය. මේ සෝෂාකාරී ප්‍රකාශන කොතරම් අහිංසකදයත්, මේවායින් මූලධර්ම වලට සම්බන්ධ මොනවාද, ''තෝරාපත් කර ගැනීමට'' සම්බන්ධ මොනවාද යන්න තෝරා බේරා ගැනීම ඉතා අමාරු කරුණක් වී තිබේ. සෝෂාව වැඩිවන තරමට තත්ත්වයද අයහපත් වේ: වෛරයට පාත්‍ර වී ඇති නිලධාරිවාදය විශ්ලේෂණය කිරීමට සහ සුපැහැදිලි ලෙස විග්‍රහ කිරීමට වැයම් කිරීම නිසා නොවැළැක්විය හැකිසේ ස්වතන්ත්‍රවාදයට මග පැදෙයි. ඔවුන්ගේ මේ ප්‍රතිපත්තියට ''ගැඹුරුතාවයක් ආරූඪ කිරීමට'' සහ එය සනාථ කිරීමට වැයම් කිරීම, නොවැළැක්විය හැකිසේ නොදියුණුතාවයටත්, වලිගවාදයටත්, ජිරොන්ඩිවාදී වාක්‍ය ඛණ්ඩ දෙඩවීමටත් මග පාදයි. අවසානයේදී එකම සැබෑ මූලධර්මය වශයෙන්, අරාජිකවාදයේ මූලධර්මය මතුවෙයි. මේ හේතුව නිසා එය විශේෂයෙන් පැහැදිලි ලෙස පෙනේ (ව්‍යවහාරය න්‍යායයට වඩා හැමදම ඉදිරියෙන් යයි). සංවිධානය පිළිබඳ ප්‍රශ්නවලදී අපේ අවස්ථාවාදය වරෙක නගින, තවත් වරෙක පහළ බසින, අඩියෙන් අඩියට පනිමින්, මූලධර්ම පිළිබඳ නියත ඕනෑම ප්‍රකාශනයක්* නොකර ඇඟ බේරා ගනිමින් විනයට උපහාස කරන,

* ව්‍යවස්ථා මාලාවේ I කොටස පිළිබඳව ඇතිවූ විවාදය මතක් කරන විට, එම කොටස පිළිබඳව මාර්තව් සහ අක්සල්රොඩ් සහෝදරවරුන් කළ වරද දියුණු කළ විට සහ ගැඹුරු කළ විට, නොවැලැක්විය හැකි සේ සංවිධානය පිළිබඳ කරුණු වලදී අවස්ථාවාදය වෙත යොමුවන බව පැහැදිලිව පෙනී යයි. මාර්තව් සහෝදරයාගේ මූලික අදහස පක්ෂයට ස්වයංබැදීම මෙවැනිම ව්‍යාජ ප්‍රජාතන්ත්‍රයකි, පහළ සිට ඉහළට පක්ෂය ගොඩ නැගීමකි. අනිත් අතට පක්ෂය ගොඩ නැගීම පිළිබඳ මගේ අදහස ඉහළට සිට පහළට, පක්ෂ සමුළුවේ සිට පෞද්ගලික පාක්ෂික සංවිධානය දක්වා ගොඩ නැගීම ''නිලධාරිවාදීය.'' පළමුවැනි කොටස පිළිබඳ විවාදයේදී ධනවාදී බුද්ධිමතාගේ චින්තන ශක්තියද, අරාජිකවාදී වාග් පාඨ දෙඩවීමද වලිගවාදී ගැඹුරුතාවයද යන මේ සියලු දේම ප්‍රදර්ශනය කරන ලදී. ''නව ඉස්ක්‍රාව මගින් නව අදහස් ඉදිරිදත් කිරීමට පටන් ගෙන තිබේ යැ''යි මාර්තව් සහෝදරයා සිය ''වැටලීමේ තත්වයෙන්'' පවසයි (20 පිටුව). පළමුවැනි කොටසේ සිටම ඔහු සහ අක්සල්රොඩ් අළුත් දිසාවකට චින්තනය යොමු කරන බැවින් මෙය සත්‍යයකි. එකම වරදකට ඇත්තේ මෙම දිශාව අවස්ථාවාදී වීමය. ඔවුන් මෙම දිසාව කරා ''වැඩ කරන්නේ'' කොතරම්ද, එතරම් දුරට තෝරා පත් කිරීම පිළිබඳ කලහයන්ගෙන් ඈත් වන අතර වඩාත් ගැඹුරු ලෙස ඔවුන් මඩ ගොහොරුවේ එරෙනු ඇත. ප්ලෙහානව් සහෝදරයා පක්ෂ සමුළුවේදී මෙය පැහැදිලි ලෙස දිටීය. ''නොකළ යුත්තේ කුමක්ද?'' නැමැති ඔහුගේ ලිපිය ඔවුනට යළිත් වරක් අනතුරු ඇඟවීය: මම නුඹලාව තෝරා පත් කර ගැනීමට පවා කැමැත්තෙමි.



ස්වතන්ත්‍රවාදය — අරාජිකවාදය නැමති පියගැට පෙළ එයය. වැඩපිළිවෙළ සහ උපක්‍රම පිළිබඳ කරුණු වලදීද ස්ථිර ලෙසම එවැනි අවධි පෙන්නුම් කර ඇත: එනම් සාධර්මික තාවයට උපහාස කිරීම, පටුබව සහ අජංගමභාවය — සංශෝධනවාදී ''විවේචන'' සහ අමාත්‍ය වාදය, නැතහොත් ධනවාදී ප්‍රජාතන්ත්‍රය වේ.

විනයට වෛර කිරීම සහ අසාධාරණයක් සිදුවී ඇතැයි යන හැඟීමේ නිරන්තර කරච්චලය අතර කිට්ටු මනෝවිද්‍යාත්මක සම්බන්ධකමක් ඇත්තේය. මෙය පොදුවේ සියලු අවස්ථාවාදීන්ගේද, විශේෂයෙන් අපේ අල්පතරයේද සියලු ලියවිලිවල සොයාගත හැකිය. ඔවුන් වදවලට භාජනය කරති, ලුහුබඳිති, පිටමං කරති, වටලති, බියගන්වති. දමරිකයෝ සහ බියගන්වනු ලැබූවෝ[53] නැමැති ප්‍රියමනාප, බුද්ධිමත් විහිළුව නිර්මාණය කළ කතුවරයා සැක කළාටත් වඩා සමහර විට මෙ වාක්‍ය ඛණ්ඩවල මනෝවිද්‍යාත්මක සහ දේශපාලන සත්‍යයක ගැබ්වී තිබිය හැකියි. අල්පතරය සෑදී තිබෙන්නේ අමනාපවූවන්ගෙන්, එක් හෝ තවත් වේලාවකදී නැතිනම්, එක් හෝ තවත් හේතුවක් උඩ විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් කෙරෙහි අමනාප වූවන්ගෙන් බව අපේ පක්ෂ සමුළුවේ වාර්තා ගෙන බැලුවොත් ඔබට පෙනීයනු ඇත. බුන්ඩ් හා රබෝචිය දේලො සංවිධානයේ සාමාජිකයින් පක්ෂ සමුළුවෙන් ඉවත්ව යන තරම් දුරට අපි ඔවුන් ඉතා අධික ලෙස අමනාපයට පත් කළෙමු. සාමාන්‍යයෙන් සංවිධානද, විශේෂයෙන් ''යූෂ්නි රබෝචි'' සංවිධානයද කප්පාදු කිරීම නිසා මාරාන්තික ලෙස අමනාපයට පත්වූ යූෂ්නි රබෝචි වාදීහුද සිටිති. කතා කිරීමට නැගී සිටි හැම වාරයකදීම අමනාප කරනු ලැබූ මාහව් සහෝදරයාද කෙනෙකි (හැම වාරයකදීම ඔහු මෝඩයකු බවට පත්විය). ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටස සම්බන්ධයෙන් අවස්ථාවාදය පිළිබඳ ව්‍යාජ චෝදනාවක් නිසාත්, චන්ද විමසීමේදී පරාජය වූ නිසාත් අමනාපයට පත් මාර්තව් සහෝදරයා සහ අක්සල්රොඩ් සහෝදරයාද අවසාන වශයෙන් මෙයට එක්කළ යුතුය. අද දක්වාත් බොහෝ අවරසිකයින් සිතන පරිදි මේ සියලු කටුක අමනාපයන් අවසර නැති අවකැපෙන කතා නිසාවත්, දැරුණු හැසිරීම, වියරු වැටුණු විවාද, හඬනගන සේ දොරවල් වසාදැමීම්,

එහෙත් අරාජිකවාදයට සහ අවස්ථාවාදයට පමණක් වැටෙන මේ මග ඔස්සේ නොයනු. මාර්තව් සහ අක්සල්රොඩ් මේ යහපත් උපදෙස නොපිළිගනිති. මන්ද? මග දිගේ නොයන්නේ මන්ද? ලෙනින් සමග එකඟ වෙයල්ලා. තෝරා පත් කර ගැනීමේ සෝෂාව කලහයක් පමණකි? නැත! අපි ප්‍රතිපත්ති ගරුක මිනිසුන් බව ඔහුට පෙන්වන්නෙමු! ඔවුහු පෙන්වූහ. ඔවුනට ප්‍රතිපත්ති තිබේනම් ඒවා අනිකක් නොව, අවස්ථාවාදී ප්‍රතිපත්ති බව ඔවුහු හැම දෙනාටම පැහැදිලි ලෙස පෙන්වූහ.

මීට මෙළවූ අත් සෙලවීම් ආදිය නිසා නොවේ. එහෙත් සම්පූර්ණ වසර තුනක් තිස්සේ ඉස්ක්‍රාවේ දෘෂ්ටිමය වැඩවල නොවැළැක්විය හැකි දේශපාලන ප්‍රතිඵලය වන්නේය. මේ තෙවසර තුළදී අපි කටින් පමණක් ක්‍රියාකාරී නොවූ අතර ක්‍රියාවට නැගිය යුතු අවබෝධයෙන් වටහා ගත් මත ප්‍රකාශ කළෙමු. සමුළුවේදී ඉස්ක්‍රා විරෝධීන්ට සහ ''මඩගොහොරුවට'' විරුද්ධව සටන් නොකර සිටීමට අපට බැරිවිය. අපත් සමග එක්වී, කබාකර උස්සාගෙන පෙරමුණ ගෙන සටන් කළ මාර්තව් සහෝදරයා අප මිනිසුන් බොහෝ දෙනෙකු අමනාප කළ ඉක්බිතිව, බඳුන තරමක් උතුරා යනු වස්, අප විසින් කළ යුතුව තිබුණේ අක්සල්රොඩ් සහෝදරයා සහ මාර්ටව් සහෝදරයා අමනාප කිරීම පමණකි. ප්‍රමාණය ගුණය දක්වා වෙනස් විය. ප්‍රතිෂේධය ප්‍රතිෂේධ විය. අමනාප වූ අය අන්‍යොන්‍ය අමනාපයන් අමතක කොට, එකිනෙකාගේ ගෙළ බද ගෙන වැළපෙන්නට වූහ, ''ලෙනින්වාදයට* විරුද්ධව කැරළි ගැසීමේ ධජය'' එසවූහ.

දියුණු බලවේග ප්‍රතිගාමී බලවේග වලට විරුද්ධව කැරළි ගසන විට, කැරළි ගැසීම ඉතා අනර්ඝ දෙයකි. විප්ලවවාදී අංශය අවස්ථාවාදී අංශයට විරුද්ධව කැරලි ගැසීම හොඳ දෙයකි. එහෙත් අවස්ථාවාදී අංශය විප්ලවවාදී අංශයට විරුද්ධව නැගී සිටීම අයහපත් දෙයකි.

ප්ලෙහානොව් සහෝදරයාට මේ අයහපත් කාර්යයට සහභාගී වීමට සිදුවී තිබෙන්නේ එක්තරා විදිහකට යුද්ධ සිරකරුවකු හැටියටය. ''බහුතරයට'' පක්ෂපාත කිසියම් යෝජනාවක කතුවරයින්ගෙන් ගත් තනි නුහුරු වාක්‍ය ඛණ්ඩ උපුටා ගනිමින් ''හදවත පැළෙන'' තරම් වේගයෙන් කෑගසයි: ''දුප්පත් ලෙනින් සහෝදරය! ඔහුගේ සාධර්මික ආධාරකරුවෝ හරිම මිනිස්සු වෙති!'' (''ඉස්ක්‍රා'' අංක 63, අතිරේකය.)

ප්ලෙහානොව් සහෝදරය, මා දුප්පත් නම්, නව ඉස්ක්‍රාවේ කතෘවරුන් දුගීබවේ පාතාලයට වැටී ඇති බැව් පමණක් මා කියන්නට කැමතිය. මා කොතරම් දුප්පත් වුවද, පක්ෂ සමුළුව දෙස නොබලා දෙනෙත් වසා ගැනීමටත්, මගේ බුද්ධි ව්‍යායාම සඳහා කොමිටි සාමාජිකයින්ගේ යෝජනාවලින් කරුණු සොයා ගැනීමටත් තරම් මම අනාථ අසරණ තත්ත්වයට ඇද වැටී නැති බව කියනු කැමැත්තෙමි. මා කොතරම් දුප්පත් වුවද, විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මූලධර්මවලට හාත්පසින්ම වෙනස්

* මේ පුදුමාකාර ප්‍රකාශනය මාර්තව් සහෝදරයාට අයත්ය (''වැටලීමේ තත්ත්වය'', 68 පිටුව). මට විරුද්ධව පමණක් කැරලි ගැසීම සඳහා මාර්තව් සහෝදරයා සංඛ්‍යාවෙන් මට වඩා පස් ගුණයක් වැඩි වන තුරු බලා සිටියේය. මාර්තව් සහෝදරයා ඉතා අදක්ෂ ලෙස තර්ක කරයි. සිය ප්‍රතිමල්ලවයාට ඉතා උසස් ලෙස ප්‍රශංසා කොට ඔහු විනාශ කර දැමීමට මාර්තව්ට වුවමනා වී ඇත.



මූලධර්ම වලට මුරණ්ඩු ලෙසත්, ස්ථිර ලෙසත් පක්ෂපාත වන, සංවිධානය, උපක්‍රම හෝ වැඩපිළිවෙළ පිළිබඳ සෑම යෝජනාවකදීම වැරදීමකින් නුහුරු වාක්‍ය ඛණ්ඩයක් නොකියන ආධාර කරුවන්ට වඩා දහස් වාරයකින් මම පොහොසත්මි.මා කොතරම් දුප්පත් වුවද,ඔවැනි ආධාර කරුවන්ගෙන් ලැබෙන නිර්ලෝභී ප්‍රශංසා පොදු ජනතාවගෙන් සැඟවීමට තරම් පහත් තත්ත්වයකට මා වැටී නැත. එහෙත් එවැන්නක් කිරීමට නව ඉස්ක්‍රාවේ කතුවරයින්ට සිදුවී ඇත.

පාඨකය, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ වොරෝනෙෂ් කමිටුව කුමක්දැයි ඔබ දන්නෙහිද? ඔබ එය නොදන්නේ නම්, පක්ෂ සමුළුවේ වාර්තා කියවන්න. පක්ෂ සමුළුවේදී මුල සිට අග දක්වා පක්ෂයේ විප්ලවවාදී අංශයට විරුද්ධව සටන් කළ, එසේම ප්ලෙහානොව් සහෝදරයාගේ සිට පපෝව් සහෝදරයා දක්වා හැම කෙනෙකු විසින්ම අවස්ථාවාදීන් ලෙස හංවඩු ගසනු ලැබූ, සහෝදර අකීමව් සහ සහෝදර බ්‍රැකෙර් එම කමිටුවේ මතය සම්පූර්ණයෙන්ම ප්‍රකාශ කළ බව ඔබ දැනගනු ඇත. මේ වොරෝනෙෂ් කමිටුව ජනවාරි මාසයේදී (1904 ජනවාරි 12 ද) ප්‍රකාශ කළ පත්‍රිකාවක් මගින් පහත සටහන් ප්‍රකාශය කරයි:

''නොනැවතී වැඩෙමින් පවතින අපේ පක්ෂයේ ශ්‍රේෂ්ඨ හා වැදගත් සිද්ධියක් පසුගිය වසරේදී සිදුවිය: එය රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ (රුසප්‍රකප) දෙවැනි සමුළුවය. එම පක්ෂයේ සංවිධානවල නියෝජිතයින්ගේ සමුළුවය. පක්ෂ සමුළුවක් කැඳවීම ඉතා සංකීර්ණ කාර්යයකි, දැනට පවතින රාජාණ්ඩුව යටතේ ඉතා භයානක අසීරු කාර්යයකි. අංග සම්පූර්ණත්වයෙන් බොහෝසේ බැහැර වූ විධියකට එය පැවැත්වීම මවිතයට හේතුවක් නොවේ. සමුළුව අකරතැබ්බයකට මුණ නොපා අවසන් වුවද, පක්ෂයේ සියලු ඉල්ලීම් සපුරාලීමට එය අසමත් විය. පක්ෂ සමුළුවක් කැඳවීමට 1902 සාකච්ඡාව (රැස්වීම) විසින් බලය පැවරූ සහෝදරවරු සිර අඩස්සියේ පසුවූහ. එනිසා සමුළුව සංවිධානය කළේ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ එක් ප්‍රවණතාවයක නියෝජිතයින් එනම්, ඉස්ක්‍රාවාදීන් විසින් පමණකි. ඉස්ක්‍රාවාදීන් නොවන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී බොහෝ සංවිධානවලට සමුළුවට සහභාගී වන ලෙස ආරාධනා නොකැරිණි. අඩ වශයෙන් මේ හේතුව නිසා පක්ෂයට වැඩපිළිවෙළක් සහ ව්‍යවස්ථාවක් සාදා ගැනීමේ කාර්යය පක්ෂ සමුළුව විසින් ඉතා අසාර්ථක ලෙස කැරිණි. ''භයානක වැරදි හැඟීම්වලට තුඩුදිය හැකි විශාල අඩුපාඩුකම් ව්‍යවස්ථාවේ තිබෙන බව නියෝජිතයෝ පවා පිළිගනිති. සමුළුවේදී ඉස්ක්‍රාවාදීන්ම අතර භේදයක් හටගත්තේය. අපේ රු. ස. ප්‍ර. ක. පක්ෂයේ ප්‍රධාන සාමාජිකයින් ඉස්සර ඉස්ක්‍රාවේ වැඩපිළිවෙළට සම්පූර්ණ අනුමැතියක් දැක්වූ බව පෙනෙන්ට තිබුණද, ප්‍රධාන වශයෙන් ලෙනින් හා ප්ලෙහානොව් විසින් ඉදිරිපත් කරන ලද වැඩපිළිවෙළේ බොහෝ කොටස් ක්‍රියාවේ යෙදවිය නොහැකි බව පිළිගෙන ඇත. පක්ෂ

සමුළුවේදී පසු කී අයට බලය ලැබුණද, ඉස්ක්‍රාවාදීන් නොවන අය සහභාගී වන ව්‍යවහාරික ජීවන බලවේගය විසින් සහ ප්‍රායෝගික වැඩවල අවශ්‍යතාවයන් විසින් න්‍යායාචාර්යවරුන්ගේ වැරදි ඉක්මණින් නිවැරදි කිරීමට පටන්ගෙන ඇත. පක්ෂ සමුළුවට පසුව දැනටමත් වැදගත් සංශෝධන කීපයක්ම කර තිබේ. ඉස්ක්‍රා පුවත්පත සෑහෙන තරමින් වෙනස් වී ඇති අතර පොදුවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ සියලු කම්කරුවන්ගේ ඉල්ලීම් වලට සැලකිල්ලෙන් සවන්දීමට පොරොන්දු වී ඇත. ඒ අනුව සමුළුවේ ප්‍රතිඵල මීළඟ පක්ෂ සමුළුවේදී සංශෝධනය කිරීමට සිදුවන අතර මෙය නියෝජිතයින්ට පවා පෙනීගොස් ඇත. එබැවින් පක්ෂ සමුළුවේ තීරණ අනුල්ලංඝනීය තීරණ ලෙස පක්ෂයට පිළිගත නොහැකිය. සමුළුව පක්ෂයේ තත්ත්වය පැහැදිලි කළ අතර පක්ෂයේ න්‍යායික සහ සංවිධානාත්මක ක්‍රියාකාරීත්වය සඳහා ඉඩකඩ සහ තත්වයන් ඇති කර තිබේ. එමෙන්ම මෙය පක්ෂයට සමස්තයක් වශයෙන් අති විශාල උපදේශාත්මක වටිනාකමක් ලබා දෙන අත්දැකීමක් විය. සමුළුවේ තීරණ සහ එය සම්මත ව්‍යවස්ථාව සියලු සංවිධානවල සැලකිල්ලට භාජනය වනු ඇත. එහෙත් මේවායේ ඇති අසම්පූර්ණතාවය, නිසා මේවායින් පමණක් මාර්ගෝපදේශකත්වය ලබා ගැනීමෙන් වැළකීමට බොහෝ සංවිධාන ඉදිරිපත් වනු ඇත.

පක්ෂයේ පොදු වැඩවල වැදගත්කම සම්පූර්ණයෙන්ම වටහා ගනිමින්, සමුළුව සංවිධානය කිරීමේ සියලු කරුණු වලදී වොරෝනෙෂ් කමිටුව ක්‍රියාශීලි ලෙස ආධාර දුන්නේය. සමුළුවේදී ඇතිවූ දේවල වැදගත්කම සම්පූර්ණයෙන්ම පිළිගන්නා වොරෝනෙෂ් කමිටුව පක්ෂයේ මධ්‍යම පුවත්පතේ (ප්‍රධාන පුවත්පතේ) — ''ඉස්ක්‍රාවේ'' ඇතිවූ වෙනස සාදරයෙන් පිළිගනී. පක්ෂයේ හා මධ්‍යම කාරක සභාවේ වැඩකටයුතු හා තත්ත්වය තවමත් අපේ තෘප්තියට හේතු නොවූවද, පක්ෂය සංවිධානය කිරීමට ගන්නාවූ ඒකාබද්ධ ප්‍රයත්නය නිසා එය අංග සම්පූර්ණ වණු ඇතැයි අපි විශ්වාස කරමු. බොරු ආරංචි වලට පිළිතුරු වශයෙන්, පක්ෂයෙන් අස්වීමේ ප්‍රශ්නයක් වොරෝනෙෂ් කමිටුව ඉදිරියේ නැති බව එම කමිටුව සහෝරවරුන්ට දන්වා සිටී. වොරෝනෙෂ් කමිටුව වැනි කම්කරු සංවිධානයක් රු. ස. ප්‍ර. ක. පක්ෂයෙන් අස්වීමෙන් ඇතිවන භයානක නිදසුන ගැනත්, එවැනි පියවරක් නිසා පක්ෂයට කෙතරම් අපකීර්තියක් ඇතිවන්නේද යන්න ගැනත්, මෙම නිදසුන අනුව ගමන් කරන කම්කරු සංවිධාන වලට ඉන් ඇතිවන විශාල අවාසිය ගැනත්, වොරෝනෙෂ් කමිටුව සම්පූර්ණයෙන්ම වටහාගෙන සිටී. අප විසින් අළුත් භේද ඇති නොකළ යුතුය. එහෙත් පංති හැඟීමක් ඇති සියලු කම්කරුවන් හා සමාජවාදීන් එක් පක්ෂයක් තුළ සමගි කිරීම සඳහා ස්ථාවර පරිශ්‍රමයක් දැරිය යුතුය. ඇරත් දෙවැනි සමුළුව නියෝජිතත්වය ඇති සමුළුවක් නොව, කාල සීමාව අනුව පවත්වන ලද්දක් විය. පක්ෂයෙන් අස්කිරීම ගැන තීරණයක් ගත හැක්කේ පක්ෂ



අධිකරණ මණ්ඩලයකට පමණකි, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානයක් පක්ෂයෙන් අස්කිරීමට මධ්‍යම කාරක සභාවට පවා බලයක් නැත. ඒ පමණක් නොව, දෙවැනි සමුළුව විසින් සම්මත කර ගත් ව්‍යවස්ථාවේ 8 කොටස අනුව, ප්‍රාදේශීය වැඩවලදී සංවිධානවලට ස්වතන්ත්‍රයක් ලබාදී ඇත, එබැවින් සංවිධානය පිළිබඳ සිය ආකල්පය පක්ෂ ජීවිතයට ඇතුළු කිරීමට වොරෝනෙෂ් කමිටුවට සම්පූර්ණ බලය ඇත.''

නව ''ඉස්ක්‍රාවේ'' කර්තෘවරු මෙම පත්‍රිකාව පුවත්පතේ 61 වැනි කලාපය මගින්ද උපුටා දැක්වීමේදී, ඉන් මහත් දෙස් පවරමින් ඉදිරිපත් කර ඇති ලොකු අකුරුවලින් මුද්‍රණය කර ඇති දෙවැනි කොටස නැවත පළකළහ. පුවත්පතේ කර්තෘවරු මෙහි කුඩා අකුරුවලින් මුද්‍රණය කර ඇති පළමු කොටස අතහැර දැමීමට කැමතිවූහ.

ඔවුහු ලජ්ජාව නිසා එසේ කළහ.

## 18. දයලෙක්තික ක්‍රමය ගැන වචන කීපයක්. විප්ලව දෙකක්

අප පක්ෂයේ අර්බුදයේ වර්ධනය දෙස සාමාන්‍ය බැල්මක් හෙළන විට, ප්‍රධාන වශයෙන් සුළු විශේෂතාවයන් සහිතව තරඟ කාරී පැති දෙක දිගටම එලෙසම සිටි බව පෙනේ. එය අප පක්ෂයේ විප්ලවවාදී අංශය සහ අවස්ථාවාදී අංශය අතර ඇති වූ අරගලයකි. එහෙත් මේ අරගලය විවිධ අවධි පසු කර ඇත. මේ ගැන විස්තර වටහා ගැනීමට ඉදිරිපත් වන්නකු දැනට ඒකරාශී වී ඇති අති විශාල සංඛ්‍යාවක් ලියවිලි මගින්ද, කොටස් වශයෙන් ඇති සාක්ෂ්‍ය වලින්ද, හරයෙන් ඉරා වෙන්කර ගත් කොටස් වලින්ද, මේ එක් එක් අවධියක විශේෂතාවයන් ගැන සෑහෙන හැඳිනීමක් ලබා ගත යුතුය.

එකිනෙකට වෙනස් ප්‍රධාන අවධි සටහන් කරමු: 1) ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටස පිළිබඳ හටගත් මතභේදය. සංවිධානය සම්බන්ධ මූලික ප්‍රතිපත්ති පිළිබඳ ඇතිවූ හුදු දෘෂ්ටිමය අරගලයකි. ප්ලෙහානව් සහ මා අල්පතරයට අයත් විය. මාර්තව් සහ අක්සල්රොඩ් අවස්ථාවාදී යෙදුමක් ඉදිරිපත් කරති. ඒ අනුව ඔවුහු අවස්ථාවාදීන්ගේ තුරුල්ලට වැදුණහ. 2) මධ්‍යම කාරක සභාවට නියෝජිතයින් තේරීම පිළිබඳ ප්‍රශ්නයේදී ඉස්ක්‍රා සංවිධානයේ භේදයක් ඇති වීම: පස්දෙනෙකුගෙන් යුත් කමිටුවක ෆ්‍රේපාමින්ද නැතිනම් වසිලියව්ද, තුන්දෙනෙකුගෙන් යුත්

කමිටුවක ට්‍රොට්ස්කි නැතිනම් ට්‍රවීන්ස්කිද, ප්ලෙහානව් සහ මා බහුතරයට අයත් විය. (නවයයි, හතයි) එසේ වූයේ අඩවශයෙන් පළමුවැනි කොටස පිළිබඳ ඡන්ද විමසීමේදී අප අල්පතරයට අයත්වූ බැවිනි. සංවිධාන කමිටුව පිළිබඳ සිද්ධියේදී මා තුළ ඇති වූ සියලු සැක, අවස්ථාවාදීන් සමග මාර්තව්ගේ සහාගය විසින් තහවුරු කැරිණි. 3) ව්‍යවස්ථා මාලාවේ විස්තර පිළිබඳ මතභේදය දිගටම පැවතීම. අවස්ථාවාදීන් යළිත් වරක් මාර්ටව් බේරා ගැනීම. අප යළිත් අල්පතරයට වැටීම, මධ්‍යම මණ්ඩලවල අල්පතරයේ අයිතිය සඳහා අප සටන් කිරීම. 4) අන්ත අවස්ථාවාදීන් පක්ෂ සමුළුවෙන් පිටවීයාම. අප බහුතරය බවට පත්වී ඡන්ද විමසීම් වලදී සහාගය (''ඉස්ක්‍රා'' අල්පතරය, ''මඩගොහොරුව'' සහ ඉස්ක්‍රාවිරෝධීන්) පරාජය කිරීම. මාර්තව් සහ පපෝව් අපගේ ත්‍රිත්වවල ආසන ප්‍රතික්ෂේප කිරීම. 5) 'තෝරාපත් කර ගැනීම' පිළිබඳව පශ්චාත් සමුළු දබරය. ඉතා අධික ලෙස අරාජිකවාදී හැසිරීම සහ අරාජිකවාදී වාක්‍ය ඛණ්ඩ දෙඩවීම. අල්පතරයේ'' ඉතා අඩු හික්මීමක් සහ ස්ථිරතාවයක් ඇති බලයට පත්වීම. 6) භේදයක් ඇතිවීම වළක්වනු පිණිස ප්ලෙහානව් ''Kill with Kindness'' ප්‍රතිපත්තියක් අනුගමනය කිරීම. අල්පතරය ප්‍රධාන පුවත්පත සහ මණ්ඩලය අල්ලා ගෙන සියලු බලමුළු යොදා මධ්‍යම කාරක සභාවට පහර දීම. කලහය හැම දෙයකටමත්, හැම තැනකටමත් ව්‍යාප්තවීම. 7) මධ්‍යම කාරක සභාවට එල්ල කළ පළමුවැනි ප්‍රහාරය බිඳදැමීම. කලහය තරමක් දුරට සන්සිඳුණු බවක් පෙනෙන්නට වීම. පක්ෂය තුළ ගැඹුරු ලෙස නොසන්සුන්තාවයක් ඇති කළ පිරිසුදු දෘෂ්ටිමය ප්‍රශ්න දෙකක් පිළිබඳව සාපේක්ෂ වශයෙන් සන්සුන්ව සාකච්ඡා කිරීමේ හැකියාවක් ඇති වීම. අ) පක්ෂයේ දෙවැනි සමුළුවේදී හටගත් සහ සියලු පැරණි බෙදීම් අභිබවා ගිය, පක්ෂය ''බහුතරය'' සහ ''අල්පතරය'' වශයෙන් දෙකට බෙදීමේ දේශපාලනමය වැදගත්කම කුමක්ද? ආ) සංවිධානය පිළිබඳ ප්‍රශ්නයේදී නව ඉස්ක්‍රාවේ නව ප්‍රතිෂ්ඨාවේ ප්‍රධාන වැගත්කම කුමක්ද?

මේ හැම අවධියකදීම අරගලයේ තත්ත්වය සහ ප්‍රහාරයේ හදිසි අරමුණ ප්‍රධාන වශයෙන් වෙනස් විය: හැම අවධියක්ම එකම පොදු යුද්ධ ව්‍යාපාරයකට අයත් වෙන්වූ සටනකට සමානය. හැම සටනකම මූර්ත තත්ත්වයන් අධ්‍යයන නොකර අපේ අරගලය අවබෝධ කරගත නොහැකිය. එහෙත් එය කළ විගස පරස්පර විරෝධිතාවන් අනුව වර්ධනය දයලෙක්තික ලෙස ඉදිරියට යන සැටි පෙනේ: එනම් අල්පතරය බහුතරය බවටත් බහුතරය අල්පතරය බවට පත්වූ සැටිත්, එක් පැත්තක් ආරක්ෂාවේ සිට ප්‍රහාරය දක්වාත්, ප්‍රහාරයේ සිට ආරක්ෂාව දක්වාත් වෙනස්වූ සැටිත් පෙනෙයි; දෘෂ්ටිවාදීය අරගලයේ ආරම්භය (1 කොටස) ප්‍රතිෂේධ විය, එය හැම තැනම ව්‍යාප්තවූ කලහයකට*ඉඩ දුන්නේය.එහෙත් එවිට ප්‍රතිෂේධයාගේ ප්‍රතිෂේධය පටන් ගැනිණි. අපේ මධ්‍යම මණ්ඩලවල අපේ විරුද්ධ කාරයින් සමග යම්තමින් වැඩකිරීමට පුළුවන් වුණා පමණකි. පිරිසුදු දෘෂ්ටිමය අරගලය අපට නැවත මුල සිටම පටන් ගැනීමට සිදුවිය. එහෙත් දැන් ''ප්‍රති-ප්‍රවාදයේ'' සියලු ප්‍රතිඵලවලින් ''ප්‍රවාදය'' පොහොසත් වී එය දැන් උසස් සංස්ලේෂයක් බවට පත්විය. මෙහි පළමුවැනි කොටස පිළිබඳ තනි වූ, අහම්බෙන් ඇති වූ වරද, සංවිධානය පිළිබඳ ප්‍රශ්නවලදී quasi-පද්ධතියක් දක්වා වැඩිණි. මෙම කරුණ සමග සම්බන්ධ වූ මෙම සත්‍යය සහ අප පක්ෂය විප්ලවවාදී අංශයකට සහ අවස්ථාවාදී අංශයකට මූලික වශයෙන් බෙදීම හැම කෙනෙකුටම වඩාත් පැහැදිලි ලෙස පෙනෙන්නට විය. එක වචනයකින් කියතොත්, හෙගල්ගේ ක්‍රම අනුව ඕට් වැවෙනවා පමණක් නොව, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් තමන් අතර යුද වදින්නේ ද හෙගල්ගේ ක්‍රමයටය.

එහෙත් මාක්ස්වාදය හේගල්වාදී දයලෙක්තිකයෙහි හරි පැත්ත උඩට සිටුවා තමන් සතු කරගත්තේය. මෙය පක්ෂයේ විප්ලවවාදී අංශයේ සිට අවස්ථාවාදී අංශයට පනින දේශපාලනඥයින්ගේ වක්‍ර ගමන් සාධාරණයැයි පෙන්වීමේ පහත් වංචාව සමගද, වෙන් වෙන්ව කරන ලද ප්‍රකාශනයන් එකට කැටි කිරීමේ සහ එකම ක්‍රියාදමයක විවිධ අවධිවලට අයත් වර්ධනයේ විශේෂ අවධි එකට කැටිකිරීමේ පහත් වංචාව සමගද පටලවා නොගත යුතුය. සැබෑ දයලෙක්තිකය පුද්ගලයින්ගේ වැරදි සාධාරණයැයි නොපෙන්වයි, එහෙත් එය නොවැළැක්විය හැකි වෙනස්වීම් අධ්‍යයනය කරයි. පූර්ණ සංයුක්තභාවයකින් යුතුව සංවර්ධන ක්‍රියාදමයේ සවිස්තර අධ්‍යයනයක් මගින් එහි නොවැළැක්විය හැකි භාවය ඔප්පු කරමින්, එහි නොවැළැක්විය හැකි වෙනස් වීම් අධ්‍යයනය කරයි. දයලෙක්තිකයේ එක් මූලික මූලධර්මයක් නම්, වියුක්ත සත්‍යයක් කියා දෙයක් නැති අතර සත්‍යය නිතරම සංයුක්ත වීමය... එපමණක් නොව, තවත් එක් කරුණකි mettere la coda dove non va il capo (හිස දැමීමට බැරි තැන වලිගය එබීම) මෙම ග්‍රාම්‍ය ව්‍යවහාරික බුද්ධිය ප්‍රකාශ කරන කදිම ඉතාලි වැකිය සමග ශ්‍රේෂ්ඨ හේගල්වාදී දයලෙක්තිකය පටලවා නොගත යුතුය.

අපේ පක්ෂ අරගලයේ දයලෙක්තික වර්ධනයෙහි ප්‍රතිඵලය වූයේ

---

* කලහ කිරීම් සහ ප්‍රතිපත්ති පිළිබඳ මතභේද අතර වෙනස අවධාරණය කර පෙන්වීමේ අමාරු ප්‍රශ්නය ඉබේටම විසඳිණි. තෝරාපත් කර ගැනීමට සම්බන්ධ හැම දෙයක්ම කලහ කිරීමකි. සමුළුවේ අරගල පිළිබඳ විශ්ලේෂණවලටද, පළමුවැනි කොටස පිළිබඳ මතභේදයටද සම්බන්ධ සියලු දේ සහ අවස්ථාවාදයට හා අරාජිකවාදයට නැඹුරු වීම ප්‍රතිපත්ති පිළිබඳ මතභේදයකි.

විප්ලව දෙකකි. මාර්තව් සහෝදරයා සිය 'යළිත් වරක් අල්පතරයේ' නැමැති සිය කෘතිය මගින් සාධාරණ ලෙස ප්‍රකාශ කළාක් මෙන්, පක්ෂ සමුළුව සැබෑ විප්ලවයක් විය. අල්පතරයේ උදවිය මෙලෙස උපහාස කතා කියන විටද ඔවුන් නිවැරදිය: ''ලෝකය චලනය වන්නේ විප්ලව තුළිනි. අපිද විප්ලවයක් කළෙමු!'' සමුළුවෙන් අනතුරුව ඔවුහු සැබවින්ම විප්ලවයක් කළහ. පොදුවේ කතාකරන විට, ලෝකය චලනය වන්නේ විප්ලවයන් තුළිනියි කීම සත්‍යයකි. එහෙත් සෑම මූර්ත විප්ලවයකම ඇති මූර්ත වැදගත්කම මෙම පොදු ආප්ත පදයෙන් විග්‍රහ නොකෙරේ. අමතක නොවන මාහව් සහෝදරයාගේ අමතක නොවන ප්‍රකාශනය සම්පිණ්ඩනය කරමු නම්, බොහෝ දුරට ප්‍රතිගාමීත්වයට සමාන වන විප්ලවයන්ද ඇත්තේය. විප්ලවය ඇත්ත වශයෙන්ම කළේ පක්ෂයේ විප්ලවවාදී අංශයද නැතිනම් අවස්ථාවාදී අංශයද යන්න අප දැනගත යුතුය. කිසියම් මූර්ත විප්ලවයක් ''ලෝකය'' (අප පක්ෂය) ඉදිරියට නැතිනම් පසුපස්සට ගෙනගියේද යන්න තීරණය කිරීමට පෙර විප්ලවයේ සටන් කාමීන්ට ආස්වාදයක් ලබා දුන්නේ විප්ලවීය මූලධර්මද නැතිනම් අවස්ථාවාදී මූලධර්මද යන්න අප දැනගත යුතුය.

මුළු රුසියානු විප්ලවීය ව්‍යාපාරයේ ඉතිහාසයේ අපේ පක්ෂ සමුළුව අද්විතීය සහ නොදුටු විරූ දෙයකි. පළමුවැනි වරට රහස් විප්ලවවාදී පක්ෂයක්, පක්ෂ අභ්‍යන්තර අරගලයේ මුළු මහත් ක්‍රියාදාමය සහ ප්‍රතිඵලය හැම කෙනෙකුටම පෙන්වමින්, වැඩපිළිවෙළ, උපක්‍රම සහ සංවිධානය පිළිබඳ කරුණු වලදී අඩුවැඩි වශයෙන් කැපී පෙනෙන සෑම කොටසක්ද, අප පක්ෂයේ මුළු මහත් ස්වරූපයමද පෙන්වමින් සැඟවී වැඩ කිරීමේ අන්ධකාරයේ සිට ප්‍රසිද්ධියේ දහවල් එළිමහනට පිවිසියේය. ඔවුන් ඔවුන් අතර ඉතා බිහිසුණු ලෙස පොරකා ගත්, දෘෂ්ටියක බලය නිසා පමණක් එකිනෙකට සම්බන්ධ වී සිටි ඉතා විවිධ කණ්ඩායම් බොහෝ ගණනක කවවාදී ලිහිල්භාවයේ සම්ප්‍රදායයන් සහ විප්ලවවාදී අවරසිකභාවය ඉවතලීමට පළමුවැනි වරට අපි සමත් වීමු. පළමුවැනි වරට සැබවින්ම අප පක්ෂයක් ගොඩනගන නිසා දැන් මේ කණ්ඩායම් (මූලධර්ම වශයෙන්) සිය කාණ්ඩ විශේෂතාවයන්, කාණ්ඩ ස්වාධීනත්වය මහා සමස්තය සඳහා පරිත්‍යාග කිරීමට සූදානම්ය. එහෙත් දේශපාලනයේදී පරිත්‍යාග තිළිණ වශයෙන් නොලැබේ, ඒවා සටන් කොට දිනා ගත යුතුය. වෙන්වූ සංවිධාන සමූලඝාතනය කිරීමේ සටන ඉතා බිහිසුණු බව ඔප්පු විය. නිදහස් සහ විවෘත අරගලයේ ප්‍රණීත සුළං පහර කුණාටුවකට පරිවර්තනය විය. කවවාදී අයිතිවාසිකම්, අනුරක්ත හැඟීම් සහ සම්ප්‍රදායයන්වල නටබුන් සියල්ල මේ කුණාටුවට හසුව ගසාගෙන ගියේය — එය ඉතා හොඳ වැඩක් කළේය. පළමුවැනි වරට සැබෑ පාක්ෂික ආයතනයක් නිර්මාණය කරන ලදී.



තමන් යම් නමකින් හඳුන්වා ගැනීම එක් දෙයකි; එසේ හඳුන්වන දෙය බවට සැබවින්ම පත්වීම වෙනත් දෙයකි. පක්ෂයේ නාමයෙන් කවවාදී පද්ධතිය ප්‍රතිපත්තියක් වශයෙන් පරිත්‍යාග කිරීම එක් දෙයකි; තමන්ගේ කවය ප්‍රතික්ෂේප කිරීම වෙනත් දෙයකි. ඇටුවන් බැහැපු අවරසිකවාදයට පුරුදු වී ඇති මිනිසුන්ට මේ ප්‍රණීත සුළං පහර වුවමනාවට වඩා ප්‍රණීත විය. ''පළමුවැනි සමුළුවේ නොසන්සුන්තාවයට මුහුණ දීමට පක්ෂයට නොපුළුවන් වීයැ'' යි සිය ''යළිත් වරක් අල්පතරයේ'' නැමැති සිය කෘතිය මගින් නිවැරදි ලෙස මාර්තව් සහෝදරයා (අහම්බෙන් වුවද සාධාරණ ලෙස) පෙන්වා දෙයි. සංවිධාන සමූලඝාතනය කිරීම නිසා ඇතිවූ අමනාපය ඉමහත්ය. අපේ පක්ෂය නැමැති ජල ප්‍රවාහයේ පතුලේ තිබූ මඩ ගොහොරු බිහිසුණු කුණාටුව විසින් උඩට දමා ඇති අතර, මේ මඩ ගොහොරු පළි ගැනීමක යෙදිණි. පැරණි ඇටුවන් බැහැපු කවවාදී හැඟීම් තවමත් ලාබාල පාක්ෂික හැඟීම් මැඩ නැඟී සිටියේය. පක්ෂයේ අවස්ථාවාදී අංශය පරාජය ලැබ සිටියද විප්ලවවාදී අංශය යටකොට තාවකාලික වශයෙන් වාසි ලබාගත්තේය. අකීමව් අහම්බෙන් ලැබූ වාසිය නිසා එය ශක්තිමත් විය.

මෙහි ප්‍රතිවිපාකය නව ''ඉස්ක්‍රා'' පත්‍රය ය. මෙහි කර්තෘවරුන් පක්ෂ සමුළුවේදී කරන ලද වැරැද්ද වර්ධනය කොට ගැඹුරු කිරීමට මෙම පුවත්පතට බලකර ඇත. පැරණි ''ඉස්ක්‍රා'' විප්ලවවාදී අරගලවල සත්‍යය උගැන්වීය. නව ''ඉස්ක්‍රා'' ජීවිතයෙන් ලැබූ අත්දැකීම් වන යටත්වීම සහ හැම කෙනෙකු සමග සමාදානයෙන් වාසය කිරීම උගන්වයි. පැරණි ''ඉස්ක්‍රා'' සටන්කාමී සාධර්මතාව උගැන්වීය. නව ''ඉස්ක්‍රා'' විශේෂයෙන්ම සංවිධානය පිළිබඳ ප්‍රශ්නවලදී අවස්ථාවාදය අභිනවයෙන් පතුරුවා හරී. පැරණි ''ඉස්ක්‍රා'' රුසියානු හා බටහිර යුරෝපීය අවස්ථාවාදීන්ගේ වෛරයට පාත්‍රවීමේ ගෞරවය දිනාගත්තේය. නව ''ඉස්ක්‍රා'' ''පරිණත භාවයක්'' ලැබ සිටී. අන්ත අවස්ථාවාදීන්ගේ පැසසුම් නිසා මේ පුවත්පත ලජ්ජාවට පත්වීම ඉක්මනින්ම නවතිනු ඇත. පැරණි ''ඉස්ක්‍රා'' පත්‍රය නොසැළී සිය අරමුණ කරා ගමන් ගත් අතර එහි කියුම් සහ කෙරුම් අතර වෙනසක් නොතිබිණි. නව ''ඉස්ක්‍රා'' ප්‍රතිපත්තියේ ඇති නෛසර්ගික ව්‍යාජත්වය දේශපාලන කුහකත්වයට — කිසිවකුගේ අභිප්‍රායට හෝ අදහසට ස්වාධීනව — නොවැළැක්විය හැකි සේ මගපාදයි. පාක්ෂික හැඟීම් මැඩ කවවාදී හැඟීම් ජයලැබීම වසං කිරීම සඳහා නව ''ඉස්ක්‍රා'' ව්‍යාජ ලෙස කවවාදී හැඟීමට පහර දෙයි. බහුතරයට අල්පතරය යටත්වීමෙන් තොරව සංවිධානයවූ පක්ෂයක භේදවීම් වළක්වාලිය හැකිසේ නව ඉස්ක්‍රාව කුහක ලෙස භේදවීම් හෙළා දකී. විප්ලවවාදී පොදු ජන මතයට සවන් දිය යුතු යැයි එය කියතුදු, අකීමව්ලාගේ පැසසුම්

සහචා තබමින්, පක්ෂයේ විප්ලවවාදී අංශයේ* කමිටු පිළිබඳ පවු ඔපාදූප පතුරුවා හරී. කෙතරම් ලජ්ජාවක්ද! ඔවුන් අපේ පැරණි "ඉස්ක්‍රා" පත්‍රය කෙතරම් අවමානයකට පත්කර තිබේද!

පියවරක් ඉදිරියට දෙකක් පස්සට... පුද්ගලයින්ගේ ජීවිතවලදීද, ජාතීන්ගේ ඉතිහාසයේද, පක්ෂවල වර්ධනයේදීද මෙය සිදුවේ. විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ මූලධර්මවලත්, නිර්ධන පංතික සංවිධානයේ සහ පක්ෂ විනයේත් නොවැළැක්විය හැකි පූර්ණ ජයග්‍රහණය ගැන මොහොතකට හෝ සැක කිරීම ඉතා බරපතළ අපරාධයක් වන්නේය. අපි දැනටමත් බොහෝ දේ දිනාගෙන සිටිමු. පරාජය නිසා සිත අධෛර්‍ය නොකරගෙන අප දිගටම සටන් කළ යුතුය. කවවාදී හරඹවල අවරසික ක්‍රම හෙළාදකිමින්, සියලු රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් එකට වෙළන ඒකායන පාක්ෂික සම්බන්ධකම් ආරක්ෂා කිරීම සඳහා සහ පක්ෂයේ දෙවැනි සමුළුවේදී ඇතිවූ අරගලය පිළිබඳවත්, අපේ මතභේදවල සියලු හේතු හා අවධි පිළිබඳවත්, අපේ වැඩපිළිවෙළ සහ උපක්‍රම පිළිබඳ ක්ෂේත්‍රවලදී මෙන්ම සංවිධානය පිළිබඳ ක්ෂේත්‍රයේදීද බලාපොරොත්තු රහිතව ධනවාදී මනෝවිද්‍යාවට යටවන්නාවූ, විචාර බුද්ධියෙන් තොරව ධනපති ප්‍රජාතාන්ත්‍රික මත පිළිගන්නාවූ, නිර්ධනීන්ගේ පංති සටන්වල අවිය මොට්ට කරන්නාවූ අවස්ථාවාදයේ අන්ත විනාශකාරී භාවය පිළිබඳවත්, පක්ෂයේ සියලු සාමාජිකයින්ටත් විශේෂයෙන්ම කම්කරුවන්ටත් ස්ථිර ලෙස හා ක්‍රමානුකූලව කියාදීමට වැයම් කරමින් සහ පක්ෂ සාමාජිකයින්ගේ යුතුකම් පිළිබඳ විඥත අවබෝධයක් ලබාදීම සඳහා අප නොසැළී දිගටම සටන් කළ යුතුය.

බලය අල්ලා ගැනීම සඳහා කරන සටනේදී නිර්ධන පංතියට සංවිධානය හැර අන් කිසි අවියක් නොමැත. ධනවාදී ලෝකයේ අරාජිකවාදී තරඟයේ පාලනය නිසා අසමගි වී සිටින, ප්‍රාග්ධනය සඳහා බලාත්කාරයෙන් ශ්‍රමය වැය කිරීමට යට වී සිටින, අන්ත දුගීබවේත්, ම්ලේච්ඡත්වයේත්, දිරාපත්වීමේත් "පාතාලයට" නිරතුරුවම තල්ලු කරනු ලබන නිර්ධන පංතිය නොවැළැක්විය හැකිසේ අනභිභවනීය බලවේගයක් බවට පත්විය හැක්කේත්, එසේ වනුයේත්, මාක්ස්වාදී මූලධර්ම මත ගොඩනගන දෘෂ්ටිමය සමගි කිරීම මගින් පමණකි. දසලක්ෂ සංඛ්‍යාත වැඩ කරන්නන් කම්කරු පංතියේ යුද්ධ හමුදවට තරයේ සම්බන්ධ කරන්නේ මාක්ස්වාදයේ මූලධර්ම විසින් ශක්තිමත් කරන ලද සංවිධානයේ ද්‍රව්‍යමය සමගියයි. ජරාවට පත්වූ රුසියානු ඒකාධිපත්‍යයේ පාලනයට හෝ ජරාවට පත් වෙමින් තිබෙන ජාත්‍යන්තර ප්‍රාග්ධනයේ පාලනයට මෙම යුද්ධ හමුදවට විරුද්ධව නැඟී සිටිය නොහැකිය. සියලු වක්‍ර ගමන් සහ ආපස්සට තබන ලද පියවරයන් නොතකා, සමකාලීන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ජිරොන්ඩිස්ට්වරුන්ගේ අවස්ථාවාදී වාක්‍ය ඛණ්ඩ දෙඩවීම් නොතකා, ප්‍රතිගාමී කවවාදයේ ස්වයං තෘප්තික පුරසාරම් සහ බුද්ධිමත් අරාජිකවාදයේ බොරු අලංකාරය සහ කෑගැසීම නොතකා කම්කරු පංති හමුදව වඩාත් සමගි වී, වඩාත් ඒකරාශී වනු ඇත.

---

* මෙම විනෝද ක්‍රීඩාව සඳහා මේ ආකෘතික ක්‍රමය සොයාගෙන ඇත: අපේ විශේෂ වාර්තාකරු X බහුතරයේ Y කමිටුව අල්පතරයට අයත් Z සහෝදරයාට කුඩම්මාගේ සැලකිලි දක්වා ඇතැයි වාර්තාකරයි, ආදි වශයෙනි.

## අතිරේකය

## ගුසෙව් සහෝදරයා සහ දෙයිච් සහෝදරයා පිළිබඳ සිද්ධිය

මාර්තව් සහ ස්තරවේර් සහෝදරවරුන්ගේ ලියුමෙහි සටහන්, මේ පොතේ 10 වැනි කොටසෙහි උපුටා දක්වන ලද ඊනියා ''ව්‍යාජ'' (මාර්තව් සහෝදරයාගේ කියමනකි) ලැයිස්තුව සමග මේ සිද්ධිය ඉතා කිට්ටුවෙන් වෙළී ඇත. එහි හරය මෙසේය: ස්ටෙයින්, යෙගෝරව්, පපෝව්, ට්‍රොට්ස්කි සහ ෆේපාමින් සහෝදරවරුන්ගෙන් යුත් මෙම ලැයිස්තුව තමාට දෙයිච් සහෝදරයා විසින් දුන් බව, ගුසෙව් සහෝදරයා පව්ලොවිච් සහෝදරයාට දැනුම් දුන්නේය. (පව්ලොවිච් සහෝදරයාගේ ලියුම 12 පිටුව) මේ ප්‍රකාශනය ගුසෙව් විසින් ''හිතාමතා කරනලද අගතිසහිත බොරු ප්‍රකාශයක්'' බව දෙයිච් සහෝදරයා ප්‍රකාශ කළෙන්, ආරාවුල් විසඳාලීමේ සහෝදර ත්‍රිත්ව අධිකරණයක් මගින් ගුසෙව් සහෝදරයාගේ ''ප්‍රකාශනය'' ''සාවද්‍ය'' බව තීරණය විය (අධිකරණයේ තීරණය පිළිබඳ ප්‍රකාශනය. ''ඉස්ක්‍රා'' අංක 62 බලන්න). කර්තෘ මණ්ඩලය අධිකරණයේ තීරණය පළ කළ ඉක්බිතිව, මාර්තව් සහෝදරයා (මේ වර කර්තෘ මණ්ඩලය නොවේ) 'ආරාවුල් විසඳාලීම් සහෝදර ත්‍රිත්ව අධිකරණයේ තීරණය' යන මැයෙන් පත්‍රිකාවක් පළ කළේය. එමගින් අධිකරණයේ සම්පූර්ණ තීරණය පමණක් නොව, නඩු විභාගයේ සියලු තොරතුරු ද, තමාගේ අනු ලේඛයක්ද ඔහු එම පත්‍රිකාවට ඇතුළු කළේය. කට්ටිවාදී අරගලයේ නාමයෙන්, බොරු ලැයිස්තු සෑදීමේ අපකීර්තිමත් සත්‍යය ගැන මාර්තව් සහෝදරයා සිය අනුලේඛය මගින් පෙන්වා දුන්නේය. පක්ෂයේ දෙවැනි සමුළුවට නියෝජිතයින් ලෙස සහභාගි වූ ල්‍යාදව් සහ ගොරින් සහෝදරවරු මේ පත්‍රිකාවට පිළිතුරු වශයෙන් ''ත්‍රිත්ව අධිකරණයේ සතරවැනි මුහුණ'' නමින් පත්‍රිකාවක් ලියා පළ කළහ. මාර්තව් සහෝදරයා අධිකරණයේ තීරණයටත් වඩා ඔබ්බට යමින් ගුසෙව් සහෝදරයා මත දුෂ්ට චේතනා පැටවීමට වෑයම් කළ බව කියමින්



ඔවුහු මාර්තව් සහෝදරයාගේ ක්‍රියාවට දැඩි විරුද්ධත්වය ප්‍රකාශ කළහ. ගුසෙව් සහෝදරයාගේ ප්‍රකාශනය හිතාමතා කළ අගතිසහිත බොරු ප්‍රකාශයක් නොව එය සාවද්‍ය ප්‍රකාශනයක් පමණක් බවත් අධිකරණය තීරණය කළ බව ඔවුහු පෙන්වා දුන්හ. ගුසෙව් සහෝදරයාගේ ප්‍රකාශනය ස්වාභාවික අත් වැරැද්දක් වීමට ඉඩ ඇති බව පෙන්වා දෙන ගොරින් සහ ල්‍යාදව් සහෝදරවරු, ගුසෙව් සහෝදරයාගේ ප්‍රකාශනයට හිතුවක්කාරී ලෙස දුෂ්ට චේතනා පැටවීමෙන් මාර්තව් සහෝදරයාත් වැරදි කර තිබෙන (යළිත් වරක් මේ පත්‍රිකාව මගින්) බවත්, ඔහුගේ ක්‍රියා කලාපය ''නොවටනා'' බවත් ප්‍රකාශ කළහ. මෙතැන දුෂ්ට චේතනාවක් කොහෙත්ම නැති බව ඔවුහු කීහ. මේ ප්‍රශ්නය ගැන තිබෙන සියලු ''සාහිත්‍යය'' මෙපමණ යැයි කීවොත් එය වරදක් නොවන බව මගේ හැඟීමය. මෙය පැහැදිලි කිරීමට උදව්වීම මගේ යුතුකමක් සේ මම සළකමි.

මෙම ලැයිස්තුව (මධ්‍යම කාරක සභාවට අපේක්ෂකයින්ගේ) බිහිවූ කාලය සහ තත්ත්වයන් ගැන අන් හැමටම පළමුව පාඨකයා ඉතා පැහැදිලි අවබෝධයක් ලබා ගැනීම අවශ්‍යය. මා මේ කුඩා පොත මගින් මීට පෙර සටහන් කළ පරිදි, සාමූහිකව සමුළුවට ඉදිරිපත් කිරීම සඳහා මධ්‍යම කාරක සභාවට අපේක්ෂකයින්ගේ නාම ලැයිස්තුවක් ගැන ''ඉස්ක්‍රා'' සංවිධානය සාකච්ඡා කළේය. මේ සාකච්ඡාව එකඟත්වයෙන් තොරව අවසන් විය. ''ඉස්ක්‍රා'' සංවිධානයේ බහුතරය ත්‍රවීන්ස්කි, ග්ලේබව්, වසිල්යෙව්, පපෝව් සහ ට්‍රොට්ස්කිගේ නම් ඇතුළත් ලැයිස්තුවක් ඉදිරිපත් කළේය. මීට දැඩි ලෙසම අකමැතිවූ අල්පතරය ත්‍රවීන්ස්කි, ග්ලේබව්, ෆේපාමින්, පපෝව් සහ ට්‍රොට්ස්කිගේ නම් ඇතුළත් ලැයිස්තුවක් ඉදිරිපත් කළේය. මේ නාම් ලේඛන ඉදිරිපත් කොට චන්දය දීමෙන් ඉක්බිතිව, ඉස්ක්‍රා සංවිධානයේ මේ කොටස් දෙක එකට රැස් නොවූහ. මේ දෙකොටස සමුළුවේදී නිදහස් ලෙස උද්ඝෝෂණය කිරීමට ඉදිරිපත් වූහ. පක්ෂ සමුළුවේදී තම ප්‍රශ්නය විසඳාගැනීමටත්, තම තමන්ගේ නාම ලේඛණවලට පක්ෂව හැකි තරම් විශාල සංඛ්‍යාවක් නියෝජිතයින්ගේ චන්ද ලබා ගැනීමටත් දෙකොටසම ක්‍රියා කළෝය. සමුළුවේදී මේ නිදහස් උද්ඝෝෂණය ගැන මේ පොත් පිංච මගින් මවිසින් ඉතා සවිස්තර ලෙස විග්‍රහ කළ පරිදි, එනම් අප පරදවා ජය ගැනීමට නම්, (මාර්තව්ගේ නායකත්වයෙන් යුත්) ඉස්ක්‍රා අල්පතරය ''මධ්‍යස්ථ පිරිසේ'' (මඩගොහොරුවේ) සහ ඉස්ක්‍රා විරෝධීන්ගේ ආධාරය ලබාගත යුතුය. මෙය අත්‍යාවශ්‍ය විය, මන්දයත් නියෝජිතයින්ගෙන් ඉතා විශාල වැඩි සංඛ්‍යාව ඉස්ක්‍රාවේ වැඩපිළිවෙළ, උපක්‍රම සහ සංවිධාන සැලැස්මවලට, විරුද්ධව ඉස්ක්‍රා විරෝධීන් සහ ''මධ්‍යස්ථ පිරිස'' ගැසූ ප්‍රහාරවලින් ඒවා ආරක්ෂා කිරීමට නැඟී සිට, ඉතා ඉක්මනින් සහ ඉතා ස්ථිර ලෙස අපේ

පැත්ත ගත් බැවිනි. ඉස්ක්‍රාවිරෝධීන්ට සහ මධ්‍යස්ථානයට අයත් නොවන නියෝජිතයින් (නැතිනම් ඡන්ද) තිස්තුන දෙනාගෙන්, විසිහතර දෙනෙකු අපි ඉක්මනින්ම දිනා ගත්තෙමු. ඔවුන් සමග සෘජු ගිවිසුමක් ඇති කර ගනිමින් ''සුසංහිත බහුතරයක්'' පිහිටුවා ගතිමු. අනිත් අතින් මාර්තව් සහෝදරයාට ලැබුණේ ඡන්ද නවයක් පමණකි. ඔහුට ජය ලබා ගැනීමට නම් ඉස්ක්‍රා විරෝධීන්ගේ සහ ''මධ්‍යස්ථ පිරිසේ ඡන්ද සියල්ල ඔහු ලබාගත යුතු විය. ඔහු මේ කණ්ඩායම් සමග එකතු වී (ව්‍යවස්ථා මාලාවේ පළමුවැනි කොටසේදී මෙන්) සභාගයක් ගොඩ නැගිය යුතුය. එවිට ඔවුන්ගේ ආධාරය ලබාගත හැකි වනු ඇත. එහෙත් ඔහුට එම කණ්ඩායම් සමග සෘජු ගිවිසුමක් ඇතිකර ගත නොහැකිය. මන්දයත්, සමුළුව පැවති කාලය තුළදී අප මෙන්ම තියුණු ලෙස ඔහුද මේ කණ්ඩායම්වලට විරුද්ධව සටන් කළ බැවිනි. මාර්තව් සහෝදරයාගේ තත්ත්වයේ ශෝකාභාසය එසේ විය! විෂ පෙවූ භයානක ප්‍රශ්නයක් ඉදිරිපත් කරමින් මාර්තව් සහෝදරයා සිය, 'වැටලීමේ තත්ත්වයෙන්' මා විනාශ කර දැමීමට වෑයම් කරයි. ''පැහැදිලි පිළිතුරක් සපයන ලෙස අපි ලෙනින් සහෝදරයාගෙන් ගෞරවනීය ලෙස ඉල්ලා සිටිමු — සමුළුවේදී යූෂ්නි රබෝචි කණ්ඩායම පිටස්තර කොටසක් වූයේ කාටද?'' (23 පිටුව. සටහනකි). මම ගෞරවයෙන් සහ පැහැදිලි ලෙස පිළිතුරු සපයමි: මාර්තව් සහෝදරයාට එය පිටස්තර කොටසක් විය. මෙයින් ඔප්පුකළ සාක්ෂ්‍ය නම්, ඉස්ක්‍රාවාදීන් සමග මා ඉතා ඉක්මනින් සෘජු ගිවිසුමක් ඇති කර ගත් අතර මාර්තව් සහෝදරයාට යූෂ්නි රබෝචි කණ්ඩායම සමග හෝ මාහව් සහෝදරයා සමග නැතිනම්, බ්රුකර් සහෝදරයා සමග සෘජු ගිවිසුමක් ඇතිකර ගැනීමට නොහැකි වීමය.

සුප්‍රසිද්ධ ''ව්‍යාජ'' ලැයිස්තුව පිළිබඳ වූ මේ බොහෝ විවාද වූ ප්‍රශ්නයේ ''හරය''අවබෝධ කරගත හැක්කේ දේශපාලන තත්ත්වය පිළිබඳව පැහැදිලි වැටහීමක් ලබාගත් පසුවය. සැබෑ තත්ත්වය පිළිබඳව චිත්‍රයක් මවා ගන්න: ''ඉස්ක්‍රා'' සංවිධානයෙහි භේදයක් ඇතිවිය. අප අපගේ වෙන්, වෙන් නාම ලේඛන සඳහා සමුළුවේදී නිදහස් ලෙස ව්‍යාපාර ගෙනගියෙමු. මෙලෙස ආරක්ෂා කිරීමේදී, පෞද්ගලික සාකච්ඡා විශාල සංඛ්‍යාවක් ගෙනයාමේදී, මේ නාම ලේඛන සිය ගණනක් විවිධ ලෙස සංයෝජනය විය: පස්දෙනෙකු වෙනුවට තුන්දෙනෙකුගේ කමිටුවක් යෝජනා කරන ලදී. එක් අපේ අපේක්ෂකයකු වෙනුවට වෙනත් අපේක්ෂකයින් බොහෝ ගණනකගේ නම් යෝජනා කරන ලදී. බහුතරයේ ඇති වූ සාකච්ඡාවකදී රුසව්, ඕසිපොවිච්, පව්ලොවිච් සහ ද්යේදව් සහෝදරවරුන්ගේ නම් යෝජනා කළ සැටි මට හොඳ හැටි මතක ඇත. මේ නම් ගැන සාකච්ඡා කිරීමෙන් සහ තර්ක කිරීමෙන් අනතුරුව ඒවා ඉල්ලා අස්කර ගන්නා ලදී. මා නොදත් වෙනත් අපේක්ෂකයින්ගේ නම් යෝජනා කළාට කිසිදු සැකයක් නැත. මේ සාකච්ඡා වලදී සෑම නියෝජිතයෙක්ම ඔහුගේ මතය ප්‍රකාශ කළේය, වෙනස් කිරීම්ද, තර්කද ඉදිරිපත් කළේය. මෙය බහුතරයට පමණක් සීමාවූ දෙයක් නොවිය හැකියි. මෙවැනිම දේවල් අල්පතරයෙහිත් සිදුවූවාට සැක නැත. මන්දයත්, ඔවුන් මුලින් ඉදිරිපත් කළ පස්දෙනාගේ නාම ලේඛනය (පපෝව්, ට්‍රොට්ස්කි, ෆේපාමින්, ග්ලේබව් සහ ත්‍රවීන්ස්කි) වෙනුවට වෙනත් ලේඛනයක් ඉදිරිපත් කළ බැවිනි. මෙය මාර්තව් සහ ස්තරවේර් සහෝදරවරුන්ගේ ලියුමෙන් යෝජනා කළ තිදෙනාගේ (ග්ලේබව්, ට්‍රොට්ස්කි සහ පපෝව්) නාම ලේඛනයෙන් පෙනී යයි. ඔවුහු ග්ලේබව්ට වැඩි කැමැත්තක් නොදැක්වූ නිසා ෆේපාමින්ගේ නම ඉදිරිපත් කිරීමට සූදනම් වූහ (ලයාදව් සහ ගොරින් සහෝදරවරුන්ගේ පත්‍රිකාව බලන්න). මේ පොත් පිංචේ ම විසින් පක්ෂ සමුළුවට සහභාගිවූ නියෝජිතයින් කාණ්ඩවලට බෙදා වෙන් කිරීම post-factum* ලෙස කරන ලද විශ්ලේෂණයක පදනමක් නොවන බව මතක තබා ගත යුතුය. ඇත්ත වශයෙන්ම නියෝජිතයින් තෝරාපත් කර ගැනීමේ උද්ඝෝෂණයේදී මේ කණ්ඩායම් පැහැදිලි ලෙස වැඩීමට පටන් ගත්තා පමණකි, නියෝජිතයින් අතර විවිධ මත හුවමාරු වීම ස්වාධීන ලෙස කෙරිණි. අප වෙන් කරන ''ප්‍රාකාරයක්'' නොවීය, ඕනෑම නියෝජිතයකුට තවත් නියෝජිතයකු සමග පෞද්ගලිකව තම අදහස් ගැන කතා කළ හැකි විය. මෙවැනි තත්ත්වයන් යටතේ සහ නාම ලේඛන පිළිබඳ විවිධ සංයෝජන ඉදිරිපත් කිරීමේදී ''ඉස්ක්‍රා'' සංවිධානයේ අල්පතරයේ ලේඛනය (පපොව්, ට්‍රොට්ස්කි, ෆේපාමින්, ග්ලේබව් සහ ත්‍රවීන්ස්කි) සමගම එයට වඩා වැඩි වෙනස්කමක් නැති පපොව්, ට්‍රොට්ස්කි, ෆේපාමින්, ස්ටෙයින් සහ යෙගෝරව් ගේ නම් සහිත ලේඛනයක් ඇතිවීම මවිතට කරුණක් නොවේ. අපේක්ෂක ලේඛනයේ මෙවැනි සංයෝජනයක් ඇති වීම ස්වාභාවිකය, මන්දයත් අපේ අපේක්ෂකයන් වන ග්ලේබව් සහ ත්‍රවීන්ස්කි ''ඉස්ක්‍රා'' සංවිධානයේ අල්පතරයට රුචි නොවූ බැවිනි (තුන්දෙනාගේ ලේඛනයෙන් ත්‍රවීන්ස්කිගේ නම ඉවත් කොට ග්ලේබව් සම්මුතියක් ලෙස ප්‍රකාශ කරන ඔවුන්ගේ ලිපිය 10 කොටසින් බලාගත හැකිය). ග්ලේබව් සහ ත්‍රවීන්ස්කි වෙනුවට සංවිධාන කමිටුවේ සාමාජිකයින් වන ස්ටෙයින් හා යෙගෝරව් ඉදිරිපත් කිරීම ස්වාභාවිකය. පක්ෂ අල්පතරයේ නියෝජිතයින්ගෙන් එකකුවත් එවැනි ලේඛනයක් ගැන නොසිතුවේ නම් එය පුදුමයකි.

දැන් අපි පහත සටහන් ප්‍රශ්න දෙක පරීක්ෂණයට භාජනය කරමු:

---

* — පශ්චාත් සත්‍යයක්. — සංස්කාරක

1. යෙගෝරව්, ස්ටෙයින්, පපෝව්, ට්‍රොට්ස්කි සහ ෆේපාමින් ගේ නම් සහිත ලේඛනයේ කතෘවරයා කවුද? 2. මේ නාම ලේඛනය මාර්තව් සහෝදරයාගේ යැයි කී විට ඔහු දැඩිලෙස කෝපවුණේ මන්ද? මෙයට නියම පිළිතුරක් සැපයීම සඳහා පක්ෂ සමුළුවට සහභාගි වූ සෑම නියෝජිතයකුගෙන්ම ප්‍රශ්න කළ යුතුය.එහෙත් දැන් එය නොකළ හැකි දෙයකි. ''ඉස්ක්‍රා'' සංවිධානය භේද භින්න කළ නාම ලේඛන ගැන ඇසූ පක්ෂයේ අල්පතරයට අයත් නියෝජිතයින් කවුරුන් දැයි (ඉස්ක්‍රා සංවිධානයේ අල්පතරය සමග මෙය පටලවා නොගත යුතුය) විශේෂයෙන් සොයා බැලීම අවශ්‍ය වන්නේය. ''ඉස්ක්‍රා'' සංවිධානයේ බහුතරයේ සහ අල්පතර යේ නාම ලේඛන ගැන ඔවුන් සිතුවේ මොනවාද? ඉස්ක්‍රා සංවිධානයේ-අල්පතරයේ නාම ලේඛනය පිළිබඳව වෙනත් අය යෝජනා ඉදිරිපත් කිරීම් සහ මත ප්‍රකාශ කිරීම් ඔවුනට ඇසුණේ නැද්ද? අවාසනාවකට මෙන් ආරාවුල් විසඳීමේ ත්‍රිත්ව අධිකරණයේදී මෙවැනි ප්‍රශ්න මතුකර නැත. ඉස්ක්‍රා සංවිධානය භේදවූයේ නම් පහක් ඇති කිනම් ලේඛනයක් නිසාද යන්න ගැන පවා අධිකරණය (එහි තීරණවල වාර්තා අනුව විනිශ්චය කරන්නේ නම්) දැන සිටියේ නැත. නිදසුනක් වශයෙන් බෙලොව් සහෝදරයා (මම ඔහු මධ්‍යස්ථ කෙනෙකු හැටියට ගනිමි) ''තමා දෙයිච් සහෝදරයා සමග හොඳ සහෝදරාත්මක සම්බන්ධකම් ඇතිව සිටි බවත්, ඔහු තමා සමග සමුළුව ගැන සිය අදහස් කියා පෑ බවත්, දෙයිච් යම්කිසි නාම ලේඛනයකට පක්ෂපාතව කටයුතු කළේ නම් ඒ ගැන තමාට ස්ථිර වශයෙන්ම දන්වන බවත්'' කියා සිටියේය. දෙයිච් සහෝදරයා සමුළුවේදී බෙලොව් සහෝදරයාට ''ඉස්ක්‍රා'' සංවිධානයේ නාම ලේඛන ගැන තම හැඟීම් ප්‍රකාශ කළේද යන්න ගැනත්, ඔහු එසේ ප්‍රකාශ කළේ නම්, ඉස්ක්‍රා සංවිධානයේ අල්පතරයේ, පස්දෙනාගේ නාම ලේඛනය ගැන බෙලොව් සහෝදරයාගේ ප්‍රතික්‍රියාව කුමක් වීද? ඔහු එය වෙනස් කිරීමට යෝජනා ඉදිරිපත් කළේද, නැතිනම් වෙනත් අය එලෙස වෙනස් කිරීමේ යෝජනා කරන සැටි ඔහුට ඇසුනේද ආදිය ගැන විස්තර නොවිමසීම කනගාටුවට හේතුවකි. මෙය පැහැදිලි කර නැති නිසා බෙලොව් සහෝදරයාගේ සහ දෙයිච් සහෝදරයාගේ සාක්ෂ්‍යවල පරස්පර විරෝධී තාවයක් අපි දකිමු. මෙය දැනටමත් ගෝරින් සහ ලයාදව් සහෝදර වරුන් විසින් සටහන් කර ඇත. එම පරස්පර විරෝධය නම්, තමාගේ ප්‍රකාශනවලට පටහැනිව ඉස්ක්‍රා සංවිධානය යෝජනා කළ ''සමහර මධ්‍යම කාරක සභා අපේක්ෂකයින් තේරීම සඳහා ව්‍යාපාර ගෙනයාමය.'' පක්ෂ සමුළුව අවසන් වීමට දවස් දෙකකට පමණ පෙර තමා යෙගෝරව් සහ පපෝව් සහෝදරවරුන්වද, හාර්කොව් කමිටුවේ නියෝජිත සහෝදරවරුන්වද හමුවූ අවස්ථාවේදී සහ ඔවුන් සමග පෞද්ගලිකව කතා කළ අවස්ථාවේදී එවැනි නාම ලේඛනයක් සමුළුවේ තිබෙන බව දැනගත්තේ යැයි වැඩි දුරටත් බෙලොව් සහෝදරයා ප්‍රකාශ කරයි: ''තමාගේ නම මධ්‍යම කාරක සභා අපේක්ෂකයින්ගේ නාම ලේඛනයකට ඇතුලත් කර තිබීම ගැන මවිතය ප්‍රකාශ කළ යෙගෝරව් සහෝදරයා තම මතය එනම් යෙගෝරව්ගේ මතය අනුව බහුතරයට හා අල්පතරයට අයත් නියෝජිතවරුන් තමාට හිතවකමක් නොදක්වන බවද පැවසීය.'' ඔහු මෙම ප්‍රකාශනය පැහැදිලි ලෙසම එල්ල කරන්නේ ඉස්ක්‍රා සංවිධානයේ අල්පතරයට බව ඉතා වැදගත්ය, මන්දයත්, සංවිධායක කමිටුවේ සාමාජිකයකු සහ මධ්‍යස්ථානයේ ප්‍රධාන කතිකයකු වන, යෙගෝරව් සහෝදරයාගේ අපේක්ෂකත්වය පක්ෂ සමුළුවේ අල්පතරයේ නියෝජිතයින් විසින් සෑහෙන හැඟීමකින් යුතුව පිළිගන්නවාට කිසිදු සැකයක් නැති බැවිනි. ඉස්ක්‍රා සංවිධානයට අයත් නොවන පක්ෂයේ අල්පතරයේ සහෝදරවරුන්ගේ පක්ෂපාතිත්වය හෝ විපක්ෂපාතිත්වය ගැන බෙලොව් සහෝදරයාගෙන් අපට කිසිවක් දැනගත නොහැකිවීම අවාසනාවකි. එහෙත් එය ඉතා වැදගත් ප්‍රශ්නයකි. මන්දයත්, ඉස්ක්‍රා සංවිධානයේ අල්පතරයට එම නාම ලේඛනය අයත්යැයි කීම නිසා දෙයිච් සහෝදරයා කෝපයට පත් විය. එහෙත් එම සංවිධානයට අයත් නැති අල්පතරයෙන් එය පැන නැගීමට ඉඩ කඩ ඇත්තේය.

සත්තකින්ම අපේක්ෂකයින්ගේ නම් සහිත මෙම සංයෝජනය මුලින්ම යෝජනා කළේ කවුද, අප හැම කෙනෙක්ම එය පළමුවෙන් ඇසුවේ කාගෙන්ද යන්න ගැන දැන් හරි හැටි මතකයට නගා ගැනීම ඉතා අමාරු දෙයකි. නිදසුනක් වශයෙන් බහුතරයේ සහෝදරයින් අතුරෙන් මා මතක් කළ රුසව්, ද්යේදව් සහ අනිත් අයගේ නම් පළමුවෙන් ඉදිරිපත් කළේ කවුදැයි මතක් කිරීමට මම ඉදිරිපත් නොවෙමි. අති විශාල ගණනක් සාකච්ඡා, යෝජනා, කට කතා සහ අපේක්ෂකයින්ගේ නම් සහිත විවිධ සංයෝජනවලින් යුත් ''නාම ලේඛන'' ඉස්ක්‍රා සංවිධානයේ රැස්වීමේදී සෘජු ලෙස ඡන්දයට ඉදිරිපත් කරන ලද බවත්, නැතිනම් බහුතරයේ පෞද්ගලික රැස්වීමකදී එලෙස කළ බවත් පමණක් මගේ මතකයෙහි රැඳී ඇත. මේ ''නාම ලේඛන'' වලින් බොහෝ ගණනක් වාචික ලෙස විසුරුවා හරින ලදී. ('ඉස්ක්‍රා කතු වරයින්ට ලියුමක්' නැමැති මගේ ලිපියේ පහළ සිට 4 වැනි පෙළෙහි මා වාචික ලෙස රැස්වීමේදී යෝජනා කළ අපේක්ෂයින්ගේ නම් පහක් ඇත. එය 'නාම ලේඛනයක්' ලෙස මම හැඳින්වීමි). එහෙත් මෙම නම් කඩදසි කෑලි වල ලියා පක්ෂ සමුළුවේ සැසිවාරවලදී නියෝජිතයින් අතර අතින'ත යැවීමද, සැසිවාරයෙන් පසු සාමාන්‍ය ලෙසට ඒවා විනාශ කර දැමීමද සිදු විය.

මෙම සුප්‍රසිද්ධ නාම ලේඛනය පිළිබඳව අපට ස්ථිර තොරතුරු නැති

නිසා අපේක්ෂකයින්ගේ මෙම ලේඛනය ඉස්ක්‍රා සංවිධානයේ අල්පතරයේ දැනීමෙන් තොරව, පක්ෂයේ අල්පතරයට අයත් කිසියම් නියෝජිතයකු විසින් යෝජනා කළැයි සිතාගත හැකි බවත්, නැතිනම් මේ සංයෝජනය ඉස්ක්‍රා සංවිධානයේ අල්පතරයට කිසියම් නියෝජිතයකු විසින් පක්ෂ සමුළුවේදී ඉදිරිපත් කොට, පසුව ඒ ගැන අමතක කර දැමූ බවත් සිතාගත හැකිය. පහත සටහන් හේතූන් නිසා දෙවැනි නිගමනය වඩාත් නිවැරදි බව මගේ හැඟීමය: ඉස්ක්‍රා සංවිධානයේ අල්පතරය පක්ෂ සමුළුවේදී ස්ටෙයින් සහෝදරයාගේ අපේක්ෂකත්වයට නිසැක ලෙසම හිතවත් කමක් දැක්වීම (මේ පොත් පිංච බලන්න). යෙගෝරව් සහෝදරයාගේ අපේක්ෂකත්වය පිළිබඳව, අල්පතරය නිගමනයකට පැමිණියේ සමුළුවට ඉක්බිතිව බවට සැක නැත (මන්දයත්, ලීග් සමුළුවේදීත්, ''වැටලීමේ තත්ත්වය''මගිනුත් සංවිධායක කමිටුව මධ්‍යම කාරක සභාව ලෙස අනුමත නොකිරීම ගැන කනගාටුව පළ කළ බැවිනි. යෙගෝරව් සහෝදරයා සංවිධායක කමිටුවේ සාමාජිකයකු විය.) පක්ෂ සමුළුවේදී, පෞද්ගලික සාකච්ඡාවකදී අල්පතරයේ කිසියම් සාමාජිකයකු විසින් සංවිධායක කමිටුවේ සාමාජිකයින් මධ්‍යම කාරක සභාවේ සාමාජිකයින් බවට පරිවර්තනය කිරීමේ අදහස ඉදිරිපත් කරනු ලැබූ බව, සිතා ගැනීම ස්වා-භාවික නොවන්නේ ද?

එහෙත් ස්වාභාවික විස්තරයක් දීම වෙනුවට මාර්තව් සහෝදරයාත්, දෙයිච් සහෝදරයාත් මෙහි යම්කිසි නීච, කුමන්ත්‍රණයක්, වංචනික ක්‍රියාවක්, ''අපකීර්තියක් අත්කරදීම සඳහා සිතාමතා බොරු ප්‍රචාර පැතිරවීමක්'', ''කවවාදී අරගලවල අවශ්‍යතාවය ඉටු කර ගැනීමට වංචා කිරීමක්'' සහ එවැනි දේ දකිති. මෙවැනි දූෂිත උනන්දුවක් ඇති විය හැක්කේ සංක්‍රමණික ජීවිතයේ අයහපත් තත්ත්වයන් නිසාය, නැතිනම් ස්නායුවල අයහපත් තත්ත්වය නිසාය. සහෝදරයකුගේ ගෞරවයට හානි වන පරිදි නීචලෙස පහරදීමක් දක්වා මේ ප්‍රශ්නය දිග් නොගැස්සිණි නම්, මා මේ ගැන සැලකිල්ලක් පවා නොදැක්වීමට ඉඩ තිබිණි. කල්පනා කර බලන්න: අසත්‍ය කට කතාවකින් උපන්, අසත්‍ය ප්‍රකාශනයක නීච, දුෂ්ට චේතනාවක් දැකීමට දෙයිච් සහ මාර්තව් සහෝදරවරුන්ට හේතු මොනවාද? දූෂිත සිතුවිලි සහිත මේ චිත්‍රය ඔවුන් මවාපෑවේ අල්පතරයේ දේශපාලන වැරදි (1 වැනි කොටස පිළිබඳව සහ අවස්ථාවාදීන් සමග සහාගය) නොපෙන්වා, බහුතරය ඔවුන්ට ''අපකීර්තිය'' ලබාදීම සඳහා කළ ක්‍රියාවක් හැටියටය. ''වූවමනාවෙන්ම ව්‍යාජ'' සහ ''හොර'' නාම ලේඛන ඉදිරිපත් කොට ඒවා අල්පතරය මත පැටවීමක් හැටියටය. මේ ප්‍රශ්නය තම වැරදි වලට හේතුවක් ලෙස නොව, බහුතරයේ නීච, වංක සහ අපකීර්තිමත් වැඩක් ලෙස පෙන්වා දීමට අල්පතරය ඉදිරිපත් විය.



''අසත්‍ය ප්‍රකාශනයක්'' තුළ දුෂ්ට චේතනා සෙවීමට තැත් කිරීම කොතරම් අයුක්ති සහගතද?මේ අසත්‍ය ප්‍රකාශනය ඇවීමට තුඩු දුන් තත්ත්වයන් අප ඉහතදී විස්තර කළෙමු. ආරාවුල් විසඳාලීමේ සහෝදර අධිකරණය විසින් මෙය නින්ද කිරීම සඳහා හෝ, දුෂ්ට චේතනාවකින් හෝ, අපකීර්තියක් ලබාදීමට හෝ කළ දෙයක් නොවන බව පැහැදිලි ලෙස තීරණය කරන ලදී. පක්ෂ සමුළුවේදී, නියෝජිතයින් තෝරාපත් කිරීමට පෙර ඉස්ක්‍රා සංවිධානයේ අල්පතරය මේ ව්‍යාජ කටකතාව ගැන බහුතරය සමග සාකච්ඡා ඇරඹීමද, බහුතරයේ නියෝජිතයන් විසිහතර දෙනා ඉදිරිපිට මේ ප්‍රශ්නය පිළිබඳව මාර්තව් සහෝදරයාගේ අදහස් ඇතුළු ලියුමක් කියවීමෙන්ද මේ ගැන පැහැදිලි ලෙසම ඔප්පුකර ඇත! මෙවැනි නාම ලේඛනයක් පතුරුවා හැර තිබෙන බවට, ඉස්ක්‍රා සංවිධානයේ අල්පතර-යෙන්, එහි බහුතරය සහවා තැබීමට කිසි විටෙක කල්පනා කළේ නැත. ලෙන්ස්කි සහෝදරයා ඒ ගැන දෙයිච් සහෝදරයාට කියා ඇත. (අධිකරණයේ තීරණය බලන්න); ජ්ලෙහානව් සහෝදරයා සසූලිච් සහෝ-දරියට කීවේය (''ඇයට කතා කරන්ට බැහැ. ඇය මාව ගණන් ගන්නේ ත්‍රෙපව්* හැටියටය.'' ජ්ලෙහානව් පසුව මට පැවසීය. මේ විහිළුව කීපවරක්ම පුන පුනා කියන ලදී. අල්පතරයේ නොසන්සුන්තාවයේ අවප්‍රමාණ තත්වය ගැන මෙය තවත් නිදසුනකි); ඔහුගේ සහතිකය ගැන මම මාර්තව් සහෝදරයාට කියූවෙමි. මේ නාම ලේඛනය මාර්තව්ගේ නොවන බව ඔහු ප්‍රකාශ කිරීම මම පිළිගතිමි (ලීග් වාර්තා 64 පිටුව). ඒවිට මාර්තව් සහෝදරයා (මට මතක හැටියට ස්තරවේර් සහෝදරයා සමග) බියුරෝවේ අපට සටහනක් එවීය, එය දළ වශයෙන් මෙසේය: ''තමන්ට අපකීර්තියක් ගෙන දෙන ප්‍රචාරයන් පැතිරවීම නිසා ඒවා බොරු බව ඔප්පු කිරීම සඳහා ඉස්ක්‍රා කර්තෘ මණ්ඩලයේ බහුතරය, බහුතරයේ පෞද්ගලික රැස්වීමකට සහභාගිවීමට අවසරය ඉල්ලා සිටී.'' ඔවුන් එවූ කඩදසි කැබැල්ලේම ජ්ලෙහානව් සහ මම මෙසේ ලිවීමු: ''අපකීර්තියක් ගෙන දෙන ප්‍රචාර අපි නො ඇසීමු. කර්තෘ මණ්ඩලයේ රැස්වීමක් අවශ්‍ය නම්, එවැන්නක් වෙනම සංවිධානය කළ යුතුය. ලෙනින්, ජ්ලෙහානව්.'' එදින හවස පවත්වන ලද බහුතරයේ රැස්වීමේදී නියෝජිතයින් විසිහතර දෙනාට මේ සියලු දේ ගැන අප විස්තර වාර්තා කළෙමු. ඇතිවිය හැකි වැරදි හැඟීම් වළක්වාලීම සඳහා අපේ විසිහතර දෙනා සාමූහිකව නියෝ-ජිතයින් තෝරාපත් කිරීමටත්, මාර්තව් සහ ස්තරවේර් සමග සාකච්ඡා කිරීමට ඔවුන් යැවීමටත් අපි තීරණය කළෙමු. සරෝකින් සහෝදරයා සහ සබ්ලිනා සහෝදරිය තෝරා පත් කර ගන්නා ලදී. මාර්තව් සහ ස්ත-

---

* ත්‍රෙපව් — පිටර්ස්බර්ග් නගරයේ ආණ්ඩුකාරයා

රවේර්ගේ ප්‍රකාශනයෙන් පසුව විශේෂයෙන් එම නාම ලේඛන ඔවුන්ගේ වැඩ ලෙස කිසිවකු නොසලකන බව මේ නියෝජිතවරු ඔවුනට දන්වූහ. මේ නාම ලේඛනය ඉස්ක්‍රා සංවිධානයේ අල්පතරය අතරින් හෝ එම සංවිධානයට අයත් නැති සමුළුවේ අල්පතරයෙන් පැන නැංගද යන්න කිසිදු වැදගත් කමක් නොදරන බවද දන්වන ලදී. සමුළුවේදී මේ ගැන විභාගයක් පැවැත්වීම සහ මේ නාම ලේඛනය ගැන ප්‍රශ්න ඇසීම අපට කළ නොහැකි දෙයක් විය. එහෙත් මින් සතුටට පත් නොවූ මාර්තව් සහ ස්තරවේර් සහෝදරවරු එය ප්‍රතික්ෂේප කරන ලියුමක් අප වෙත එවූහ (10 කොටස බලන්න). මෙම ලියුම අපේ නියෝජිතවරු වන සරෝ-කින් සහ සබ්ලිනා විසි හතර දෙනාගේ රැස්වීමේදී කියැවූහ. මෙම නාම ලේඛනයේ සම්භවය (ඒ ගැන යමෙකු සැලකිලි දක්වති නම්) සොයාගැනීම අනුව නොව, කවවාදී අරගලයේ වුවමනාවන් සඳහා හොර ලියවිලි ඉදිරිපත් කිරීම නැතිනම් කිසිවකුට අපහාස කිරීමට හෝ ''අල්පතරයට හානි කිරීමේ'' අදහසින් හෝ මෙය කරන ලද්දක්ය යන හැඟීම දුරුකරලීම අනුව මෙම සිද්ධිය නිමාවට පත්කළ බව සිතාගත හැකිය. එහෙත් ලීග් සමුළුවේදී (63—64 පිටු) මාර්තව් සහෝදරයා දුෂ්ත අදහස් ඇතිව මේ කැත කතාව යළිත් වරක් ඉදිරිපත් කළේය. එපමණක් නොව ඔහු අසත්‍ය ප්‍රකාශයන් කීපයක්ම (මෙය ඔහුගේ නොසන්සුන් තත්ත්වය නිසා විය යුතුය) කළේය. මෙම නාම ලේඛනයට බුන්ඩ් සාමාජිකයකුගේ නමද අයත් බව ඔහු පැවසීය. මෙය අසත්‍යයකි. නිරවුල් අධිකරණය ඉදිරියේ සාක්ෂි දුන් ස්ටෙයින් සහ බෙලොව් සහෝදරවරුන් ඇතුළු සියලු සාක්ෂ්‍ය කරුවෝද එම නාම ලේඛනයේ යෙගෝරව් සහෝදරයාගේ නම තිබුණු බව පැවසූහ. සෘජු සම්මුතියක් අනුව මෙම නාම ලේඛනය සභාගයක් නියෝජනය කරන බව මාර්තව් සහෝදරයා පැවසීය. මා දනටමත් විස්තර කළ පරිදි මෙය අසත්‍යයකි. ඉස්ක්‍රාවේ අල්පතරය සමග සම්බන්ධ වෙනත් නාම ලේඛනයක් නැති බවත්, (සමුළුවේ බහුතරය විසින් මේ අල්පතරය පළවා හරිතියි සිතිය හැකි), ''හොර නාම ලේඛනයක් පවා නැති'' බවත් මාර්තව් සහෝදරයා පැවසීය. මෙයද අසත්‍යයකි, මන්දයත් මාර්තව් සහ සමාගමට අයත් නාම ලේඛන තුනකට නොඅඩු සංඛ්‍යාවක් ගැන මුළු මහත් බහුතරය දනගෙන සිටි බැවිනි. මේවා එකකටවත් බහුතරයේ අනුමැතිය නොලැබිණි (ල්‍යාදව්ගේ හා ගොරින්ගේ පත්‍රිකාව බලන්න).

පොදුවේ මාර්තව් සහෝදරයා මේ නාම ලේඛනය නිසා කෝපවූයේ මන්ද? මන්දයත් එය පක්ෂයේ දක්ෂිණාංශයට නැඹුරුවීමක් නියෝජනය කළ බැවිනි. එවකට මාර්තව් සහෝදරයා අවස්ථාවාදයේ ව්‍යාජ චෝ-දනාව ගැන කෑ ගැසීය,ඔහුගේ ''දේශපාලන තත්ත්වය වැරදි ලෙස හඳුන්වා



දීම'' ගැන ඉමහත් කෝපයට පත්විය; එහෙත් දන් මෙම නාම ලේඛනය මාර්තව් සහ දෙයිච් සහෝදරවරුන්ට අයිතිද නැද්ද යන ප්‍රශ්නය කිසිදු දේශපාලනමය වැදගත්කමක් නොදක්වන බවත්, නාම ලේඛනය මෙය හෝ වෙනත් එකක් හෝ වේවා, චෝදනාව බොරුවක් නොව ඇත්තක් බවත්, ඔහුගේ දේශපාලන තත්ත්වය පිළිබඳව කරන ලද අර්ථ කථනය සම්පූර්ණයෙන්ම නිවැරදි බවත් දන් හැම කෙනෙකුටම පෙනී යනු ඇත.

මෙම චිරප්‍රසිද්ධ ව්‍යාජ නාම ලේඛනයේ වේදනා සහගත සහ කෘත්‍රිම ප්‍රතිවිපාක මෙසේය:

1) කට්ටිවාදයේ අරගලවල නාමයෙන් හොර නාම ලේඛනයක් ඉදිරිපත් කිරීමේ අපකීර්තිමත් සිද්ධිය පිළිබඳව කෑගසමින්, ගූසෙව් සහෝ-දරයාගේ ගෞරවයට නින්ද කිරීමට මාර්තව් සහෝදරයා වෑයම් කිරීම නුසුදුසු ක්‍රියාවක් ලෙස ගෝරින් සහ ල්‍යාදව් සහෝදරවරුන් විසින් විස්තර කිරීම සමග එකඟ නොවී සිටිය නොහැකිය.

2) යහපත් තත්ත්වයක් ඇති කිරීමේ සහ සෑම අශෝභන අතිශයෝ-ක්තියක්ම බැරෑරුම් ලෙස සැලකීමේ අවශ්‍යතාවයට හසු විය නොදී පක්ෂ සාමාජිකයින් බේරාගැනීම සඳහා අප පක්ෂයේ තෙවැනි සමුළුවේදී ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ සංවිධානය පිළිබඳ ව්‍යවස්ථා මාලාවේ ඇති ව්‍යවස්ථාවට සමාන ව්‍යවස්ථාවක් පිළිගැනීම නුවණට හුරු වනු ඇත. එම ව්‍යවස්ථා මාලාවේ දෙවැනි කොටසින් මෙසේ කියැ-වෙයි: ''පක්ෂ වැඩ පිළිවෙලේ මූලධර්ම බරපතළ ලෙස උල්ලංඝනය කිරීම නිසා හෝ අපකීර්තිමත් හැසිරීමක් නිසා වරදකරු වන පුද්ගලයකුට පක්ෂයේ සාමාජිකයකු විය නොහැක. පක්ෂයේ කෘත්‍යාධිකාරී මණ්ඩලය විසින් පත්කරනු ලබන බේරුම් කිරීමේ අධිකරණයක් මගින් ඔහුගේ පක්ෂ සාමාජිකත්වය පිළිබඳ තීරණයක් ගත යුතුය. සාමාජිකත්වයෙන් නෙරපා දැමිය යුතුයැයි කියන පැමිණිලි පක්ෂය විනිශ්චය කාර වරුන්-ගෙන් හරි අඩක් පත් කළ යුතුය, ඉතිරි කොටස චෝදනා ලැබ සිටින විත්තිකරුවා විසින් පත් කළ යුතුය. පක්ෂයේ කෘත්‍යාධිකාරී මණ්ඩලය විනිශ්චය මණ්ඩලයේ සභාපති පත් කළ යුතුය. මෙවැනි අධිකරණයක තීරණයට විරුද්ධව අභියාචනයක් ඉදිරිපත් කළ යුත්තේ, පාලක මණ්ඩලයට හෝ පක්ෂ සමුළුවට හෝ පමණකි. නින්ද සහගත හැසිරීම පිළිබඳ චෝදනා ආවාට ගියාට ඉදිරිපත් කරන (නැතිනම් කටකතා පතුරුවන) පුද්ගලයින්ට විරුද්ධව මෙවැනි රීතියක් හොඳ අවියක් වන්නේය. මෙවැනි රීතියක් තිබෙනම්, එලෙස චෝදනා කරන පුද්ගලයාට, නියමිත පක්ෂ ආයතනයෙන් තීරණයක් ලබා ගැනීමට ඉදිරිපත් වන පැමිණිලි කරුවකු ලෙස පක්ෂය ඉදිරියේ පෙනී සිටීමට තරම් අධ්‍යාත්මික

නිර්භයත්වයක් නැතිනම් එවැනි සියලු චෝදනා අසභ්‍ය අපවාදයන් හැටියට සඳහටම හංවඩු ගසනු ඇත.

1904 පෙබරවාරි-මැයි මාසවලදී ලියන ලදී

වී. අයි. ලෙනින්ගේ සම්පූර්ණ කෘතීන්, 5 වැනි රුසියන් මුද්‍රණය, 8 වැනි වෙළුම, 185—414 පිටු

පොතක් වශයෙන් 1904 මැයි මාසයේදී ජිනීවා නුවරදී මුද්‍රණය කැරිණි

## සංස්කාරකගේ සටහන්

1 ''පියවරක් ඉදිරියට පියවර දෙකක් පස්සට'' (අප පක්ෂය තුළ අර්බුදය) නැමැති පොත වී. අයි. ලෙනින් ලියා නිම කළේ මාස කීපයකිනි. ඒ සඳහා ඔහු 1904 ජනවාරි මාසයේදී පළකරන ලද රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ (රු. ස. ප්‍ර. ක. ප.) දෙවැනි සමුළුවේ වාර්තා සහ යෝජනාද, හැම නියෝජිතයකුගේම කතාද, එම සමුළුවේ ඇතිවූ දේශපාලන කාණ්ඩ ගැසීම්ද, එමෙන්ම පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ සහ මධ්‍යම මණ්ඩලයේ වාර්තාද ඉතා හොඳින් අධ්‍යයනය කළේය.

සංවිධානාත්මක ප්‍රශ්න පිළිබඳව, මෙන්ෂෙවික්වාදයේ (අල්පතරයේ) අවස්ථාවාදයට ලෙනින් මෙම කෘතිය මගින් ඉතා ප්‍රබල පහරක් ගසයි. මේ පොත මගින් ලෙනින්, පක්ෂය පිළිබඳ මාක්ස්වාදී උගැන්වීම් තවදුරටත් වර්ධනය කරමින් නිර්ධන පංතික විප්ලවවාදී පක්ෂයක සංවිධානාත්මක මූලධර්ම සකස් කිරීම නිසා, මෙම කෘතියේ අති විශාල ඓතිහාසික වැදගත් කම රඳා පවතී. මාක්ස්වාදී ඉතිහාසයේ පළමුවැනිවරට සංවිධානාත්මක ප්‍රශ්න පිළිබඳව අවස්ථාවාදය සම්පූර්ණ ලෙස හෙළිදරව්වූ කරමින්, කම්කරු පංති ව්‍යාපාරයට සංවිධානයේ වැදගත්කම අඩුකොට සැලකීමේ විශේෂ අවදානම පෙනවා දුන්නේය.

මෙන්ෂෙවික්වාදීහු මෙම පොතට වියරු ලෙස පහර දුන්හ. ලෙනින්ගේ මෙම පොත ප්‍රතික්ෂේප කරන ලෙස පක්ෂයේ මධ්‍යම කාරක සභාවෙන් ප්ලෙහානව් ඉල්ලා සිටියේය. මධ්‍යම කාරක සභාවේ සිටි සමාදන කාමීහු මෙම මුද්‍රණය කිරීම සහ බෙද හැරීම පමා කිරීමට උත්සාහ ගත්හ.

අවස්ථාවාදීන්ගේ මේ ප්‍රයත්නයන් නොතකා, රුසියාවේ පුරෝගාමී කම්කරුවන් අතර ''පියවරක් ඉදිරියට පියවර දෙකක් පස්සට'' නැමැති මෙම කෘතිය පුළුල් ලෙස පතළ විය.

2 රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුව 1903 ජූලි 17 (30) සිට අගෝස්තු 10 (23) ද දක්වා පැවැත්විණි.සමුළුවේ ඉතා වැදගත් ප්‍රශ්න වූයේ පක්ෂයේ වැඩ පිළිවෙළ සහ ව්‍යවස්ථාව (රීතිමාලාව) සම්මත කිරීමත්, පක්ෂයේ මධ්‍යම සංවිධානවලට නියෝජිතයින් තෝරාපත් කිරීමත්ය. ලෙනින් සහ ඔහුගේ සගයෝ පක්ෂ සමුළුවේදී අවස්ථාවාදයට විරුද්ධව තීරණාත්මක සටනක් ගෙන ගියහ.

සමුළුව ඒකච්ඡන්දයෙන් (එක් නියෝජිතයෙක් මධ්‍යස්ථ විය) පක්ෂයේ වැඩ පිළිවෙළ සම්මත කළාය. ළඟදී ඇතිවිය හැකි ධනපති ප්‍රජාතාන්ත්‍රික විප්ලවයේදී නිර්ධන පංතියේ හදිසි කාර්ය භාරයන් (අවම වැඩ පිළිවෙළ) මෙන්ම, සමාජවාදී විප්ලවයේ ජයග්‍රහණය සහ නිර්ධන පංතික ආඥාදායකත්වය පිහිටුවීමේ කාර්ය භාරයන් ද (උපරිම වැඩ පිළිවෙළ), මෙම වැඩ පිළිවෙළ මගින් තහවුරු කරන ලදී.

පක්ෂයේ ව්‍යවස්ථාව (රීතිමාලාව) සාකච්ඡා කිරීමේදී පක්ෂය ගොඩ නැගීමේ සංවිධානාත්මක මූලධර්ම පිළිබඳ ප්‍රශ්නය වටා තියුණු වාග් සංග්‍රාමයක් ඇති විය.

ලෙනින් සහ ඔහුගේ සගයෝ කම්කරු පංතියේ සටන්කාමී විප්ලවවාදී පක්ෂයක් ගොඩ නැගීම සඳහා සටන් කළ අතර අස්ථිර හා වැනෙන සුලු පුද්ගලයින්ට පක්ෂය තුළට ඇතුළු වීමට අසීරුකම් ඇති කළ යුතු යැයි කල්පනා කළහ. මාර්තව් අස්ථිර කොටස්වලට පක්ෂයට ඇතුළු වීමට පහසුකම් සැලැස්වූ අතර ඔහුගේ අදහස්වලට ''ඉස්ක්‍රා'' විරෝධීන් පමණක් නොව, ''මඩගොහොරුව'' ද (''මධ්‍යස්ථානයද''), ''මෘදු ඉස්ක්‍රාවාදීහුද'' (අස්ථිර පුද්ගලයින්) එකඟ වූහ.මේ නිසා මාර්තව්ගේ යෝජනාව ඉතා සුළු ඡන්ද සංඛ්‍යාවකින් ජයගති. එහෙත් පක්ෂ සමුළුව ලෙනින් විසින් සකස් කරන ලද ව්‍යවස්ථාව (රීතිමාලාව) පිළිගත්තාය.

සමුළුවේදී ඉස්ක්‍රාවාදී ප්‍රවණතාවයේ අනුගාමිකයින් අතර භේදයක් ඇති විය. සැබෑ ඉස්ක්‍රාවාදීහු නම් ලෙනින්වාදියෝය. ''මෘදු'' ඉස්ක්‍රාවාදීහු මාර්තව්ට පක්ෂ වූහ. පක්ෂයේ මධ්‍යම සංවිධානවලට නියෝජිතයින් තෝරාපත් කිරීමේදී ලෙනින්ගේ අනුගාමිකයින්ට බහුතර ඡන්ද සංඛ්‍යාවක් ලැබුණු හෙයින් ඔවුන් බොල්ෂෙවිකයින් යන නමින් හැඳින්විණි. අල්පතර ඡන්ද සංඛ්‍යාවක් ලැබූ අවස්ථාවාදීන් මෙන්ෂෙවිකයින් නමින් හැඳින්විණි.

3 ''ඉස්ක්‍රා'' පුවත්පත — පළමුවැනි සමස්ත රුසියානු නීත්‍යානුකූල නොවන මාක්ස්වාදී පුවත්පතය. 1900 දෙසැම්බර් මාසයේදී ලෙනින් විසින් පිටරටකදී ආරම්භ කරන ලද මෙම පුවත්පත රහසේ රුසියාව තුළට ගෙනෙනු ලැබිය. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් දෘෂ්ටිමය වශයෙන් ඒකරාශී කිරීමේදීද, පළාත්බද සහ නගරබද විසිරී තිබුණු සංවිධාන විප්ලවීය මාක්ස්වාදී පක්ෂයකට එක්සත් කිරීම සඳහා පිළියෙළ කිරීමේදීද ඉස්ක්‍රාව මහඟු සේවයක් කළාය. 1903 රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවෙන් ඉක්බිතිව පක්ෂය බොල්ෂෙවික් සහ මෙන්ෂෙවික් වශයෙන් අංශ දෙකකට බෙදී ගියෙන්, ''ඉස්ක්‍රාව'' (අංක 52 කලාපයේ සිට) මෙන්ෂෙවිකයින් අතට පත්විය. එතැන් සිට එය නව ''ඉස්ක්‍රාව'' හැටියට හැඳින්විණි. ලෙනින්වාදී ''ඉස්ක්‍රාව'' පැරණි පුවත්පත ලෙස නම් කරන ලදී.

4 1902 සාකච්ඡාව — 1902 මාර්තු 23-28 (අප්රේල් 5-10) ද දක්වා බෙලස්තොක් නගරයේදී රු. ස. ප්‍ර. ක. පක්ෂයේ කමිටු සහ සංවිධානවල නියෝජිතයින්ගේ සාකච්ඡාවය. ආර්ථිකවාදීන් සහ ඔවුන්ට ආධාර දුන් බුන්ඩ්වාදීන් එම සාකච්ඡාව රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුව බවට පරිවර්තනය කිරීමට උත්සාහ දරුවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කොටස්වල සිය තත්ත්වය ශක්තිමත් කරගෙන එමගින් ''ඉස්ක්‍රාවේ'' වැඩී එන බලපෑම අඩපණ කර දැමීමටය. සාකච්ඡාවේ සාපේක්ෂ පටුභාවය (රුසියාවේ රු. ස. ප්‍ර. ක. පක්ෂයට අයත් ක්‍රියාකාරී සංවිධානවලින් හතරක් පමණක් සාකච්ඡාවට සහභාගි වූ) නිසා එම ප්‍රයත්නය ව්‍යර්ථ විය. එමෙන්ම සාකච්ඡාවේදී ගැඹුරු ප්‍රතිපත්තිමය මත භේදයන් පැන නැගීමද එයට බාධාවක් විය. මෙවැනි සාකච්ඡාවක් සමුළුවකට පරිවර්තනය කිරීමට දැඩි ලෙස විරුද්ධ වූ ''ඉස්ක්‍රාවේ'' නියෝජිතයා එවැනි සමුළුවක් පැවැත්වීමට බලයක් නැති බවත්, සූදානම් වීමක් නොමැති බවත් පෙන්වා දුන්නේය. පක්ෂයේ දෙවැනි සමුළුව සඳහා කටයුතු පිළියෙළ කිරීමේ සංවිධාන කමිටුවක් මෙම සාකච්ඡාව විසින් තෝරාපත් කරන ලදී. සාකච්ඡාවට පසුව, එයට සහභාගි වූ නියෝජිතයින්ගෙන් බහුතරයද, මධ්‍යම කාරක සභාවේ සාමාජිකයින් දෙදෙනෙකුද සාර් පොලීසිය විසින් සිරභාරයට ගන්නා ලදී. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවට පිළියෙළ වීම සඳහා නව සංවිධාන කමිටුවක් 1902 නොවැම්බර් මාසයේදී ප්ස්කොව්හි පවත්වන ලද සාකච්ඡාවේදී තෝරා ගන්නා ලදී. මෙයට රු. ස. ප්‍ර. ක. පක්ෂයේ පිටර්ස්බර්ග් කොමිටියේද, ''ඉස්ක්‍රාවේ'' රුසියානු සංවිධානයේ සහ ''යුෂ්නි රබෝචි'' (දක්ෂිණ කම්කරුවා) කණ්ඩායමේ නියෝජිතවරු සහභාගි වූහ.

5 බුන්ඩ් (''ලිතුවේනියාවේ, පෝලන්තයේ සහ රුසියාවේ සමස්ත යුදෙව් කම්කරු සංගමය'') 1897 දී විල්නියුස් නගරයේ පවත්වන ලද යුදෙව් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායම්වල පළමුවැනි සමුළුවේදී

පිහිටුවන ලදී. බුන්ඩ් සංවිධානය ප්‍රධාන වශයෙන් රුසියාවේ බටහිර පෙදෙස්වල අර්ධ නිර්ධන සහ හස්ත කර්මාන්තකාර යුදෙව්වන්ගේ කොටස් එක්සත් කළේය. 1898 දී පවත්වන ලද රු. ස. ප්‍ර. ක පක්ෂයේ පළමුවැනි සමුළුවේදී බුන්ඩ් ස්වෛරී සංවිධානයක් ලෙස පක්ෂයට බැඳුනේය. යුදෙව් නිර්ධන පංතියේ විශේෂ ප්‍රශ්නවලදී පමණක් බුන්ඩ් සංවිධානයට මෙම ස්වෛරීත්වය ලැබිණි.

රුසියාවේ කම්කරු පංති ව්‍යාපාරය තුළ ජාතිවාදී සහ විභේදකාරී හැඟීම්වල ධාරකයා වූයේ බුන්ඩ් සංවිධානයය.

රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී බුන්ඩ් සංවිධානය, යුදෙව් නිර්ධන පංතියේ එකම සංවිධානය ලෙස පිළිගන්නා ලෙස ඉල්ලා සිටි නමුදු එය ප්‍රතික්ෂේප වූයෙන්, බුන්ඩ් පක්ෂයෙන් ඉවත් විය. 1906 දී පක්ෂයේ හතරවැනි (සමගි) සමුළුවේදී බුන්ඩ් යළිත් වරක් රු. ස. ප්‍ර. ක. පක්ෂයට බැඳුන්නේය.

රු. ස. ප්‍ර. ක. පක්ෂය තුළ බුන්ඩ් සංවිධානය අවස්ථාවාදී අංශයට (ආර්ථිකවාදීන්ට, මෙන්ෂෙවික්වරුන්ට, ලික්විඩේටර්වරුන්ට) ආධාර දුන් අතර බොල්ෂෙවික්වාදීන්ට හා බොල්ෂෙවික්වාදයට විරුද්ධව සටන් කළේය.

6 ''රබෝචිය දියල'' — ආර්ථිකවාදීන්ගේ සඟරාවකි, ''විදේශගත රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමයේ'' සඟරාව වූ මෙය නියමිත කාලවලදී පළ නොවූවකි. 1899 අප්‍රියෙල් සිට 1902 පෙබරවාරි දක්වා මෙම සඟරාවේ කලාප 12 (පොත් නවයක්) පළ විය. මාක්ස්වාදය ''විවේචනය කිරීමේ නිදහස'' නැමැති බර්න්ෂ්ටයින් පාඨය මෙම සඟරාව ඉදිරිපත් කළේය. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ උපක්‍රමීය සහ සංවිධානය පිළිබඳ ප්‍රශ්නවලදී අවස්ථාවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. ගොවීන්ගේ විප්ලවවාදී හැකියාවන් ආදිය ප්‍රතික්ෂේප කළේය.

''රබෝචිය දියල'' සඟරාව කම්කරු පංතියේ දේශපාලන සටන් අරගල ආර්ථික අරගලවලට යට විය යුතු බව ප්‍රචාරය කළේය. ඉබේ හට ගන්නා කම්කරු ව්‍යාපාරය ඉතා වැදගත් කොට සැලකූ අතර පක්ෂයේ නායකත්වය සම්පූර්ණයෙන්ම ප්‍රතික්ෂේප කළේය. රු.ස.ප්‍ර.ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී ''රබෝචිය දියල'' වාදීහු උග්‍ර දක්ෂිණාංශික, අවස්ථාවාදී අංශය නියෝජනය කළහ.

7 ''යූෂ්නි රබෝචි'' කණ්ඩායම — 1900 සරත් සමයේදී දකුණු රුසියාවේ සංවිධානය කරන ලද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ කණ්ඩායමකි. මෙම කණ්ඩායම නීතිවිරෝධී ලෙස ''යූෂ්නි රබෝචි'' නමින් පුවත්පතක්ද පළ කළේය.



ආර්ථිකවාදීන්ට විරුද්ධව ''යූෂ්නි රබෝචි'' කණ්ඩායම සාර්ගේ ඒකාධිපති පාලනය පෙරළා දැමීමත්, නිර්ධන පංතියේ දේශපාලන සටනත් ප්‍රධානතම කාර්යභාරය බව ප්‍රකාශ කළේය. ඔවුහු ත්‍රස්ත-වාදයට විරුද්ධව සටන් කළ අතර බහුජන විප්ලවවාදී ව්‍යාපාරයක් බිහි කිරීමේ අවශ්‍යතාවය ගැන පෙන්වා දෙමින් දකුණුදිග රුසියාවේ විප්ලවවාදී කටයුතු විශාල වශයෙන් ගෙන ගියහ. එහෙත් ඒ අතරම මෙම කණ්ඩායම ලිබරල් ධනවාදීන්ගේ වැදගත්කම ගැන අධි-අගැයීමක් කළ අතර ගොවිජන ව්‍යාපාරය නොතැකීය. ''ඉස්ක්‍රාව'' වටා සියලු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් එක්සත් කිරීම මගින්, මධ්‍යගත මාක්ස්වාදී පක්ෂයක් ගොඩනැගීමේ සැලැස්ම වෙනුවට, එයට විරුද්ධව ප්‍රාදේශීය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධාන ඇති කිරීම මගින් රු. ස. ප්‍ර. ක. පක්ෂය සෑදිය යුතු යැයි ''යූෂ්නි රබෝචි'' කණ්ඩායම කියා සිටියේය. 1901 දී දකුණු දිග රුසියාවේ රු. ස. ප්‍ර. ක. පක්ෂයේ කමිටු සහ සංවිධානවල සමුළුවක් කැඳවීම එම සැලැස්ම ප්‍රායෝගික ලෙස ක්‍රියාවේ යෙදවීමට දැරූ වෑයමක් විය. මෙම සමුළුවේදී ''රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දකුණු දිග කමිටු සහ සංවිධානවල සංගමය'' පිහිටුවන ලදී. ''යූෂ්නි රබෝචි'' පුවත්පත මෙම සංගමයේ නිල පුවත්පත බවට පත්විය. එහෙත් මේ ප්‍රයත්නයේ ආයුෂ කෙටි විය. (''යූෂ්නි රබෝචි'' කණ්ඩායමේ මුළු සංවිධාන සැලැස්ම මෙනි) විශාල අසාර්ථකවීම්වලින් ඉක්බිතිව 1902 වසන්තයේදී ''සංගමය'' බිඳ වැටිණි. සිරභාරයට පත් නොවූ ''යූෂ්නි රබෝචි'' කණ්ඩායමේ සාමාජිකවරු, රුසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරය එක්සත් කිරීම සඳහා 1902 අගෝස්තු මාසයේදී ''ඉස්ක්‍රාවේ'' කර්තෘ මණ්ඩලය සමග සාකච්ඡා ඇරඹූහ. මෙම කණ්ඩායම ''ඉස්ක්‍රාව'' සමග සහයෝගිතාවය ප්‍රකාශ කිරීම, රුසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී බලවේගයන්ගේ තහවුරු වීම සඳහා විශාල වැදගත් කමක් දැරීය. 1902 නොවැම්බර් මාසයේදී ''යූෂ්නි රබෝචි'' කණ්ඩායම, ''ඉස්ක්‍රාවේ'' රුසියානු සංවිධානයද, රු. ස. ප්‍ර. ක. පක්ෂයේ පීටර්ස්බර්ග් කමිටුවද, ''රු. ස. ප්‍ර. ක. පක්ෂයේ උතුරු දිග සංගමය'' ද සමග එක් වී පක්ෂයේ දෙවැනි සමුළුව කැඳවීම සඳහා සංවිධාන කමිටුවක් ඇති කිරීමට කටයුතු කළේය. පසුව එහි ක්‍රියාකාරී විය. මෙම අවධියේදී ''යූෂ්නි රබෝචි'' කණ්ඩායමේ සාමාජිකයෝ ස්ථිර විප්ලවවාදී ප්‍රතිපත්තියක් අනුගමනය නොකළෝය.

රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී ''යූෂ්නි රබෝචි'' කණ්ඩා-යමද මෙතෙක් ස්වාධීනව පැවැති සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායම් සහ සංවිධාන මෙන්ම විසුරුවා හැරීමට තීරණය විය.

8 ''රුසියානු විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ විදේශගත ලීගය'' ලෙනින්ගේ මූලිකත්වයෙන් 1901 ඔක්තෝබර් මාසයේදී පිහිටුවන ලදී. මෙම සංවිධානයේ කාර්යභාරය වූයේ විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී අදහස් ප්‍රචාරය කිරීමත්, සටන්කාමී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානයක් ගොඩ නැගීමට ආධාර කිරීමත්ය. ලීගය (එහි ව්‍යවස්ථාව අනුව) ''ඉස්ක්‍රාවේ'' විදේශගත සංවිධානය විය. විදේශගත රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ''ඉස්ක්‍රා'' අදහස්වලට දිනා ගැනීමත්, පුවත්පතට මුදල් ආධාර ලබා ගැනීමත්, එය රුසියාව තුළට රහසේ ගෙන ඒමත්, මාක්ස්වාදී සාහිත්‍ය ප්‍රචාරය කිරීමත් ලීගයේ කාර්යයන් විය. රු. ස. ප්‍ර.ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී විදේශගත එකම පක්ෂ සංවිධානය හැටියට ලීගය පිළිගන්නා ලදී. එයට පක්ෂ කමිටුවක බලතල තිබිණි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ නායකත්වය සහ පාලනය යටතේ කටයුතු කිරීමේ ලීගය යුතුකම විය.

රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවෙන් ඉක්බිතිව, විදේශගත ලීගයේ මෙන්ෂෙවික්වරු ශක්තිමත් වී ලෙනින්ට සහ බොල්ෂෙවික්-වරුන්ට විරුද්ධව සටන් කළහ. 1903 ඔක්තෝබර් මාසයේදී ලීගයේ දෙවැනි සමුළුවේදී, රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී පිළිගත් පක්ෂයේ ව්‍යවස්ථාවට පටහැනි ලීග් ව්‍යවස්ථාවක් මෙන්ෂෙවිකයෝ සම්මත කරවා ගත්හ. එතැන් සිට ලීගය මෙන්-ෂෙවික්වාදයේ තිප්පොලක් විය. ලීගය 1905 වනතුරු ක්‍රියාකාරී විය.

9 ''බර්බා'' කණ්ඩායම 1900 පැරිසියේදී සංවිධානය කරන ලද්දකි. මෙයට ඩී. බී. රියසානව්, යූ. එම්. ස්ටෙක්ලෝව්, ඒ. එල්. ගුරේවිච් සහභාගි වූහ. ''බර්බා'' කණ්ඩායම මාක්ස්වාදයේ විප්ලවවාදී න්‍යායය විකෘති කළේය, ආධානග්‍රාහී ලෙසත් පණ්ඩිතවාදී ලෙසත් එය විග්‍රහ කළේය. පක්ෂය ගොඩ නැගීමේ ලෙනින්වාදී සංවිධාන මූලධර්මවලට සතුරු විය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මතවලින් හා උපක්‍රමවලින් ඈත්වීමත්, අසංවිධානාත්මක ක්‍රියාත්, රුසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධාන සමග සම්බන්ධකම් නොමැති වීමත් නිසා''බර්බා''කණ්ඩායම දෙවැනි සමුළුවට ඇතුළු නොකර ගන්නා ලදී. පක්ෂයේ දෙවැනි සමුළුවේ තීරණය අනුව ''බර්බා'' කණ්ඩායම විසුරුවා හරිනු ලැබීය.

10 ''රබෝචයා මිස්ල්'' (කම්කරු චින්තනය) ආර්ථිකවාදීන් කණ්ඩායමක් විසින් මුද්‍රණය කරන ලද පුවත්පත් මෙනමින් හැඳින්විණි. 1897 ඔක්තෝබර් මාසයේ සිට 1902 දෙසැම්බර් දක්වා මෙම පුවත්පතේ කලාප 16 ක් පිට විය.



''රබෝචයා මිස්ල්'' කණ්ඩායම විවෘත අවස්ථාවාදී මත ප්‍රකාශ කළේය. ඔවුහු කම්කරු පංතියේ දේශපාලන සටන්වලට විරුද්ධ වූහ. කම්කරු පංතියේ ''තාවකාලික වුවමනාවන්ට'' සහ ප්‍රධාන වශයෙන් ආර්ථික ඉල්ලීම්වලට ඔවුහු සීමා වූහ. ඉබේ හටගන්නා කම්කරු ව්‍යා-පාරවලට වැදගත් තැනක් දුන් මෙම කණ්ඩායම කම්කරු පංතියේ ස්වාධීන දේශපාලන පක්ෂයක් සෑදීමට විරුද්ධ විය. විප්ලවවාදී න්‍යායය සහ පංති හැඟීම පහත් කොට සැලකූ මොවුහු ඉබේ හට ගන්නා ව්‍යාපාර තුළින් සමාජවාදී දෘෂ්ටියක් පැන නැගිය හැකි බව ප්‍රකාශ කළහ.

11 ''ඉස්ක්‍රාවේ''අල්පතරයේ කර්තෘ මණ්ඩලය හිටපු ආර්ථිකවාදියකු වන ඒ. මර්තීනව්ගේ ලිපියක් 1904 ජනවාරි 15 ද ''ඉස්ක්‍රා'' පුවත්පතේ අංක 57 කලාපයේ පළ කළේය. මර්තීනව් බොල්ෂෙක්වාදයේ සංවිධානය පිළිබඳ මූලධර්මවලට විරුද්ධව එම ලිපියෙන් පහර ගැසීය. එමෙන්ම ඔහු ලෙනින්ද විවේචනයට භාජන කළේය. මෙම ලිපියට කර්තෘ මණ්ඩලයේ සටහනක් ලියූ ''ඉස්ක්‍රාව'' කතුවරයාගේ සමහර අදහස් නොපිළිගන්නා බව කියා සිටියද, මර්තීනව්ගේ මූලික අදහස් සමග එකඟ විය.

12 ''අත් හළ ඉඩම්'' — 1861 ඉඩම් ප්‍රතිසංස්කරණයේදී ඉඩම්හිමියන්ගේ වාසිය සඳහා ගොවීන්ගෙන් උදුරාගත් ඉඩම් තීරුය. ගොවීන්ට අයත් ඉඩම්වලින් ඉතා සරු කොටස් මෙම උදුරා ගැනීමට අයත් විය.දෙණිබිම්, කැලෑ, ගොදුරු බිම්, ජලය සහිත බිම් ආදියෙන් තොරව ගොවීන්ට සිය කෘෂක කටයුතු නිදහස් ලෙස කළ නොහැකිය. මෙවැනි බිම් ඉතා විශාල කුලියකට ඉඩම්හිමියන්ගෙන් ලබා ගැනීමට ගොවීන්ට සිදුවිය.

13 පොදු යළිබෙදීම — සාර් රුසියාවේ ගොවීන් අතර ජනප්‍රිය සටන් පාඨයක් වූ මෙය අංග සම්පූර්ණ ඉඩම් ප්‍රතිසංස්කරණයක් සඳහා වූ හැඟීම් ප්‍රකාශ කළේය.

14 සමාජවාදී විප්ලවවාදියෝ (එස්ආර්වරු) — රුසියාවේ සුළු ධනවාදී පක්ෂයකි. 1901 අගදී සහ 1902 මුලදී විවිධ නරෝද්නික්වාදී කණ්ඩායම් සහ කවයන් එකතු වීමෙන් මෙම පක්ෂය බිහි විය. නරෝද්නික්වාදී අදහස් සහ ප්‍රතිසංස්කරණවාදය උද්ධාරක ලෙස මිශ්‍ර කරගත් චින්තනයක් ඉදිරිපත් කළහ.

සමාජවාදීන් ලෙස පෙනී සිටීමට තැත් කළ එස්ආර්වරුන් බො-ල්ෂෙවික් පක්ෂය විසින් හෙළිදරවු කරන ලදී. ගොවි ජනතාව දිනා

ගැනීම සඳහා බොල්ෂෙවික් පක්ෂය එස්එර්වරුන්ට විරුද්ධව දැඩි සටන් ගෙන ගියේය. කම්කරු පංති ව්‍යාපාරයට එස්එර්වරුන්ගේ තනි ත්‍රස්තවාදී වැඩවල ඇති භයානක උවදුර හෙළි කළේය. එහෙත් ඒ අතරම නියමිත තත්ත්වයන් යටතේ සාර් ආණ්ඩුවට විරුද්ධව පොදු සටන් කිරීම සඳහා බොල්ෂෙවික් පක්ෂය එස්එර් පක්ෂය සමග තාවකාලික එකඟතාවය ඇති කර ගත්තේය. 1905-1907 ඇති වූ විප්ලවයේ පරාජයෙන් ඉක්බිතිව ඇති වූ ප්‍රතිගාමීත්වයේ අවධියේදී එස්එර් පක්ෂය පූර්ණ දෘෂ්ටිමය සහ සංවිධානාත්මක විනාශයකට මූණ පෑවේය. පළමුවැනි ලෝක මහා යුද්ධ කාලයේදී එස්එර් නායකයින්ගේ බහුතරය සමාජ-අන්ත ජාතිවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය.

1917 පෙබරවාරි මාසයේදී ධනපති ප්‍රජාතාන්ත්‍රික විප්ලවය ජයගත් ඉක්බිතිව එස්එර්වරු, මෙන්ෂෙවික්වරුන් සහ කැඩෙට්වරුන් සමග එකතුව ප්‍රතිවිප්ලවවාදී ධනපති ඉඩම්හිමි තාවකාලික ආණ්ඩුවේ ප්‍රධාන ආරක්ෂකයින් බවට පත් වූහ. එස්එර් පක්ෂයේ නායකයෝ (කේරෙන්ස්කි, අව්ක්සෙන්තියෙව්, චෙර්නෝව්) ආණ්ඩුවේ ඇමතිවරුන් බවට පත්වූහ. ඉඩම්හිමියන්ගේ ඉඩම් අයිතිය අහෝසි කරන ලෙස ගොවීන් ඉල්ලා සිටියද එය ප්‍රතික්ෂේප කළ එස්එර් පක්ෂය ඉඩම්හිමියන්ගේ ඉඩම් ආරක්ෂා කිරීමට ඉදිරිපත් විය. විශාල ඉඩම් බලාත්කාරයෙන් අල්ලා ගත් ගොවීන්ට දඬුවම් කිරීම සඳහා තාවකාලික ආණ්ඩුවේ එස්එර් පාක්ෂික ඇමතිවරු විශේෂ භට හමුද යැවූහ.

විදේශීය යුද්ධ ආක්‍රමණය සහ පූරවැසි යුද්ධය පැවති කාලයේදී එස්එර්වරු ප්‍රතිවිප්ලවවාදී කඩාකප්පල් කාරී වැඩ කළහ, ප්‍රතිවිප්ලවවාදීන්ට සහ ප්‍රතිගාමීන්ට විශාල ආධාර දුන්හ, ප්‍රතිවිප්ලවීය කුමන්ත්‍රණවල යෙදුණහ, සෝවියට් ආණ්ඩුවේ කොමියුනිස්ට් පක්ෂයේ නායකයින් මරා දැමීමට කුමන්ත්‍රණ කළහ. පූරවැසි යුද්ධය පරාජය වීමෙන් අනතුරුව එස්එර්වරු සෝවියට් රජයට විරුද්ධව රට තුළත්, ප්‍රතිගාමී සංක්‍රමණිකයින් අතරත් ක්‍රියා කළහ.

15 ජොරේස්වාදය — ප්‍රංශ සමාජවාදී පක්ෂයේ දක්ෂිණාංශික, ප්‍රතිසංස්කරණවාදී අංශය මෙහෙයැවූ ජේ. ජොරේස් නමින් හැඳින්වෙන දේශපාලන මත වාදයකි. විවේචනය කිරීමේ නිදහස නැමැති ඉල්ලීම යටතේ, මාක්ස්වාදයේ මූලික ප්‍රතිපත්ති සංශෝධනය කිරීමත්, ධනපතීන් සමග පංතිමය සහයෝගිතාවයක් ජොරේස්වරු දේශනා කළහ.

16 පොම්පදූර්වරු — ''පොම්පදූර්වරු සහ පොම්පදූර්වරියෝ'' නැමැති කෘතිය මගින් රුසියානු ලේඛක සල්ටිකෝව්-ෂෙඩ්රින් විසින් නිර්මාණය



කරන ලද ගොනු කරගත් උපහාසාත්මක චරිතයකි. මෙම චරිතය මගින් ලේඛකයා උසස් නිලධාරීන්, ඇමතිවරුන් හා ආණ්ඩුකාරයින් දැඩි උපහාසයට හසු කරයි.

17 ''සෙම්ලියා ඉ වොල්‍යා'' නැමැති මෙම සංවිධානය විප්ලවවාදී නරෝද්නික්වරුන්ගේ රහස් සංවිධානයක් විය. මෙය 1876 සරත් සමයේදී පීටර්ස්බර්ගයේදී පිහිටුවන ලද්දකි. ''ඉඩම් සහ නිදහස'' නැමැති මෙම සංවිධානය සිය අවසාන පරමාර්ථය ලෙස සමාජවාදය ප්‍රතික්ෂේප නොකරන අතර හදිසි අරමුණ ලෙස 'කාලෝචිත නරෝද්නික්වාදී' ඉල්ලීම් ඉදිරිපත් කළේය. එනම් මේවා ඉඩම් සහ නිදහස (සෙම්ලියා ඉ වොල්‍යා) ගැන ඉල්ලීම්ය.

රුසියාවේ ප්‍රධාන විප්ලවකාරී බලවේගය ගොවිජනතාව ලෙස කල්පනා කළ මෙම සංවිධානය සාර් පාලනයට විරුද්ධව ගොවිජන කැරළි ඇති කිරීමට උත්සාහ ගත්හ. රුසියාවේ තම්බෝව්, වොරෝනෙෂ් ආදි ගුබෙර්නියාවල ඔවුහු විප්ලවවාදී කටයුතු කළහ.

ගොවි ජනතාව අතර ගෙනගිය විප්ලවවාදී සටන් අසාර්ථක වීම සහ සාර් ආණ්ඩුවේ මර්දනය දැඩි වීමත් නිසා 1879 දී ''සෙම්ලියා ඉ වොල්‍යා'' සංවිධානයේ සාමාජිකයින් අතර ත්‍රස්තවාදී කණ්ඩායම් ඇතිවිය. ගොවීන් අතර විප්ලවවාදී ප්‍රචාරයන් ගෙනයාම ප්‍රතික්ෂේප කළ ත්‍රස්තවාදීහු සාර්වාදයට විරුද්ධව ගෙනයන ප්‍රධාන විප්ලවවාදී සටන් මධ්‍යය, එම රජයේ උසස් නිලධාරීන්ට විරුද්ධව ත්‍රස්තවාදී ප්‍රහාරයන් එල්ල කිරීම බැව් කියා සිටියහ. 1879 සරත් සමයේ වොරොනෙෂ් නගරයේදී පවත්වන ලද සෙම්ලියා ඉ වොල්‍යා සමුළුවේදී මෙම සංවිධානය දෙකට බෙදිණි. ''නරෝද්නය වොල්‍යා'' (ජන මතය) ත්‍රස්තවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළ අතර පැරණි ''සෙම්ලියා ඉ වොල්‍යා'' සංවිධානයේ ප්‍රතිපත්ති පිළිගත් අය 'චෝර්නි පිරිදෙල්' සංවිධානය පිහිටුවා ගත්හ. පසුකලෙක චෝර්නි පිරිදෙල් සංවිධානයේ සාමාජිකයින් වන ප්ලෙහානව්, ඇක්සල්රොඩ්, සසූලිච්, දෙයිච්, ඉග්නාතව් මාක්ස්වාදීන් වූ අතර 1883 දී විදේශගතව සිටි මොවුහු ''ඔස්වබෝෂ්දේනියෙ ත්‍රුද'' නැමැති පළමුවැනි රුසියානු මාක්ස්වාදී සංවිධානය පිහිටුවා ගත්හ.

18 ''නරෝද්නය වොල්‍යා'' (ජන මතය) — ''සෙම්ලියා ඉ වොල්‍යා'' සංවිධානය දෙකඩ වීමෙන් ඉක්බිතිව 1879 අගෝස්තු මාසයේදී නරෝද්නික්වාදී ත්‍රස්තවාදීන් විසින් සාදගත් සංවිධානය මෙනමින් හැඳින්විණි. නරෝද්නික්වාදී මනඃ කල්පිත සමාජවාදී මත දැරූ මේ ජන මතවාදීහු සාර්ගේ දුෂ්ට ස්වතන්ත්‍ර පාලනය පෙරළා දමා දේශපාලන නිදහස දිනා ගැනීම සඳහා සටන් මගට පිවිසුණහ.

ජනමතවාදීහු සාර්ගේ ස්වතන්ත්‍ර පාලනයට විරුද්ධව වීරෝදර ලෙස සටන් කළහ. එහෙත් 'ක්‍රියාශීලී' වීරයින් සහ 'නිශ්ක්‍රිය' ජනතාව නැමැති සාවද්‍ය න්‍යායය මත විශ්වාසය තැබූ ඔවුහු ජනතාවගේ සහභාගිත්වය නැතිව, තම ශක්තිය පමණක් යොදවා පෞද්ගලික ත්‍රස්තවාදය මගින් සාර් ආණ්ඩුව බියගැන්වීමෙන් සහ අසංවිධානය කිරීමෙන් නව සමාජයක් ගොඩ නැගිය හැකි බැව් සිතූහ. 1881 මාර්තු 1 ද (දෙවැනි අලෙක්සාන්දර් සාර් රජු මරා දැමීමෙන් ඉක්බිතිව) සිද්ධියෙන් පසුව, ''නරෝද්නය වොල්යා'' සංවිධානය ආණ්ඩුව විසින් විනාශ කරන දැමිණි.

19 මනිලව් — රුසියානු ලේඛක එන්.වී. ගෝගොල්ගේ''මළගිය ඇත්තෝ'' නැමැති නව කතාවේ චරිතයකි. මනිලව් යනු චාටුකාර, පදනම් විරහිත බලාපොරොත්තු සහිත,ප්‍රතිපත්ති රහිත අවරසිකයෙකු හඳුන්වන නමකි.

20 1900 හැම්බර්ග් නගරයේදී ගල් වඩුවන් 122 ක්, 'ගල් වඩුවන්ගේ ස්වාධීන සංගමයක්' ආරම්භ කොට, මධ්‍යම සංවිධානයේ තහනම නොතකා වැඩ වර්ජනයක් ඇති වූ කාලයකදී කැලි ගණනට වැඩ කිරීම ගැනය. හැම්බර්ග් නගරයේ ගල් වඩුවන්ගේ වෘත්තීය සමිති මධ්‍යම සංවිධානය මේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ ස්ට්‍රයික් කැඩීමේ ක්‍රියා කලාපය පිළිබඳ ප්‍රශ්නය පක්ෂයේ ප්‍රාදේශීය සංවිධානයට ඉදිරිපත් කළේය. ප්‍රාදේශීය පක්ෂ සංවිධානය එම ප්‍රශ්නය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ මධ්‍යම කාරක සභාවට ඉදිරිපත් කළේය. මධ්‍යම කාරක සභාව පත් කළ නිරවුල් අධිකරණය එම ප්‍රශ්නය ගැන පරීක්ෂණ පවත්වා ගල් වඩුවන්ගේ ස්වාධීන සංගමයේ ක්‍රියා කලාපය හෙළා දුටු නමුදු ඔවුන් පක්ෂයෙන් නෙරපා දැමීමේ යෝජනාව ප්‍රතික්ෂේප කළේය.

21 එස්. ස්බරොව්ස්කි (කෝස්තිච්) පක්ෂ ව්‍යවස්ථාවේ පළමුවැනි කොටස පිළිබඳව ඉදිරිපත් කළ යෝජනාව ප්‍රතික්ෂේප විය. එම යෝජනාව මෙසේ විය: ''පක්ෂ වැඩ පිළිවෙළ පිළිගන්නාවූත්, පක්ෂයට ද්‍රව්‍යමය ආධාර දෙන්නාවූත්, පක්ෂයේ නායකත්වය යටතේ එක් පක්ෂ සංවිධානයක නිතිපතා කටයුතු කරන්නාවූත් කෙනෙකු පක්ෂයේ සාමාජිකයකු ලෙස ගිණිය හැකිය''.

22 රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවට සහභාගි වූ ''ඉස්ක්‍රා'' සංවිධානයේ සාමාජිකයින්ගේ සංඛ්‍යාව 16 කි. ලෙනින්ගේ නායකත්වයෙන් යුත් බහුතරයට අයත් සංඛ්‍යාව 9 කි.

23 ඉවාන් ඉවානවිච් සහ ඉවාන් නිකිෆරවිච් — ගෝගොල්ගේ නවකතාවක චරිත දෙකකි. ඉවාන් ඉවානවිච් ඉවාන් නිකිෆරවිච් සමග සණ්ඩු කර ගත් සැටි එය විස්තර කරයි.

24 අව්ගියස් රජුගේ අස්ස ඉස්තාලය — ග්‍රීක දේව කතා අනුව අව්ගියස් රජුගේ අස්ස ඉස්තාලය මහා අවුල් ජාලාවක්ව තිබිණි.හර්කියුලස් නැමැති ග්‍රීක යෝධයා එම ඉස්තාලය එක් දවසකදී පිරිසුදු කළේය.

25 ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායම — 1883 දී ගියෝර්ගි ප්ලෙහානව් විසින් පිහිටුවන ලද පළමුවැනි රුසියානු මාක්ස්වාදී කණ්ඩායමය. රුසියාවේ මාක්ස්වාදය ප්‍රචාරය කිරීම සඳහා මේ කණ්ඩායම විශාල සේවයක් කළ අතර මාක්ස්වාදය පතුරුවා හැරීමට සහ රුසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වර්ධනයට ප්‍රධාන දෘෂ්ටිමය බාධාවවූ නරෝද්නික්වාදයට දැරුණු පහරක් ගැසීය. ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායම ජාත්‍යන්තර කම්කරු පංති ව්‍යාපාරය සමග සම්බන්ධකම් ඇති කර ගත්තේය. 1889 දී පැරිසියේ පවත්වන ලද දෙවැනි ජාත්‍යන්තරයේ පළමුවැනි සමුළුවේ සිට එම කණ්ඩායමේ අවසානය දක්වාම සියලු ජාත්‍යන්තර සමුළුවලදී එය රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය නියෝජනය කළේය.

1903 දී රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායම විසුරුවා හරින ලද බැව් ප්‍රකාශ කරන ලදී.

26 1895 ඔක්තෝබර් 6 ද සිට 12 ද දක්වා බ්‍රෙස්ලාවු නගරයේ පවත්වන ලද ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සමුළුව ගැනය. 1894 දී පැවැත්වුණු ෆ්‍රැන්ක්පර්ට් සමුළුවේ තීරණය පරිදි පිහිටුවන ලද කෘෂක කොමිසම ඉදිරිපත් කළ කෘෂක වැඩ පිළිවෙළේ කෙටුම්පත සමුළුවේ ප්‍රධාන සැලකිල්ලට යොමු විය. මෙම කෘෂක කෙටුම්පත් වැඩ පිළිවෙළ බරපතළ වැරදිවලින් යුක්ත විය. ප්‍රධාන වශයෙන්ම නිර්ධන පංතික පක්ෂයක් පොදුජන පක්ෂයක් දක්වා පරිවර්තනය වීම එහි සඳහන්ව තිබිණ. මෙම කෙටුම්පතට අවස්ථාවාදීන්ගේ සහාය පමණක් නොව,එයි.බෙබෙල් හා වී. ලිබ්ක්නෙෂ්ට් ගේ ආධාරයද ලැබිණි.මේ වරද නිසා පක්ෂයේ සහෝදරවරු 1895 පැවති සමුළුවේදී මේ දෙදෙන විවේචනයට හසු කළහ. මේ කෘෂක කෙටුම්පත් වැඩ පිළිවෙළ පක්ෂය සමුළුවේදී කාල් කෞට්ස්කි සහ ක්ලාරා ට්සෙට්කින් දැඩි ලෙස විවේචනය කළහ. තවත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් කීප දෙනෙකුගේ විවේචනයටද එය භෝජනය විය. පක්ෂ සමුළුවේදී කෘෂක කොමිසම විසින් ඉදිරිපත් කරන ලද කෘෂක වැඩ පිළිවෙළ බහුතර ඡන්දයෙන් ප්‍රතික්ෂේප කරන ලදී.

27 ගොයෝතේගේ ''ෆවුස්ට්'' නැමැති කෘතියේ එන මර්ගරීටාට අයත් වචනය. (ෆවුස්ට් මෙෆිස්ටෝෆෙල් සමග මිතුරුකම් ඇති කර තිබෙන නිසා මර්ගරීටා ඔහුට දොස් පැවරුවාය). ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂ සමුළුවේදී ක්ලාරා ට්සෙට්කින් කළ කතාවකදී එම කොටස උපුටා දැක්වූවාය.

28 අරක්චේයව් එයි. එයි. (1769-1834)—දහඅටවැනි සිය වසරේ අවසානයේ සහ දහනවවැනි සිය වසරේ ආරම්භයේ සාර් රුසියාවේ සිටි දේශපාලඥයෙකි. ඉතා දරුණු පොලිස් මර්දන ක්‍රියා සහ මිලිටරි මර්දන ක්‍රියා අරක්චේයව්කරණය ලෙස හැඳින්විණි.

29 ''විදේශගත රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමය'' ගැනය.''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායමේ මූලික උනන්දුව යටතේ මෙම සංගමය 1894 දී පිහිටුවන ලදී.1898 මාර්තු මාසයේදී පැවැත්වුණු රු. ස. ප්‍ර. ක. පක්ෂයේ පළමුවැනි සමුළුවේදී මෙම සංගමය පක්ෂයේ විදේශගත නියෝජිතයා ලෙස ගැනිණි. පසුකලෙක මෙම සංගමයේ වැඩිබලය අවස්ථාවාදීන් අතට පත්විය. මොවුන් ''ආර්ථිකවාදීන්'' හෙවත් ''තරුණයින්'' හැටියට හැඳින්විණි.

රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී මෙම සංගමයේ නියෝජිතවරු අන්ත අවස්ථාවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළහ. සමුළුව විදේශගත රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ එකම සංවිධානය හැටියට, විදේශගත රුසියන් විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ ලීගය පිළිගත් පසුව, සංගමයේ නියෝජිතයෝ සමුළුවෙන් පිටවූහ. පක්ෂයේ දෙවැනි සමුළුවේ තීරණය අනුව රු. ස. ප්‍ර. සංගමය විසුරුවා හරින ලදී.

30 ''අස්වබඡ්දේනිය'' (''විමුක්තිය'') — ලිබරල්-රාජාණ්ඩුවාදී පංතියේ අර්ද්ධ මාසික සඟරාවය. 1902-1905 වසරවලදී පී. බී ස්ට්රුවේගේ නායකත්වයෙන් පිටරට මෙම සඟරාව පළවිය. රුසියාවේ ප්‍රධාන ධනපති පක්ෂය වන කැඩෙට් පක්ෂයේ න්‍යෂ්ටිය වූයේ මෙම සඟරාව වටා සිටි කොටස්ය.

31 රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවෙදී ආර්ථිකවාදී වී. පී. අකිමව් කළ කතාව ගැනය වී. අයි. ලෙනින් සඳහන් කරන්නේ. පක්ෂයේ වැඩ පිළිවෙළ පිළිබඳව ''ඉස්ක්‍රාවේ'' කෙටුම්පත විවේචනය කළ අකිමව්, වැඩ පිළිවෙළෙහි නිර්ධන පංතිය නැමති වචනය කර්තෘ ගෙන නැති බවත් එය අනියම් කර්මයක් ලෙස යොදා තිබෙන බවත් පැවසීය.



අකිමව්ගේ මතය අනුව මෙම ක්‍රියාව පක්ෂය නිර්ධන පංතියේ අවශ්‍යතාවයන්ගෙන් කොන් කිරීමට දැරූ ප්‍රයත්නයකි.

32 කන්ද සහ ජිරෝන්ඩ — දහඅටවැනි සියවසර අවසානයේදී සිදුවූ ප්‍රංශ ධනපති විප්ලවයේදී පැන නැඟුණු දේශපාලන ධනපති කණ්ඩායම් දෙකක් මෙනමින් හැඳින්විණි. කන්ද නමින් හඳුන්වනු ලැබුවේ ජැකොබින්වාදීන්ය. අත්තනෝමතිකවාදය සහ රදළ ක්‍රමය සම්පූර්ණයෙන්ම විනාශ කළ යුතු යැයි එවකට සමාජයේ විප්ලවවාදී පංතියේ ඉතා දැඩි නියෝජිතවරුන් වන ජැකොබින්වරු කියා සිටියහ. ජිරෝන්ඩිස්ට්වරු විප්ලවය සහ ප්‍රතිවිප්ලවය අතර වැනෙමින් සිට රාජාණ්ඩුව සමග සම්මුතියක් ඇති කර ගැනීමේ මගට පිවිසියහ.

සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අවස්ථාවාදී අංශය වී. අයි. ලෙනින් විසින් ''සමාජවාදී ජිරෝන්ඩා'' ලෙස හැඳින්විය, නිර්ධන පංතික ජැකොබින්වරු හෙවත් ''කන්ද'' ලෙස විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් හැඳින්විය.

33 වොරොනෙෂ් කමිටුව සහ පිටර්ස්බර්ග් ''කම්කරු සංවිධානය'' ආර්ථිකවාදීන් යටතේ පැවතිණි. ලෙනින්වාදී ''ඉස්ක්‍රා'' පත්‍රයටද මාක්ස්වාදී පක්ෂයක් ගොඩ නැගීමේ ''ඉස්ක්‍රා'' සංවිධාන සැලැස්මටද මේවා සතුරු ආකල්පයක් දැක්වූහ.

34 මධ්‍යම කාරක සභාවේ අළුත් සාමාජිකයා එෆ්. වී. ලෙන්ග්නික් ය. 1903 සැප්තැම්බර් මාසයේදී ඔහු රුසියාවේ සිට ජිනීවා නුවරට ළඟා විය.

35 ''සර්යා'' (''අරුණෝදය'') — මාක්ස්වාදී විද්‍යා-දේශපාලන සඟරාවකි. ''ඉස්ක්‍රා'' කර්තෘ මණ්ඩලය විසින් 1901-1902 වසරවලදී ෂ්ටුට්ගාර්ට්හි මුද්‍රණය කරන ලදී.

36 ජිනීවාහි තදසන්න පෙදෙස් වන Carouge සහ Cluse ගැන විය යුතුය. මෙහි බහුතරයේ සහ අල්පතරයේ අනුගාමිකයෝ වාසය කළහ.

37 සබකේවිච් — එන්. වී. ගොගොල්ගේ ''මළගිය ඇත්තෝ'' නැමැති කෘතියේ චරිතයකි.

38 බසාරව් — ඉ. එස්. තුර්ගේනෙව්ගේ ''පියවරු සහ ළමයි'' නැමති නවකතාවේ ප්‍රධාන චරිතය.

[39] 1903 නොවැම්බර් 25 දා අංක 53 ''ඉස්ක්‍රා'' පත්‍රය මගින් වී. අය. ලෙනින්ගේ '' ''ඉස්ක්‍රාවේ'' කර්තෘ මණ්ඩලයට ලියුමක්'' සහ ජී. වී. ප්ලෙහානව්ගේ පිළිතුරුද එකවර පළවිය. බොල්ෂෙවික්වරුන් සහ මෙන්ෂෙවික්වරුන් අතර ඇති මූලික මතභේද පුවත්පතේ පිටුවලින් සාකච්ඡා කිරීමට ලෙනින් යෝජනා කළේය. එම මතභේද ''කවවාදී ජීවිතයේ සණ්ඩු'' හැටියට නම් කරමින් ප්ලෙහානව් එම යෝජනාව ප්‍රතික්ෂේප කළේය.

[40] ''රෙවලුත්සියොන්නය රසියා'' (''විප්ලවවාදී රුසියාව'') — එස්ආර් නීතිවිරෝධී පුවත්පත. 1900 අග සිට රුසියාව තුළ ''සමාජ විප්ලවවාදීන්ගේ සංගමය'' විසින් එය මුද්‍රණය කැරිණි. 1902 ජනවාරි සිට 1905 දෙසැම්බර් දක්වා සමාජ-විප්ලවවාදී පක්ෂයේ නිල පුවත්පත් ලෙස පිටරට (ජිනීවාහි) ප්‍රසිද්ධ කරන ලදී.

[41] 1903 නොවැම්බර් 12 (25) ද මධ්‍යම කාරක සභාව මෙන්ෂෙවික්වරුන්ට අවසාන නිවේදනයක් නිකුත් කළේය. 1903 ඔක්තෝබර් 22 (නොවැම්බර් 4 ද) මධ්‍යම කාරක සභාවට ලියුමක් යැවූ වී. අයි. ලෙනින් මෙන්ෂෙවිකයින්ට ඉදිරිපත් කළ යුතු කොන්දේසි මෙලෙස යෝජනා කළේය: 1) මධ්‍යම පුවත්පතේ කර්තෘ මණ්ඩලයට හිටපු කර්තෘවරයින් තිදෙනෙකු තෝරා පත් කර ගැනීම; 2) විදේශගත ලීගය යථා තත්ත්වයට නංවාලීම; 3) පක්ෂයේ මණ්ඩලය තුළ මෙන්ෂෙවිකයින්ට එක් චන්දයක් ලබා දීම. මෙම යෝජනා මධ්‍යම කාරක සභාවේ සමාදානකාමී කොටස විසින් අනුමත නොකරන ලදී. මෙම කොන්දේසි තහවුරු කළ යුතු නමුදු අවසාන නිවේදනයේ මූලික කරුණු එනම් මධ්‍යම කාරක සභාව විසින් මෙන්ෂෙවිකයින්ට දෙන ව්‍යවහාරික වාසි පිළිබඳව දැනට ඔවුන්ට නොදන්වන ලෙසත් එම ලියුමෙන් ලෙනින් මධ්‍යම කාරක සභාවට දන්වා සිටියේය: 1) ''ඉස්ක්‍රාවේ'' කර්තෘ මණ්ඩලයට හිටපු කර්තෘවරුන් හතර දෙනෙකු තෝරා පත් කර ගැනීම; 2) මධ්‍යම කාරක සභාවේ කැමැත්ත අනුව විරුද්ධ පක්ෂයෙන් සාමාජිකයින් දෙදෙනෙකු මධ්‍යම කාරක සභාවට තෝරා පත් කර ගැනීම; 3) විදේශගත ලීගය යථා තත්ත්වයට නංවාලීම;4) පක්ෂයේ මණ්ඩලය තුළ මෙන්ෂෙවිකයින්ට එක් චන්දයක් ලබා දීම. ''අවසාන නිවේදනය පිළි නොගන්නේ නම් අවසානය දක්වා යුද්ධ කළ යුතු බව ලෙනින් දන්වා සිටියේය. අතිරේක කොන්දේසියක්: 5) පක්ෂයේ දෙවැනි සමුළුවේදීත් ඉන් ඉක්බිතිවත් ඇතිවූ හිංසනය ගැන නඩු ඇසීම, වහසිබස් දෙඩවීම් සහ කතා බහ නැවැත්වීම''. (වී. අයි. ලෙනින්. සම්පූර්ණ කෘතීන්, 5 වැනි මුද්‍රණය, 46 වෙළුම, 315 පිටුව). ලෙනින්ගේ මේ යෝජනා (අතිරේක කොන්දේසිය



හැරුණු විට) මධ්‍යම කාරක සභාවේ සමාදානකාමී සාමාජිකයින්ගේ මනෝභාවය නිසා තරමක් මෘදු කරන ලදී.

අවසාන නිවේදනයෙන් දවසකට පසුව, මධ්‍යම පුවත්පතේ කර්තෘ මණ්ඩලයට සියලු පැරණි කර්තෘවරුන් තෝරා පත් කර ගත් ජී. වී. ප්ලෙහානව් ඔවුන්ට විශාල ආධාරයක් දුන්නේය. මෙන්ෂෙවිකයෝ මධ්‍යම කාරක සභාවේ අවසාන නිවේදනය ප්‍රතික්ෂේප කොට, බොල්ෂෙවික් පක්ෂයට විරුද්ධව විවෘත සටනක් ආරම්භ කළහ.

[42] ''අමාත්‍යාංශවාදී'' උපක්‍රමය (නැතිනම් ''අමාත්‍යාංශවාදී සමාජවාදය'' එයම ''මිලෙරාන්වාදය'') — ධනපති ප්‍රතිගාමී ආණ්ඩුවලට සමාජවාදීන් සහභාගිවීමේ අවස්ථාවාදී උපක්‍රමය යි. 1899 දී වල්ඩෙක්-රුසෝගේ ධනපති ආණ්ඩුවට ප්‍රංශ සමාජවාදී මිලෙරාන් ඇතුළුවීම නිසා මෙම පදය භාවිතා කරන්නට විය.

[43] ''නීත්‍යානුකූල මාක්ස්වාදයේ'' සම්භාවනීය නියෝජිතයෙක් වන පී. බී. ස්ට්‍රුවේගේ මත ගැනය. ඔහු 1894 දී ''රුසියාවේ ආර්ථික සංවර්ධනය පිළිබඳව විවේචනාත්මක සටහන්'' නැමැති පොත ලියුවේය. ධනවාදය නිවැරදි බව පෙන්වන මත ස්ට්‍රුවේගේ එම සම්පිණ්ඩණයෙන්ම පෙන්වා දුන්නේය. ස්ට්‍රුවේට සහ අනිකුත් නීත්‍යානුකූල මාක්ස්වාදීන්ට විරුද්ධව 1894 සරත් කාලයේදී වී. අයි. ලෙනින් ''ධනවාදී සාහිත්‍යයේ මාක්ස්වාදය පිළිබිඹුවීම'' නමින් කෘතිය ලියුවේය. වී. අයි. ලෙනින් ලියූ ''නරෝද්නික්වාදයේ ආර්ථික හරය සහ එය පිළිබඳ ස්ට්‍රුවේ මහතාගේ විවේචනයක්'' නැමැති කෘතියටද සම්පිණ්ඩණය පදනමක් විය. 1894 අග සහ 1895 මුලදී මෙය ලියා ලදී.

[44] බ්ලන්කීවාදය — ප්‍රංශ මනෝරාජික කොමියුනිස්ට්වාදයේ සම්භාවනීය නියෝජිත විප්ලවවාදී ඔගියුස්ට් බ්ලන්කී (1805-1881) ප්‍රමුඛත්වයෙන් යුත් සමාජවාදයේ මෙම ප්‍රවණතාවය බ්ලන්කීවාදය නමින් හැඳින්වේ.

බ්ලන්කීවරු පංති සටන ප්‍රතික්ෂේප කළහ. විප්ලවවාදී දේශපාලන පක්ෂ වෙනුවට රහස් කුමන්ත්‍රණකාරීන්ගේ කුඩා කණ්ඩායම් ඇති කළහ. කැරැල්ලක් ජයගැනීමට අවශ්‍ය මූර්ත තත්ත්වයන් ගැන නොසැලකූ බ්ලන්කීවරු පොදු ජනතාව සමග සම්බන්ධකම් ඇති කිරීමද පහත් කොට තැකූහ.

[45] ''අප සූදානම්වන්නේ එහෙමද?'' යන මැයෙන් ''ඉස්ක්‍රා'' හි පළවුණු එල්. මාර්තව්ගේ ලිපිය ගැනය. ඔහු එම ලිපිය මගින් සමස්ත රුසියානු

අවිගත් කැරැල්ලකට විරුද්ධ විය. එවැනි කැරැල්ලක් මනෝරාජික මෙන්ම කුමන්ත්‍රණකාරී දෙයක් ලෙස ඔහු හැඳින්විය.

46 මෙහිදී වී. අයි. ලෙනින් ලේර්මන්තව්ගේ "පුවත්පත් කලා වේදියා, පාඨකයා සහ ලේඛකයා" නැමැති කවියෙන් උපුටා දක්වයි.

47 "ඉතා නවීන රුසියානු සමාජවාදියාගේ ගීතය" යන මැයෙන් "සර්යා" හි අංක 1 (1901, අප්‍රියෙල්) කලාපයේ පළ වූ උපහාසාත්මක ලිපියේ වචනවලිනි. එය නර්ට්සිස් ටුපරිලව් නමින් පළවිය. ඉබේ හට ගන්නා ව්‍යාපාරවලට හැඩ ගැසෙන ආර්ථිකවාදීන් මෙම ලිපියෙන් උපහාසයට හසු කරන ලදී. "ඉතා නවීන රුසියානු සමාජවාදියාගේ ගීතය" එල්. මාර්තව් විසින් ලියන ලද්දකි.

48 අබ්ලොමව් — ඉ. එයි. ගන්චරොව්ගේ නවකතාවේ ප්‍රධාන චරිතය. උදාසීනතාවය, එකතැන පල්වීම සහ අකර්මණ්‍යතාවය අබ්ලොමව්ගේ චරිතයෙන් හැඳින්වේ.

49 එල්. මාර්තව් විසින් "ඉස්ක්‍රාවේ" 1904 පෙබ්‍රවාරි 25 ද "මීළඟට කුමක්ද" යන හිසින් පළකළ ලිපිය ගැනය. පළාත්බද කමිටුවලට සාමාජිකයින් තෝරා පත් කිරීමේදී පළාත්බද පක්ෂ කමිටු රු. ස. ප්‍ර. ක. පක්ෂයේ මධ්‍යම කාරක සභාවෙන් "ස්වාධීනවීම" උදෙසා ඉදිරි පත් වූ මාර්තව් එම ලිපිය මගින් මොස්කව් කමිටුවට පහර ගැසීය. පක්ෂ ව්‍යවස්ථාවේ 9 වැනි ඡේදය අනුව සියලු විධානවලදී මොස්කව් පක්ෂ කමිටුව මධ්‍යම කාරක සභාවට යටත්වන බව ප්‍රකාශ කරන යෝජනාවක් මොස්කව් කමිටුව විසින් එම ප්‍රශ්නය සාකච්ඡා කිරීමේදී සම්මත කර ගන්නා ලදී.

50 ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ඩ්‍රෙස්ඩන් සමුළුව 1903 සැප්තැම්බර් මාසයේදී 13-20 දින පැවැත්විණි. පක්ෂයේ උපක්‍රම පිළිබඳ ප්‍රශ්නයද සහ සංශෝධනවාදයට විරුද්ධව සටන් කිරීම ගැන ප්‍රශ්නයද සමුළුවේ ප්‍රධාන අවධානය යොමුවිය. ඒ. බර්න්ෂ්ටයින්, පී. ග්‍රයෝරේ, ඒ. ඩවීඩ්, වී. හෙයිනෙ සහ තවත් ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් කීප දෙනෙකුගේ සංශෝධනවාදී මත සමුළුව විසින් දැඩි විවේචනයට හසු කරන ලදී. එසේවුවද සමුළුවේදී සංශෝධනවාදයට විරුද්ධ සටන සෑහෙන තරම් ස්ථිරතාවයක් නොගත්තේය. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයෙන් සංශෝධනවාදීන් නෙරපනු නොලැබීය. සමුළුවට පසුවද ඔවුහු සිය අවස්ථාවාදී මත දිගටම ප්‍රචාරය කළහ.

51 "Sozialistische Monatshefte" ("සමාජවාදී මාසික සඟරාව") — ජර්මන් අවස්ථාවදීන්ගේ ප්‍රධ්‍යාන ප්‍රචාරක මාධ්‍යයය. මෙය ජාත්‍යන්තර අවස්ථාවාදයේ එක් ප්‍රචාරක මාධ්‍යයකි. 1897 සිට 1933 දක්වා බර්ලින් නගරයේ මුද්‍රණය කරන ලදී.

52 "ප්‍රැන්ක්පර්ට් පත්‍රය" "Frankfurter Zeitung") — ජර්මනියේ විශාල ව්‍යාපාර කොටස් හිමියන්ගේ දින පතා පුවත්පතය. 1856 සිට 1943 දක්වා මයින් නදීබද ප්‍රැන්ක්පර්ට් නගරයේදී මුද්‍රණය කැරිණි. 1949 සිට "ප්‍රැන්ක්පර්ට් පොදු පත්‍රය" ("Frankfurter Allgemeine Zeitung") නමින් මුද්‍රණය කිරීම ආරම්භ විය. බටහිර ජර්මන් ඒකාධිකාරීන්ගේ මත ප්‍රකාශ කරයි.

53 එල්. මාර්තව් විසින් ලියන ලද "මී ළඟට කුමක්ද?" ("ඉස්ක්‍රා", අංක 58, 1904 ජනවාරි 25 ද) නැමැති ලිපියට අතිරේකයක් ලෙස ඔහුට ලියූ "රු. ස. ප්‍ර. ක. පක්ෂයේ සංක්ෂිප්ත ව්‍යවස්ථාව" නැමැති හාස්‍යජනක ලිපිය ගැනය. බොල්ෂෙවික්වාදයේ සංවිධානාත්මක මූලධර්ම විහිළුවට ලක් කරන මෙම ලිපිය මෙන්ෂෙවික්වරුන් කෙරෙහි දක්වන අසාධාරණ ආකල්පය ගැන දුක් ගැනවිලි ඉදිරිපත් කරයි. මාර්තව් එම "ව්‍යවස්ථාව" මගින් "බලපාන්නන්" සහ "බලපෑමට යටවූවන්" හෙවත් බොල්ෂෙවිකයින් සහ මෙන්ෂෙවිකයින් එලෙස හඳුන්වා දෙයි.

## නාමාවලිය

අකීමව් (මහ්නෝවෙට්ස්) ව්ලදීමිර් පෙත්‍රෝව්ච් (1872-1921) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. "ආර්ථිකවාදයේ" සම්භාවනීය නියෝජිතයෙකි. ඉතා අන්ත අවස්ථාවාදියෙකි. රු. ස. ප්‍ර. ක පක්ෂයේ (1903) දෙවැනි සමුළුවේදී ඉස්ක්‍රාවිරෝධියකු විය. සමුළුවට පසුව අන්ත දක්ෂිණාංශික මෙන්ෂෙවික්වාදයේ නියෝජිතයකු විය. ප්‍රතිගාමීත්වය රජකළ කාලයේදී (1907-1910) සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයෙන් ඈත්ය.

අක්සල්රොඩ් පාවෙල් බරිසවිච් (1850-1928) සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. පළමුවැනි රුසියානු මාක්ස්වාදී කණ්ඩායම වන "අස්වබෂ්දේනියෙත්රුද"1883("ශ්‍රම විමුක්තිය") පිහිටුවීමට සහභාගි වූවෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) ඉස්ක්‍රාවාදීන්ගේ අල්පතරයට අයත් විය. ප්‍රතිගාමීත්වය රජකළ කාලයේදී (1907-1910) ලික්විඩේටර්වාදයේ නායකයෙක් විය. පළමුවැනි ලෝක මහා යුද්ධ සමයේදී (1914-1918) මධ්‍යස්ථවාදියෙකි.

අබ්රම්සොන් (පර්ට්නොයි, කේ.) (1872-1941) — යුදෙව් ජාතිවාදී සංගමය වන බුන්ඩ්-යේ එක් නායකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) බුන්ඩ් මධ්‍යම කාරක සභාවේ සාමාජිකයකු ලෙස එයට සහභාගි විය. 1939 දක්වා මොහු පෝලන්තයේ බුන්ඩ් සංවිධානයේ මධ්‍යම කාරක සභාවේ සභාපති ධූරය දැරීය.

අලෙක්සාන්ද්‍රව් — සංවිධානය පිළිබඳ ප්‍රශ්න (කර්තෘ මණ්ඩලයට ලියුමක්) නැමැති ලිපියේ කතු වරයාය. 1904 ජනවාරි 1 ද අංක 56 ඉස්ක්‍රාවේ පළ කරන ලදී.



අලෙක්සේයව්, පියෝතර් අලෙක්සේයවිච් (1849-1891) — දහනවවැනි සියවසරේ හැත්තෑ ගනන් වලදී විසූ සුප්‍රසිද්ධ විප්ලවවාදියෙකි. වෘත්තීයෙන් රෙදි වියන කම්කරුවෙකි. කම්කරුවන් අතර ක්‍රියාශීලී ලෙස විප්ලවවාදී ප්‍රචාරයන් කෙළේය. අලෙක්සේයව් තමාට විරුද්ධව පවරා තිබූ විභාගයේදී (මාර්තු 1877) සාර්ගේ ස්වයිරීතන්ත්‍රික පාලනය නොවැළැක්විය හැකිසේ බිඳවැටෙන බවට අනාවැකි පළකරමින් සුප්‍රසිද්ධ කතාවක් කළේය.

ඉක්ස් (මාස්ලව්, ප්යෝතර් පාව්ලවිච්) (1867-1946) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, ආර්ථික විද්‍යාඥයෙකි. කෘෂක ප්‍රශ්නය පිළිබඳව මාක්ස්වාදය සංශෝධනය කිරීමට වැයම් කළේය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) ඔහු මෙන්ෂෙවිකයින්ට එකතු විය. පළමුවැනි ලෝක මහා යුද්ධ සමයේදී (1914-1918) සමාජ-ජාතිවාදියකු විය.

ඉග්රෙක් (ගල්පේරින්, ලෙව් යෝසිමවිච් (1872-1951) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. 1898 සිට විප්ලවවාදී ව්‍යාපාරයේ නිරත විය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි (1903) සමුළුවෙන් ඉක්බිතිව මධ්‍යම කාරක සභාවට එකතු කර ගන්නා ලදී. මෙන්ෂෙවිකයින් කෙරෙහි සමාදනකාමී ආකල්පයක් දක්විය. 1906 සිට ක්‍රියාශීලී දේශපාලනයෙන් ඈත්විය.

ඉබ්සන්, හෙන්රික් (1828-1906) — නොවීජියානු නාට්‍ය කර්තෘවරයෙකි.

ඉවනොව් (ලේවිනා, යෙව්දකීය සිමියෝනව්නා) (1874-1905) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) මධ්‍යස්ථ ප්‍රතිපත්තියක් අනුගමනය කළාය. සමුළුවෙන් අනතුරුව මෙන්ෂෙවිකයින්ට එකතු වුවද වැඩිකල් නොගොස් දේශපාලනයෙන් ඉවත්වූවාය.

එල්ම් (Elm), අඩෝල්ෆ් (1857-1916) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. සමූපකාර සහ වෘත්තීය සමිති ව්‍යාපාරයෙහි නිරත වූවෙකි. ප්‍රතිසංස්කරණවාදියෙකි. "Sozialistische Monatshefte" ("සමාජවාදී මාසිකය") නැමැති ප්‍රතිසංස්කරණවාදී සඟරාව ලිපි සැපයීය. මෙම සඟරාව සමාජ-ප්‍රජාතාන්ත්‍රික විප්ලවවාදී වැඩ පිළිවෙළට සහ උපක්‍රම වලට විරුද්ධව විවෘත ලෙසම සටන් කළේය.

ඔර්ලොව් (මත්ලින්, ලාසර් දවිදවිච්) (1880-1925) — 1900 සිට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයට සහභාගි විය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) බොල්ෂෙවික්වාදීන්ට සමීපව සිටියද, පසුව මෙන්ෂෙවිකයින්ට සමීප විය.

ඔසිපව් (සෙම්ලියාච්කා, රසාලියා සමොයිලව්නා) (1876-1947) — විප්ලවවාදියෙකි. කොමියුනිස්ට් පක්ෂයේ සහ සෝවියට් ආණ්ඩුවේ සම්භාවනීය නායිකාවකි. 1893 සිට විප්ලවවාදී ව්‍යාපාරයට සහභාගි වූවාය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) බහුතරයේ ඉස්ක්‍රාවාදියකු වූ අතර සමුළුවට පසුව බොල්ෂෙවික්වාදීන් වෙනුවට මධ්‍යම කාරක සභාවට එකතු කර ගන්නා ලදී. මෙන්ෂෙවිකයින්ට විරුද්ධව ක්‍රියාශීලී ලෙස සටන් කළාය.

ඔර්තඩොක්ස් (අක්සල්රොඩ්, ලුබොව් ඉසාකව්නා) (1868-1946) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දර්ශනවාදියෙකි, ලේඛිකාවකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී(1903) බොල්ෂෙවික්වරුන්ට සමීපව සිටියද, පසුව මෙන්ෂෙවිකයින්ට එකතු වූවාය.

කල්ට්සොව්, ඩී. (ගින්ස්බුර්ග්, බරිස් අබ්රාමවිච්) (1863-1920) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) අල්පතරයේ ඉස්ක්‍රාවාදියකු විය. සමුළුවට අනතුරුව ක්‍රියාශීලී මෙන්ෂෙවිකයකු විය. මෙන්ෂෙවික්වාදී පුවත්පත් හා සඟරාදියට ලිපි සැපයීය. පළමුවැනි ලෝක යුද්ධ සමයේදී (1914-1918) සමාජ-ජාතිවාදියකු විය.

කෝස්ට්ච් (ස්බොරොව්ස්කි, මිහයිල් සලමොනවිච්) (1879-1935) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මෙන්ෂෙවිකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවට (1903) ඔහු ඔඩෙස්සා කමිටුවේ නියෝජිතයකු ලෙස සහභාගි විය. ඉස්ක්‍රාවාදී මෙන්ෂෙවිකයෙකි. ප්‍රතිගාමී සමයේදී (1907-1910) ලික්විඩේටර්වාදියෙකි.

කස්ට්‍රොව් (ජොර්ඩානියා, නොයි නිකලායවිච්) (1870-1953) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මෙන්ෂෙවිකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී ඉස්ක්‍රාවාදී අල්පතරයට එකතු විය. සමුළුවට පසුව කොකේසියාවේ මෙන්ෂෙවිකයින්ගේ නායකයා විය. ප්‍රතිගාමීත්වය රජකළ සමයේදී (1907-1910) මෙන්ෂෙවිකයින්ට එකතු වුවද, ලික්විඩේටර්වරුන්ට ආධාර දුන්නේය.



කාර්ස්කි (ටොපුරිඩ්සෙ, ඩියමීඩ් අලෙක්සාන්ඩරවිච්) (1871-1942) — ජෝජියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, මෙන්ෂෙවිකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) තිප්ලිස් කමිටුවේ නියෝජිතයකු ලෙස එයට සහභාගි විය. බහුතරයේ ඉස්ක්‍රාවාදියෙකි. සමුළුවට පසුව, මෙන්ෂෙවිකයින්ට එකතු විය. සමුළුව විසින් තෝරාපත් කළ සංවිධානවලට විරුද්ධව කටයුතු කළේය.

ක්‍රිචෙව්ස්කි, බරිස් නවුමවිච් (1866-1919) — රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. දේශපාලන කරුණු ගැන ලියුවෙකි. ආර්ථිකවාදයේ එක් නායකයෙකි. 1890 ගණන්වලදී විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමයේ නායකයෙකි. 1899 දී ''රබෝචිය දියල'' සඟරාවේ කතුවරයෙකි. මේ සඟරාව බර්න්ෂ්ටයින්වාදී මත ප්‍රචාරය කළේය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවට (1903) පසුව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයෙන් ඈත්විය.

කෞට්ස්කි (Kautsky) කාල් (1854-1938) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සහ දෙවැනි ජාත්‍යන්තරයේ නායකයෙකි. මුලදී මාක්ස්වාදියකු විය. අනතුරුව මාක්ස්වාදයට ද්‍රෝහි විය. මධ්‍යස්ථවාදය (කෞට්ස්කිවාදය) හෙවත් ඉතා භයානක නපුරු අවස්ථාවාදයක දෘෂ්ටිමය ගුරුවරයා විය. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී “Die Neue Zeit” න්‍යායික සඟරාවේ කර්තෘ ධුරය ඉසිලීය.

හෙර්ට්ස් (උල්‍යානව්, ඩිමිත්‍රි ඉල්යිච්) (1874-1943) — විප්ලවවාදියෙකි, බොල්ෂෙවික්වාදියෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී ටූලා කමිටුව වෙනුවෙන් නියෝජිතයකු ලෙස එයට සහභාගි විය. බහුතරයේ ඉස්ක්‍රාවාදියකු විය. වී. අයි. ලෙනින්ගේ බාල සොහොයුරාය.

ගුසෙව්, සෙර්ගේයි ඉවානවිච් (1874-1933) — විප්ලවවාදියෙකි. බොල්ෂෙවික්වාදියෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) දොන් ප්‍රාදේශීය කමිටුවේ නියෝජිතයා ලෙස එයට සහභාගි විය. ඉස්ක්‍රාවාදී බහුතරයට අයත් විය.

ගොහ්රෙ (Göhre) පවුල් (1864-1928) — ජර්මන් ජාතික දේශපාලනඥයෙකි, දේශපාලන සාහිත්‍ය කතුවරයෙකි. ''අන්ත අවස්ථාවාදියෙකි'' යි වී. අයි. ලෙනින් ඔහු ගැන පැවසීය. පසු කලෙක ඔහු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට එක් විය.

ග්ලේබව් (නස්කොව්, ව්ලඩිමීර් අලෙක්සාන්ඩරවිච්) — (1878-1913) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. බහුතරයේ ඉස්ක්‍රාවාදියෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ (1903) දෙවැනි සමුළුවේදී මධ්‍යම කාරක සභාවට තෝරාපත් විය. සමුළුවෙන් අනතුරුව මෙන්ෂෙවිකයින් කෙරෙහි සමාදනකාමී ආකල්පයක් දක්වීය. ප්‍රතිගාමීත්වය රජකළ අවධියේදී (1907-1910) ක්‍රියාශීලී දේශපාලනයෙන් ඈත්විය.

ගෝරින් (ගාල්කින්), ව්ලඩිමීර් පිලිපවිච් (1863-1925) — විප්ලවවාදියෙකි, බොල්ෂෙවික්වාදියෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ (1903) සමුළුවේදී බහුතරයේ ඉස්ක්‍රාවාදියකු විය. සමුළුවට පසුව මෙන්ෂෙවිකයින් විරුද්ධව ක්‍රියාශීලී ලෙස සටන් කළේය.

ගොර්ස්කි (ෂොට්මන්, අලෙක්සාන්ඩර් වසිලියවිච්) (1880-1939) — විප්ලවවාදියෙකි, බොල්ෂෙවික්වාදියෙකි, ලියවන පට්ටල් කම්කරුවකු සිටියේය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී පීටර්ස්බර්ග් පකෂ කමිටුවේ නියෝජිතයකු ලෙස එයට සහභාගි විය. බහුතරයේ ඉස්ක්‍රාවාදියෙකි. 1905—1907 විප්ලවයට ක්‍රියාශීලී ලෙස සහභාගි විය.

ගෝල්ඩ්බ්ලාට් (මෙඩෙම්, ව්ලඩිමීර් ඩවිඩවිච්) (1879-1923) — යුදෙව් බුන්ඩ් සංවිධානයේ නායකයෙකි. විදේශගත බුන්ඩ් සංවිධානයක් වෙනුවෙන් රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවට (1903) සහභාගි විය. ඉස්ක්‍රා විරෝධියෙකි. 1906 බුන්ඩ්හි මධ්‍යම කාරක සභාවේ සාමාජිකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ පස්වැනි සමුළුවට (1907) සහභාගි විය. ඔහු මෙන්ෂෙවික්වාදීන්ට පක්ෂ විය.

චෙම්බර්ලෙන් (Chamberlain), ජෝසප් (1836-1914) — බ්‍රිතාන්‍ය දේශපාලනඥයෙකි. අධිරාජ්‍යවාදයේ දෘෂ්ටිමය නායකයෙකි. බ්‍රිතාන්‍යයේ යටත් විජිත භාර ඇමති ධුරය (1895-1903) දැරීය.

ජොරේස් (Jaures), ජාන් (1859-1914) — ප්‍රංශ සහ ජාත්‍යන්තර සමාජවාදී ව්‍යාපාරයේ සම්භාවනීය නියෝජිතයෙකි. 1902 දී ජොරේස් සහ ඔහුගේ සගයෝ ප්‍රංශ සමාජවාදී පක්ෂය ගොඩ නැගූහ. ''හුමානිතේ'' පුවත්පතේ ආරම්භකයා සහ කර්තෘ වරයාය. ප්‍රංශ සමාජවාදී පක්ෂයේ දක්ෂිණ අවස්ථාවාදී අංශයේ නායකයා විය. එසේවුවද ජොරේස් පළමුවැනි ලෝක මහා යුද්ධයට විරුද්ධව දැඩි ලෙස සටන් කළේය. පළමුවැනි ලෝක මහා යුද්ධාරම්භයේදී සමාජ-ජාතිවාදීහු ජොරේස් මරා දැමූහ.



ට්සරියොව් (ලොකර්මන්, අලෙක්සාන්ඩර් සමෝයිලවිච්) (1880-1937) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මෙන්ෂෙවිකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) මධ්‍යස්ථ ප්‍රතිපත්තියක් අනුගමනය කළද, සමුළුවට ඉක්බිතිව මෙන්ෂෙවිකයකු විය.

ට්සෙට්කින් (Zetkin) ක්ලාරා (1857-1933) — ජර්මන් සහ ජාත්‍යන්තර කම්කරු පංති ව්‍යාපාරයේ සම්භාවනීය නායිකාවකි. ජර්මන් කොමියුනිස්ට් පක්ෂයේ ආරම්භක නායිකාවකි. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ වාමාංශයේ සිටියාය. අවස්ථාවාදයට විරුද්ධව රෝසා ලුක්සම්බුර්ග්, මෙරින්ග්, කාල් ලිබ්ක්නෙෂ්ට් සමග එකතුව ක්ලාරා ට්සෙට්කින් ක්‍රියාශීලී ලෙස සටන් කළාය.

ට්‍රොට්ස්කි (බ්‍රොන්ෂ්ටයින්), ලෙව් දවිදවිච් (1879-1940) — ලෙනින්වාදයේ ප්‍රධාන සතුරෙකි. සයිබීරියානු සංගමයේ නියෝජිතයකු ලෙස රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවට (1903) සහභාගි විය. සමුළුවට පසුව සමාජවාදී විප්ලවයේ න්‍යායය සහ ව්‍යවහාරය පිළිබඳ සියලු ප්‍රශ්නවලදී බොල්ෂෙවිකයින්ට විරුද්ධව සටන් කළේය. ප්‍රතිගාමීත්වය රජකළ සමයේදී (1907-1910) ලික්විඩේටර් වාදියකු විය. 1912 පක්ෂ විරෝධී අගෝස්තු කණ්ඩායම සංවිධාන කළේය. පළමුවැනි ලෝක මහා යුද්ධ කාලයේදී මධ්‍යස්ථවාදියකු විය. යුද්ධය, සාමය හා විප්ලවය පිළිබඳ ප්‍රශ්නවලදී ලෙනින්ට විරුද්ධව සටන් කළේය. ඔක්තෝබර් විප්ලවයට මාස කීපයකට කලින් බොල්ෂෙවික් පක්ෂයට බැඳුණු ට්‍රොට්ස්කි පක්ෂය තුළ කට්ටිවාදී ක්‍රියා ආරම්භ කළේය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට පසුව වගකිව යුතු උසස් තනතුරු කීපයක්ම ඉසිලීය. පක්ෂයේ පොදු දේශපාලන ප්‍රතිපත්තියට විරුද්ධව සටන් කළේය. සෝවියට් දේශය තුළ සමාජවාදය ගොඩනැගීමට විරුද්ධ විය. 1927 දී ට්‍රොට්ස්කිව පක්ෂයෙන් අස්කර දමන ලදී. 1929 දී සෝවියට් දේශයෙන් නෙරපා දමන ලදී. 1932 දී සෝවියට් රටවැසි අයිතිවාසිකම් අවලංගු කරන ලදී.

නදේෂ්දින්, එල්. (සෙලෙන්ස්කි, යෙව්ගේනි ඔසිපවිච්) (1877-1905) — නරෝද්නික්වාදියකු ලෙස දේශපාලන කටයුතු පටන් ගත් මොහු පසුකලෙක සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයට එකතු විය. වැඩවලදී ආර්ථිකවාදීන්ට ආධාර කළද, 'ජනතාව උසිගැන්වීමේ' මාධ්‍යයක් ලෙස ත්‍රස්තවාදී ක්‍රියා ප්‍රචාරය කළේය. ලෙනින්වාදී ඉස්ක්‍රාවට විරුද්ධව කටයුතු කළේය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවට පසුව, (1903) මෙන්ෂෙවික් පත්‍ර හා සඟරාවල ලිපි සැපයීය.

නීචෙ (Nietzsche) ෆ්‍රෙඩරික් (1844-1900) — ජර්මන් ජාතික දර්ශනවාදියෙකි. ඉච්ජානු ගතවාදී අවිවේකයෙකි. පැසිස්ට්වාදයට මහ හෙළි කළ දර්ශනවාදීන්ගෙන් එක්කෙනෙකි.

ත්‍රෙපව්, පියොඩර් පියොඩරවිච (1855-1906) — "රුසියාවේ සාර්වාදී නිලධාරීන් අතරින් උපරිමය ලෙස ජනතා වෛරයට ලක්වූවෙකු" ලෙස වී. අයි. ලෙනින් මොහු හැඳින්වීය. 1878 දී පිටර්ස්බර්ගයේ නගර අධිපති නිලධාරියා විය. දේශපාලන හිරකරුවන්ට නින්ද සහගත ලෙස වධහිංසා කිරීම නිසා වියෙරා සසූලිච් අතින් මැරුම් කෑවේය.

ත්‍රවීන්ස්කි (ක්ෂිෂනෝව්ස්කි, ග්ලෙබ් මක්සිමිලියානවිච් (1872-1959) — කොමියුනිස්ට් පක්ෂයේ ඉපැරණි නායකයෙකි. සුප්‍රසිද්ධ විද්‍යාඥයෙකි. විදුලි ශිල්ප ඉංජිනේරුවරයෙකි. 1893 දී වී. අයි. ලෙනින් සමග එකතුව පිටර්ස්බර්ග් 'කම්කරුවන් මුදගැනීමේ සටන්කාමී සංගමය' පිහිටුවාලීමට ක්‍රියා කළේය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903), එයට සහභාගි නොවුණද පක්ෂයේ මධ්‍යම කාරක සභාවට තෝරාපත් විය (එවකට ඔහු සමාරාහි පදිංචිව සිටියේය). 1905-1907 විප්ලවයේදී ක්‍රියාශීලී වැඩ කොටසක් ඉටු කළේය. බොල්ෂෙවික්වාදී සාහිත්‍ය කටයුතුවල යෙදී සිටියේය.

දෙයිච්, ලෙව් ග්‍රිගෝරියවිච් (1855-1941) — නරෝද්නික්වාදී ව්‍යාපාරයේද ඉන් ඉක්බිතිව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේදී ද ක්‍රියාශීලී විය. 1883 දී 'ඔස්වබෂ්දේනිය ත්‍රුද' — පළමුවැනි මාක්ස්වාදී රුසියානු කණ්ඩායම පිහිටුවාලීමේ මූලිකයකු විය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී මෙන්ෂෙවික්වාදී ඉස්ක්‍රාවාදියෙක් විය. සමුළුවට පසුව මෙන්ෂෙවික්වාදියකු විය. ප්‍රතිගාමීත්වය රජකළ කාලයේදී (1907-1910) ලික්විඩේටර්වාදියකු විය. පළමුවැනි ලෝක මහා යුද්ධ සමයේදී (1914-1918) සමාජ-ජාතිවාදියකු විය.

ද්යේදව් (ක්නිපෝවිච්, ලීඩියා මිහායිලව්නා) (1856-1920) — විප්ලවවාදියෙකි. බොල්ෂෙවික්වාදියෙකි. 1870 ගණන් වලදී ඇ විප්ලවවාදී ව්‍යාපාරයේ ක්‍රියාකාරී වූවාය. කම්කරුවන් අතර අධ්‍යාපනික-සංස්කෘතික කටයුතු කළාය. ඉස්ක්‍රාව සහ පළාත්බද සංවිධාන අතර සම්බන්ධකම් ඇති කර ගැනීමේදී ප්‍රධාන කොටසක් ඉටු කළාය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේ (1903) නියෝජිතවරියකි. ඉස්ක්‍රාවාදී බහුතරයට අයත් වූවාය.



පපෝව් (රෝසනව්, ව්ලඩිමීර් නිකලායවිච්) (1876-1939) — සමාජ-ප්‍රජාතන්ත්‍රිකවාදියෙකි. මෙන්ෂෙවිකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවට (1903) ඔහු යූෂ්නි රබෝචි කණ්ඩායම වෙනුවෙන් සහභාගි විය. මුලදී මධ්‍යස්ථ වාදියකු වූ පපෝව් පසුව ක්‍රියාශීලී මෙන්ෂෙවිකයකු වූයේය.

පානින් (මකඩ්සියුබ්, මාර්ක් සවුලවිච්; ප්‍රාක්ටික්) (උපත 1876) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මෙන්ෂෙවිකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) අල්පතරයේ ඉස්ක්‍රාවාදියකු විය. ප්‍රතිගාමී සමයේදී (1907-1910) ලික්විඩේටර් වාදියකු විය.

පව්ලොවිච් (ක්‍රාසිකව්, ප්යෝතර් අනානෙවිච්) (1870-1939) — විප්ලවවාදී බොල්ෂෙවිකයෙකි. 1892 සිට විප්ලවවාදී කටයුතුවල නිරත විය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) බහුතරයට අයත් ඉස්ක්‍රාවාදියකු විය. සමුළුවෙන් ඉක්බිතිව මෙන්ෂෙවිකයින්ට විරුද්ධව සටන් කළේය.

ප්ලෙහානව්, ගියෝර්ගි වලෙන්ටිනවිච් (1856-1918) — රුසියානු සහ ජාත්‍යන්තර කම්කරු පංති ව්‍යාපාරයේ සම්භාවනීය නියෝජිතයෙකි. "ඔස්වබෂ්දේනිය ත්‍රුද" (1883) නැමැති පළමුවැනි රුසියානු මාක්ස්වාදී කණ්ඩායමේ ආරම්භකයාය. රුසියාවේ පළමුවැනි මාක්ස්වාදී ප්‍රචාරකයාය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) මෙන්ෂෙවික් වාදයට එකතු විය. 1907-1914 දී ලික්විඩේටර්වාදයට විරුද්ධ විය. පළමුවැනි ලෝක මහා යුද්ධ සමයේදී සමාජ-ජාතිවාදයට පක්ෂවිය.

පසදෝව්ස්කි (මන්ඩල්බර්ග්, වික්ටර් යෙව්සේයවිච්) (උපත 1870) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. සයිබීරියානු සංගමයේ නියෝජිතයකු ලෙස රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවට (1903) සහභාගි විය. සමුළුවට පසුව මෙන්ෂෙවිකයකු විය.

ප්‍රාක්ටික් (ප්‍රායෝගිකයා) — පානින් බලන්න.

පර්වුස් (ගෙල්ෆන්ඩ්, අලෙක්සාන්ඩර් ලාසරෙවිච්) (1869-1924) — මෙන්ෂෙවික්වාදියෙකි. 1890 ගණන්වලදී සහ 1900 මුල් කාලයේදී ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ වාමාංශයට සමීපව කටයුතු කළේය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) මෙන්ෂෙවිකයිනට සමීපවිය. (1905-1907) පළමුවැනි රුසියන්

විප්ලවය කාලයේදී රුසියාවේ සිටියේය. ප්‍රතිගාමී සමයේදී (1907-1910) සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයෙන් ඈත්විය. පළමුවැනි ලෝක මහා යුද්ධ කාලයේදී (1914-1918) සමාජ-ජාතිවාදියකු සහ ජර්මන් අධිරාජ්‍යවාදයේ වර පුරුෂයකු විය.

බර්න්ෂ්ටයින් (Bernstein), එඩ්වඩ් (1850-1932) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ හා දෙවැනි ජාත්‍යන්තරයේ අන්ත අවස්ථාවාදී අංශයේ නායකයෙකි. ප්‍රතිසංස්කරණ වාදයේ සහ සංශෝධනවාදයේ න්‍යායාචාර්යවරයාය.

බර්න්ෂ්ටයින්ගේ සහ ඔහුගේ අනුගාමිකයින්ගේ න්‍යායික දෘෂ්ටිය සහ ප්‍රායෝගික අවස්ථාවාදී ක්‍රියාකාරීත්වය, කම්කරු පංතියේ වුවමනාවන් සෘජුලෙසම පාවා දුන්නෝය. මෙහි ප්‍රති විපාකයක් වශයෙන් දෙවැනි ජාත්‍යන්තරය බිඳ වැටිණි.

බෙබෙල් (Bebel), අවුගුස්ට් (1840—1913) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සහ දෙවැනි ජාත්‍යන්තරයේ ප්‍රසිද්ධ නායකයෙකි. වෘත්තියෙන් ලියවන පට්ටල් කම්කරුවකු විය. පළමුවැනි ජාත්‍යන්තරයේ සාමාජිකයකු විය. 1869 දී විල්හෙල්ම් ලිබ්ක්නෙහ්ට් සමග එක්වී ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය ('එයිසෙනාහ්වරු') ආරම්භ කළේය. සංශෝධනවාදයට සහ ප්‍රතිසංස්කරණ වාදයට විරුද්ධව ප්‍රබල ලෙස සටන් කළේය.

බෙලොව් (ටසෙයිට්ලින්, එල්. එස්.) (උපත 1877) — රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) මධ්‍යස්ථ වාදියකු විය. අනතුරුව ඔහු මෙන්ෂෙවිකයින්ට එකතු විය. 1907 සිට ක්‍රියාකාරී දේශපාලනයෙන් ඈත් විය.

බේර් (Beer), මක්ස් (1864-1943) — ජර්මන් සමාජවාදී ඉතිහාසඥයෙකි. 1880 ගණන් වලදී ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වාමාංශයට අයත් විය. එංගලන්තයට සංක්‍රමණය වී එහි වාසය කළේය. 1915 දී ජර්මනියට පැමිණ දක්ෂිණාංශික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට එකතු විය.

බ්ලන්කි (Blanqui), ලුයී ඔගියුස්ට් (1805—1881) — සම්භාවනීය ප්‍රංශ විප්ලවවාදියෙකි, මනෝරාජික කොමියුනිස්ට්වාදයේ සම්භාවනීය නියෝජිතයෙකි. රහස් විප්ලවවාදී සංගම් කීපයකටම නායකත්වය දුන්නේය. විප්ලවවාදී කුමන්ත්‍රණකාරීන් කුඩා කණ්ඩායමක් මගින් රාජ්‍ය බලය



අල්ලා ගැනීම සඳහා කුමන්ත්‍රණය කළ මොහු විප්ලවවාදී සටන්වලට බහුජනතාව සංවිධානය කිරීමේ තීරණාත්මක ක්‍රියා කලාපය තේරුම් නොගත්තේය.

බ්‍රවුන් (ස්ටෙපානව්, සෙර්ගේයි ඉවානවිච්) (1876-1935) — රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) බහුතරයේ ඉස්ක්‍රා වාදියකු විය. සමුළුවට පසුව ක්‍රියාශීලී බොල්ෂෙවික් වාදියකු විය.

බ්රූකර් (මහ්නොවෙට්ස්, ලිඩියා පෙට්‍රෝව්නා) (උපත 1877) — 1890 ගණන් වලදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයට සහභාගිවූවාය. 'ආර්ථික වාදයේ' නියෝජිතවරියකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) ඉස්ක්‍රා විරෝධී තත්ත්වයක් දැරුවාය. පසු කලෙක දේශපාලන කටයුතුවලින් ඈත්වූවාය.

මර්තීනව් (පිකර්, අලෙක්සාන්ඩර් සමොයිලවිච්) (1865-1935) — ආර්ථිකවාදයේ එක් නායකයෙකි. ලෙනින්වාදී ඉස්ක්‍රාවට විරුද්ධව ක්‍රියාශීලී ලෙස සටන් කළේය. ප්‍රතිගාමීත්වය රජකළ අවධියේදී (1907-1910) ලික්විඩේටර්වාදියකු විය. පළමුවැනි ලෝක මහා යුද්ධ සමයේදී (1914—1918) මධ්‍යස්ථ ප්‍රතිපත්තියක් අනුගමනය කළේය.

මාක්ස් (Marx), කාල් (1818—1883)

මාර්තව්, එල්. (ටසෙඩර්බවුම්, යූලි ඕසිපවිච්) (1873-1923) — මෙන්ෂෙවික්වාදයේ එක් නායකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) අවස්ථාවාදී අල්පතරය මෙහෙයැවීය. එදා සිට මෙන්ෂෙවික්වාදීන්ගේ මධ්‍යගත සංවිධානයේ නායකයෙකි. මෙන්ෂෙවික් පුවත්පත් සහ සඟරාවල සංස්කාරකය. ප්‍රතිගාමීත්වය රජකළ සමයේ (1907-1910) ලික්විඩේටර් වාදියකු විය. පළමුවැනි ලෝක මහා යුද්ධ කාලයේදී මධ්‍යම ප්‍රතිපත්තියක් අනුගමනය කළේය.

මාහව් (කල්ෆාට්, එල්. පී) (1871-1940) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, මෙන්ෂෙවිකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) මධ්‍යස්ථ ප්‍රතිපත්තියක් අනුගමනය කළද, සමුළුවෙන් ඉක්බිතිව මෙන්ෂෙවිකයිනට එක් විය. 1913 සිට දේශපාලන ව්‍යාපාරයෙන් ඈත් විය.

මිද්වේදෙව්, එම්. අයි. (නිකලායෙව්, ලියනීඩ් ව්ලඩිමිරවිච්) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) මධ්‍යස්ථවාදියකු වුවද, සමුළුවට පසුව මෙන්ෂෙවිකයිනට එකතු විය.

මිලෙරාන් (Millerand), අලෙක්සාන්ඩර් එටියෙන් (1859-1943) — ප්‍රංශ දේශපාලනඥයෙකි. 1890 ගණන්වලදී සමාජවාදීන්ට එකතු විය. ප්‍රංශ සමාජවාදී ව්‍යාපාරයේ අවස්ථාවාදී අංශය මෙහෙයැවීය. 1899 දී සමාජවාදී ව්‍යාපාරය පාවාදී ප්‍රතිගාමී ධනවාදී ප්‍රංශ ආණ්ඩුවට ඇතුළු විය.

මෙරින්ග් (Mehring), fප්‍රාන්ට්ස් (1846-1919) — ජර්මන් කම්කරු පංති ව්‍යාපාරයේ සම්භාවනීය නියෝජිතයෙකි. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වාමාංශයේ එක් නායකයකු සහ න්‍යායාචාර්ය වරයෙකි. ඉතිහාසඥයෙකි, සාහිත්‍යධරයෙකි, ගත්කරුවෙකි. කාල් ලීබ්ක්නෙෂ්ට්, රෝසා ලුක්සම්බුර්ග් සමග එකතුව ජර්මන් කොමියුනිස්ට් පක්ෂය පිහිටුවීමට මුල්විය.

මුරවියොව් (මිෂිනෙව්, ගෙරාසිම් මිහායිලවිච්) (1906 දී මියගියේය) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේ (1903) දී බහුතරයේ ඉස්ක්‍රාවාදියෙකි.මෙන්ෂෙවිකයින්ට විරුද්ධව ස්ථිර ලෙස සටන් කළේය.

මීෂ්කින්, ඉපලිට් නිකීටිච් (1848-1885) — නරෝද්නික්වාදී ව්‍යාපාරයේ සම්භාවනීය නියෝජිතයෙකි. 1875 දී එන්. ජී. චෙර්නිෂෙව්ස්කිව සිරබාරයෙන් මුදවාගැනීම සඳහා ඔහු දැරූ ප්‍රයත්නය අසාර්ථක වූයෙන් සිරභාරයට අසුවිය.

යෙගෝරව් (ලෙවින්, යෙප්රෙම් යාකව්ලෙවිච්) (උපත 1873) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) මධ්‍යස්ථවාදියකු විය. සමුළුවට පසුව මෙන්ෂෙවිකයින්ට සමීප විය. පසු කලෙක දේශපාලන ක්‍රියාකාරීත්වයෙන් ඈත් විය.

යූදින් (අයිසන්ෂ්ටඩ්ට්,. ඉසායි ල්වෝවිච්) (1867—1937) — බුන්ඩ් නැමැති යුදෙව් ජාතික සංවිධානයේ එක් සාමාජිකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී ඉස්ක්‍රා විරෝධියකු විය. සමුළුවට පසුව ක්‍රියාශීලී මෙන්ෂෙවිකයකු විය.



ර්යසානව් (ගොල්ඩන්ඩහ්, ඩවීඩ් බරිසවිච්) (1870-1938) — 1890 ගණන්වලදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයෙහි නිරත විය. 1900 දී විදේශගතවූ මොහු ''බර්බා'' සාහිත්‍ය කණ්ඩායමේ එක් සංවිධායකයෙකු විය. මෙම සාහිත්‍ය කණ්ඩායම ඉස්ක්‍රාව ඉදිරිපත් කළ පක්ෂයේ වැඩ පිළිවෙළට සහ පක්ෂය ගොඩනැගීමේ ලෙනින්වාදී සංවිධානාත්මක මූලධර්ම වලට විරුද්ධ විය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුව බර්බා කණ්ඩායමට එයට සහභාගිවීමට අවසර නුදුන් අතර, බර්බා කණ්ඩායමේ නියෝජිතයා හැටියට සමුළුවට සහභාගිවීමට ර්යසානව්ට ආරාධනා කරන යෝජනාවද සමුළුව ප්‍රතික්ෂේප කළාය.

රුසව් (ක්නුන්‍යාන්ට්ස්, බග්ඩන් මිර්සඩ්සානවිච්) (1878-1911) — විප්ලවවාදියෙකි. බොල්ෂෙවික්වාදියෙකි. පිටර්ස්බර්ගයේ කම්කරු පංතිය මුදවාගැනීමේ සටන්කාමී සංගමයේ සාමාජිකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී බහුතරයේ ඉස්ක්‍රාවාදියකු විය. සමුළුවට පසුව කොකේසියාවේ සහ මොස්කව් නගරයේ පක්ෂයේ කටයුතුවල නිරත විය.

ලාන්ගෙ (ස්ටොපානි, අලෙක්සාන්ඩර් මිට්‍රපානවිච්) (1871-1932) — විප්ලවවාදියෙකි, බොල්ෂෙවික්වාදියෙකි. ඉස්ක්‍රා පුවත්පත පිළියෙළ කිරීමට සහභාගි විය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) බහුතරයේ ඉස්ක්‍රාවාදියකු විය. පක්ෂ සමුළුවට අනතුරුව ක්‍රියාශීලී ලෙස සටන් කළේය. වැඩ වර්ජන සංවිධානය කිරීමටත්, කම්කරුවන්ගේ සෝවියට් සභා පිහිටුවීමටත්, සහභාගි විය.

ලෙනින් (උල්‍යානව්, ව්ලදිමිර් ඉල්යිච්) (1870-1924)

ලේන්ස්කි (විලේන්ස්කි, ලියනීඩ් සිමියෝනවිච්) (1880-1950) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) බහුතරයේ ඉස්ක්‍රාවාදියකු විය. සමුළුවට අනතුරුව බොල්ෂෙවිකයකු විය..1905 දී රු.ස.ප්‍ර.ක. පක්ෂයෙන් ඉවත්වී, ''බුන්තාර්''(කැරළිකරුවා) අරාජිකවාදී සහරාවේ එක් කතුවරයකු ලෙස ක්‍රියා කළේය.

ලිබෙර් (ගොල්ඩමන්, මිහයිල් ඉසාකවිච්) (1880-1937) — බුන්ඩ්යේ එක් නායකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) අන්ත දක්ෂිණාංශික ඉස්ක්‍රා විරෝධී මාවතක් ගත්තේය. සමුළුවෙන් අනතුරුව මෙන්ෂෙවික්වාදියකු විය.

ලිබ්ක්නෙහ්ට් (Liebknecht), විල්හෙල්ම් (1826-1900) — ජර්මන් සහ ජාත්‍යන්තර කම්කරු පංති ව්‍යාපාරයේ සම්භාවනීය නියෝජිතයෙකි. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ මූලාරම්භ නායකයෙකි. 1875 සිට සිය ජීවිතාන්තය දක්වාම ලිබ්ක්නෙහ්ට් ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ මධ්‍යම කාරක සභිකයකු විය. "Vorwärts" (ඉදිරිමග) සඟරාවේ ප්‍රධාන කතු වරයා විය. I වැනි ජාත්‍යන්තරයේ ක්‍රියාකාරී සාමාජිකයකු වූ අතර II වැනි ජාත්‍යන්තරය සංවිධානය කිරීමට සහභාගි විය.

ල්වොව් (මඞීන්ස්කි, යොසිප් නිකලායවිච්) (1875-1954) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මෙන්ෂෙවිකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) මධ්‍යගත ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. සමුළුවෙන් ඉක්බිතිව මෙන්ෂෙවිකයිනට එකතු විය.

ල්‍යාදව් (මන්ඩල්ෂ්ටාම්, මර්ටීන් නිකලායවිච්) (1872—1947) — විප්ලවවාදියෙකි, බොල්ෂෙවික්වාදියෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේ (1903) දී බහුතරයේ ඉස්ක්‍රාවාදියකු විය. සමුළුවට පසුව රුසියාවේත්, විදේශවලත් මෙන්ෂෙවික්වාදයට විරුද්ධව සටන් කළේය.

වසීලියව් (ලෙන්ග්නික්, ප්‍රෙඩ්රික් විල්ගෙල්මවිච්) (1873—1936) — විප්ලවවාදියෙකි. බොල්ෂෙවික්වාදියෙකි. 1893 සිට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයට සහභාගි විය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේ (1903) දී පක්ෂයේ මධ්‍යම කාරක සභාවට සහ ප්‍රධාන මණ්ඩලයට තෝරා පත් කර ගනු ලැබීය. 1903-1904 වසර වලදී විදේශගත මෙන්ෂෙවික් වාදීන්ට විරුද්ධව පුළුල් ලෙස සටන් කළේය.

සාබ්ලිනා (ක්රුප්ස්කයා, නදේෂ්දා කන්ස්ටන්ටීනව්නා) (1869-1939) — විප්ලවවාදියෙකි. කොමියුනිස්ට් පක්ෂයේ සහ සෝවියට් රජයේ සම්භාවනීය නායිකාවකි. වී. අයි. ලෙනින්ගේ බිරිඳය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුව පිළියෙළ කිරීමට ක්‍රියාශීලී ලෙස සහභාගි වූවාය. එම සමුළුවට පසුව බොල්ෂෙවික් පුවත්පත් වන ''ව්පිරියෝද්'' (ඉදිරිමග), ''ප්‍රොලිතාරි'' (නිර්ධන පංතිය) හි සංස්කාරක මණ්ඩලවල ලේකම්වරිය ලෙස කටයුතු කළාය.

සරෝකින් (බාවුමන්, නිකලායි එර්නෝස්ටවිච්) (1873-1905) — විප්ලවවාදියෙකි, බොල්ෂෙවික් පක්ෂයේ සම්භාවනීය නායකයෙකි. පිටර්ස්බර්ග්හි පිහිටුවනලද ''කම්කරු පංතිය මුදවාගැනීමේ සටන්කාමී



සංගමයේ'' ක්‍රියාශීලී සාමාජිකයකු විය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) බහුතරයේ ඉස්ක්‍රාවාදියකු විය. 1903 දී පක්ෂයේ මොස්කව් කමිටුවේ නායකයකු විය. 1905 ඔක්තෝබර් මාසයේදී පවත්වන ලද පෙළපාලියකදී කළු ශතකයේ ප්‍රතිගාමීහු බාවුමන් මරා දැමූහ.

සසූලිච්, වියෙරා ඉවානව්නා (1849—1919) — නරෝද්නික්වාදයේ සහ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ ප්‍රධාන නියෝජිතවරියකි. ඈ 1878 දී පිටර්ස්බර්ගයේදී නාගරික අධිපති ත්‍රෙපව් මරාදැමීමට උත්සාහ ගත්තාය. 1883 දී 'ඔස්වබෂ්දේනියෙ ත්රුද' — පළමුවැනි මාක්ස්වාදී කණ්ඩායම සංවිධානය කිරීමට සහභාගි වූවාය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ (1903) දෙවැනි සමුළුවට පසුව මෙන්ෂෙවික්වාදී නායිකාවක් වූවාය. ප්‍රතිගාමීත්වය රජකළ සමයේදී (1907-1910) ලික්විඩේටර් වාදියකු වූවාය. පළමුවැනි ලෝක මහා යුද්ධ කාලයේදී සමාජ-ජාතිවාදියකු වූවාය.

ස්තරවේර් (පෝට්රෙසව්, අලෙක්සාන්ඩර් නිකලායවිච්) (1869-1934) — මෙන්ෂෙවික්වාදයේ නායකයෙකි. ඉස්ක්‍රාවේ කර්තෘ මණ්ඩලය වෙනුවෙන් ඡන්දබලය රහිත නියෝජිතයකු ලෙස රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවට (1903) සහභාගි විය. අල්පතරයේ ඉස්ක්‍රාවාදියෙකි. ප්‍රතිගාමීත්වය රජකළ සමයේදී (1907-1910) ලික්විඩේටර් වාදියකු විය. පළමුවැනි ලෝක මහා යුද්ධ සමයේදී (1914-1918) සමාජ-ජාතිවාදියකු විය.

ස්තෙපානව් (නිකීටින්, ඉවාන් කන්ස්ටන්ටීනවිච්) (1877-1944) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, බොල්ෂෙවිකයෙකි. ලියවන පට්ටල් කම්කරුවෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) බහුතරයේ ඉස්ක්‍රාවාදියෙකි. 1905—1907 විප්ලවයේදී ක්‍රියාශීලී ලෙස කටයුතු කළේය. ඉන්පසුව දේශපාලන වැඩ වලින් ඈත්විය.

ස්ට්‍රාහව් (ටහ්ටර්යොව්, කන්ස්ටන්ටීන් මිහායිලවිච් (1871—1925) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. පිටර්ස්බර්ගයේ කම්කරු පංතිය මුදගැනීමේ සටන්කාමී සංගමයේ සාමාජිකයකු විය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුව (1903) සංවිධානය කිරීමට සහභාගි විය. උපදේශක — නියෝජිතයකු ලෙස එම සමුළුවට සහභාගි විය. පක්ෂයේ ඡන්දයෙන් පසුව මෙන්ෂෙවිකයින්ට හිතවත් කමක් දැක්වූවද පක්ෂයේ කටයුතු වලින් ඈත්විය.

**ස්ට්රුවේ, ප්යෝතර් බෙර්න්ගාර්ඩ්විච්** (1870-1944) — ධනවාදී ආර්ථික විද්‍යාඥයෙකි. දේශපාලන ප්‍රශ්න පිළිබඳ ගත් කතුවරයෙකි. 1890 ගණන් වලදී නීත්‍යානුකූල මාක්ස්වාදයේ ප්‍රධාන නියෝජිතයාය. පසු කලෙක කැඩේට් පක්ෂයේ නායකයකු විය.

**ස්ටෙයින් (අලෙක්සාන්ද්‍රොවා, යෙකටෙරිනා මිහායිලොව්නා)** (1864-1943) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී (1903) සංවිධාන කමිටුව වෙනුවෙන් උපදේශක-නියෝජිතවරියක ලෙස පෙනී සිටියාය. අල්පතරයේ ඉස්ක්‍රාවාදීන්ට එකතු වූවාය. සමුළුවට පසුව ක්‍රියාශීලී මෙන්ෂෙවිකයකු ලෙස ක්‍රියා කළාය.

**ෂෙඩ්රින් (සල්ටිකෝව්-ෂෙඩ්රින්, මිහයිල් යෙව්ග්‍රාපවිච්** (1826-1889) — සුප්‍රසිද්ධ රුසියානු ලේඛකයෙකි. උපහාස කතා කාරයෙකි. විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදියෙකි.

**ෂෙලියාබව්, අන්ද්‍රෙයි ඉවානවිච්** (1850-1881) — රුසියානු විප්ලවවාදී ව්‍යාපාරයේ සම්භාවනීය නියෝජිතයෙකි. විප්ලවවාදී නරෝද්නික් ව්‍යාපාරයේ ප්‍රධානියෙකි. ''නරෝද්නය වොල්‍යා'' පක්ෂයේ සංවිධායකයා සහ නායකයාය.

**ෂ්වයිට්සර් (Schweitzer), යොහාන් බප්ටිස්ට්** (1833-1875) — ජර්මන් සමාජ සේවකයෙකි, ලේඛකයෙකි. ලසාල්ගේ අනුගාමිකයෙකි. 1867-1871 දක්වා පොදු ජර්මන් කම්කරු සංගමයේ සභාපති ධුරය ඉසිලීය. සංගමය තුළ ෂ්වයිට්සර් පෞද්ගලික ආඥාදායකත්වයක් ගෙනගියේය.

**හයින්ඩ්මන් (Hyndman), හෙන්රි මයර්ස්** (1842-1921) — ඉංග්‍රීසි ජාතික දේශපාලනඥයෙකි. 1880 ගණන් වලදී බ්‍රිතාන්‍ය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සම්මේලනයේ මූලාරම්භක සාමාජිකයෙකි. බ්‍රිතාන්‍ය සමාජවාදී පක්ෂයේ දක්ෂිණාංශයේ (1911) නායකයකු වූ මොහු අවස්ථාවාදියෙකි. අධිරාජ්‍යවාදී යුද්ධයට පක්ෂව ප්‍රචාරය කිරීම නිසා මොහු පක්ෂයෙන් නෙරපා දමන ලදී.

**හල්ටූරින්, ස්ටෙපාන් නිකලායවිච්** (1856-1882) — රුසියානු විප්ලවවාදී කම්කරුවන් අතුරෙන් මූලිකයෙකි. රුසියාවේ නීතිවිරෝධී විප්ලවවාදී දේශපාලන කම්කරු සංවිධානවලින් එකක් වන රුසියානු කම්කරුවන්ගේ උතුරුදිග සංගමය 1878 දී ඔහු විසින් පිහිටුවන ලදී. 1879 මෙම සංවිධානය විනාශ වූ පසුව,හල්ටූරින් ''නරෝද්නය වොල්‍යය'' නැමැති නරෝද්නික්වාදී පක්ෂයට ළංවිය. ඔහු ත්‍රස්තවාදී ක්‍රියා කීපයකටම සහභාගි විය. 1882 සිරභාරයට ගෙන සාර් රජය විසින් එල්ලා මරා දමන ලදී.

**හයිනේ (Heine), වොල්ෆ්ජ්ගන්ග්** (1861-1944) — ජර්මන් ජාතික දක්ෂිණාංශික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. බර්න්ෂ්ටයින් නිකායේ අන්ත අවස්ථාවාදී අංශය නියෝජනය කළේය. පළමුවැනි ලෝක මහා යුද්ධ සමයේදී (1914-1918) සමාජ-කලහකාරි ජාතිවාදියකු බවට පත්විය.

**හෙගල් (Hegel), ගියොර්ග් විල්හෙල්ම් ෆ්‍රෙඩ්රික්** (1770-1831) — ජර්මන් ජාතික මහා දර්ශනවාදියෙකි. වාස්තවික විඥානවාදියෙකි. විඥානවාදී දයලෙක්තිකය ගැඹුරු ලෙසත්, අංග සම්පූර්ණ ලෙසත් පිළියෙළ කිරීම මොහුගේ ඓතිහාසික සේවය වේ. මෙය දයලෙක්තික භෞතිකවාදයේ එක් න්‍යායික පදනමක් ලෙස පසුකලෙක ප්‍රයෝජනවත් විය.

**ෆ්‍රොමීන් (ක්‍රොහ්මල්, වික්ටර් නිකලායවිච්)** (1873-1933) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, මෙන්ෂෙවිකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සමුළුවේදී අල්පතරයේ ඉස්ක්‍රාවාදියකු විය.

**ෆ්‍රොල්මර් (Vollmar), ගියෝර්ග් හෙන්රිහ්** (1850-1922) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ අවස්ථාවාදී අංශයේ නායකයෙකි. බර්න්ෂ්ටයින් සමග එකතුවී ප්‍රතිසංස්කරණවාදයේ සහ සංශෝධනවාදයේ දෘෂ්ටිමය නායකයකු විය. පළමුවැනි ලෝක මහා යුද්ධ සමයේදී (1914—1918) සමාජ-ජාතිවාදියකු විය.

## පාඨකයින් වෙතටයි

මෙම පොතෙහි අඩංගු කරුණු, අනුවාදය හා මුද්‍රණය පිළිබඳව ඔබගේ අදහස් දන්වා එවීමෙන් ප්‍රගති ප්‍රකාශක මන්දිරයේ කෘතඥතාව ඔබට හිමිවේ. ඔබගේ වෙනත් යෝජනා ඇතොත් අපි එය කරුණාවෙන් බාර ගනිමු.

අපේ ලිපිනය:

Progress Publishers,
17, Zubovsky Boulevard,
Moscow, USSR.